# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

## පංචම භාගය

අති පූජනීය උඩඊරියගම ධම්මජීව ස්වාමීන්වහන්සේ

# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

පංචම භාගය

ධර්ම දේශනා 39-45 දක්වා

(ධම්මානුපස්සනා - ස්කන්ධ පබ්බය.)

මීතිරිගල නිස්සරණ වනයේ ප්‍රධාන කර්මස්ථානාචාර්ය

**උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ**

නිස්සරණ වනය ආරණ්‍ය සේනාසනය

මීතිරිගල

ධර්මදානය පිණිසයි.

ප්‍රථම මුද්‍රණය - 2020

**මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය - පංචම භාගය**
**(ධම්මානුපස්සනා - ස්කන්ධ පබ්බය)**

පූජනීය උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ

අයිතිය:

මීතිරිගල නිස්සරණ වනය සංරක්‍ෂණ මණ්ඩලය
මීතිරිගල, 11742
දුරකථනය: 033 2253295
nissaranavanaya@gmail.com
www.nissarana.lk

ISBN : 978-955-4877-15-3

මුද්‍රණය

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර,
ගංගොඩවිල, නුගේගොඩ.
දුරකථනය: 0114870333

# පෙරවදන

පවතින කොරෝනා වෛරස් තත්ත්වය යටතේ වුවද විශාල ප්‍රයත්නයකට පසු මේ 05 වන කොටස එළිදක්වන්නට ලැබීම ගැන සතුටු වෙමි.

මෙහි ස්කන්ධ ගැන සඳහන් වන අතර, ඒ සඳහා දේශනා හතක් යොදාගෙන තිබේ. ඒ අනුව සෑහෙන විස්තරයක් ඔබට කියවීමට ලැබේ.

මීට කලින් එළිදැක්වූ කොටස්වලින් උකහාගත් දැනුම අනුසාරයෙන් ඉදිරි තල්ලුවක් මෙයින් ලැබී, පවතින සතිය තව තවත් තහවුරු වේවායි මෛත්‍රියෙන් යුතුව පතමි.

ශාසන දයාවෙන්,

උඩඊරියගම ධම්මජීව හිමි<br>
නිස්සරණ වනය - මීතිරිගල - 11742<br>
2020-05-25

# සම්පාදක සටහන

මීතිරිගල නිස්සරණ වනය ආරණ්‍ය සේනාසනයට සම්බන්ධ වී කලක සිට ධර්ම ග්‍රන්ථ පිළිබඳව කටයුතු කරන්නට මා හට අවස්ථාව ලබා දුන් අති පූජ්‍ය උඩඊරියගම ධම්මජීව නායක ස්වාමීන් වහන්සේට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පළමුවෙන්ම පුද කරමි.

මහා සතිපට්ඨාන සූත්‍රය පාදක කරගෙන උන්වහන්සේ විසින් දේශිත ධර්ම දේශනාවලිය ලේඛනගත කිරීමේ කටයුත්ත දැනට සෑහෙන ප්‍රමාණයකට ඉටු වී ඇත. මේ එම ග්‍රන්ථාවලියේ පස්වැන්න වේ. පෙර පරිදිම මෙම කෘතිය සකස් කිරීම සඳහාත් නිස්සරණ වනය ආරණ්‍යවාසී මහා සංඝ රත්නය ඉදිරිපත් වූහ. විශේෂයෙන්ම දෙල්ගමුවේ ධම්මසුභද්ද ස්වාමීන් වහන්සේ අදාළ දේශනා ඇතුළත් හඬ පට නැවත නැවතත් ශ්‍රවණය කරමින්, ටයිප් පිටපත් නිවරද කිරීමේ යෙදුණහ. එම කැප වීම නිසා නොවේ නම්, මේ ග්‍රන්ථාවලිය මෙසේ පළ කරන්නට නොහැකි වනු ඇත. එහෙයින් උන්වන්සේලාට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පුද කරමි.

තවද, හඬ පට නැවතත් ශ්‍රවණය කොට ග්‍රන්ථය සංස්කරණය කිරීමෙන් සහ සෝදු පත් පිරික්සීමෙන් රාණි රාජපක්ෂ මහත්මියත් අලංකාර ලෙස පිට කවරය නිර්මාණය කොට එහි මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණය කිරීමෙන් අමිල් කුමාර මහතාත් මෙහිදී සහාය වූහ. නිස්සරණ වනය සංරක්ෂණ මණ්ඩලයේ හේමන්ත රණවක මහතා මෙහි මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණයෙන් සහාය විය. ඒ මහත්මමහත්මීන් තිදෙනාද කොලිටි ප්‍රින්ටර්ස් මුද්‍රණාලයේ අධිපති ජයසෝම මහතා සහ සේවක මණ්ඩලයද මෛත්‍රී පූර්වකව ගෞරවයෙන් සිහිපත් කරමි.

සම්පාදක
2020-05-25

# පටුන

# 39 | රූප ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**"පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු. කථඤ්ච පන භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො, ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො, ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො, ඉති සඞ්ඛාරා, ඉති සඞ්ඛාරානං සමුදයො, ඉති සඞ්ඛාරානං අත්ථඞ්ගමො, ඉති විඤ්ඤාණං, ඉති විඤ්ඤාණස්ස සමුදයො, ඉති විඤ්ඤාණස්ස අත්ථඞ්ගමොති."**

ගෞරවනීය යෝගාවචර මහා සංසරත්නයෙන් අවසරයි. අපි අද මේ මුල පුරන්නේ වටිනා සූත්‍රයක් වන මහා සතිපට්ඨාන සූත්‍රයේ උපාදාන ස්කන්ධ පර්වයටයි. පඤ්ච උපාදානස්කන්ධයන් පිළිබඳ විභාගයටයි. ඉතින් අපි මෙතුවක් ආපු ගමන් මාර්ගය මතක් කරගන්නව නම්, සතර සතිපට්ඨාන වශයෙන් කැඩෙනකොට, වෙන් වෙලා දක්වනකොට මුලින් සඳහන් වෙන කායානුපස්සනා කොට්ඨාසය, වේදනානුපස්සනා කොට්ඨාසය සහ චිත්තානුපස්සනා කොට්ඨාසය අපි මැනවින් නිමා කරන්න යෙදුණා. දැන් මේ ප්‍රවේශයක්

ලබාගෙන තියෙන්නේ ධම්මානුපස්සනාවටයි. ඒ ධම්මානුපස්සනාවත් ප්‍රධාන වශයෙන් නීවරණ පබ්බය, ස්කන්ධ පබ්බය, ආයතන පබ්බය, බොජ්ඣඞ්ග පබ්බය, චතුසච්ච පබ්බය කියල පබ්බ, පර්ව, පුරුක් කීපයකට කඩල තියෙනවා. එයිනුත් මුලින් නම් කරන්ට යෙදුණ නීවරණ පබ්බය අපි ගිය සතියෙ නිමාව දකින්ට යෙදුණා කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡා වශයෙන්.

ඒ නීවරණ එකක් එකක් අපි ශක්ති ප්‍රමාණයෙන්, මූලධර්ම පිළිබඳව පැහැදිලිකමක් ඇති වන තාලයටත් අපි අපි වශයෙන් භාවනාවෙන් ලබාගෙන තියෙන අත්දැකීම්වලට සමීප වන ආකාරයටත් විස්තර කරගෙන ගියාම, ඒ නීවරණයන්ගේ හමාරය තියෙන්නේ, ඒ නීවරණයන් 'පඤ්චසු නීවරණෙසු', පංච නීවරණයන් කෙරෙහි සමුදය - වය ආදී වශයෙන් අජ්ඣත්ත - බහිද්ධා වශයෙන් ඒවා පිළිබඳ සමාලෝචනයක් හැටියටයි. ඇත්තටම ඒක විග්‍රහ කළ යුතුව තියෙන්නේ අද මේ ආරම්භ කරන්න බලාපොරොත්තු වෙන උපාදානස්කන්ධ නැත්නම් ස්කන්ධ පර්වයට කලින්. නමුත් ඒ සෑම පර්වයක්ම අවසානයේ සංග්‍රහ වන අජ්ඣත්ත බහිද්ධා වශයෙන් කඩා බලන ක්‍රමය, එහෙම නැත්නම් ඇති වීම් - නැති වීම් වශයෙන් කඩා බලන ක්‍රමය දක්වෙන ධෘව පදයක් හැම පර්වයකටම පස්සේ සඳහන් වෙනවා. කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා පුංචි පුංචි කොටසක් හැම එකකම අවසානයේ සඳහන් වෙනවා, 'අජ්ඣත්තං වා' වශයෙන් - ආධ්‍යාත්මික වශයෙන් - මේ නීවරණ ධර්ම. ඊගාවට ඒ ආලෝකයෙන්, ඒ කියන්නේ අධ්‍යාත්මික වශයෙන් තමන් ලබාගන්නා නීවරණ පිළිබඳ අවබෝධය - බාහිර අපිත් එක්ක එකට භාවනා කරන අනිකුත් යෝගාවචරයන්ගේ, එහෙම නැත්නම් මේ ආරණ්‍යයේ වාසය කරන්නා වූ අනෙකුත් ඇත්තන්ගේ, එහෙම නැත්නම් ඒ සත්ත්ව කොට්ඨාසවල, මේ ගමේ මේ නගරයේ මේ රටේ මේ සක්වළ ආදී වශයෙන් ඒ අවබෝධය - බාහිරයට සම්බන්ධ කරල බලනකොට තමයි හොඳ පදමක්, හොඳ දැඩි වීමක්, හොඳ ශක්තිමත් වීමක්, පදම් වීමක් සිද්ධ වෙන්නේ.

හුඟ වෙලාවකට මේ ධර්මය පිළිබඳ ප්‍රත්‍යක්ෂය මුල් කරගත්තේ නැති ඇත්තෝ හිතනවා මේ නීවරණ ධර්ම පිළිබඳව කටපාඩම් කරගත්තහම නීවරණ ධර්ම පිළිබඳව විස්තර ඉගෙනගත්තහම මේක අනුන්ට යොදල බලන්න පුළුවන් වෙයි කියලා. මෙතන ලොකු පටලැවිල්ලක් තියෙනවා. නමුත් ඒ නීවරණ පබ්බයේත් අනෙකුත් පර්වවලත් හොඳට පැහැදිලි කරල දෙන දෙයක් තමයි, ඉස්සෙල්ලම ඒක ප්‍රත්‍යක්ෂ වශයෙන් තමා වශයෙන් අවබෝධ කරගැනීමයි ඉතාමත්ම වැදගත් වෙන්නේ කියන කාරණය. එතනින් තමයි මේ හිතේ විප්ලවය, චරිතයාගේ විප්ලවය, පෞරුෂත්වයේ විප්ලවය පටන්ගන්නේ. ඒක ඇති වෙනකොට ඒ නීවරණ පිළිබඳ අවබෝධය වැඩෙනවා විතරක් නොවේ, නීවරණ තුළින්, නීවරණ කියන කන්නාඩියෙන් ලෝකෙම බලන්න පුළුවන් ලොකු තලතුනාකමකට, අෂ්ට ලෝක ධර්මයට කම්පා නොවෙන තත්ත්වෙකට පත් කරනවා. අන්න එවැනි තත්ත්වයකින් තමයි අපි බාහිරයේ නීවරණ ධර්ම දෙස බැලිය යුත්තේ. තමාගේ ශීලයේ සමාධියේ ප්‍රඥාවේ වෙනසක් ඇතුව, ලෝක ධර්ම විෂයෙහි හොඳ තලතුනා බැල්මක් ඇතුවයි, නීවරණ වශයෙන් බාහිරෙන් බැලිය යුත්තේ. එහෙම නැතුව තමා තුළ ඇත්තා වූ නීවරණයන්ගේ හොඳ පරිචයක් නැතුව හොඳ ආභාසයක් නැතුව කෙනෙක් අනුන්ගේ නීවරණ බලන්න පටන් අරගත්තොත් ඒක ඒකාන්තයෙන්ම අවුලකට වියවුලකට හේතු වෙනවා.

ඒ පමණක් නෙවෙයි ඒ නීවරණ ගැන අපි මතක් කරගන්නව නම්, නීවරණ තමන් වශයෙන්ම අවබෝධ කිරීමත් පියවර කීපයකින් තමයි සිද්ධ වෙන්නේ. භාවනා ආරම්භයේදී අපි නීවරණ දකින්නේ කරදරකාරයෝ, හතුරෝ, දුරු කළ යුත්තෝ වශයෙන්. බොහෝම බය පක්ෂව මෙනෙහි කෙරෙන මේ නීවරණ එනකොටම තිගැස්සෙන බයට පැමිණෙන තත්ත්වෙකට පත් වෙනවා. ඒ කරලා අපි මූල කර්මස්ථානය වෙන් කරලා ඒ තුළින් කිසි යම්ම විදිහකට මූණට මූණ ලා තියාගෙන තමයි සමාධියක් ඇති කරන්න උත්සාහ කරන්නේ. ආන්න ඒ ඇති කරගන්න සමාධියෙන් යම් ප්‍රමාණයකට මූල කර්මස්ථානය පිළිබඳව පරිචයක් ඇති උනාට පස්සේ මූල

කර්මස්ථානය පවතිද්දී ඔන්න නීවරණ එක එක එන්න පටන්ගන්නවා. මෙතනදිත් ගුරුවරයා හොඳට මතක් කරලා දෙන්න ඕනෑ, ඉස්සෙල්ලා මූල කර්මස්ථානය වෙන් කර තබාගැනීමට බාධා කරපු නීවරණ, දැන් මූල කර්මස්ථානය පවතිද්දී එනව නම් බය වෙන්න එපා. මූල කර්මස්ථානයේ තමන්ගෙ ආරක්ෂාව තියෙනවා. තමන්ගේ භාවනාවේ තේමාව තියෙනවා. හොඳයි ඒ තියෙද්දි නීවරණ එනකොට ඒ නීවරණවල මුල මෙහෙමය, පැමිණිච්චාම මැද මෙහෙමය, අවසානය මෙහෙමය කියලා, ඒ නීවරණ ධර්ම කොට්ඨාසයක් වශයෙන් සලකා භාවනා කිරීමට පටන්ගත යුතුයි.

මේකත් අර නීවරණ දුරු කරගෙන මූල කර්මස්ථානය මතු කර ගන්නව වගේම වැදගත් පුරුකක්. සන්ධිස්ථානයක්. පැටලෙන්න තියන ඉඩක්. මේ දෙවෙනි අවස්ථාවේදී මූල කර්මස්ථානය පවතිද්දී නීවරණ පවතින හැටි, ඒවා පැත්තකින් මතු වෙලා නැති වෙලා යන හැටි අවබෝධ කළාටත් පස්සේ තමයි ඒ නීවරණ පිළිබඳව මෙන්න කාමච්ඡන්දයේ හැටි, ඒක එනකොට මෙහෙමයි, පවතිනකොට මෙහෙමයි, යනකොට මෙහෙමයි කියලා පූර්ණ දැක්මක් ලබාගන්න පුළුවන්. අන්න ඊටත් පස්සේ තමයි තව කෙනෙකුට කරදර කරන, තව කෙනෙක් තුළ ක්‍රියාත්මක වෙන, තමන්ට කරදරකාරී වෙන්න පුළුවන්, නොවෙන්න පුළුවන්, නැත්නම් සබ්‍රහ්මචාරී කෙනෙක් වශයෙන් වෙන්න පුළුවන්, ශිෂ්‍යයෙක් වශයෙන් වෙන්න පුළුවන්, ඒ නීවරණ ගැන කතා කරන්න අයිතියක් ලැබෙන්නේ. ඒක තමයි ඒ ධ්‍රැව පදයෙන් පෙන්නන්නෙ - ඉස්සෙල්ලාම අජ්ඣත්තං වා වශයෙන්, බහිද්ධා වා වශයෙන් නීවරණ ධර්ම සලකන්න පුළුවන්. ඊගාවට නීවරණ ධර්මයන්ගේ ඇති වීම මෙහෙමයි, ඒකෙ නැති වීම මෙහෙමයි, හොඳට පරීක්ෂාකාරී වුණොත්, ඒක වහා ඇති වී වහා නැති වන තත්ත්වය මෙහෙමයි කියනකොට තමයි, "**අත්ථි ධම්මා'ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති**". මේවා ධර්මතා. ඒවට කියන්නේ ධර්මතා. අපිත් එක්ක හැප්පෙන්න එන ජාතියක් නෙමෙයි. නීවරණවලට කිසිම ඕනැකමක් ඇත්තේ නෑ අපිත් එක්ක හැප්පෙන්න. ඒ නීවරණයන්ගේ හැටි එහෙමයි. ඒගොල්ලො එනවා, ඒගොල්ලො ඒ කරන්න තියන සංකර පානවා, ධර්මතාව

පෙන්නනවා, කාමච්ඡන්දයක් ආවහම මෙහෙමයි කියලා පෙන්නනවා, යනවා. ඉතින් අපි තමයි මේක ප්‍රශ්නයක් කරගෙන මට මේ කාමච්ඡන්දයක් ඇවිල්ලා මෙහෙම කරදර කෙරුවා, මෙහෙම කෙරුවා කියල වෛර ද්වේෂ ඇති කරගන්නේ. නැතිනම් ඒක ආසාවෙන් අල්ලල බදගන්නේ.

මෙන්න මේ කරුණු නීවරණ කරගන්නෙ මේ ධර්ම පිළිබඳව මුල මැද අග නොදන්නා කෙනයි. ඒ නිසා භාවනාව කෙළවර වෙනකොට නීවරණ තිබ්බ තැනම තියෙයි. තමන් ඉන්න තැනම ඉන්නවා. වෙනස තියෙන්නේ, ඒවා ධර්මතා. මම කියාගත්තා වූ මේ දේත් ධර්මතාවක්, නීවරණත් ධර්මතාවක්. මේවයේ ගැටීමත් ධර්මතාවක්. මේකට කේන්ති ගන්න දෙයක් නෑ. ඒවට කේන්ති ගත්තා කියල අඩුවකුත් නෑ. මේවා වැඩි කරන්න බෑ. මේවායේ හැටි මෙහෙමයි කියලා, ඒ නීවරණවලට ඉන්න තැන ඉන්න අරිනවා, තමන් ඉන්න තැන තමන් ඉන්නවා, එච්චරයි. "**අත්‍ථි ධම්මා'ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති**", මේවා ධර්මතා කියල සතිය හොඳට පිහිටුවනවා. "**යාවදෙව ඤාණමත්තාය**" මේක අඬහැර පාන්න කාටවක්වත් කියා පාන්න නෙවෙයි. එහෙම නැත්නම් අනුන්ට කියාදීම පිණිස නෙවෙයි. මතුමත්තේ මේ පිළිබඳව වඩා හොඳ පරිචයක් ඇතිකගැනීම ඇති කරගැනීම සඳහායි. මම ඉපදෙනකොටත් ඔය නීවරණ තිබුණා. දැනටත් තියෙනවා. මත්තටත් තියෙනවා. භාවනාව කරන්න කලිනුත් තිබුණා. භාවනා කරනකොට තමයි ඕක මහා යකෙක්, මහා යක්ස පිසාචයෙක් වශයෙන් පේන්නේ. භාවනා කරල ඉවර උනාට පස්සෙත් අර කරන්න කලින් වගේ තමා. ඒ නීවරණ, නීවරණ වශයෙන්ම තියෙනවා. මේක ඥානය පිණිස හේතු වෙන දෙයක්. නීවරණ බොහෝ වටිනා දෙයක්. ඒ මොකද, දන්නෙ නැත්නම් කරදර කරනවා. දන්නව නම් කුක්කෙක් වාගෙයි. හොඳට හීලෑ කරගත්ත බලු කුක්කෙක් වාගේ තමන්ගේ හැම දේටම යොදවගන්න පුළුවන්. ආන්න ඒ තරමට ඥානය ඇති කරගැනීම සඳහායි මේ සතිපට්ඨාන භාවනාව. එහෙම නැතුව අඬහැරයකට නෙවෙයි. ආන්න "**ඤාණමත්තාය පතිස්සතිමත්තාය**" මතුමත්තෙහි නීවරණ හැරෙනකොට දැක දැනගැනීම සඳහායි. එළඹ සිටි සිහියක්

සඳහායි. නීවරණ අපිට කිසි සේත්ම විශ්‍රාම ගන්න දෙන්නෙ නෑ. ඉස්පාසුවක් ගන්න දෙන්නෙ නෑ. නිතරෝම පෙළනවා. ඒ නිසා අපට අවශ්‍ය කරල තියෙන්නේ නිතරෝම එළඹ සිටි **සුපතිට්ඨිත** සතියක් පිහිටුවාගැනීමයි. අන්න ඒකටයි නීවරණ භාවනාව. මෙන්න මේ විදිහේ විශාල ගැඹුරකින්, නැතිනම් අපි මේ නීවරණ පිළිබඳ හදරාගත්තා වූ, අත්දැකගත්තා වූ සෑම දේම සම්පිණ්ඩනය කිරීමකින් තමයි නීවරණ පබ්බය හමාර කරන්නේ.

ඉතින් මේ නීවරණ පිළිබඳ අවබෝධය වගේම නීවරණ පිළිබඳ සමාලෝචනය කරන මේ කොටසේ, එක එක යෝගාවචරයාගේ තරාතිරම්වල හැටියට අර්ථ වෙනස් වෙනවා. පළවෙනි මාර්ග ඥානය පිණිස වැඩ කරන ඇත්තන්ට මේක මහා කන්දක්, මේක දරාගන්න බැරි, ඉවර කරගන්න බැරි, කවදවත් කරන්න බැරි වැඩක් විදිහට පේන්නේ. ඒ නිසා තමන්ගේ ආත්ම ශක්තිය, වීර්යය, මීයෙකු විතර පුංචි කරගෙන, නීවරණ පිළිබඳ අවබෝධය මහා කන්දක් බවට පත් කරගන්නවා. ඒ තමයි නැති බැරි සංඥුව. මේකට හැප්පිලා හැප්පිලා හැප්පිලා හැප්පිලා අසීමිතව හැප්පිලා, ඒ පිළිබඳව යම් කිසි ප්‍රමාණෙක ධර්මතා වශයෙන් අවබෝධ කරනකොට අර මීයෙක් වගේ තිබුණු තමන්ගේ ආත්ම ශක්තිය, පෞරුෂත්වය, අධිෂ්ඨාන ශක්තිය මෝරන්න පටන්ගන්නවා. හරියටම නීවරණ එනකොටම මෙනෙහි කරගන්න පුළුවන් නම්, නීවරණවලට ඔය ඔච්චරම සෙල්ලම් කරන්න හම්බ වෙන්නෙ නෑ. නීවරණවලට බයේ කොච්චර සණ්ඩු කළත් වැඩේ දිනන්නත් බෑ. මම නීවරණවලට සමානව මුහුණ දෙන්න ඕනෑ කියල, අර යෝගාවචරයාගේ පෞරුෂත්වය, චින්තන ශක්තිය වැඩෙනකොට සම තත්ත්වයේ ලා සලකන්න පුළුවන් වෙනවා. තව ඉස්සරහට ඉස්සරහට යනකොට නීවරණ කියල කියන්නේ හොඳ බණක්. හොඳ ධර්මතාවක්. සංසාරෙන් එගොඩ වෙන්න හොඳ පාලමක්, හොඳ ඒදණ්ඩක් වශයෙන් ඒක ප්‍රයෝජන කරගන්න පුළුවන් වෙනවා. ප්‍රයෝජනය සලකල පාවිච්චි කරන්න පුළුවන් වෙනවා. තව ඉස්සරහට යනකොට, අනේ සර්වඥයන් වහන්සේට විතරයි මේ නීවරණ පිළිබඳව මෙච්චර හොඳ විග්‍රහයක් කරන්න පුළුවන් උනේ, ඒ නිසා සර්වඥයන් වහන්සේ අනෙකුත් ශාස්තෲන් වහන්සේලාට

වැඩිය බොහෝම ශ්‍රේෂ්ඨයි කියලා සර්වඥයන් වහන්සේගේ ගුණ වැඩි කරන්නත් හේතු වෙච්චි කාරණාවක් විදියට නීවරණ ගන්න පුළුවන්. කෙලෙසන දෙයක් විදියට නෙමෙයි පේන්නෙ.

අන්න එතකොට නම් කියන්න පුළුවන් නීවරණ ධර්ම කියලා. ඉස්සර නම් මේ 'ධර්ම' කියන පදය නීවරණ කියන පදයත් එක්ක ඇඳන්න බැරි තරම්. ඒ මොකද ධර්ම කිව්වම අපි ළඟ තියෙන්නේ බොහෝම පිරිසිදු උත්තම ආර්ය වචනයක්. නීවරණ කියලා කිව්වහම කෙලෙසන, අපිරිසිදු කරන, පෙළන දෙයක්. නමුත් නීවරණ 'ධර්ම' බවට පත් වෙන්නේ යෝගාවචරයාගේ ජීවිතයේ ඒ කෙරෙහි දක්වන ආකල්පමය වෙනස නිසා. අපි මේකට තමයි භාවනාව කියල කියන්නෙ. අපි මේකට තමයි විපස්සනාව කියල කියන්නෙ. ඒක පටන්ගන්නකොට තිබුණ විදිහටම තමයි නීවරණ නම් අවසාන වෙනකොටත්. නමුත් අපි ඒ කෙරෙහි දක්වන ආකල්පය, විපස්සනාව නිසා පුදුමාකාර විදිහට උඩුයටිකුරු කිරීමක් වෙනවා.

මෙන්න මේ විදිහම තමයි, මේ වගේම දෙයක් තමයි අපි මේ අද ඉදිරිපත් කරගන්න හදන පඤ්ච උපාදානස්කන්ධ පිළිබඳව අපි මුලින්ම මතක තියාගන්න ඕනෑ. වෙන විදිහකට කියනව නම්, මේ පඤ්ච උපාදානස්කන්ධ භාවනාව අවසානයේදී හරි විදිහට අජ්ඣත්ත වශයෙන්, බහිද්ධා වශයෙන් ඒ වාගේම ඇති වීම් වශයෙන්, නැති වීම් වශයෙන්, ඇති වීම් නැති වීම් වශයෙන් පඤ්ච උපාදානස්කන්ධ සලකනකොට, ආන්න අර විදිහේ ඇසීම නිසා යම් විදිහක හිස ඔසවා බැලීමේ ශක්තියක් ඇති වෙනවා. භාවනා කර කර, වැටි වැටි නැගිටිනකොට ඒක තව ටිකක් දැඩි වෙලා, කොන්දත් පණගැහිලා එනවා. ඒක හොඳට ජය ගත්තට පස්සේ, හොඳට උපාදානස්කන්ධය ඉදිරිපිට කෙළින් හිටගෙන ඉන්න පුළුවන් තත්ත්වයකට පත් වෙනවා. තවත් කෙනෙකුට කියල දීල වැඩ කරනකොට ඔය උපාදානස්කන්ධ උපකරණ ආයුධ වශයෙන් පාවිච්චි කරන්න පුළුවන් තත්ත්වයකට පත් වෙනවා. ඒ නිසාම වැදගත් වෙන්නේ හොඳට මේක අහල දැනගෙන, තමන් තුළින් ප්‍රත්‍යක්ෂ වශයෙන් ක්‍රියාවත් කිරීමයි.

ආන්න ඒ පසුබිම, ඒ මූලික ආකල්පය භාවනා, බණ කෙරෙහි, ධර්මය කෙරෙහි, සතිපට්ඨාන ධර්ම කෙරෙහි ඇති කරගන්න මේ වගේ සුළු පිරිසකට හැර බණ අහන සෑම පින්වතෙකුගෙන්ම බලාපොරොත්තු වෙන්න අමාරුයි. හුඟදෙනෙක් මේ පිළිබඳව ගත්තා වූ ආකල්ප කවදකවත් වෙනස් කරන්න ලෑස්ති වෙන්නෙ නෑ. ඉතින් එහෙම කෙනෙකුට මේ ධර්ම දේශනාවෙන් ශෘතමය මට්ටමෙන් එහාට යන්න අමාරුයි. නමුත් සතිපට්ඨානය වගේ ඒ ශෘතමය ඥනය ක්‍රමක්‍රමයෙන් ප්‍රයෝජනය සලකලා, ජීවිතයේ තමා ස්වාමිත්වයක් ඇති කරගෙන, පස්සේ ඒ ධර්ම කොට්ඨාස ආයුධ උපකරණ වශයෙන් පාවිච්චි කරන්න පුළුවන් තරමේ වෙනසක් සතිපට්ඨානයෙන් නිතරෝම බලාපොරොත්තු වෙනවා. ඒකයි සතිපට්ඨානය පටන්ගන්නකොට කියන්නෙ, ***"එකායනො අයං භික්ඛවෙ මග්ගො සත්තානං විසුද්ධියා"*** ආදි වශයෙන්. ඉතින් ඒ ප්‍රයෝජනය සලකලා ප්‍රයෝජන දක්වලා, ඒවා කර දෙන බවට, හරි ගියාම ගාස්තු ගෙවීමේ ක්‍රමයටයි සතිපට්ඨානය වඩන්නෙ. කාලා බලලා හොඳ නම් සල්ලි ගෙවන්න. එහෙම නැත්නම් හරි ගියාම අපිට ගාස්තුව ගෙවන්න, අපි ඒ කාරිය කරලා දෙන්නම්. ආන්න ඒ තරමේ, බුදුරජාණන් වහන්සේ මේක මේ පොළවෙ ගහගහා විකුණන්න පුළුවන් තත්ත්වයක් තියෙන්නේ. මේ සෑම ධර්මයකම වාගේ ප්‍රයෝජනය සලකලා ඉදිරිපත් කිරීමේ අපූරු හැකියාවක් උන්වහන්සේට තිබ්බ.

මෙන්න මේ විදිහටම පංච උපාදනස්කන්ධ විෂයෙහි සලකා බලනකොට මුලින්ම අපට කියාගන්න තියෙන්නේ සාමාන්‍ය වෙච්චි, නැත්නම් සුළු වේලාවක් තුළ කරන හඳුන්වාදීමකදී මේ මුළු සංසාරෙම අපට ඉගෙනගත්තැහැකි නාමරූප වශයෙන්. මේ දෙකට අහු වෙන්නේ නැති දෙයක් ඇත්තේ නැහැ. නමුත් ඒ නාමරූප කියනකොටම අපිට ඒකෙ ආගමික පැත්තක්, ආධ්‍යාත්මික පැත්තක්, ගැඹුරු පැත්තක් තියෙනවා. මේ කඩේකට ගිහින් ඉල්ලන දෙයක් නොවේ. එහෙම නැත්නම් තොටුපළක සෑණකෙළියක පවතින දෙයක් නෙවෙයි. ඒවයෙදි මේ දකින රූප, මේ නාම මේවයේ ලස්සන මේරිච්ච ගතියක් තියෙනවා. ඒවා තියන්නෙ මේ ආස්වාද කොටසේ. ජීවිතයේ පවතින ලෞකික ආස්වාද පැත්තේ නාම රූප වගේ වචන

සාක්ෂි. ඒවා බොහෝම ගැඹුරුයි. නමුත් යෝගාවචරයෙකුට ඉතින් ඉපදිච්ච ගමන් ළමයෙක් රන්කිරි කට ගෑවා වාගේ, නාම රූප කියන දෙක විපස්සනාවෙදි රන්කිරි කට ගෑවා වාගේ තමයි. නමුත් ඒක බොහෝම ගැඹුරක්. එහෙම නැත්නම් ලී කොටේක පළවෙනිම පැල ඉර වගේ. ගලකට කුළුගෙඩියෙන් ගහපුවාම ඇති වෙන පළවෙනිම පැල්ම වගේ. ඉතින් ඒක ලොකු පැල්මක් බව හැබෑව. නමුත් වැඩේට ගන්න නම්, ඒක ඉතින් තව ගොඩක් තළලා තමයි පාවිච්චි කරන්න වෙන්නේ. ආන්න ඒ වගේ නාමරූප කියනකොට ඒක පිළිගන්න, අදහන, නමුත් වැටහීම හොඳට ප්‍රකට නැති, එයිනුත් නාම කොට්ඨාස කියන එක පිළිබඳ වැටහීම මඳ ඇත්තන්ට ඉතාමත්ම හොඳම දේ තමයි උපාදාන ස්කන්ධ පබ්බය කියන්නෙ.

රූප කියන එක රූප වශයෙන්ම තියෙනවා. නාමරූප කියනකොට මේ යෝගාවචරයට රූප වැටහෙනවා, නමුත් නාම වැටහෙන්නේ නෑ. ආ - වැටෙහෙන්නේ නැත්නම් නාම කියල කියන්නෙ මොනවද? වෙදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල හතරකට බෙදල උගන්වනවා. එතකොට අර නාමරූප කියපු එක, නාම කාණ්ඩය හතරකට බෙදල තියන නිසා රූප කාණ්ඩයත් එක්ක ගත්තහම පහක්. අර නාමරූප කියන එක අවබෝධ කළ යුතුම දෙයක්. ඒ යුතු දේ උනත් අහනකොට, කටට වචනෙට හුරු උනාට මේක පිළිබඳව බෙද දැක්වීමක් අවශ්‍ය වන නිසා ස්කන්ධ, ධාතු, ආයතන ආදී වශයෙන් එක එක කෙනාගේ චරිතය හැටියට සර්වඥයන් වහන්සේ බෙද දක්වල තියනවා. මේ පඤ්ච උපාදනස්කන්ධය නැත්නම් පඤ්ච ස්කන්ධය වශයෙන් මේ බෙදීම කරන්නේ මේ නාම ස්කන්ධ පිළිබඳව, රූප නාම දෙකේ නාම කොට්ඨාසය පිළිබඳව හිතට දපු විශේෂ වූ ඥනය, නුවණ මදි ඇත්තන්ට වැඩිපුර අධ්‍යාපනය සඳහා. නාම කොට්ඨාස තමයි වෙදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ වශයෙන් සඳහන් කරන්නේ. ඉතින් ඒකම සමහර ආචාර්යයවරු උත්සාහ කරනවා මෙන්න මෙහෙම විග්‍රහ කරන්න. සතර සතිපට්ඨානයේ කායානුපස්සනාව කියල කියන්නේ අර අපි කියාපු රූප කොට්ඨාස, නැත්නම් රූප ස්කන්ධය. ඊට පස්සේ වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව

කියනකොට අර වේදනා ස්කන්ධයේ වේදනානුපස්සනාව කියල ඔන්න බොහෝම හොඳට විස්තර කරන ගතියක් තියෙනවා. ඊට පස්සේ චිත්තානුපස්සනාව විඤ්ඤාණ ස්කන්ධයට දනවා. සිත = විඤ්ඤාණය. ඊට පස්සේ ධම්මානුපස්සනාව කියන්නේ මොනවද එතකොට? සංස්කාර, සඤ්ඤා කියන ධර්මතා. ඒ වාගේම චරිත වශයෙන් බලනකොටත් කලවම් චරිතවලට රූප වශයෙන්, ඒ වාගේම වේදනා අධික, නැත්නම් චිත්තානුපස්සනා පැත්තට බර, ඒ වාගේම ධම්මානුපස්සනාවට බර ආදී වශයෙන් එක එක චරිත කොට්ඨාසත් හඳුන්වල දීල තියෙනවා.

මේ හැබැයි විශ්ව සාධාරණ බෙදීමක් නෙමෙයි. නමුත් කෙනෙකුට මේවා පළල් කොට ධර්මය හදරනකොට, ඒ මේ පැත්ත පෙරළ පෙරළ බලනකොට, බහුතරයකට සාධාරණයි කියල පේනවා. ඒක නිසා කායානුප්සසනා කොටස හුඟක් වෙලාවට කාමය පැත්තට බර, මිශ්‍ර අදහස් ඇති ඇත්තන්ට ගැළපෙනවා. මොකද හුඟාක් ලෝකේ ඉන්නේ මේ කාමයට බර ඇත්තො නිසා, ඒ රූප පැත්තෙන් තමා භාවනාව පටන්ගන්නේ. ඒක ඒ ඇත්තන්ගේ චරිතයට ගැළපෙනවා. ඒ වාගේම උපාදනස්කන්ධ ගන්නකොට ඔය රූප උපාදනස්කන්ධය, නැත්නම් වෙන් කරලා ගන්න පුළුවන්, දිග පළල මනින්න පුළුවන්, එහෙ මෙහෙ යන එන රූප තමයි ගන්නේ.

ඉතින් ඕවා කොච්චරකට පටලවගත්තද කියල කියනවා නම්, පටන් ගැන්ම කොයි විදියකින් හරි ඉෂ්ට කරගත්තට, අද මේ මහා ලොකුවට හයියෙන් කතා කරන තාක්ෂණයයි විද්‍යාවයි හිතුවා රූප විතරමයි වැදගත් වෙන්නේ, ඒකෙන් පුළුවන් ලෝකේ අත්පොත හොයාගන්න. මේ ලෝකේ රහස් ටික ඔක්කෝම තියෙන්නේ රූප තුළයි, ඒ නිසා නාම ස්කන්ධය කියල කියනව නම් ඒක ගුප්ත විද්‍යාවක්. ඒක කිසිම තර්කයකට ගැළපෙන්නෙ නෑ. ඒක යක්දෙස්සන්ගේ වැඩක්, කට්ටඩියන්ගේ වැඩක්. ඒක අපිට අවශ්‍ය නෑ. ඒකෙ කිසිම විද්‍යානුකූල දෙයක් නෑ. ඒකෙ කිසිම තර්කයක් නෑ. ඒකේ කිසිම රේඛීය වර්ධනයක් නෑ. මේ රූපවල නම් තියෙනවා. මේක අල්ලගත්ත ගමන්, මේක ඉස්සර කරගත්ත ගමන්, මුළු ලෝකෙම බට කැලේකට ගිනි තිබ්බ වගේ විද්‍යාව, විද්‍යාව, විද්‍යාව තමයි හැම

පැත්තෙන්ම එන්න පටන් අරගත්තේ. අඩු තරමේ කියනවා නම් දර්ශනවාදීන් පවා සම්පූර්ණ විද්‍යානුකූලව හිතුවිලි මවන්න ගිහිල්ලා අද සියයට සියයක් ප්‍රශ්න. මේ කාලේ ඒ ඇත්තෝ සක්විති රජගොල්ල වගේ. ඒ මොකද ඒ විද්‍යානුකූල නිෂ්පාදන පිළිබඳව තොරතුරු මිට මොළවගෙන, ඒවා නොදන්න ඇත්තන්ට මේ රූපත් එක්ක විස්තර කරලා කතා කරනකොට, ලංකාවේ මේ දේශනාව දෙවෙනි වර අහන ඇත්තොත් කට ඇරගෙන අහගෙන ඉන්න කාලයක් තිබ්බා.

මෙච්චර ලස්සන ධර්මයක් මේ විස්තර වෙද්දී, නාම රූප දෙක නාම ස්කන්ධ හතරට කඩල පෙන්නපු බුදුහාමුදුරුවන්ගේ ධර්මය පිළිබඳව කිසිම පරිචයක් නැති ඇත්තො, මේ රූප ස්කන්ධය පිළිබඳව මෙච්චර විස්තර කරන කොට, වඳින මට්ටමකට පත් වුණා. දණ බිම ඔබන මට්ටමකට පත් වුණා. අනේ මට අවුරුදු 26 ක් යනකල් මං මේ විදිහට පන්සිල් දීනගෙන හිටිය නං. මං හිතුව විද්‍යාව කිච්චහම ඒක ඉතින් ආයෙ නෑ ඉස්සරහදි මුළු ලෝකෙම අල්ලන්න පුළුවන්, මේ සෑම රහසක්ම අල්ලන්න පුළුවන්, ඔය හිත කියන එක 'ඉජු ඉජු' කියල කතා කරගන්න පුළුවන් වෙයි කියල ඇදහිල්ලක් තිබුණා. ඒ තරමටම මටත් ඉගැන්නුවා. ඒ තරමටම අදත් උගන්නනවා. ඒ තරමටම හිතනවා මේ භෞතික ලෝකේ රූපස්කන්ධය තමයි ඔක්කොටම මුල කියලා. මේකට තමයි සර්වඥයන් වහන්සේ අවිද්‍යාව කියල කියන්නෙ. මේ උපමා ටික කියන්න පුළුවන් අප්‍රතිපත්ති අවිද්‍යාව සහ මිච්ඡාපටිපත්ති අවිද්‍යාව කියල. මේ ලෝකේ මැවුම්කාර ඇත්තන්ට නම් නාම ධර්ම කොටස ඔක්කෝම දෙවියන් වහන්සේට බාරයි. ඒ ගැන කතා කරන්න හිතෙනවා, කතා කෙරුවොත් සදාකාලික අපායට යනවා. ඔන්න රූප කොට්ඨාස තියෙනවා, ඔය ටික බඳගෙන බෙදාගෙන හිටපල්ලා කියන අදහසත් එක්ක යනකොට මේ අවිද්‍යාව ඒ ඇත්තන්ගේ දේශපාලන බලය කියන එක ලොකු ආයුධයක් කරගත්ත.

ඒකයි අර සාක් කම්ටුව අපිට කියන්න පටන් අරගත්තේ, අපි මිථ්‍යා මත අදහන, එහෙම නැත්නම් නාම ධර්ම ගැන සිතන, ගුප්ත විද්‍යාව ජය කරවන, නැත්නම් අභූත දේවල් ගැන හිතන ආසියාතික ජාතිකයන් වශයෙන් අපිව කොන් කෙරුව. ලංකාව වගේ පුංචි රටවල්

දෙකතුනක් විතරයි යම් කිසි ප්‍රමාණයකට හරි, පදයකින් හරි නැණ වර්ධනයේ ධර්ම ඉතුරු කරගත්තේ. ප්‍රධාන වශයෙන් අද මැලේසියාව, ඒ වාගේම ඒ ආශ්‍රිත රටවල්, ඔය ඉන්දුනීසියාව වගේ, ප්‍රධාන බුද්ධාගම් රටවල් ඔක්කොම යට වුණා අර ද්‍රව්‍යවාදයට. බුදුපිළිම කඩල දල, ලියකියවිලි ඔක්කොම පුච්චල දල, මේ ඔක්කොම මිථ්‍යා මත, මේවා ලාමක ම්ලේච්ඡ ධර්ම, මේවයේ තියෙන්නෙ නිකන් ගුප්ත බවක්, මේවයේ කිසිම දෙයක් ඔප්පු කරල පෙන්නන්න පුළුවන් දෙයක් නෑ, තර්කෙට අහු වෙන්නෙත් නෑ කියල ලකුණක්වත් නැති වෙන්න මැකුව. මේ රටවල් කීපයක්වත් අර ගෙනාපු සම්ප්‍රදායට තාම සැලකිලි, හේතු කරුණු සම්බන්ධ කොට සලකල, මේකේ පරණ පැති අපට පුළුවන් ප්‍රමාණෙට රැකගන්න ඕනෑ කියල, මහ අන්ධකාර යුගයෙ බුද්ධාගමේ මූලිකම, ප්‍රධාන මූලධර්ම ටික රැකගෙන ආව.

නමුත් අද ඒ පුස්කොළ පොත කළු පිරිමැදල බලනකොට ඒකෙ තියන විස්තර, අර කියන දර්ශනිකයන් පළවෙනි පංතියෙවත් තියේයිද කියලා හිතන තරමට අද හොඳටෝම ඒ ඇත්තන්ගේ තිත්ත මතු වෙලා තියෙනවා. කෝම්බෙ එළි වෙලා තියෙනවා. ඒ නිසා එකක් තියනවා ගෞරව කරන්න පුළුවන්. ඒ ඇත්තන්ට තේරිලා තියෙනවා මේ රැකගෙන ආපු දේ, නාම ධර්ම පැත්තෙ විශාල ගැඹුරක් තියෙනවා. අල්ලන්න පුළුවන් ඔක්කොම නෙමෙයි සත්‍යය. අල්ලන්න බැරි තැන්වලත් සත්‍යය තියෙන්න පුළුවන්. ඒ සත්‍යය තේරුම් කරගත් ඇත්තෝ අර ගූඪ ධර්ම විතරක් තේරුම්ගියාම ඒකට අඬහැර පානවා වගේ අඬහැර පෑමක් නම් නෑ. ඒ මොකද, සත්‍යය නිසා. අඬහැර පෑව නම් බොරු. ලාබ බඩුවේ හිලක් තියෙනවා කිව්ව වගේ, ඕනැවට වැඩිය කියාපාන්න ගියා නම් අනිවාර්යයෙන්ම එතන බොරුව තියෙන්නෙ.

ඉතින් මේ නාම ධර්ම, රූප ධර්ම පිළිබඳ සම බර විග්‍රහයක් ඉදිරිපත් කරන සර්වඥයන් වහන්සේ දේශනා කළේ මේක ප්‍රඥාවන්තයන් සඳහා පමණයි. මේක හන්දියක් හන්දියක් ගානේ විකුණන්න බෑ. ඒක ගෙනියල කාට හරි මායා කරන්න බෑ, රවට්ටන්න බෑ, හොඳ ඥානවන්තයාට මේක වැටෙහනවා කියලයි. උන්වහන්සේ ඒකාන්තයෙන්ම පිළිගත්ත කාරණාවක් තියෙනවාඃ හැමදම මේ

ධර්මය තේරුම්ගන්න කොටස ලෝකේ සුළුතරයක්මයි. කවමදකවත් බහුතරය වෙන්න විදිහක් නෑ. බහුතරය උනා නම් ඒක සාරධර්මයක් වෙන්න බැහැ. තලතුනාකම හොඳ දෙයක් උනාට කවදකවත් ඒක හොඳ පෝෂණ පදර්ථයක් වෙන්නෙ නෑ. ඒ නිසා නාම ධර්ම පිළිබඳව ගවේෂණයට යෝගාවචරයා පෙළඹෙනකොට, මෙන්න මේ ඉතිහාසගත පදනම, අද මේ 1980 දශකයෙන් පස්සේ ඇති වෙලා තියෙන මේ චින්තන විප්ලවයත් එක්ක බලනකොට මේක දැනගෙන තිබීම ඉතාම වැදගත් වෙනවා. නමුත් මේක පිළිබඳව ගිහියෝ දන්න තරමටවත් හුඟක් වෙලාවට පැවිද්දන්ට මේක දැනගන්න බැරි වෙලා තියෙනවා. මොකද, පැවිද්දෙ හිතනවා මේවා ඉගෙනගැනීම අනවශ්‍ය බාධක, අනවශ්‍ය මත ඉගෙනගැනීමක් කියලා. ඒ නිසා හුඟක් වෙලාවට පැවිද්දෙ අනාත්මය ගැන කතා කළාට, ආත්මය කියන්නේ මොකක්ද කියලා දන්නෙ නැති නිසා පටලැවිල්ලක් තියෙනවා. ඉතින් ආත්මය කියල කොහොමද වෙන්නෙ කියල දන්නෙ නැතුව, අනාත්මය ගැන කතා කරල වැඩක් නෑ. දැන් ආත්මය ඇති වෙච්චි හැටි අඩු ගානෙ අහලවත්, එහෙම නැත්නම් අපි ඒක නෑ කියන්න උත්සාහ කළාට කොහොමද අපි තුළ මේක ක්‍රියාත්මක වෙන්නේ කියලාවත් හැඟීමක්, වර්තමාන මොහොතට සම්බන්ධ කරගැනීමක් නැති වුණොත් ඒක හරියට බූරුව පිටේ පටවපු හකුරු ටිකක් වාගේ. මොනවත් නෙවෙයි මෙතනත් බූරුවට හකුරුවලින් වැඩක් නෑ.

හුඟාක් වෙලාවට මේ ධර්මය සාමාන්‍යයෙන් මූලධර්ම ඤාණය ඇති ඇත්තන්ගෙනුත් ගොඩක් රැකුණා. අතීතයේ සිටි ඒ ඇත්තො ගුණගරුකව සිහිපත් කරන්න ඕනෑ. ඒ නිසා සූත්‍රමය ඥානයත් අවශ්‍යයි. නමුත් ඒක වර්තමානයට ගන්න පුළුවන්, වර්තමානයේ අපි ළඟ ආත්ම සංඥාව තියෙනවා, අපි ළඟ මේ නාම රූප පිළිබඳව ඇත්තා වූ තණ්හාව තියෙනවා, අපි ළඟ මේ නාම රූප පිළිබඳව ඇත්තා වූ අවිද්‍යාව තියෙනවා කියන පදනමින් පටන්ගත්ත නම්, ඒක ඖෂධයක් වාගේ. මේක තේරුණත් කොහොමද අපි මේ ධර්ම කණ්ණාඩියෙන් බලලා, කොතනද මේක පිළිබඳව අපිට අවිද්‍යාව පහළ වෙන්නේ, කොතනද මේ රූප පිළිබඳව අවිද්‍යාව අපිට දැක දැනගන්න පුළුවන් වෙන්නේ, කොතනින්ද පහ වෙලා යන්නෙ. ඒ වගේම නාම ධර්ම

පිළිබඳව, අපි උත්පත්තියෙන් බෞද්ධයො වුණාට, අපි සම්‍යක්දෘෂ්ටිකයි කියල කිව්වට, කොහොමද අපි තුළ ඒ මිථ්‍යාදෘෂ්ටිය ක්‍රියාත්මක වෙන්නෙ කියල අපි ඒ පිළිබඳව නිරීක්ෂණාත්මක දැක්මක්, එහෙම නැත්නම් ධර්මමය විචක්ෂණයක් අපි ළඟ ඇති කරගත්තේ නැත්නම්, ඒක ඖෂධයක් විදියට අපිට පාවිච්චි කරන්න බැරි වෙනවා. ඒත් අපි මේ සාකච්ඡා කරන කොටසට ඉතාමත්ම ඍජුව සම්බන්ධ කරගන්න පුළුවන් ධර්ම කොට්ඨාසය තමයි මේ බුද්ධාගමේ තියන පංචුපාදනස්කන්ධය. ඒ බෞද්ධයාගේ විෂයක්. ඒකත් ධර්මය, බුද්ධ ධර්මය, සද්ධර්මය, තමන්ගේ ජීවිතයට ළං කරගන්න ඕනෑ ඇත්තන්ට, සාමාන්‍යයෙන් මේක රැකගෙන යන, සභ්‍යත්වයෙන් රැකගෙන යන ඇත්තන්ට වඩා විශාල අර්ථයක් තියෙනවා.

ඒ නිසා අද පොත්පත් බැලුවොත් ගොඩාක් ඒ ගැන ලියවිච්චි දේවල් තියෙනවා. නමුත් ඒවා බලනකොට, මේක තේරුම් අරගෙන ප්‍රයෝජනවත් විදිහට කිට්ටු කරගන්න ලියවිච්ච පොත් ඉතාම කීපයයි තියන්නෙ. ඒත් ඒ ප්‍රදේශයෙ වුණත් පහුගිය කාලෙ නම් වර්ධනයක් තමයි පේන්න තියෙන්නෙ. ටිකෙන් ටික ටිකෙන් ටික මූලධර්ම ඉගෙනගැනීමේ අර්ථයෙන් හෝ වේවා, ජීවිතයට ළං කර බැලීමේ අර්ථයෙන් හෝ වේවා අවශ්‍යතාව වැඩෙන්න පටන්ගත්තා. ඒ වැඩීම නිසා අද යම් ප්‍රදේශයක ධර්ම දේශනාවල මේ වගේ හොඳට මේක කිට්ටු කරල කතා කරන ගතියක් තියෙනවා. පොත්පත්වලත් භාවනාව ළං කරගෙන, ජීවිතයට ළං කරගැනීම සම්බන්ධයෙන් වැඩි සැලකිල්ලක් ඇති වෙලා තියෙනවා. ඒක නිසයි අපිට කල්පනා කරන්න පුළුවන් උනේ, අපිට ලැබිච්ච මේ බුද්ධෝත්පාද කාලය වගේම මනුෂ්‍ය ආත්ම භාවය කාල සම්පත්තිකරයි. ඇත්තටම මේවා අකාලික ධර්ම. නමුත් ශාසන ඉතිහාසය දිහා බලනකොට 1930, 40, 50, 60 වගේ දශකවල කවමදකවත් මේ විදිහෙ කලඑළියක් තිබුණේ නෑ. මේව ඔක්කොම පෙට්ටගම්වල ආරක්ෂා වෙලා තිබුණ බව හැබෑව. නමුත් මොනවද ඒ රැකගෙන ආවෙ කියලා මෙච්චර විෂදව හොයා බලන ගතියක් තිබුණේ නෑ. ආන්න ඒ නිසා අපි හිතාගන්න ඕනෑ මේක අපේ කාලෙ, මේක අපේ යුගය. ඒක සඳහා අපිට කරන්න තියෙන දේ, එච්චා නැවතත් අර පෙට්ටගම්වල දාල රකින එක

නෙවෙයි. ඒකෙ තියෙන දේවල් හොඳට කළු පිරිමැදල තේරුම් අරගෙන, අපි මෙතෙක් කල් භාවනාවෙදි කරගෙන යනකොට වැරදිච්ච තැන් තියෙනව නේ, ඒ වගේම අපිට යම් යම් ප්‍රත්‍යක්ෂ වෙච්ච දේවල් තියෙනව නේ, ආන්න ඒකට මේක සම්බන්ධ කරගත්ත නම්, පැහැදිලිව ප්‍රතිඵල අත් වෙන්න පටන්ගන්නවා. හදවත ගැස්මත් එක්ක සමීප වෙන්න පටන්ගන්නවා. අන්න ඒ කොටස තමයි යෝගාවචරයො වශයෙන් අපට අවශ්‍ය කරන්නෙ.

ආන්න ඒ විදිහට බලනකොට සර්වඥයන් වහන්සේ පෙන්නන්නෙ ඉස්සෙල්ලම රූප ධර්ම. ඒ මොකද උන්වහන්සේත් බාරගන්නවා, පැහැදිලිවම මේ නාම රූප දෙකේ රූප කොට්ඨාසය ලේසියි. අර විද්‍යාඥයො කරපු වැඩේමයි. විද්‍යාඥවරු කෙරුවෙ ඒක ආධානග්‍රාහීව කෙළවරකට කියාදෙන එක. නාම ධර්ම ගන්නම එපා. ගත්තොත් බ්‍රේක් නෑ. කව්රු හරි ගත්තොත් ඒ මනුස්සයා නිකං හැඟුම්බර වෙනවා විතරයි, කිසිම විද්‍යානුකූල ගතියක් නෑ කියල නාම ධර්ම ප්‍රතික්ෂේප කිරීමට මෙතනදී රූප ධර්ම ආයුධයක් කරගත්තා. ඒකයි. නාම රූප දෙකෙන් රූප ධර්මයට බැසගන්න ලේසි නිසා, රූපයෙන් මේකට බැසගන්නවයි කියන එක යෝගාවචරයට ලේසි කරන වැඩක්. සර්වඥයන් වහන්සේ මේ රූප ධර්ම ඉස්සර කරගත්තේ ලේසි තැනින් පටන්ගන්න ඕනෑ නිසා. සාමාන්‍යයෙන් ඕනෑම භාෂාවක් ගත්තහම, මේ වගේ එකක් ගත්තහම ඉතින් ඒකෙ අකුරු පද්ධතියෙ බොහොම ලොකු අක්ෂර වින්‍යාසයක් තියෙන්නෙ. ඒක අපේ සිංහලෙන් පටන්ගන්නකොට "අ" යන්නෙන් පටන්ගන්නෙ. නමුත් බුරුම භාෂාව පටන්ගන්නකොට "ක" යන්නෙන් පටන්ගන්නෙ. බුරුම භාෂාව පිළිගන්නවා "අ" යන්න අවමංගල ලක්ෂණයක් කියලා. හැමදේටම නිෂේධ අර්ථයක් දෙන නිසා "අ" යන්නෙන් පටන්ගන්න එක හොඳ නෑ. නමක් තිබ්බොත් "අ" යන්නෙන් කවදාවත් නමක් තියන්නෙ නෑ. තිබ්බොත් ඒ අර පක්ෂග්‍රාහී වෙච්චකමට මිසක්කා, නැත්නම් "අ" යන්න බොහොම නපුරු දෙයක්. ඒ නිසා "ක" යන්නෙන් පටන්ගන්නෙ. නමුත් කවදාවත් "අ" යන්නවත්, "ක" යන්නවත් නෙමේ ඉස්සෙල්ලාම අපි ලියන්නේ. යම් කිසි කෙනෙක් ලියනව නම්, "ර" යන්න ලියන්නෙ. මොකද ඒක ලේසියි. රවුමක්

ඇඳල වලිගෙ දික් කරන එක විතරයි තියෙන්නේ. එහෙම නැත්නම් "ට" යන්න ලියන්නේ. රවුම හරියට ඇඳගන්න බැරි උනා නම් "ට" යන්න. ඉතින් ඒක හරි ලේසියි ළමයෙකුට කියල දෙන්න. ඊට පස්සේ "ර" යන්නයි "ට" යන්නයි එකතු කරාම "රට". රට කිව්වහම මොකක්ද අර්ථය කියල ඉස්සෙල්ලම උගන්වන්නෙ "ර" යන්න, "ට" යන්න. ඉතින් දරුවෙකුට වැලි පීල්ලෙ හරි, පොතේ හරි, ගල් ලෑල්ලෙ හරි මේක ඉගෙනගෙන, කරගෙන කරගෙන යනකොට, ඔන්න "ප" යන්න, "ය" යන්න, "ල" යන්න ආදී වශයෙන්, ඉස්පිලි පාපිලි හෙමින් එකතු කරල, ඒ වචන ක්‍රමක්‍රමයෙන් වැඩි කරල ඔහොම අන්තිම වෙනකොට තමයි "අ"' යන්න ශ්‍රී, ෂ ආදී අකුරු උගන්නන්නෙ. මේකට තමයි ආනුපුබ්බී ප්‍රතිපදාව කියල කියන්නෙ. පැයට කරන ඒවා නෙවෙයි. මේක තමයි ලෝකේ ප්‍රායෝගික ක්‍රමය.

අන්න ඒ නිසා සර්වඥයන් වහන්සේ මේ නාම රූප දෙකෙන් ඥානය ඇති වෙනවා කියල කියන්නේ නාම රූප පරිච්ඡේද ඥානයට. ඉගෙනගන්න කොට උගන්වන්නෙ රූප නාම. ඒ මොකද? ඒ මූලධර්ම පැත්තෙන් ගත්තොත් වැදගත් දේ වැදගත් තැන තියන්න ඕනෑ. නමුත් වැඩේට බහිනකොට ඒකෙ අනිත් පැත්ත, රූප නාම. මේ රූපස්කන්ධය පෙන්නනකොට උන්වහන්සේ ඉස්සල්ලාම පෙන්නන්නෙ, "ඉති රූපානි", මෙන්න රූපෙ. තෝරල දීල පෙන්නනවා, මේ රූපය කියල කිව්වට පස්සේ, මේ රූපය ගස්ගල්වලට අදාළ නෑ. ඒ මොකද ගස්ගල්වලට ඕව වෙන් කර දැනගැනීමේ විඤ්ඤාණයක් නැති නිසා. ගස්ගල් රූප තමයි. නමුත් ගස්ගල්වල භාෂාවට රූප කියල දෙයක් නෑ. අපේ භාෂාවට, ඉඩක් තියෙන ගේ දොර ගැන දැනගැනීමේ ශක්තියක් ඇති අපට, ගස් ගල් රූප, අපෙත් අත පය රූප, "**ඉති රූපං**". අර විද්‍යාඥයා කරපු දේමයි. මෙන්න රූපය. මේකේ දිග මෙහෙමයි, පළල මෙහෙමයි, වර්ණ මෙහෙමයි, සටහන් මෙහෙමයි, ආකාර මෙහෙමයි, ස්වභාව ලක්ෂණ මෙහෙමයි කියල හොඳට පෙන්නන්න පුළුවන්. මේක සඳහා සර්වඥයන් වහන්සේ කවදාකවත් කළු ලෑල්ලක්, රටහුණු කෑල්ලක් ගත්තෙ නෑ, ඔය ඇඟිලි දහයෙන් තමා පෙන්නුවේ. ඔය මුද්‍රා හස්තයෙන් පෙන්නන්නේ "ඉති රූපං". මේ "ඉති රූපං" කියන එකට

අවධානය ලක් කරගත්තට පස්සේ, ඒ රූපය විෂයේම, රූපයේම නැවත නැවත නැවත නැවත හිත යොදවනකොට රූප ලෝකයේ විවිධාකාර ස්වරූප නිසා උන්වහන්සේට සිද්ද උනා, ඒ ශ්‍රාවක පිරිසට එක කොට්ඨාසයක් අරගෙන මෙන්න රූපය කියල අවධානය කේන්ද්‍රගත කරන්න.

මෙහෙම කේන්ද්‍රගත කරනකොට ඒක විද්‍යාලෝකයෙත් දැකපු නිසා හුඟදෙනෙක් හිතනවා ඔතනදි මේ විද්‍යාවයි බුද්ධාගමයි සමානයි කියල, ඒකෙ දෝසයකුත් නෑ ඔය මිට්ටමේදි. ඒක දිහා බලනකොට ඒකට හේතු වෙච්චි කාරණා, එකම දෙයක් දිහා නැවත නැවත බලනකොට ඒකෙ ජාතකය වැටහෙන්න පටන්ගන්නවා. අපි එක පුද්ගලයෙක් ඇසුරු කරනකොට ඒ පුද්ගලයාගේ ජාතකය අපට වැටහෙන්න පටන්ගන්නවා. අහවල් තැනින් ආවේ, අම්ම තාත්තල මෙහෙමයි ආදී වශයෙන් සොයන්න පටන් අරගන්න ගතිය හිතේ එක විශේෂ විචක්ෂණ ක්‍රමයක්. ඒ නිසා යම් කිසි දෙයක් දිහා, නැවත නැවත නැවත හිත යොදවනකොට එහි විස්තර වර්තමාන වශයෙන් දකිනවට අමතරව, ඒක පිහිටල තියෙන්නේ මොකේද? මොකෙන්ද මේක පැන නැග්ගේ කියන එක දැනගැනීම මේ සිතේ ස්වභාවය. අපි ඉස්සෙල්ලාම බිත්තියක එල්ලල තියන චිත්‍රයක් දිහා බලාගෙන ඉන්නකොට, ඒ චිත්‍රය නැවත නැවත නැවත බලනකොට තමයි අපිට පේන්නේ මේක කැන්වස් එකක ඇඳල තියෙන්නේ, එහෙම නැත්නම් කොළේක ඇඳල තියෙන්නේ, එහෙම නැත්නම් මේක රාමුවක දාල මේ නූලක එල්ලලයි තියෙන්නේ කියන එක. ඒ රූපයට හේතු උනා වූ පාදක වුනා වූ දේ, අර රූපය පුරාම බැලුවට පස්සේ තමයි පේන්නේ.

ඒ වාගේම, රූපය දිහා නැවත නැවත බලනකොට විපස්සනා යෝගාවචරයාට විශේෂයෙන්ම මේ රූපයාගේ සමුදය මේකයි කියල වැටහෙන්න පටන්ගන්නවා. මේක උගන්නන්න පුළුවන් එකක් නෙවෙයි, දැකිය යුතු දෙයක්; දකින දෙයක්. ඒ වගේම සර්වඥයන් වහන්සේ විසින් ඇති කරපු යාන්ත්‍රණයකුත් නෙවෙයි. සර්වඥයන් වහන්සේ බොහෝ කාලයක් මේක දිහා බලාගෙන ඉඳලා, සෑම සිතකටම සාධාරණ මූලධර්මයක් සොයාගත්තා. යම්ම රූප ධර්මයක්

දිහා වැඩි වේලාවක් බලාගෙන ඉන්නකොට ඒ සිද්ධිය පිහිටා තියන දේ පේනවා. "**ඉති රූපස්ස සමුදයො**" අන්න ඒකට අපි කියනවා, සමුදය. රූපය හටගන්න තැන. එතකොට මේ රූපය කියල ගන්නකොට සාමාන්‍යයෙන් බණ ධර්ම පිළිබඳව වැඩිපුර දන්නෙ නැති කෙනාගේ ඇහැට ගැටෙන දේ තමයි රූපය. නමුත් අපි මෙතෙන්දි පැහැදිලි කරගන්න ඕනෑ ඇහැට ගැටෙන රූපය, වර්ණ රූපය කියල අපි අනෙකුත් රූපවලින් වෙන් කරල දක්වනවා. ඒ මොකද කනට ගැටෙන ශබ්දෙත් රූපයක්. ඒක නිසා ඇහැට ගැටෙන එක වර්ණ රූපය කියනවා, කනට ගැටෙන එක ශබ්ද රූපය කියනවා. දැන් මෙතන දේශනාවක් ඇහෙනවා. එතකොට ඒ අහගෙන ඉන්න හැම කෙනාගෙම කනට ඒ ශබ්ද තරංග වැදිච්ච නිසා, මම බණ අහන්නා, මම ශ්‍රාවකයා වශයෙන් දැනීමක් ඇති වෙනවා. එතනත් රූපම තමයි; ශබ්ද රූප. ඊගාවට සතෙක් කුණු වෙච්චහම එන ගඳක්, නැත්නම් බුදුගෙට ගියාම එන සඳුන් සුවඳක්, මේකට කියනවා ගන්ධ රූපය කියලා. නැති තැන එන්නෙ නෑ. නාසය නැති තැන වැඩ කරන්නෙත් නෑ. අනිත් එක ඒ ගන්ධ රූපය ඇහැට වැඩ කරන්නෙත් නෑ, නාසයටයි වැඩ කරන්නෙ. ඊගාවට දිවට රස. රස වැටහෙන්නෙ කෙළවලින් අමතරව වෙන දෙයක් දිවට වැටිච්චහම තමා. ඒක නාසයට ගත්තොත් හරි යන්නෙ නැහැ. ඇහැට ගත්තොත් හරි යන්නෙ නැහැ. එතකොට ඒක රස රූපය. ඊගාවට කයට සමීප පහස, හැපීම. ඒකට පොට්ඨබ්බ රූපය කියනවා.

මේ විදිහට මේ ඇහැ, කන, දිව, නාසය, කය - ඉතින් මේ දේවල්වලට අදාළ එක එක රූප ජාති තියෙනවා. මේවා ඔක්කොටම තමයි මේ සතිපට්ඨානයේදී "**ඉති රූපං**" කියල කියන්නේ. ඒක නිසා එහෙම කිව්වම ගොඩක්. රූප කිව්වම ගොඩක්. අපි බලමු පුටුවක් දිහා බලනකොට ඒක ඇහැට හැඩය පේනවා - වර්ණ රූපය. කයට ඒකේ හයිය ගතිය පේනවා. නහය තියලා බැලුවොත් ඒක හදල තියෙන ලීයේ හෝ ගාලා තියෙන වාර්නිෂ් ජාතිවල සුවඳ වැටහෙනවා. තොල් ගෑවිල බැලුවොත් එහෙම, දිව ගෑවිල බැලුවොත් එහෙම ඒ ලීයේ රසක් තියෙන්න පුළුවන්. මෙන්න මේ විදිහට එකම රූපයේ, මෙතන රූපයේ කිව්වහම මම නැවතත් සමාව ඉල්ලා හිටිනවා

අවස්ථානුකූලව තේරුම්ගන්නයි කියලා, පුටුව කියන රූපයේ වර්ණ රූපය තියෙනවා, ඒකෙන් නිපදවන ශබ්දයක් තියෙනවා, ගඳක් තියෙනවා, රසක් තියෙනවා, පහසක් තියෙනවා.

මේක පිළිබඳව වැඩිපුර කියනව නම්, ඔන්න ඔය පහෙන් එකයි එක වෙලාවකට අපි අත්දකින්නෙ. නමුත් අපි ඉතුරු පහම හිතෙන් ඒකට ආරෝපණය කරලා පුටුවක් හිතෙන් හදගන්නවා. පුටුවෙ සටහන් දකිනකොටම පුටුව කියන සංඥව අපි ගන්නවා කියල කියන්නේ සටහනේ වැටහෙන්නේ ඇඳිච්ච රූපයක්. එතකොට අපි අනිත් පස්දෙනා වාගේ, කනෙන් නහයෙනුත් බැලුවා වාගේ, රූපයට පණ දීලා මේක පුටුවක් කියලා කරගැනීම හරි ලොකු මායාවක් අපේ හිතේ සිද්ධ වෙන. මෙතන ඒක නෙවෙයි මේ අදහස් කරන්නේ. ධර්ම දේශනාවකදී අපි මෙතනදී පුටුවක් ඇඳගන්න යන්නේ, රූපය කිව්වහම ගොඩක්. මේකෙ තවත් පටලැවෙන්නෙ, මේක තවත් සංකීර්ණ වෙන්නෙ මේ රූපය පිළිබඳව එක පුද්ගලයෙකුට අතීත ස්මරණයෙදි එකක් තියනවා. මේ වර්තමානයේ ඇස්පනාපිට දකින එකක් තියෙනවා. මත්තට වෙන්න පුළුවන් කියලා විශ්වාසයක් තියෙනවා. ඒ නිසා කාලයත් එක්ක බලනකොට මේ රූපය තුන් ආකාරයි. අතීත රූප, වර්තමාන රූප, අනාගත රූප. ඒ වාගේම අපි පුටුවක් අරගත්තම, ඒ පුටුව පවතින ස්වභාවය ඕළාරිකයි, ගොරෝසුයි. ඕනෑ තැනක දිග පළල මනින්න පුළුවන්. පුටුවෙ වැටිල තියන හෙවනැල්ල අරගත්තොත් හෙම හොඳට පේන දෙයක් තමයි, ඒක බොහෝම සූක්ෂ්මයි. ඒ නිසා මේ රූපයට තියනවා ඉතාම ඕළාරික ස්වරූපයක් සහ සූක්ෂ්ම ස්වරූපයක්.

ඒ වාගේම එක් කෙනෙක්ගෙ ඇඟක් ගත්තොත් හෙම, ඇතුළ පිළිබඳව සහ පිට පිළිබඳව, තමන්ගේ කෙස් හා අනුන්ගේ කෙස් ආදී වශයෙන් අපි තුළ, අපි බදගත්ත කොටසක් තියෙනවා මේ ජීවිතයේ, මගේ කියලා කොටසක්. එහෙම නැත්නම් සිංහල බෞද්ධයා කියාගත්තහම එක කොට්ඨාසයක්, අනෙකුත් ඇත්තන්ගේ එක කොටසක් කියලා එක එක්කෙනාගේ රුචි අරුචි අනුව, මරියාදවල් අනුව අපි සීමාවල් ඇතුළත බාහිර වශයෙන් බෙදගත්ත බැම්මකුත් තියෙනවා. ඕකත් හොල්මන් කරනවා සමහර වෙලාවලදී. ඒ වාගේම

ඈත තියන රූප, ළඟ තියෙන රූප කියල ජාතියක් තියෙනවා. ආයේ තියෙනවා සර්වඥයන් වහන්සේ දකපු හොඳ ප්‍රණීත රූප තියෙනවා, නොදකින් නොපතන් කියලා කියන හීන රූප තියෙනවා.

මෙන්න මේ විදිහට රූපය එකොළොස් ආකාරයකින් අපිව බැඳලා. අර කියන විදිහට වර්ණ රූප, ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, පොට්ඨබ්බ රූප කියලා එක පැත්තක්. ඊගාවට අතීත, අනාගත, පච්චුප්පන්න, අජ්ඣත්ත, බහිද්ධා, දූර, සන්තික, හීන, ප්‍රණීත, ඕළාරික, සුඛුම ආදී වශයෙන් එකොළොස් ආකාරයි. මෙන්න මේ විධිය නිසා බලනකොට මේ එකම රූපය මුළු ජීවිතය පුරාම අපි බැඳගන්න පුළුවන් වෙන්නේ, මේක ගොඩක් නිසා. මේ ගොඩ ඔක්කොම සංකල්ප රාශියකින් හැදිච්ච දෙයක්. ඒ නිසා මේකට රූපස්කන්ධය කියනවා. නිකන් කන්දක්. එක එක පැතිවලින් බලනකොට එක එක ආකාර පේනවා. ඒක නිසා දෙන්නෙක් එකම දිහා බලල දෙකක් කියනවා. ඒ මොකද, දෙන්නම දකල නෑ. රූපය දකපු එක්කෙනා ශබ්දය අහල නෑ. ශබ්දය අහපු එක්කෙනා ගඳ බලල නෑ. ගඳ බලපු එක්කෙනා රස බලල නෑ. රස බලපු එක්කෙනා පහස බලල නෑ. මෙහෙම බලනකොට අතීත වශයෙන් දකපු එක්කෙනා වර්තමානව දකින්නෙ නෑ. වර්තමානව දකින එක්කෙනා අනාගත වශයෙන් දකින්නෙ නෑ.

මේ ඔක්කෝම එකයි එක වෙලාවකට හොල්මන් කරන්නේ. ඒ හොල්මන අල්ලගෙන තමයි අපි ඉතුරු ටික ලේ මස් පුරවලා සංකල්ප ඇති කරගෙන, මේ සංකල්පවලින් තමයි කතා කරන්නේ. මෙතන හරි හොල්මනක් තියෙන්නේ. අපි අදහස් කරන, කල්පනා කරන, කියන දේ එකක්. වටහාගන්න දේ එකක්. ඒ පුද්ගලයා ඒක මත ඉඳගෙන නැවතත් ප්‍රශ්නයක් ඇහුවොත් උත්තර දෙන්න හදනකොට තවත් ප්‍රශ්නයක්. මෙන්න මෙහෙම ප්‍රශ්න ඇති ලෝකයක්. නමුත් පරමාර්ථ වශයෙනුත් එහෙම දෙයක් නැතුවමත් නෙමේ. ඉතින් ඒ ප්‍රශ්න ඇත්තන්ට සර්වඥයන් වහන්සේ පෙන්වල දෙන්නෙ එකොළොස් ආකාරයකට. එහෙම නැත්නම් වර්ණ රූප, වර්ණ, ශබ්ද, ගන්ධ, රස වශයෙන්. එහෙම විවිධ ආකාරයට සෑම දෙයක්ම පිළිබඳව එක දෙයක් බලන හැම වෙලාවෙම, එයින් එකක් අපට ප්‍රකට වෙනවා.

අපිට පුළුවන් වෙන්නෙ අන්න එතැනින් බැසගන්න. ඕනෑම දෙයක් දිහා බලනකොට වර්ණය හෝ සටහන හෝ ස්වාභාවික ලක්ෂණ වැටහෙයි. එක්කෝ රූපයක් ඇහැට, ශබ්දයක් කනට ආදී වශයෙන් එක විදිහකින් අපි සම්බන්ධ වෙයි. එක්කෝ අතීත දෙයක් හිතමින් ඉන්නව වෙන්න පුළුවන්. අනාගතය කල්පනා කරමින් වෙන්න පුළුවන්. වර්තමානය අත්දකිනවා වෙන්න පුළුවන්. නැත්නම් දැක්කා හොඳයි කියල හිතන්න පුළුවන්. නැත්නම් නොදකින් නොපතන් කියල හිතන්න පුළුවන්. මේක ගොරෝසුය කියල හිතන්න පුළුවන්, මේක සියුම් කියල හිතන්න පුළුවන්. විවිධාකාරයි.

මේ එකම රූපෙකින් අපිට මේ කරන්න පුළුවන්, ඇති කරවන්න පුළුවන් සංඥා රාශිය නිසා, මේකට රූපස්කන්ධ කියලයි කියන්නේ. කන්දක්. ගොඩක්. ඒක නිසා එකම දෙයක් තුළ එක එක වෙලාවට එක එක ජාති. දෙන්නෙක් බැලුවොත් ජාති දෙකක්. ඒ වාගෙම අපි සතුටින් සන්තෝසෙන් ඉන්න වෙලාවක එකක්. කනස්සලුව කනගාටුවෙන් ඉන්න වෙලාවක එකක්. මේ විදිහට එකම රූපයක් විෂයේ විවිධාකාර ප්‍රක්ෂේපණ ඇති කරන ගතියක් තියෙනවා. ඒ නිසා රූපය තමයි, අපි සාමාන්‍යයෙන් රූපය වශයෙන් ගත්තොත් ඇහැට පේන රූපය තමයි, මම හිතන්නේ වැඩියෙන්ම මත් කරන්නේ. ඇහැ නැති වුණා වගේ කියල අපි කනගාටු වෙන්නෙ ඒකයි. ඇහැ නැති වෙච්චි දවසට මොනම දෙයක් තිබුණත් ඇති වැඩක් ඇත්තේ නෑ. අපි දවසේ හුඟ වෙලාවක් ආලෝකයට කැමති ඒකයි. ඇහැ ඇරගෙන ඉන්න කැමති ඒකයි. මේකට තමා අපි ගොඩාක් හම්බ කරන දේවල් වියදම් කරන්නේ. මේකට තමා අපි ගොඩාක් කුපිත වෙලා තියෙන්නේ. එහෙම නැත්නම් අපි ගොඩක් නින්දට බර සත්තු ජාතියක් වෙන්න ඉඩ තියනවා. මේ නිසා වර්ණ රූපය ගොඩාක් අපිව මත් කරල තියෙනවා. ආන්න ඒ වර්ණ රූපය තමයි, සංසාරෙට බැඳගැනීමේ ප්‍රධානම චක්ඛු ඉන්ද්‍රිය ඇති කරන්න හේතු වෙන්නේ. ඉතින් මේවට ගොඩක් වෙලාවට අපි බැඳිල තියෙනවා.

රූපය, රූපය වශයෙන් දැකගන්ට නම්, අපි කෙටි වශයෙන් හෝ දළ වශයෙන් හෝ බුදුරජාණන් වහන්සේ රූපය විෂයෙහි දක්වා

ඇති මේ මායා රූප, මායා ආකාර පිළිබඳ අහල තියෙන්න ඕනෑ. අපි තේරුම්ගන්න ඕනෑ, රූපය දැක්කයි කියලා අපි කිව්වත් එක සැරයක් දැක්කට මේ ඔක්කොම විනිවිද දකින්න බෑ. එකම නැවත නැවතත් බලමින්, මේකේ අතීත අනාගත පච්චුප්පන්න වශයෙන් විවිධ හොල්මන් තියෙන්න පුළුවන්. හීන, ප්‍රණීත වශයෙන්, දූර සන්තික වශයෙන්, අජ්ඣත්ත බහිද්ධා වශයෙන් විවිධ රූප තියෙන්න පුළුවන්. මේ සෑම දෙයක්ම දැක්කොත් විතරක් අපිට කියන්න පුළුවන් "ආ රූපය දැක්කා". එහෙම දැක්කට කියන්න දේකුත් නෑ. දැක්කෙ නැති ඇත්තො කොහොමද මේක මේ කියන්න හදන්නේ? එතකොට බාගෙට දැක්ක ඇත්තන්ට සිලිලාරේ ඉවර කරගන්න බැරි තරම් දේවල් තියනවා. සම්පූර්ණ රූපය දැකපු එක්කෙනාට කියාගන්න දෙයක් නැතුව යනවා. අන්න එතකොටයි "**ඉති රූපං**" කියල කියන්න පුළුවන්.

ඊට පස්සේ ඒ හිත පැහැදිලිවම තේරුම්ගන්න දෙයක් තමයි, මේ රූපය පිහිටලා තියෙන්නේ, නැතිනම් මේ රූපය පදනම් වෙලා තියෙන්නේ මොකක් මතද? "**ඉති රූපස්ස සමුදයො**". මේ රූපය හැදිලා තියෙන්නේ සතර මහා භූතයන්ගෙන්. පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන සතර මහා ධාතූන්ගෙන්. මේක බුද්ධ කාලයට ඉස්සර ඉඳලාම දන්න කාරණාවක්. ඒක දැනගන්න නම් ඉස්සෙල්ලාම රූපය වශයෙන් ප්‍රත්‍යක්ෂ වශයෙන් ගත්තු ඒ පුද්ගලයා ඒ ධර්මය, වායෝ පොට්ඨබ්බ රූපය, නැවත නැවතත්, දසදහස් වාරයක් ලක්ෂ වාරයක් කෝටි වාරයක් දකිමින් ඒ විෂයෙහි, රූපයේ දැක්කෙ නැති ආකාරයක්, දැක්කෙ නැති සටහනක්, දැක්කෙ නැති පැතිකඩක් නෑ කියන තරමටම ඒක දකින්න අරින්න. ඒක දැකපු දවසට යෝගාවචරයාගේ ආනාපානය ගැන කතාව නතර වෙනවා. තාම නොදැකපු පැති තියෙන තාක් කල් තමයි යෝගාවචරයා කෝල ගති පාන්නේ. කෝල ගති කර්මාන්තයට භාවනාවට අදක්ෂකම් පානවා. ඒ නිසා භාවනා යෝගාවචරයෝ වශයෙන් අපි තේරුම් අරගන්න ඕනෑ, ආනාපානය දැක්කයි කියල කියන්න නම්, මේ දැකපු ටික ටිකයි, තව ගොඩාක් මේකේ පැත්ත බලන්න තියෙනවා කියල සෑම ආනාපානයක්ම අලුතෙන් භාවනා කරන්න පටන්ගත්ත කෙනෙක් බලන්නා වාගේ දිගට බලන්න ඕනෑ. පිම්බීම හැකිළීම බලන්න ගියත්, කොච්චර

දැක්කත් කොච්චර ආකාර තිබුණත් එකකටවත් පිම්බීම හැකිළීම දැක්කා කියල කියන්න බෑ. මොකද ඒ හා සමාන ප්‍රදේශයක් තව තියෙන්න පුළුවන්. සාමාන්‍ය ලෝක ව්‍යවහාරයෙන් කියනව නම්, මේක ඇතුළේ මුළු ලෝකෙම තියෙනවා. මුළු ලෝකෙම ආනාපානයෙන් දකිනවා. මුළු ලෝකෙම පිම්බීම, හැකිළීම තුළින් දකින්න ඕනෑ. අර ටිකක් දැකපු ඇත්තො තමයි කලබල වෙන්නේ. ඒක පිළිබඳව කුපිත වෙන්නෙ. ඒක ගැන තලතුනා වෙන්න වෙන්න දැකපු සේරම දැක්කයි කියල කනගාටු වෙන්නෙත් නෑ, අලුතෙන් බලන්න ඕනෑයි කියන කුතුහල ගතිය පාවා දෙන්නෙත් නෑ. නමුත් ඒක ඇති හැටියෙන් තියාගන්න පුළුවන් තත්ත්වයකට මෝරන්න පටන්ගන්නවා. එතකොට "**ඉති රූපං,**" මෙන්න රූපය.

ආන්න ඒ විදියට බලනකොට, අර බොර වතුර එක භාජනයක දල තිබ්බහම මණ්ඩි ටික අඩියට තැන්පත් වෙනව වගේ, කාලයක් ඒක දිහාම නිසොල්මනේ සමාධියෙන් යුක්තව සතියෙන් යුක්තව බලාගන ඉන්න කොට, එක පාරම අඩිය පේන්න පටන්ගන්නවා. එතකොට හොඳටෝම තේරෙනවා මේ රූප කියන, රුප්පනය වෙන, වෙනස් වෙන, විනාශයට පත් වෙන දේවල් හැදිලා තියෙන්නේ පඨවි, ආපෝ, තේජෝ, වායෝවලින් කියලා. සමහර ආචාර්යයවරු මේ "**ඉති සමුදයො**", ඔන්න අපි සමුදයෝ කියනකොට පෙන්වනවා, මේ රූපයන්ගෙන් තමයි සංසාරෙත් හැදිලා තියෙන්නෙ කියල කියන්නෙ. රූප නැත්නම් කවදාකවත් සංසාරයක් ඉතුරු වෙන්නෙත් නෑ. ඔය රූප පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන හතරෙන් ඇති වෙලා, අතීත රූප අනාගත වර්තමාන, හොඳ නරක ආදී වශයෙන් වෙනකොට, ඒ රූපය පදනම් කරගෙන ලෝකයක් හැදෙනවා. ඔන්න හුඟාක් භාවනා කරගෙන යනකොට නම් තේරෙනවා, අපි රූපය දිහා බලන හැටියට රූපය වෙනස් වෙනවා. අපිට පේන්නෙ රූපෙ වෙනස් වෙනව වාගේ. නමුත් බලාගන ඉන්නකොට රූපෙ නම් එදත් රූපෙමයි, අදත් රූපෙමයි. කන්න ඕනෑ වෙනකොට කබරගොයා තලගොයා විදිහට පේනවා. මේ අපේ ඇතුළත තියන තෘෂ්ණාවේ ස්වභාවය.

මෙන්න මේ විදිහට ඇතුළට යනකොට තමයි මේ රූපයාගෙන් වෙදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ භාවයන් පිළිබඳව

අවබෝධයක් ගන්න පුළුවන් වෙන්නේ. කොහොම නමුත් මේ අවස්ථාවේදී අවශ්‍ය කරන්නේ මෙන්න රූපය. ඒක දිහාම බලාගෙන ඉන්නකොට ඒ රූපයාගේ සමුදය. ඒක අහේතුකව පැන නැගුණා නෙවෙයි. ඒකට හේතු තියෙනවා. ඒ හේතු අපිට විනිශ්චය කරන්න බෑ. ඒක න්‍යාය ධර්මයක් විදියට යන්නේ. එතැනදී අපිට කරන්න පුළුවන් එකම දෙයයි - දකින එක විතරයි. අපිට මේකේ පදනම වෙනස් කරලා, එකක් දෙකක් අඩු වැඩි කරලා හදන්න පුළුවන් තත්ත්වයක් නෑ. නොදැමුණ හිතේ අවිද්‍යාව දැනගන්න පුළුවන් තත්ත්වය පවතින්නේ මනුස්සයාට පමණයි. ඒක තියෙන්නෙත් වර්තමාන මොහොතේ පමණයි.ආන්න ඒ වෙලාවෙදි ඒක දැක්ක නම්, රූප පිළිබඳව අපි හිතාගෙන හිටපු මවාගෙන හිටපු දේවල් ටිකෙන් ටික ටිකෙන් ටික දිය වෙලා, රූපයේ ඇති හැටිය, රූපයට පදනම් වෙන දේවල්වල ඇති හැටිය, දැකීම ටික ටික ටික ටික ටික පටන්ගන්නවා. යෝගාවචරයා මේව වාර්තා කරනකොට වාර්තා කරන්නෙ මෙහෙම දෙයක් දැක්කා, නොදැක්ක දෙයක් දැක්කා, නොදැක්ක ආකාරයට දැක්කා. ඒ මොකද මේ රූපයාගේ ඇත්ත තත්ත්වය අපිට ආගන්තුක වශයෙන් පේන්නේ. මේ විකාර කරනවා දැකපු දේ, අවිද්‍යාව වැඩ කරල දැකපු දේ ගෙදර වාගෙ. මොකද අනිත් මිනිස්සුත් ඉන්නෙ මේ අවිද්‍යාවට යට වෙලා නිසා, ප්‍රඥප්තියටයි යොමු කරල දක්වන්නේ.

පරමාර්ථ ධර්ම මතු වෙනකොට අපිට පේන්නේ වැරදිලාදෝ පැටලිලාදෝ කියන කාරණාව. නමුත් මේ නිසාම නැවත වරක්, දසදහස්වර එකම කරගෙන කරගෙන කරගෙන යනකොට, අර ප්‍රඥප්ති ධර්මවල තියන මායාකාරී ස්වරූපය මායාකාරී ස්වරූපයක් වශයෙන් දකිනකොට, පරමාර්ථ ධර්ම ටිකෙන් ටික ටිකෙන් ටික, රූපයේ ඇති හැටිය ටිකෙන් ටික ටිකෙන් ටික, රූපයාට හේතු වෙන ධර්ම ටිකෙන් ටික ටිකෙන් ටික මතු වෙන්න පටන්ගන්නවා. පටන් අරගැනීමේදී දැකීමෙන්ම මේ රූපය විසින් අපව මායා කරන ගතිය එන්න එන්න එන්න දුරුවන් වෙන්න, දුර්වර්ණ වෙන්න පටන්ගන්නවා. හරියට දකිනව නම්, අපි කියනව එකම මැජික් එක හැමදම බැලුවොත් ඒකෙ මැජික් එකක් නැතුව යනවා. ඉස්සර නම්

කට ඇරගෙන බලනවා. මේ මනුස්සයා ඇත්තටම මායාකාරයෙක්, මේ මැවුම්කාරයෙක් වගේ පේන්නේ. පහු වෙනකොට මායාකාරයෙක්. මේ යකා මෙච්චර කල් අපිව රැවට්ටුව නේ කියලා අන්තිමට හිතෙන්නේ එහෙම. අන්න ඒ වගේ තමා රූපය පිළිබඳව නැවත නැවතත් එහෙම බලාගන ඉන්නකොට, ඒ පුද්ගලයට පේනවා මේ රූපය පිළිබඳව කුතුහල දනවන ආසාවකින් මේක මට වේවා කියල ප්‍රේම කිරීමේ සිතකින් බැලුවොත් රූපය අපිව මත් කරවනවා. රූපය අපිව වට්ටලා දනවා. රූපය අපිව යට කරගෙන යනවා. මෙහෙම යට වෙන්න අත්හැරියට කමක් නෑ. නැවත නැවතත් මම රූපයේ ස්වරූපය බලනවා කියල, පිම්බීම හැකිළීම හෝ ආනාපානය හෝ මේකම බලාගන ඉන්නවා. දිගින් දිගට දිගින් දිගට අලුත් සිතකින් බලාගන ඉන්නව නම් තමන්ට තේරෙන්න පටන් අරගන්නවා, මේකෙ මායාකාරී ස්වරූපය පවතින්නේ අපි ඒක උතුම් කරල සලකන තාක් කල් පමණයි. වටිනා දෙයක් විදිහට සලකන තාක් කල් තමයි. ඒක හිස් දෙයක්. කෝම්බයක්. ගන්න ඇති දෙයක් නොවෙයි. මෙයාට තියෙන්නේ ඔච්චරමයි කරන්න පුළුවන් දේ. මට තියෙන්නේ ඕක බලාගන ඉන්න එකයි කියලා, ඒ රූපයාගේ රංගනය රැගෙන්න ඇරලා ඒක දිහාම බලා ඉන්නකොට ඒකෙ දුර්වර්ණ ගති, එපා වෙන ගති, ඒකාකාර ගති, බය ගති, අසරණ ගති පහළ වෙනවා.

එතකොටත් යෝගාවචරයාට භාවනාව එපා වෙනවා. මොකද, ඒ විස්තර හොඳට පේනකොට මේ රූපවල තියෙන වර්ණනාත්මක ගතිය, ආසන්න උත්සන්න ගති නැති නිසා යෝගාවචරයා නින්දට වැටෙනවා. දැන් මොනවත් කරන්න බෑ. භාවනාව හරි පාළුයි, මේ ගුරුවරයා හරි නෑ, ඒ භාවනා මධ්‍යස්ථානයේ කෑම හරි නෑ, ඒ ඍතුව හරි නෑ. ඉතින් නානා ප්‍රකාරව අර රූපයාගේ දුර්වර්ණ භාවය එනකොට එහි ඇත්තා වූ රස වින්දන ශක්තිය ක්‍රමයෙන් අඩු වී ගෙන යනකොට අර හිත ඒක පිළිබඳව කියන්නේ මොකක්ද? "මොකක් හරි පටලැවිලා". "දෙවේලේ දකින කුකුළාගේ කරමලා, මෙවේලේ පෙනේ සක සේම සුදු වෙලා". මොකද, දෙවේලේ දැකීමයි හේතුව. මෙන්න මේ විදිහට රූපය දිහා නිතරෝම බලා ඉන්නකොට, ඒ සමුදයත් සහිතව, ඒ රූපයාට ඇවිල්ලා අපිව මායා කරන්න පුළුවන් ගතිය අඩු

වෙන්න පටන් අරගන්නකොට, මෙන්න මේකයි ධර්මය, මේ තමයි ධර්මය දිගඇරෙන හැටි, මං මේක ඒ තාලෙන්ම දකින්න ඕනෑ කියලා බුදු බණ අහමින්, භාවනා කරල, නිබ්බිද ඥාණ පහළ වෙච්ච ඇත්තොත් එක්ක සාකච්ඡා කරමින්, ඒ භාවනාව ඒ ගුරුවරයාත් එක්කම එතනම දිගට කරන ඇත්තො ගත්තොත් අද ලක්ෂෙකට කෙනෙක් නෑ.

හුඟදෙනෙකුට ඕනෑ වෙන්නේ මැජික් බලන්න. අහසින් යන්න. පොළොවේ කිමිදෙන්න. භාවනා කරලා අනිත් අයට ඍද්ධිවිධ පාන්න. ඉතින් ඒ ඇත්තන්ට ඍද්ධිවිධ තියා, අර වෙනද දකින ආහාර ටිකවත් එපා වෙනවා. වෙනද දකින රූපවල, පිම්බීම හැකිළීමෙන් ආනාපානයෙන් අර විවර්ණ ගතිය විචිත්‍ර ගතිය නැති වෙනකොට ඒකෙන් මහා ලොකු පටලැවිල්ලක්, පැරදිල්ලක්, පසුබෑමක් ඇති වෙනවා. ඒක නිසා නිවන පිණිස භාවනා කරගෙන යනව නම්, ලාභ සත්කාර පැත්තකට දලා ඒ යෝගාවචරයාට මේ බණෙන් ලොකු ගැම්මක් එනවා. ලොකු වටිනාකමක් තියෙනවා. මේවා අහල තිබුණොත්, ඒ විදිහෙ විවර්ණ භාවයට පත් වෙනකොට තමන් ආපු පාර හරි නම්, සති සමාධි ස්ථිරව පැවතුණා නම් ඒ රූපයාගේ ඇති නැතිකමයි දැන් පේන්නේ කියලා අත්ථංගමයක් ඇති වෙනවා. ඒ රූපයන් පිළිබඳව සැලසුම් කරන ගතියක්, මේ කොටස මගේ අර කොටස උඹේ කියලා පිල් බෙදන ගතියක් නැතිව යනවා. මේ රූපේ හැටි. මම ඉපදෙන්න ඉස්සෙල්ලත් ඕක ඔහොමමයි, නැති වුණයින් පස්සෙත් ඕක ඔහොමමයි. ඒක නිසා ඕක පිළිබඳව වැටකඩොලු බැඳගෙන, මේක මගේ කොටස අරක උඹේ කොටස කියල රණ්ඩු කරන්න දෙයක් නෑ. ඒ රණ්ඩු කිරීමම අර අපි කලින් මතක් කරගත්ත හතර මහ හිනාවෙන් එකක්. මහ පොළව හිනා වෙනවලු, ලෝකයා මේ වැටකඩොලු බැඳගෙන දෙපා වේලි මැදි කරගෙන ඉඩම් නඩු කියනකොට. අනේ! මෙහෙම තකතිරු ජාතියක්. කොච්චර බිම වැටිලා මේ පොළොවෙම මැරිල තියනවද? කොච්චර දුන්නත් මේක කොහොමවත් ඇති වෙන්නේ නෑ. කවුරු හරි ගත්තොත් මරාගන්නවා. මහ පොළවට හිනා යනවා. ආන්න ඒ වගේ පඨවි ධාතුව එක වෙලාවකට හිනා වෙනවා ඇති, මේ යෝගාවචරයා

වෙලාවක යම් කිසි පඨවි ධාතුවක් නැතුව අඬනවා. සමහර වෙලාවට පඨවි ධාතුව නිස්සරණ වෙනකොට නීරස වෙනකොට ඒත් අඬනවා. එතකොට පඨවි ධාතුවට හිනා යනවා.

නමුත් ඒ හිනාව පහු වෙනකොට යෝගාවචරයට තමන්ගේම කරන්න පුළුවන්. අනේ මං ඒ කාලේ මේ වගේ මේ විදිහට සැලසුම් කළා නේ, ඒ උනාට දැන් බලාගෙන ගියාම ඒ සැලසුම් කළත් වැඩක් වෙන්නේ නෑ. මං ඒ වගේමයි. ඒක ඒ හැටියට බලන්න නම් සැලසුම් කිරීම, ඒකට මත් වීම, ඒ මායාව දුරු කරන්න ඕනෑ. ඒක දුරු කරන්න නම් එකම එක ක්‍රමයයි තියෙන්නේ. ඒ රූපය දිහාම දිගින් දිගටම බලන්න ඕනෑ. හැබැයි ඒ අතරමැදදී ඒ රූපයේ මායාවට රැවටෙනවා කියන එක කාටත් සමාව දිය යුතු වැරැද්දක්. සර්වඥයන් වහන්සේ අවසාන භවයේ පවා හය අවුරුද්දක් දුෂ්කර ක්‍රියා කළා සම්පූර්ණයෙන්ම වැරදි මාර්ගයේ. නමුත් ඒක උන්වහන්සේට ආධාරයක් වුණා. උන්වහන්සේ දේශනා කරනවා, ඔය ඇත්තෝ මං වාගේ තමන්ගේ අවබෝධය පිණිස මං කරපු මෝඩකම් කරන්න ඕනෑ නෑ, හැබැයි මං කළේ මෙහෙමයි. හොඳට තේරිලා තියෙනවා. ඒ වගේ තමයි සර්වඥයන් වහන්සේ කොච්චර එහෙම කියලා තිබ්බත් යෝගාවචරයා සෑහෙන මැටි ප්‍රමාණයක් කනව, රාත්තල් ගාන දන්නෙ නෑ. විපස්සනාව කියන්නෙ, දැනගන්නවා මැටි කනකොට තුඹසත් කාල, මෙන්න මෙතුවක් අත් හැරිලා. මං මෙච්චර දැන් කාල තියෙනවා කියල දැනගන්නවා. එතකොට හිනා යනවා. අනේ ඉතින් මේක යාළුවෙකුට කොහොම කියලා දෙන්නද? කොහොම මේක දෙමව්පියන්ට කියල දෙන්නද? ඒක ලේසි නෑ. ඒ මොකද ඒ ඇත්තො කැමති නෑ කාපු මැටි ගාන දැනගන්න.

ඔන්න ඔය පිළිබඳව මේ විස්තරය පුදුමාකාර විදිහට පුද්ගලයෙකුගේ ජීවිතය සකස් කරනවා. නමුත් ඒ සඳහා ස්වයං විවේචනයක් අවශ්‍යයි. ඒ ස්වයං විවේචනය තිබෙන කෙනා එකම රූප ධර්මය දිහා නැවත නැවතත් නැවත නැවතත් යොදවන්න ඕනෑ. ඒ යොදවනකොට ඉස්සෙල්ලාම පටන්ගන්නකොට හැමදම - **ඉති රූපං.** මෙන්න පිම්බීම හැකිළීම, නැත්නම් මෙන්න ආනාපානය කියල බොහෝම ජයට පෙන්නනවා. ඔන්න ටිකක් වෙලා යනකොට පිම්බීම

හැකිළීම, ආනාපනයට හේතු වෙන්නා වූ ධර්මත් එක්ක පසුබිමක් තියාගෙන පෙන්වනවා. එතකොට අර පිම්බීම හැකිළීම එච්චරම ප්‍රකට නෑ, අනෙකුත් ධර්ම එක්ක සම සම වෙනවා. ටික වෙලාවක් යනකොට ඕං පිම්බීම හැකිළීම නෑ. ලෝකයක් පිම්බීම හැකිළීම නිරර්ථක වෙලා. නිර්වින්දනයකට පත් වෙලා. මේක විපස්සනා කරන රූපයක් වේවා, ශබ්දයක් වේවා, ගන්ධයක් වේවා, රසයක් වේවා සෑම දේකටම තියෙනවා. දකින අවස්ථාවේ අහන අවස්ථාවේදී හැම දේකම. නමුත් සර්වඥයන් වහන්සේ මේ දේට ටිකක් කලින් පෙන්නන්නේ කාලයක් සම්බන්ධ වෙන උප්පත්තියක් සම්බන්ධ වෙන **පොට්ඨබ්බ** ධාතුව. මොකද ඒක ඉතාම ලේසියි දකගන්න. නමුත් මේ දේ පමණක් දැනගැනීමෙන් නිවන් දකින්න බෑ. මෙතනින් යෝගාවචරයා කයට පහසක් ලැබෙනවා වින්දනයක් විඳින වෙලාවෙදී, ආශ්වාස ප්‍රශ්වාස කරන වෙලාවෙදී. ඒ වගේම තමයි වර්ණ රූපයක් ඇවිල්ලා ඇහේ ගැටෙන වෙලාවෙදිත් තියනවා. බණ අහන අවස්ථාවලදී ශබ්ද රූපයක් ඇවිල්ල කනේ ගැටෙන වෙලාවෙදි, දිවේ රසයක් ගැටෙන වෙලාවෙදි, නාසයට ගඳ සුවඳ වදින වෙලාවෙදි සෑම වෙලාවෙදිම, අර ආශ්වාස ප්‍රාශ්වාසයෙන් පිම්බීම හැකිළීමෙන් ගන්න ඒ දර්ශනය ඒ දැක්ම ඇති කරගන්නව නම්, කනෙන් ආවත් නාසයෙන් ආවත් දිවෙන් ආවත් රසෙන් ආවත් කොහෙන් ආවත් ඒකට කරන්න පුළුවන් වෙන්නෙ කුප්පන එක විතරයි. මහා කුප්පයෝ.

අපේ තියෙන කුප්පකම තමයි මේවට කිපෙන බව. පඨවි, ආපො, තෙජෝ, වායො කියන අවිඤ්ඤාණක වස්තුවලටත් අපේ කිපෙන ගතිය තියෙනවා. නමුත් එව්වා අපිට නඩු දන්නෙ විහිළු කරන්නෙ නැති නිසා අපට ගොඩාක් කල් ඒවත් එක්ක පරීක්ෂණ කරන්න පුළුවන්. එහෙම කරගෙන යනකොට නම් අපිට පුළුවන් වෙනව ඒ රූපවලට එහා ගිය අනෙකුත් ධර්ම ඇවිල්ල අපට කුප්පලා අපිට විහිළු කරන හැටි ගැඹුරින් බලන්න. ඒ නිසා ඉස්සෙල්ලාම සටන ගෙනියන්නේ නාම ධර්ම සම්පූර්ණයෙන් අයින් කරලා රූප ධර්මත් එක්ක, භාවනාවෙදී බන්දලා. ඒ රූප ධර්මවල මුල මැද අග හොඳට දසදහස්වර පේන්ට යනකොට, ඒ විෂයෙහි අපි ආකල්ප වෙනස් කරන හැටි - මුල පටන්ගන්නකොට "**ඉති රූපං**" කියල බලන හැටි.

ටික වේලාවක් යනකොට ඒ රූපවල සමුදයක් සහිතව බලන හැටි. අන්තිමට ඒ රූප නොතිබිච්ච, නැති වෙච්ච ආකාරය තදංග වශයෙන් ප්‍රහාණය වෙන හැටි. මේකම යළි යළිත් හොඳ විශ්වාසයක් ඇතිව, බුදුහාමුදුරුවො කිව්වට නොවෙයි තමන්ගෙම ඇදහිල්ලෙන් ඉස්සරහට යනකොට තමයි ඒක සමුච්ඡේද වශයෙන් දුරු කරන්න පුළුවන් වෙන්නේ. රූප පිළිබඳ මතු මත්තේ ස්නේහය, නන්දිය පහ කරලා, ඒක ඇති හැටියෙන් තියෙන විධියටම දැකගන්න පුළුවන් වෙනකොට ඒ යෝගාවචරයට මතු ජීවිතයේදී මට ආයේ ආත්මයක් ඕනෑ නැත කියන විදියේ ඉස්සරහට යන ප්‍රක්ෂේපණයක් නෙවෙයි, වර්තමාන වශයෙන්ම රූප විෂයෙහි ලොකු පරිචයක් ඇති වෙනවා. ඒ රූපවලින් මත් නොවන ගතියකට එන්න එන්නම පටන්ගන්නවා. ඒක ඉස්සෙල්ලාම වැටෙහෙන්නේ උපේක්ෂා වශයෙන්, සංස්කාර විෂයෙහි. ඒක ඉතාමත්ම ක්‍රමිකව සිදු වන දෙයක්.

ඒක නිසා නෙයාය පුද්ගලයන් වශයෙන් මේක බොහෝ කාලයක් කිරීමෙන් එන්න එන්න ඒ පුද්ගලයා රූපයන් පිළිබඳව දක්වන ආකල්පය ඇති වීම ඔහුටම දැකගන්න පුළුවන් තරම්. අවුරුදු හතක් ඇතුළත දැකගන්න පුළුවන් කියල සතිපට්ඨාන සූත්‍රයේ දේශනා කරනවා. සමහර වෙලාවට කියනවා දවස් හතකිනුත් මේක කරන්න පුළුවන්. මජ්ඣිම නිකායේ සූත්‍රයේ දේශනා කරනවා, උදේ හරියට බණ අහගත්ත නම්, හැන්දෑ වෙනකොට මේක කරගන්න. අපි කරපු මෝඩකම් අතහැරීමට තියන පසුබාන ගති නිසයි කල් යන්නේ. ඒක නිසා අපි අධිෂ්ඨාන කරගන්න ඕනෑ, අපි මේ ධර්මය ඉගෙනගන්නේ රූපයාගේ ඇති හැටිය දැනගන්නයි. ඒ වාගේම අපේ තියෙන අඩුපාඩුකම් දැනගෙන අපි චිත්ත පීඩා ඇති කරගන්න නෙවෙයි. මෙච්චර අමාරු ධර්මයක්, මෙච්චර කාලයක් අපි කෙරුව නේ. අපිට තාමත් අපේ ජන්ම ගති හැටියට වරදිනව නේ. අපි අධිෂ්ඨාන ශක්තියකින් ඉක්මනින් කරන්න ඕනෑයි කියලා අධිෂ්ඨාන ශක්තිය ඇති කරගත්තා. මේ කියන බණ අහන එක් කෙනෙකුටවක්වත් මේ ධර්ම අදාළ නෑයි කියන්නත් බෑ. සැමදෙනාම ඉන්නේ මේ පෙරහැරේ යම් කිසි ස්ථානයක. ඒ නිසා සැම කෙනෙකුටම මේ බණ අදාළයි.

අපිට ලැබිච්චි කාලය හමාර නිසා, අදට රූප පිළිබඳව තමයි මේ විග්‍රහයක් කරන්න පුළුවන් වුණේ. අපි බලාපොරොත්තු වෙනවා තව ඉදිරියට ගිහින් විග්‍රහ කරන්න. මේ වාගේම මායාවක් තියෙනවා වේදනාවෙත්. ඊටත් වැඩියි වගේ සඤ්ඤාවේත් සංස්කාර විඤ්ඤාණවලත්. ඒ සෑම දෙයක්ම මේ රූපය වාගේම හෝ ඊටත් වැඩියෙන් අපිව මුළා කරනවා. පරමාර්ථ සත්‍යය වසන් කරනවා. සර්වඥයන් වහන්සේ අපිට පෙන්නා දුන්න මාර්ගය දිගේ යනකොට නාම පිළිබඳ යථාර්ථයත් දකගන්න පුළුවන්. ඒ කොටස ඉදිරි ධර්ම දේශනාවලදී විස්තර කරන්න මම බලාපොරොත්තු වෙනවා.

අපේ දැනීමත් භාවනා අත්දැකීමත් පෙළගැසීමට මේ ධර්ම දේශනාව හේතු වේවා කියන ප්‍රාර්ථනාවෙන් අද ධර්ම දේශනාව මෙතනින් හමාර කරනවා.

# 40 | වේදනා ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුන ච පරං, භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු පාදනක්ඛන්ධෙසු. කථඤ්ච පන භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදනක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො; ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝ රත්නයෙන් අවසරයි. අපි සතිපට්ඨාන සූත්‍රය මුල් කරගෙන අද මේ වන විට ධර්ම දේශනා වශයෙන් 39 ක් පවත්වා මේ 40 වන එකටයි ආරම්භය ලබන්නට ප්‍රවේශය ලබන්නට සූදනම් වෙන්නෙ. අපි ගිය වතාවේ ධම්මානුපස්සනා කොටසේ ස්කන්ධ පබ්බයට ඇතුළු වුණා. ප්‍රවේශය ලබාගත්තා.

ඒ අනුව පැයක පමණ කාලයක් මේ පංචස්කන්ධ, විශේෂයෙන් පංච උපාදනස්කන්ධයන්ගේ රූපස්කන්ධය, පිළිබඳව අපි අපගේ දැනුමත් අත්දැකීමත් සම්බන්ධ කරලා කරුණු රාශියක් තේරුම්ගන්න උත්සාහ කළා. එහිදී අපි මේ පංච උපාදනස්කන්ධ කියන ස්කන්ධ පංචකයක් ඇති බවත් ඒවා එක එකක් මේ ආකාරයට

පහකට බෙදා වෙන් කර දක්වන්නේ ඇයි කියන එකත් ස්කන්ධ කියන නම මේවට ගැළපෙන්නෙ කොහොමද කියන එකත් පිළිබඳව අලුත් කරගන්ඩ යෙදුණා අපේ මතකය. නාම රූප වශයෙන් පෙන්වන්න පුළුවන් මේ කොටස් දෙක ඒ මට්ටමෙන් අහලත් නිවන් දැකපු ඇත්තෝ එදත් ඉඳල තියෙනවා. අදත් ඉන්න ඉඩ තියෙනවා. නමුත් මෙහි රූප කියන කොට්ඨාශයට වඩා නාම කියන කොට්ඨාශය බොහොම සාරගර්භයි. කරුණු රාශියක් තියෙනවා.

ඒ නිසා හුඟදෙනෙකුට ඒක අවබෝධ කරගන්න බැරි නිසා, ඒ නාම කියන එක තවත් කොටස් හතරකට බෙදා දැක්වීමක් තමයි, මේ පංච ස්කන්ධ විභාගයෙන් කෙරෙන්නෙ. **වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ** කියලා නාම කොට්ඨාසය හතරකට බෙදා දැක්වීමයි මෙතනින් කරන්නේ. රූපය කිව්වාම අර නාම රූපයේ දක්වන රූපයමයි රූපස්කන්ධය වශයෙන් පෙන්නලා තියෙන්න. සතිපට්ඨානයේ කායානුපස්සනාව වශයෙන් දක්වන්නෙත් ඒකයි. ඊගාවට මේ රූප කන්දක්, ගොඩක්, සමූහයක්, ස්කන්ධකයක් වශයෙන් පෙන්වන්නෙ කාලානුරූපීව හා දේශය අනුව මේක මනුස්ස හිතේ පරිණාමයේදී බොහොම දුර දිග ඉතිරී පැතිරී පවතින නිසයි. අතීත, අනාගත, පච්චුප්පන්න (වර්තමාන) වශයෙන් කාල මානය දිගේ පැතිරිච්ච ගතියක් තියෙනවා රූපය සම්බන්ධයෙන්. ඉස්සර රූප අපි දන්නවා. වර්තමාන රූප අපි දන්නවා. ඉස්සරහට රූප තියෙයි කියල සන්තතියක් කාලය දිගේ රූපය සම්බන්ධ කරගෙන පවතිනවා. ඒ වගේම රූපයාගේ අජ්ඣත්ත බහිද්ධා වශයෙන් මේ මගේ රූපෙ මේ අනුන්ගෙ රූපේ කියල කියනවා. අසුභ භාවනාව කියනකොට "**උද්ධං පාදතලා අධො කෙසමත්ථකා තචපරියන්තං** " වශයෙන් පාද තලයෙන් උඩ කේසාන්තයෙන් යට සමෙන් ඇතුළත තියන කොට්ඨාශ තමයි අසුභ භාවනාවේ අජ්ඣත්ත වශයෙන් බලන්නේ. එයින් පිට දේවල් බහිද්ධා. එතකොට රූපය ඒ විදියට අජ්ඣත්ත බහිද්ධා වශයෙන් බලනවා. මේක දුකයි සැපයි කියල හිතෙන වෙලාවක් තියෙනවා. මේක හීන නැත්නම් ප්‍රණීත වශයෙන් දකින වෙලාවල් තියනවා. ඒ වාගේම ළඟ පවතින අවස්ථා තියෙනවා. දුර පවතින අවස්ථා තියෙනවා. ඕළාරිකව පවතින අවස්ථා තියෙනවා, සුඛුමව සියුම්ව පවතින අවස්ථා තියෙනවා.

මෙන්න මේ විදියට රූපයාගේ පැවතුම්, දේශය වශයෙන් කාලය වශයෙන් පවතින නිසා අපි වර්තමාන මොහොතේ මේ එකොළහෙන් එකක් දැක්කත් නැත්නම් ලේශයක් දැක්කත්, ඉතුරු ටිකත් හදල හෝ හිතට ගන්න ගතියක් අපේ හිතේ පවතින නිසා ඒ හැම කෙනෙක් ගාවම පඤ්චස්කන්ධය දිගට පවතිනවා, හැම කෙනෙකුටම රූපයක් මුළු ආත්මය පුරාම පවතිනවා, මටත් තියනවා කියල මේක පිළිගන්න මට්ටම තමයි ලෝක ස්වභාවය. මේ රූපය, රූපය වශයෙන් එකොළොස් ආකාරයක පවතින්න පුළුවන් වුණත් එක අවස්ථාවක අපි දකින්නෙ එයින් එකක් විතරයි. ඉතුරු ටික අපේ හිත විසින් සම්පාදනය කරනවා. හරියට උපමාවක් කියනව නම්, කාටුන් චිත්‍රයක ඉරි කැලි ටිකක් එකතු වුණහම ඉතාම අඩු රේඛා ප්‍රමාණයකින් මේ අසවලාගේ රූපය කියල මවල පෙන්වනවා. ඒකයි ඒ කාටුන් චිත්‍ර ශිල්පියාගේ තියෙන දක්ෂකම. ඒ නිසා මුළු පත්තරේම අකුරු රාශියකින් දෙන්න පුළුවන් පණිවුඩයක් අර පුංචි රේඛා කිහිපයක් හරියට ක්‍රමානුකූලව ඉදිරිපත් කිරීමෙන් හඟවන්න පුළුවන්. පුද්ගලයෙක් එතන මැවෙනවා. ඒ නිසා කාටවත් ඒකට නඩු දාන්න බැහැ මේකෙ අසවලාට බැනලා තියෙනවාය කියලා. මොකද, ඒකෙ ඇඳලා තියෙන්නෙ පුංචි රේඛා කිහිපයක් විතරයි. වෙන්න ඕනෑ සන්නිවේදනය සිද්ධ වෙනවා.

අන්න ඒ වගේ තමයි මේ රූප දිහා බලනකොට ආශ්වාස ප්‍රශ්වාසය ගත්තත්, මුලින් මුලින් ඉතාමත්ම ඖළාරිකව වැටහෙනවා. ඕනෑම යෝගාවචරයෙක් ටික වෙලාවක්වත් භාවනා කරන්න නම් ආනාපානය අහු වෙන්න ඕනෑ. ආනාපානය අල්ලගෙන ටික දවසක්වත් භාවනා කළා නම් අනිවාර්යයෙන්ම චෝදනා කරනවා, ආනාපානය සියුම් වුණා අල්ලන්න බෑ කියලා. නමුත් ඔහු දන්නවා මේ අර ඖළාරිකව පැවතුණු ආනාපානයම තමයි දැන් සියුම්ව වැටහෙන්නේ. එදා හොඳට ප්‍රණීතව වැටහුණු එකම තමයි දැන් හීන වශයෙන් වැටහෙන්නේ. නමුත් ඒ ආනාපානය නැති වුණත් මැරුණෙ නෑ, දිගටම හුස්ම පැවතුණා කියන සංකල්පයට බාධාවක් නෑ. හීන භාවයෙන් ප්‍රණීත භාවයට මාරු වුණා. ඖළාරික බවෙන් සුඛුම සූක්ෂ්ම බවට මාරු වුණා. මෙන්න මේ විදිහට රූප කලාප පවා, ආශ්වාස ප්‍රශ්වාස වශයෙන් වැටහෙන ප්‍රායෝගිකව රූපය පවා, බලාගෙන

ඉන්නකොට මේකෙ විවිධ හැඩතල මාරු වුණාට අපි කවදාවත් හුස්ම නැති වුණා කියලා භාරගන්න ගියොත් ඒක අස්වාභාවිකයි. අන්න ඒ වගේ ඒකෙන් යන්තම් කෙළවරක්, කොනක් තිබුණත් අපි ඒකෙන් සම්පූර්ණ චිත්‍රයක් මවාගෙන තමයි උප්පැන්න සහතික ලියන්නේ. පුරවැසි භාවය දෙන්නෙ. මට මේ ගේ, මගේ මේ ඉඩම, මගේ මේ ජාති ස්ථානය කියලා අයිතිවාසිකම් කියන්නේ මේ රූපයාගේ පවතින්නා වූ ස්ථිර සංඥාවක් හිතට වද්දගෙන තමයි.

ආන්න ඒ විදිහටම තමයි වේදනාස්කන්ධය ගත්තත්. වේදනාස්කන්ධ කියන නම මේකට ගැළපෙන්නේ මොකද? අපිට දත් කැක්කුම නැති වුණාට අපි දන්නවා දත් තියෙනව නම් කැක්කුම් එන්න පුළුවන් කියලා. ඒ නිසා වර්තමානේ ඒ කැක්කුමක් හෝ සුවයක් නොලැබුණත් අපි වේදනා වශයෙන් පහ වුණා කියලා හිතන්නෙ නෑ. ඒ වේදනා දිගටම පවතිනවා කියලා සංකල්පයක් අප තුළ තියෙනවා. ඒකටත් අර වගේ අතීත වේදනා, මේ වර්තමාන රූපයේ පවතින්නා වූ වේදනා, අනාගතයට එන්න පුළුවන් වේදනා, කියලා වේදනා ජාති තුනක්. ඊළඟට ඕළාරික - සුඛුම, ඉතාම ගොරෝසුවට දැනෙනවා. ඊට පස්සෙ ටික වෙලාවක් ගියාට පස්සේ ඒක එතැන තිබුණට මොකද අතගාලා බැලුවෙ නැත්නම් දැනෙන්නෙ නෑ. බොහොම සූක්ෂ්මයි. ඒ වගේම අජ්ඣත්ත වේදනා - බහිද්ධා වේදනා. තමන්ගේම අත පය කැඩිලා තුවාල වෙලා තියෙන එක, තමන්ගෙ හොඳම කිට්ටු මනාප කෙනෙකුට වෙච්ච වේදනා බාහිර දේ වුණත් ඒක තමන්ගෙ දේ වගේම දැනෙන ගතියක් එනවා. ළඟ වේදනා - දුර වේදනා. මේ දැන් මේ මොහොතෙ තියෙන ඒවා වෙන්න පුළුවන්. නැත්නම් ඉස්සර වෙච්ච වේදනා, නැත්නම් එන්න තියන වේදනා, ඒ වගේම හොඳ වේදනා - නරක වේදනා. මේ ආදිය බලපුවාම වේදනා හැම වෙලාවෙම තියෙනවයි කියන්න එකම සංඥාවක් නෙමෙයි අපට ලැබෙන්නේ. ඒ සංඥා සීඝ්‍ර වශයෙන් වෙනස් වෙනවා. ඒ කොච්චර වෙනස් වුණත් මුළු වේදනා ස්කන්ධයෙන් අපි තොර වුණේ නෑ. තාම වේදනා පවතිනවා කියලා දිගට පවතින නිත්‍ය සඤ්ඤාවක් තියනවා. මේ වේදනාව කියන එක සංවේදී භාවයක් වශයෙන් අනුන්ට වැඩිය මට දැනෙන ගතියක් තියෙනවා කියන එක අපි අපේ පෙර පිනක ඵලයක් කියලා හිතනවා. අන් කෙනෙකුට වඩා

මගේ ඇහැට හොඳටම සූක්ෂ්ම දේවල් වෙන් කරලා දකින්න පුළුවන්. ඒක ඇහේ ඔපය. ඒක හොඳයි. ඒ වගේම කනට සියුම් සියුම් ශබ්ද පවා ඇහෙනවා නම් ඒක හොඳයි. නාසයට, දිවට, ශරීරයට ඒ සුළු සුළු වින්දන ඉතාමත්ම සවිස්තරව දැකගන්න පුළුවන් නම්, ඒ වේදනා පද්ධතිය මම පෙර පිනක් කරලා ආපු එකක් කියලා අපි ඒක මගේ කියලා රැකගන්නවා. නැත්නම් මගෙ දරුවගෙ, මගෙ අම්මගෙ, මගෙ තාත්තගෙ කියලා ඒක අපි නම්බුවක් කර ගන්න ගතියක් තියනවා.

මේ විදිහට සම්මත ලෝකයේ, වේදනාව පෙර පිනකින් උපන් වාසනාවක්. වේදනාව හොඳට සූක්ෂ්මව දැනෙනවා නම් අපි හිතන්නේ පෙර පිනකින් ලැබුණු දෙයක් කියලා. ඒ නිසා ඒ පුද්ගලයා ඒ ලැබුණා වූ අවස්ථාව තවත් ටිකක් පින්දහම් කරමින්, එහෙම නැත්නම් අසාධාරණයෙන් හෝ රස විඳිමින් එක දිගටම පැවැත්වීමට කරන ප්‍රයත්නය තමයි සංසාරය කියන්නෙ. ඒ වින්දනය, වේදනාව, සූක්ෂ්මව දැනෙන ගතිය තව දුරටත් හොඳට වේදනාස්කන්ධයක් වශයෙන් දැකගෙන, ඒ තුළින්ම එහි ඇත්තා වූ සූක්ෂ්ම භාවය තුළින්ම එහි ඇති හැටිය බලන්න, යථාභූත ඥානය පහළ කරගන්න හදන ගතියත් බුදුරජාණන් වහන්සේ අර වාගෙම සූක්ෂ්ම ක්‍රමයකින් තමයි පෙන්වල දීල තියන්නෙ. ඒ නිසා වේදනාව කියල කියන්නේ, වර්තමාන මොහොතේ පවතින්නේ ඒ මුළු වේදනාස්කන්ධයෙන්ම යාන්තම් එක කෙන්දක් විතරයි. මේ කෙන්ද කන්ද කරගන්න තමයි මේ සඤ්ඤා ස්කන්ධය දිගට සැදී පැහැදී තියෙන්නේ. ඒ නිසා සඤ්ඤා ස්කන්ධය වේදනා ස්කන්ධයට පස්සෙයි සාකච්ඡා වෙන්නේ. මේක ඉතාමත්ම තදින් බලපානවා අපි මේ ගන්න වින්දන විෂයෙහි. ඒක භාවනා චිත්ත වීර්යක භාවනා යෝගාවචරයෙකුට ලැබෙන අත්දැකීම් විතරක් නොවේ. ලෝකයේ ඕනෑම තරම් නිදර්ශන පෙන්වලා දීල තියනවා ඒ තමන් ඇති කරගත්ත සංඥාවෙ හැටියට තමයි ඒ වේදනාව ලැබෙන්නේ. සංඥාව හොඳ සුභ සංඥාවක් නම්, මොන දුකක් වුණත් අපිට දරාගන්න පුළුවන්. නමුත් අපිට තියෙන්නේ නරක සංඥාවක් නම්, මේක නරකයි කියලා හිතනවා නම්, මොන දේ ආවත් ඒක අපිට පේන්නේ ඉතාමත්ම කරදරයක්, ඉතාමත්ම වදයක් හැටියට. ඒ නිසා මනුෂ්‍යයෝ අතරේ මේ සටන්, මේ යුද්ධ, මේ ඇන කොටාගැනිලි, ඇඬුම් දෙඩුම් ගොඩක් වාගේ පහළ වෙන්නේ මෙන්න මේ විදිහට

එකිනෙකා අතරේ පවතින්නා වූ සංඥාවලට ඒ ඒ වෙලාවෙ ලබන වේදනා, අවිද්‍යාව තුළින් කියවන්න යාමෙන් තමයි. ඒ නිසා වේදනා පිළිබඳව ඉගෙනගැනීම බොහොමත්ම ප්‍රචලිත විෂයක් බව වටහාගන්න.

රූප වගේම තමයි වේදනාවෙත් එකොළොස් ආකාරයක් තියෙනවා. ඒ එකොළොස් ආකාරය ප්‍රධාන වශයෙන් සංඥාවෙන් වර්ණ ගැන්වෙනවා. ඒ නිසා ඇති දේ නෙමෙයි මෙතැන මේ ප්‍රශ්න කරන්නෙ, ඇති දේ නෙමෙයි චෝදනාවට හේතු වෙන්නේ, ඇති දේ නිසා නෙමෙයි නඩු කියන්නෙ, හිතාගන්න දේ. ඒ නිසා මේක කවමදකවත් සමථයකට පත් කරන්න පුළුවන්කමක් නෑ. මනුෂ්‍යයෙක් හැම වෙලාවෙම සුඛ වේදනා, දුක්ඛ වේදනා, අදුක්ඛමසුඛ වේදනා යන මේ තුනෙන්ම, මොනම තත්ත්වයක් යටතෙ හරි, හැම වෙලාවෙම බලාපොරොත්තු වෙන්නේ සුඛය පමණයි. දුක මොනම තත්ත්වයක් යටතේ වුණත් විඳින්න කැමති නෑ. ඒ නිසයි මෙච්චර මේ දැනදැනත් දැකදැකත් සංසාරෙ කොච්චර කල් අපි ගමන් කරලා තිබුණත්, බුද්ධාදී උත්තමයන් වහන්සේලාගේ මග පෙන්වීමක් නැතිව අපිට කවදාවත් මේක අවබෝධ කරගන්න බැරි තත්ත්වයකට පත් වෙලා තියෙන්නේ. මුල, මැද, අග යන මේ තුනේදීම අපි සුඛ වේදනාවට වශී වෙලා, සුඛ වේදනාවට ඇබ්බැහි වෙලා, මේකටම කඹුරන ජාතියක් බවට පත් වෙලා තියනවා. ඒකටම පහිඳින ජාතියක් බවට පත් වෙලා තියනවා. ඒ නිසා අපිට වේදනාව හාත්පසින්ම දැකගන්න අවස්ථාවක් ලැබෙන්නෙ නෑ. හාත්පසින් දැක්කා නම් අපිට පේන්න පටන් අරගනී, වේදනාවක් කියලා කියන්නේ මේ අපි හිතන විදිහෙ ඒකාත්මීය වශයෙන් පවතින අල්ලන්න පුළුවන් සරු එකක් නොවේ. ඒකෙ විවිධ හැඩතල ඔක්කොම දැක්ක නම්, හුඟක් වෙලාවට මෙතැන තියෙන්නේ මවා පෑමක්.

සර්වඥයන් වහන්සේගේ බොහොම ප්‍රකට, ඒ වගේම කාටත් වැටහෙන කරුණු නිදර්ශන දැක්වීමක් අනුව "**ඵෙණපිණ්ඩූපමං රූපං**" රූපය කියල කියන්නේ වක්කඩ පෙණක් වාගේ. වක්කඩක් ළඟ නිතරම වතුර වැටෙනකොට ඇති වන පෙණ, එතන සුළියක් වශයෙන්, පිඬක් වශයෙන්, රිත්තක් වශයෙන් පවතිනවා. ගඟේ

ගහගෙනත් යනවා ගං වතුර කාලවලට. ඉතින් ඒක දිහා පිට ඉඳල බලාගෙන ඉන්නකොට බොහොම ලස්සනට පාවෙන පිඬු රාශියක් එතන තියෙන්නෙ. නමුත් ඒක බිඳල බැලුවොත් කඩල බැලුවොත් ගන්න දෙයක් නැහැ පෙණ පිඬක් වශයෙන් තමයි පේන්නෙ. මේක සර්වඥයන් වහන්සේ සමාන කරල පෙන්වනවා රූප ස්කන්ධයට.

**"වෙදනා බුබ්බුළූපමා"**. වේදනාව බුබුලක් වාගෙ. වර්ෂාවක් දිය කඩකට වැටෙනකොට ඒ දිය කඩේ හරියට පෙණ බුබුළු පහළ වෙනවා. චිත්තක්‍ෂණයකින් හුඟක් පෙණ බුබුළු බිඳිලා යනවා. නමුත් වතුර බින්දු ජල තලය මතට පහර දෙනකොට ඇති වෙන්නා වූ මේ පෙණ පිඬ ලෝකයේ තියෙන විශිෂ්ටතම සම අර්ධ ගෝලයක නිර්මාණයක්. එහි කිසි සේත්ම කිසිම අඩුපාඩුවක් නෑ. වාතයේ තිබෙන ඒ තෙරපන ස්වභාවය හාත්පසටම සමාන නිසාත්, ජලයෙ තියෙන ආබන්ධන ගතිය හෙවත් ජලයේ ජල සිවියක් ඇති කරගත්තට පස්සෙ ඒකෙ සමාකාරව පැතිරෙන ඉතාම තුනී සිවියක ස්වරූපය නිසාත් අර්ධ ගෝලයක් හදනවා. හැබැයි සතු කරගන්න අමාරුයි. අත තියෙනකොට ඒක කැඩිල යනවා. කැඩිල ගියාට පස්සෙ මේ ජල තලයක්, ජල සියුම් සිවියක් කොහොමද පැවතුණේ කියලා හිතාගන්න බැරි තරම් ඉක්මනට වහාම ජලස්කන්ධයකට එකතු වෙනවා. අර වාතයෙන් වෙන් කරලා තියාගෙන හිටපු බුබුළට අල්ලගෙන හිටපු හුළං ටික නැවත වාතයට එකතු වෙනවා. හොයන්න බැහැ. නමුත් තව චිත්තක්‍ෂණයකින් තවත් ජල බින්දුවක් වැටෙනකොට ඒ වගේම පෙණ බුබුළක් පහළ වෙන්න පුළුවන්. ඒ බුබුළු හොඳ ආලෝකය විහිදී යන වෙලාවක ගත්තොත් එය දේදුන්නක පැහැය පෙන්නන්නත් ඉඩ තියෙනවා.

අන්න ඒ වගේ තමයි, අපේ ඉන්ද්‍රියවලට ප්‍රසාද රූපවලට චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය කියන මේ ඉන්ද්‍රියවලට ඇස, කන, නාසය, දිව, ශරීරය යන ප්‍රසාද රූපවලට රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ එක එක අරමුණුක් වදිනකොට ඒවයේ පහළ වෙනවා මේ වගේ පෙණ බුබුළු. විශ්වයේ විස්මයජනක නිර්මාණයක්. ඒකෙ අංග සම්පූර්ණ අර්ධ ගෝලයක් තියනවා. නමුත් ඒක මගේ කියලා අරගෙන ගෙනිහිල්ල අල්මාරියක තියාගන්න හැකියාවක් නෑ.

එහෙම කරන්න ගත්තොත් ඒක පෙන්නල දෙනවා මේක කොච්චර අනිත්‍යද, මේක ඇල්ලුම් බෑ. බැලුම් විතරයි. අල්ලන්න ගියොත් කැඩෙනවා. ඒක චිත්තක්ෂණයක් බලනකොට බිඳී යන බව තේරුම්ගන්න ඕනෑ. මේ වගේ පෙණ බුබුළේ තියෙන උපමාව තමයි, වේදනාව පිළිබඳ සර්වඥයන් වහන්සේ පෙන්වල දීල තියන්නේ.

නමුත් මේ වේදනාව මුල වශයෙන්, මැද වශයෙන්, අග වශයෙන් ඒකාන්තයෙන්ම අපි දැකිය යුතුයි කියන විපස්සනාවක්, අලුත් විදිහෙ අමුතු විදිහෙ විෂම විදිහෙ දර්ශනයක් අපේ ජීවිතයට කවාගෙන නැත්නම්, අපි හැම වෙලාවෙම වර්තමානයේ පවතින, හැදෙමින් පවතින්නා වූ රූප බලමින් සන්තෝස වෙනවා. බිඳෙමින් පවතින්නා වූ රූප නොදකින් නොපතන් කියලා ඒවා පිළිබඳව පශ්චාත්තාප වෙන ගතියක් තියනවා. අපිට මේ රූපයක ඇති වීම මෙහෙමයි, පැවතීම මෙහෙමයි, නැති වීම මෙහෙමයි කියලා ඒක දිහා බලන්න තරම් විද්‍යානුකූල ශාස්ත්‍රීය ඇහැක් නෑ. තියෙන්නේ ඇති වෙන පැත්ත බලලා සන්තෝෂ වන ගතිය විතරයි, පුංචි දරුවෙකුට වගේ. ඒ ගතිය තමයි අන්ධ පෘථග්ජන භාවය කියල කියන්නේ. කල්‍යාණ පෘථග්ජනයා කියන වචනයෙන් අපි පසුකාලීනව මේ සාහිත්‍යයට එකතු කරගත්තේ මොකක්ද? වේදනාවේ මුලක් තියෙනවා, මැදක් තියෙනවා, අගක් තියෙනවා. යම් දවසක ඒ වේදනාවේ මුල, මැද, අග දැක්කා නම් ඒ වගේම රූපයක මුල, මැද, අග දැක්කා වගේමයි. සඤ්ඤාවේ මුල, මැද, අග දැක්කා වගේමයි. සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කොයි එකත් සමානයි. ආන්න ඒ විදියේ දැක්මකට තමයි මේ සතිපට්ඨානය ආරාධනා කරන්නේ.

අභිධර්මය පැත්තෙන් බලනවා නම් මේ වේදනාවක් ඇති වෙන්න අතීතගත, නැත්නම් අපේ සහජාසයෙන්ම සංසාරයෙන්ම අපිට ලැබිල තියෙන අවිද්‍යාව බලපානවා. ඒ අවිද්‍යාවත් දැනටත් නොසිඳී පවතින්නා වූ තෘෂ්ණාවත් කර්ම ශක්තියත් ඒ වෙලාවෙ ඇහැ, කන, නාසය, දිව, ශරීරය කියන මේ ස්ථානයක වදින්නා වූ ආරම්මණයත් නිසා වේදනාව දිගටම පවතිනවා. වේදනාව යම් තැනක නතර වුණා නම් අපි කියනවා ක්ලාන්ත වුණා කියලා. අපි කියනවා නින්ද ගියයි කියලා. අපි කියනවා අපි මැරුණයි කියලා. ඒක

නිසා ඒක මහ අභාග්‍යයක්. වේදනාව නැති වෙච්ච අවස්ථාව තදබල අභාග්‍යයක්. අපිට නිතරෝම වේදනාව අවශ්‍යයි. ඒ වේදනාවෙන් තමයි මමයා, මම කියන සංකල්පය දිගටම පවත්වන්නේ. ඉස්සර කාලෙ වේදනා නාශක පාවිච්චි කරලා නිර්වින්දනය කරලා ශල්‍යකර්ම කරන්න යනකොට හුඟදෙනෙක් ඉඩම් බූදල් ලියලා තියලා තමයි ශල්‍යකර්මයට අත්සන් කරන්නේ. මොකද මේ වේදනාව නැති වුණාට පස්සෙ ආයෙ නාවොත්? ලෙඩා මළේය!!! ඒ නිසා ශල්‍යකර්මයට යන්න ඉස්සෙල්ලා බූදල් ලියලා තියලා යන්නේ. මොකද ඒ තරම්ම බයයි එක චිත්තක්ෂණයකට හෝ මේ වේදනාවෙන් තොරව ජීවත් වෙන්න. ඒ තරම්ම අපි අඳුනාගෙන තියෙනවා අනිවාර්යයෙන්ම මේ ජීවිතයේ පැවැත්ම තියෙන්න නම්, රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන මේ පහ බොහෝමත්ම සජීවීව තියෙන්න ඕනෑ.

ඒක හන්ද තමයි මේ තරුණ ජීවිතවලට කැමති. ඒ කාලෙට තමයි රූපය ඉතාමත්ම ඔදවත් තෙදවත් ඔප වැටිච්ච ගතියක් තියෙන්නෙ. වේදනාවත් ඉතාමත්ම ප්‍රකටයි. ඒ මොකද පුංචි කාලෙටත් වඩා සඤ්ඤාවක් තියෙනවා ඒ වෙලාවේ. ඉතාම පුංචි කාලෙ තමා හුඟක්ම වේදනාවට සංවේදී. නමුත් සඤ්ඤා ස්කන්ධයක් නෑ. නිල් පාට, කහ පාට අඳුරන්නේ නෑ. හොඳ නරක අඳුරන්නේ නෑ. ඒ නිසා හම්බ වෙච්ච වෙලාවෙ ලැබුණු අරමුණ කියවගන්න තේරුමක් නෑ. කවදාවත් ආලෝකයක් දැක්කෙ නැති අන්ධයාට ඒ මොනම දෙයකවත් ඇති රසයක් ගැන අවබෝධයක් නෑ. තව ටික කාලයක් යනකොට මේ තරුණ ජීවිතයට අපිට සුදුසු සඤ්ඤා රාශියක් තියන නිසා ඔන්න වේදනාව පිළිබඳ ලොකු ආධිපත්‍යයක් ලැබෙනවා. ඒ නිසා අපි වේදනාව වැඩි කරගැනීමේ සුඛෝපභෝගය ලබාගැනීමේ විශේෂ ව්‍යාපාරවල යෙදෙනව තරුණ වයසේදී. ඒ වගේම සංස්කාර අතිනුත් මම කරනවා, මට ඕනැ තාලෙට කරන්න ඕනැ, මට ඕනැ වෙලාවට කරන්න ඕනැ කියන විදිහෙ ඔළ මොළ ගති, ඉතාමත්ම අධිකව සංස්කරණය කරන ගති ඇති වෙනවා. ඒ තමයි තරුණකම. ඊළඟට විඤ්ඤාණය. එක එකක් වෙන් කර දැනගැනීමේ ඕනෑකම අවශ්‍යතාව ඉතාමත්ම ප්‍රකට වෙන්නේ තරුණ කාලෙ.

ඒ නිසා සංසාරෙට ඉතාමත්ම බැඳෙන වයස තරුණ වයස. ඒ වයසෙදී වුණත් සර්වඥතා ඥානයෙන් දේශනා කළ ධර්මානුකූලව ඒ වේදනාව දිහා වේදනා ස්වරූපයෙන් '**වෙදනාසු වෙදනානුපස්සී විහරති**' වේදනාව කෙරෙහි වේදනාව අනුව යන්නා වූ දැක්මෙන් යුතුව ජීවත් වෙනවා නම්, ඒ දර්ශනය දකගන්න පුළුවන්. උච්ච අවස්ථාවෙ වුණත් පුළුවන්. ඒක නිසා වේදනාවේදී ඒකට හේතු වෙන්නා වූ දේ, ඒ කියන්නේ මූලධර්මානුකූලව අවිද්‍යාව තණ්හාව සහ කර්මය නිසාත් උපාදානය කියන දැඩි අල්ලාගැනීම නිසාත් වර්තමානයේ ඇත්තා වූ අරමුණු ගැටීම නිසාත් මේ වේදනාවේ ඇති වීම නැති වීම දෙක සිද්ද වෙනවා. යම් අවස්ථාවක ඒ අතීතගත අවිද්‍යාවත් තෘෂ්ණාවත් උපාදානයත් කර්ම වේගත් නැති වුණා නම් ආයෙත් වේදනා පහළ වෙන්නෙ නැහැ. අපි කියනවා වේදනාව අත්ථංගමයට ගියා කියල. ආයේ නූපදිනා තාලෙට නතර වුණා කියල.

ඒ වගේම තමයි වර්තමානයේ ඇත්තා වූ ඇහැට රූප නොපෙනී ගියා නම්, කනට ශබ්ද නැතුව ගියා නම්, සද්ද නැති තැනකට ගියා නම්, නාසයට දිවට ගඳක් රසයක් නැති අවස්ථාවකට පත් වුණා නම් කයට පහසක් නැති තත්ත්වයකට පත් වුණා නම්, අන්න ඒ වෙලාවේදී අලුතින් වේදනා පහළ වීම නතර වෙනවා. හැබැයි සංඥා දිගේ අර මස් පිරුණ කළයක පිට පැත්තෙන් වසා වුරුණ තෙල් වෑහෙන්නා වගේ පරණ සංඥා තිබුණට ඒ වෙලාවේ වේදනා ඇණහිටිනවා. වෙන විදිහකට කියනවා නම් එක වේදනාවකින් තව වේදනාවකට මාරු වෙනවා. ආන්න ඒ විදිහට වේදනාවේ ඇති වීම හා නැති වීම යන දෙක හොඳට තේරුම් අරගන්න නම්, යෝගාවචරයා අර සාමාන්‍ය අන්ධ පෘථග්ජනයා වාගේ, මේ වේදනාව එක දිගටම තියෙන එකක්, මගේ පෞරුෂත්වය කියන්නේ මගේ හැකියාව කියන්නේ පුළුවන් තරම් සුබ වේදනාව ලැබිය යුතුයි, දුක් වේදනාව දුරු කළ යුතුයි කියන ඒ ඔළමොළ ගති බහා තියල, මේ වේදනාව කියල කියන්නේ වහා ඇති වී නැති වී යන දෙයක් කියන සංඥාවෙන් වේදනාව දිහා බලන්න ඉගෙනගන්න ඕනෑ. බලන්න ඉගෙනගන්න නම් මේකෙ ඇති වීමක් හා නැති වීමක් පවතිනවා කියන සතිපට්ඨානයේ හඳුන්වා දෙන ධර්මය දකගන්න ඕනෑ. සතිපට්ඨානයේදී කායානුපස්සනාවට පස්සෙ

වේදනානුපස්සනාව කියලා අපි මේ කොටස සාකච්ඡා කළා. ඉඳගෙන ඉන්නකොට ආනාපානය හෝ පිම්බීම හැකිළීම හෝ ඒ මූල කර්මස්ථානයට හිත යොදන්න උත්සාහ කරන්නා වූ ආධුනික යෝගාවචරයාට ඒ ව්‍යාපාරය අසාර්ථක වුණොත් විශේෂයෙන් විනාඩි 10-15 ක් විතර යනකොට ඔන්න ඉඳුම් හිටුම් නැතිව යනවා. ඉරියාපථයක තියෙන සුඛ භාවය නැතිව යනවා. නලියන්න පටන්ගන්නවා. වේදනාව ක්‍රියාත්මක වෙනවා.

මෙතන අපි ප්‍රධාන වශයෙන් භාවනා ලෝකෙදි මේ දුක්ඛ වේදනාව තමයි වේදනාව වශයෙන් සඳහන් කරල තියෙන්නේ. සාමාන්‍යයෙන් කාම ලෝකයේ "වින්දනය" කියන වචනය අපි සඳහන් කරලා තියෙන්නේ සුඛ වින්දනය, රසාස්වාදය කියන එකටයි. ඒ නිසා යම් කිසි කෙනෙකුට ලස්සන චිත්‍ර කලාවක නැත්නම් මිහිරි භෝජන මේසයක ඒ මිහිරියාව විඳගන්න බැරි නම්, රසඥතාව නැති වින්දනයක් නැති එකෙක් හැටියට මරුමුස් එකෙක් විදිහට, එහෙම නැත්නම් කිසිම දෙයක රසයක් දන්නෙ නැති කෙනෙක් විදිහට රසකාමී ලෝකයා විසින් පහත් කොට සලකනවා. ඒ මොකද හේතුව, වින්දනය කියන වචනය අපි අරගෙන තියෙන්නෙ හොඳ පැත්තට. රස විඳින්න ඕනෑ තරුණ කාලය හැමදම තියෙන්නෙ නෑ. ඒ තියන කාලේ පුළුවන් තරම් අපි ඒක ප්‍රයෝජනයට ගන්න ඕනෑ කියන අදහසයි කාම ලෝකෙ පවතින්නේ. භාවනා ලෝකයේදී මේක ටිකක් අනිත් පැත්තටයි දල තියෙන්නෙ. වේදනාව කියනකොටම ටිකක් මූණ ඇඹුල් වෙන ගතියක් තියනවා. කතා කරන්නත් වැඩිය කැමති නැති ගතියක් තියනවා. ඒ මොකද, දුක්ඛ වේදනාවටයි වේදනාව කියන්නේ. නමුත් අපි වේදනානුපස්සනා ගැන කතා කරනකොට තේරුම්ගත්තා මේ වේදනාව ඒකාන්ත දුකක් හෝ කාම ලෝකයේ හිතන විදියට ඒකාන්ත සැපක් නොවේ. මේ දෙක අතර අදුක්ඛමසුඛ කියලා එකකුත් තියෙනවා. අන්න ඒ කොටස් තුන, ටික වේලාවක් ඉඳගෙන ඉන්නකොට අනිවාර්යයෙන්ම ඇති වෙනවා. අපි සාමාන්‍යයෙන් දන්නවා භාවනාව අර කියන විදියට වැරදුණා නොවේ හරි ගියා නම්, ආනාපානය අනුව සිත පවතින ගතිය තිබුණා නම්, ඒකෙ ස්වභාවය තමයි ආනාපානය දිගේම හිත යනකොට ඒක සියුම් වන බව. එන්න එන්නම ආනාපානය සූක්ෂ්ම ගතියට පත් වෙන එක බුදුරජාණන්

වහන්සේ විසින් දැන වදාළ දෙයක්. ඇති කරපු දෙයක් නෙමෙයි. නමුත් ඇති වන ලෝක නියාම ධර්මයක් මේ භාවනා ක්‍රමයක් වශයෙන් පාවිච්චි කරනවා.

ආන්න ඒ වගේම තමයි රූප ධර්ම එන්න එන්නම සියුම් වෙනවා වගේ රූප ධර්මය සියුම් වෙනකොට, හිත සංයම නැත්නම්, සමාධි නැත්නම් නාම ධර්ම ප්‍රකට වෙනවා. ආන්න ඒ ප්‍රකට වීමේදී ඉස්සෙල්ලාම ප්‍රකට වෙන්නෙ වේදනාවයි. ඒ නිසා භාවනාවේදී සමාධියක්, සංහිඳියාවක්, පස්සද්ධියක් නොලැබුණා නම්, රූප ධර්ම විෂයෙහිමත් හිතේ එකලසක් නෑ. එතකොට ටික වෙලාවකින් බොහෝම ඉක්මනට මේ වේදනාව ප්‍රකට වෙන්න ගන්නවා. එහෙම නැතිව භාවනාව හරි ගියා නම්, එහෙම නැතිනම් ආනාපානය හෝ පිම්බීම හැකිළීම දිගේම සිත පවත්වාගෙන යනවා නම්, ඒ ගත්තා වූ මූල කර්මස්ථානය ක්‍රමයෙන් සියුම් භාවයට අති සූක්ෂ්ම භාවයට පත් වීගෙන එනකොට හොඳ පැත්තෙන් හෝ නරක පැත්තෙන් මේ වේදනා මතු කරනවා. සුඛ වේදනාවක් වශයෙන් හෝ දුක්ඛ වේදනාවක් වශයෙන් මතු කරනවා. වෙන විදිහකට කියනවා නම් රූප ධර්මයාගේ දැක දැක, දැන දැන ගෙවී යාම සිද්ධ වෙනකොට හිතට රූප ධර්ම වෙනුවට නාම ධර්ම මතු කරන්න පටන්ගන්නවා. සමහර විටක ඒ මතු වන නාම ධර්ම සුඛ වේදනා වශයෙන් භාවනාවෙන් ලැබෙන්නා වූ දිට්ඨධම්ම සුඛ විහරණයක් වශයෙන් ලැබෙනවා. එහෙම නැත්නම් බොහොම පුංචි දෙයක් වුණත් බරපතළ, විඳගන්න බැරි කටුක දුකක් විදියට ලැබෙන්නත් ඉඩක් තියෙනවා. එහෙම දෙකම නැතුව හුඟ වෙලාවට සිද්ධ වෙන්නෙ අදුක්ඛමසුඛ වේදනාව එන එකයි. නමුත් යෝගාවචරයා ඒ විෂය දන්නේ නැහැ. ඒ තරම්ම අපි කාම ලෝකයේ ගත කරපු කාලය පුරාම අර රසඥතාව අනුව සුඛ වේදනාව පස්සේම එලෝපු නිසා අපිට අවශ්‍ය කරලා තියෙන්නේ මේ හොඳ පැත්ත විතරයි.

භාවනා යෝගාවචරයින්ට ඒකෙ අනික් පැත්තෙ රෝගය සමහර වෙලාවට හැදෙනවා. සුඛ වේදනාව නැත්නම් අඩු ගානෙ මට දුක්ඛ වේදනාවක්වත් වේවා කියලා ප්‍රයත්න කරන වෙලාවල් තියෙනවා. ව්‍යාපාර කරන වෙලාවල් තියනවා. ඒ මොකද මේ සුඛ

දුක්ඛ දෙකම විෂයෙහි දක්ෂ භාවය දිගේ භාවනාව යනකොට ඉස්සරහට එන අදුක්ඛමසුඛ වේදනාව අඳුනාගන්න කැමතිත් නෑ, අඳුනාගන්න දක්ෂත් නෑ. ඒක නිසා එක්කො හයියෙන් හුස්ම ගන්නවා. අර ගොරෝසු ආශ්වාස ප්‍රාශ්වාස දෙක හෝ හොඳයි. එහෙම නැතිනම් පුම්බනවා අකුළනවා. නැතිනම් ඇස් දෙක ඇරලා බලනවා ඇත්තටම පණ නැද්ද, නැත්නම් පිම්බීම හැකිළීමත් නැති වෙලාද කියලා අඩු ගානෙ හිතෙන් බලන්න බැරි නම් ඇස් දෙක ඇරලා හරි බලනවා ඇත්තටම නැති වෙලාද කියලා. අර ගොරෝසු දේවල් හරි විචිත්‍රාකාරයි. ඒ අදුක්ඛමසුඛ වේදනාවට ක්‍රමානුකූලව නම් ආවෙ, ගොරෝසු තැන ඉඳල ක්‍රමයෙන් සියුම් වන භාවය පුරාම අඛණ්ඩ සතිය පැවතුණා නම්, යෝගාවචරයාට ධර්ම ශ්‍රවණයකුත් කලින් ලැබිලා තිබුණා නම්, ඒ යෝගාවචරයාට කල්පනා වුණොත් මේ ගොරෝසුවට පැවතුණා වූ ආනාපානය ආදී දේවල් හෝ කය පිළිබඳව වින්දන ක්‍රමයෙන් සියුම් භාවයකට පත් වුණා කියලා, ඒක යෝගාවචරයාට ලොකු සතුටකට හිටිනවා. ඒකයි **චූල්ල වේදල්ල සූත්‍රයේ** සඳහන් කළේ සුඛ වේදනාව නම් මතු වීම සැපයි, නැති වීම දුකයි. දුක්ඛ වේදනාව මතු වීම දුකයි, නැති වීම සැපයි. අදුක්ඛමසුඛ වේදනාව නම් දැනගැනීම සුඛයි. නොදැන සිටීම දුකයි කියලා.

ඒ නිසා මේ වේදනාවල් බලනකොට අපි අර කාම ලෝකයේදී පෙන්නලා තියෙන දර්ශනය හැටියට හැම වෙලාවෙම සුඛ වේදනාව, රසඥතාව, රස වින්දනය දිගේම යන කෙනාට නම් එකම සතුටයි තියෙන්නෙ. ඒ තමයි මේ සුඛය වැඩි කරගැනීම. සුඛ උපභෝග වස්තු, එහෙම නැත්නම් සුඛෝපභෝගී වස්තු කියලයි කියන්නෙ මේ සුඛය ලබාගන්න ඒවාට. නමුත් ඒක පිපාසෙට ලුණු වතුර බොන්නා වගෙ එන්න එන්න බොන්න බොන්න පිපාසය වැඩි කරන දෙයක්. නැත්නම් කුෂ්ට රෝගියෙක් ගින්නට කිට්ටු කරලා කුෂ්ටය කසන්නා වගේ දෙයක්. කවදකවත් ඒකෙන් කුෂ්ට රෝගය සුව වෙන්නෙ නෑ. ඒ වගේ රස වින්දනය දිගේ යාම කවමදකවත් කෙළවර වෙන්නෙ නෑ. ඒ වගේම තමයි භාවනාවේදී ගන්නකොට අත්තකිලමථානුයෝගයට වැටිච්ච ආදිකාලීන ගෞතම බෝධිසත්ත්වයින් වහන්සේට සමකාලීව ගන්නකොට දැනුත් නැතුවා නොවේ. අධික දුක් දීමෙන් නිවන් ලබන්න හිතන කට්ටියක් ඉන්නවා. මොකද, කාමසුඛල්ලිකානුයෝගය

ග්‍රාම්‍ය ධර්මයක් නිසා. ආධ්‍යාත්මික වින්දන, ආගමික වින්දන මේ ජීවිතයේ ඒකාන්තයෙන්ම අත්තකිලමථානු යෝගයට වැටෙන්න ඕනැ කියලා. ඉතින් මේ පැත්තට යන කට්ටියටත් කවදාවත් අදුක්ඛමසුඛ වේදනාව මිහිරි වෙන්නෙ නෑ. ආවත් වැදගත් අමුත්තකු විදියට භාරගන්නේ නැහැ.

ඒ නිසා අදුක්ඛමසුඛ වේදනාවේ ඉතාමත්ම වැදගත් කොටස තමයි, ඒක අදුක්ඛමසුඛ වේදනාව වශයෙන් දැනගන්න පුළුවන්කම. ඒක ඉතාමත්ම සූක්ෂ්මයි. අපි කියපු වේදනාවේ එකොළොස් ආකාරය බලනකොට "**හීනං වා පණීතං වා**" එහෙම නැතිනම් "**ඔළාරිකං වා සුඛුමං වා**" කියන මේ කොටස් දෙක හොඳට තේරුම් අරගන්න, අපි මේ ජීවිතයේ භාවනා ජීවිතයක් නොවුණ නම් කාම ලෝකයේ ජීවිතයේදී මේ වගේ කොටස්වල සියුම් භාවයන්ට යන්න ලැබෙන්නෙ නෑ. මොකද, ඒ තරම්ම ගොරෝසු සුඛ වේදනාව පසුපස එලවන නිසා. නමුත් භාවනා කරනකොට යෝගාවචරයාට භාවනාව හරි යනවා නම් ඒකාන්තයෙන්ම රූප කර්මස්ථානය, වායෝ පොට්ඨබ්බ ධාතුව සියුම් භාවයකට එන්න පටන්ගන්නවා. සියුම් භාවයට එනකොට අර අපි කලින් සඳහන් කළා වගේ අධික ප්‍රීතියක් හෝ අධික දුක්ඛ භාවයක් ආවෙ නැතිනම් මේ නාමස්කන්ධය වශයෙන් ඉස්සෙල්ලාම මතු වන්නා වූ වේදනාව එන්න එන්නම සුඛත් නැති දුකත් නැති අදුක්ඛමසුඛ මධ්‍යස්ථ වේදනාවකට පත් වෙන්නට පටන්ගන්නවා. මේ පත් වීම විෂයෙහි යෝගාවචරයා අදක්ෂ නම් සිත නින්දට වැටෙනවා. එහෙම නැතිනම් අපි කලින් මතක් කළා වගේ ආයෙත් ආශ්වාස ප්‍රශ්වාස ගොරෝසුවට ගන්න පටන්ගන්නවා. නැතිනම් පිම්බීම් හැකිළීම් හයියෙන් කරලා හෝ ඒ ගොරෝසු භාවයට යන්න බලනවා. මොකද අදුක්ඛමසුඛ වේදනාවට ආපුවහම මහා පාළු ගතියක් දැනෙනවා. මේක භාවනාවෙන් ලැබිච්ච, ලැබිය යුතු ප්‍රගතියක් වශයෙන් පිළිගන්න ලෑස්ති නැහැ.

මේ අනුව හැම වෙලාවෙම එක්කො අධික සුඛය, එහෙම නැතිනම් අධික දුක හොයන ගතියක් අපේ තියෙනවා. මේ අපේ හිතේ තියෙන ලාමක කෙලෙස්බර, අන්ධ පෘථග්ජන ගතිය. ඒක ධර්ම දේශනා කොච්චර කළත්, හොඳට පැහැදිලිව පෙන්වාදෙන්න පුළුවන්

වුණත්, භාවනා කරලා මේක තමන් තුළින්ම දැකගැනීම තරම් ඒකෙ ඇති වටිනාකමක් නෑ. මොකද ඒක එහෙම වෙනකොට කොච්චරක් මායාකාරීවද වෙන්නෙ කියන එක බලෙන් කියලා දෙන්න අමාරුයි. ඒ තරමටම මායාකාරීයි. ඒකට හේතුව භාවනාවට කල් ඇතිව තමුන්ගෙ තියෙන පූර්ව නිගමනය. මට ඕනෑ මෙහෙම වෙන්න. එහෙම නොවී දුක සුඛ දෙකම නැතිව අදුක්ඛමසුඛ වේදනාවට එනකොට යෝගාවචරයාට පේන්නේ ඉච්ඡා භංගත්වයක්. අර සිතූ දේ නොවේ හම්බ වෙන්නෙ. මට ඕනැ කරලා තියෙන්නේ ඒකාන්ත සැපක්. නමුත් ඒ වෙනුවට මට දැන් හම්බ වෙලා තියෙන්නෙ අදුක්ඛමසුඛ වේදනාවක්ය කියල මේ විදිහට විශේෂයෙන් තරුණ වීරියවන්ත යෝගාවචරයා භාවනාවට කලින් ඇති කරගන්නා වූ පූර්ව නිගමන–නිසා භාවනාව නිසි තින්දේ වැඩීගෙන යනකොටත් පෙරළි කරනවා, ඒකට අකුල් හෙළනවා. ඒක නිසි මාර්ගයේ විකාශය වෙලා යන බව දැනගන්න තියෙන අවස්ථාවට බාධා කරගන්නවා. ඒ මොකද අපි දන්නේ වේදනාව සුඛ, දුක්ඛ දෙක විතරයි. ඊට පස්සෙ අදුක්ඛමසුඛ වේදනාවක් තියෙනවා කියලා දැනගත්තත් ඒක නිසි මාර්ගයේ ක්‍රියාත්මක වෙනකොට හඳුනාගැනීමේ දක්ෂකම අඩු වෙනවා.

සර්වඥයන් වහන්සේගේ සමයේ සමහර ස්වාමීන් වහන්සේලා රූප ධර්ම වගේම නාම ධර්මවලත් තියෙන වටිනාකම් සාකච්ඡා කරනකොට ඒවා අතුරින් මේ වේදනාවේ ඇත්තා වූ වටිනාකම තේරුම් අරන් තියනවා. ඒක නිසා සමහර ස්වාමීන් වහන්සේලා අදහසක් වශයෙන් ප්‍රකාශ කරන්නට යෙදුණා මම සර්වඥයන් වහන්සේගේ ධර්මය කෙළින්ම අහපු කෙනෙක්. සර්වඥයන් වහන්සේගේ වේදනා පිළිබඳව බෙදා දැක්වීම ගැන මම දන්නවා. ඒකාන්තයෙන්ම ඒ ගැන මට ඔය ඇත්තන්ට කියන්න පුළුවන්. මේ වේදනාවෙ තියෙන්නෙ හොඳ නරක දෙක - සුඛ දුක්ඛ දෙකයි. ඊට පස්සෙ තව ස්වාමීන් වහන්සේ නමක් බොහොම නිශ්ශබ්දව ඉඳලා මේ සාකච්ඡාවට සම්බන්ධ වෙලා මතක් කරලා දෙනවා ඇවැත්නි එහෙම කියන්න එපා. සර්වඥයන් වහන්සේ දේශනා කරපු දෙයක් මේ විදිහට විලෝපනය කරන්න එපා. ඒක සර්වඥයන් වහන්සේට නිග්‍රහ කිරීමක්. සර්වඥයන් වහන්සේ ඒකාන්තයෙන්ම සුඛ වේදනාව

දුක්ඛ වේදනාව සහ අදුක්ඛමසුඛ වේදනා කියලා කොටස් තුනකට කඩල දැක්වූවා. ඒ නිසා මේ අපි භාවනානුයෝගී යෝගාවචරයො වශයෙන් මේක දැනගන්න ඕනෑ. ඊට පස්සෙ අර ඉස්සෙල්ලා ස්වාමීන් වහන්සේ නතර වුණ ගමන් දෙවෙනි ස්වාමීන් වහන්සේ ඒකෙන් නව මතයක් ඉදිරිපත් කිරීමෙන් සාකච්ඡාව වැඩි ජනප්‍රිය භාවයට පත් වුණා. එතකොට තව ස්වාමීන් වහන්සේ නමක් මතක් කරලා කියනවා ඇවැත්නි, අරිට වැඩිය ඔය කියපු කතාව කරුණු සහගතයි. නමුත් සර්වඥයන් වහන්සේ සුඛ වේදනාව, දුක්ඛ වේදනාව, අදුක්ඛමසුඛ වේදනාව, සොමනස්ස වේදනාව, දෝමනස්ස වේදනාව කියලා පහක් දේශනා කරලා තියෙනවා. ඉතින් මේ අනුව අර ඉස්සෙල්ලාම ස්වාමීන් වහන්සේට දැන් ආයෙ පණ එනවා. ඕක තමයි කිව්වෙ ඔබවහන්සෙ ඔය කිව්වට ඔයිට වැඩිය දෙයක් මේකෙ තියෙනවා. නැත්නම් සුඛ දුක්ඛ කිව්වාම ඇති, ආදී වශයෙන් මෙතැන කැම්බැල්ල පටන්ගත්තා. එකිනෙකා වාද කරන්න පටන්ගන්නවා.

පස්සේ සර්වඥයන් වහන්සේට ආරංචි වෙලා මේක සමථය කරන වෙලාවෙ උන්වහන්සේ කියනවා, මෝඩ මනුස්සයො තමන්ගෙ මෝඩකම් අදහස් අනුව ප්‍රකාශ කරලා ඒක දැඩි ලෙස අල්ලගෙන ඒකම ඔප්පු කරන්න දඟලනවා. සර්වඥතා ඥානය ඇත්තා වූ මට ඕනෑ නම් වේදනා එකක් පෙන්නලා දෙන්න පුළුවන් වේදනා ස්කන්ධය වශයෙන්. වේදනා දෙකක් පෙන්නලා දෙන්න පුළුවන් සුඛ, දුක්ඛ වශයෙන්. වේදනා තුනක් පෙන්නලා දෙන්න පුළුවන් අදුක්ඛමසුඛ වේදනාවත් එකතු කරලා. වේදනා පහක් පෙන්නලා දෙන්න පුළුවන්, සෝමනස්ස දෝමනස්ස කියලා. මට ඕනෑ නම් පනහකට කඩල පෙන්නන්න පුළුවන්. මට ඕනෑ නම් සීයකට කඩල පෙන්නන්න පුළුවන්. නමුත් මම පෙන්නලා දීල තියෙන්නේ යන්න පාරට අවශ්‍ය කරන මාර්ගෝපකරණ ටික විතරයි. ඕක අල්ලගෙන රණ්ඩු කරන්නේ ඇයි?

අන්න ඒ නිසා අපි තේරුම්ගන්න ඕනෑ රහත් වෙනකල්ම මේ වේදනා ස්කන්ධයේ ඉගෙනගන්න දේවල් තියෙනවා. ඒ නිසා අපි කවදාවත් නරකයි මේ වෙලාවේදී මට සැප වේදනා එන්න ඕනෑ, මේ වෙලාවෙ මට දුක් වේදනා එන්න ඕනෑ, මේ වෙලාවෙ මට

අදුක්ඛමසුඛ වේදනා එන්න ඕනෑ කියලා, මේ කිසිම දේක පූර්ව නිගමනයකට බහින්න. ඒ බැහීම මාර්ගයෙන්ම අපි භාවනා මාර්ගයට අකුල් හෙළනවා. ඒක නිසා වේදනාව සතිපට්ඨාන සූත්‍රයේ වචනයෙන්ම ගන්නවා නම් **"වෙදනාසු වෙදනානුපස්සී විහරති"** වේදනා විෂයෙහි වේදනාව අනුව බලනසුලුව වාසය කරනවා. එහෙම නම් මේකෙදී වේදනාව අනුන්ගෙ දෙයක් විදිහට බලන්න පුළුවන්කම ඉතාමත්ම වැදගත්. පරතෝ සංකල්පයෙන් වේදනාව දැකගන්න ඕනෑ. වේදනාව මගේ කියල බලන ගතිය හින්ද තමයි අපි කාම ලෝකයේදී නම් රසඥතාව අනුව සුඛ වේදනාවටම ඇබ්බැහි ගතියක් ඇවිල්ලා ඒකටම පහිඳින, ඒ මත්තේ මැරෙන්න වුණත් ලැස්ති ගතියක් තියෙන්නේ. එහෙම නැත්නම් අධික තපස් ගුණයට පත් වෙලා අත්තකිලමථානුයෝග පංච තප ක්‍රමයේ හැටියට හතර පැත්තෙන් ගිනි ගොඩවල් හතරක් ගහගෙන උඩිනුත් ඉර හොඳට පායන වෙලාවෙදි පස් පැත්තකින් මම කෙලෙස් තවනවා කියලා ඉඳගෙන දඩිය දගෙන ඉන්න එකත් කෙනෙකුට හිතන්න පුළුවන් විශාල තපසක් කියලා. මොකද, දුක්ඛ වේදනාව දැඩි ලෙස විඳිනවා. නමුත් ඒකෙත් කියන්නේ වේදනාවෙන් තමන් කැපී පේන්න උත්සාහ කරන ගතියක්. සුඛ වේදනාවේදී නම් වැඩි සුඛෝපභෝගී භාවයක් ලබාගැනීම සඳහා ධාර්මිකව හෝ අධාර්මිකව කටයුතු ක්‍රියාත්මක කරනවා. ව්‍යාපාර බහුල වෙනවා. අත්තකිලමථානුයෝගය නම් අනුන්ට විඳගන්න බැරි ප්‍රමාණයේ දුක් අවස්ථා මට විඳින්න පුළුවන් කියල හිතලා ඒ මාර්ගයෙන් තමන්ගේ ආත්ම පෝෂණය කරනවා. මේ දෙකෙන්ම කවදාවත්ම අඩුම ගානේ අදුක්ඛමසුඛ වේදනාව දැකගන්න තරම්වත් සිතේ ඉඩක් එන්නේ නෑ. යම් කිසි කෙනෙක් ඒ සුඛ, දුක, අදුක්ඛමසුඛ කියන මේ තුනම තේරුම් අරගෙන එය තේරුම්ගත්ත නිසා මම ලොක්කා කියලා හිතනව නම් අර කලින් දෙන්නා වගේම තමා. ඒත් තියෙන්නෙ මේ වේදනාව අල්ලාගෙන ආත්ම පෝෂණය කිරීම.

ඒ නිසා අපට සිද්ධ වෙනවා මේ වේදනාව අනුන්ගෙ දෙයක් විදිහට පත් කරගෙන බලන්න. මේකට හොඳ උපමාවක් එහෙම නැත්නම් හොඳ සන්සන්දනාත්මක සිද්ධියක් වෛද්‍ය විද්‍යාවේ තියෙනවා. වෛද්‍ය විද්‍යාවේදී වෛද්‍යවරයා වෛද්‍යවරයෙක් වෙන්න

නම් එයා ගිවිසගන්න ඕනෑ, අධිෂ්ඨානයක් ගන්න ඕනෑ, එහෙම නැත්නම් පිහිටන්න ඕනෑ එක ප්‍රතිෂ්ඨාවක. ඒ තමයි කවදාවත් ඒ රෝගියාගේ වේදනාවත් එක්ක තමා අනන්‍ය වෙන්න නරකයි කියලා. මේ මගේ දරුවා නේද? මේ මගේ අසවලා නේද? කියලා ඒ වේදනාව හඳුනාගත්තොත් එතැනින් එහාට ඔහු වෛද්‍යවරයෙක් නොවේ. ඒ නිසා ඔහුට සිද්ධ වෙනවා වේදනාව දිහා පරතෝ බැල්මෙන් බලන්න. වේදනාව මාතෘකාවක්, වේදනාව අරමුණක් පමණයි. ඒ රෝගියා කොච්චර උත්සන්නව කෑකොස්සන් ගහන්න ගත්තත් වෙද මහත්තයා නැත්නම් දොස්තර මහත්තයා ඒකත් එක්ක තමා අනන්‍ය වෙලා දඟලන්න පටන්ගත්තොත් ඒ වෙදකම හිටින්නෙ නෑ. ඔහුට පුළුවන් වෙන්න ඕනෑ ඒක ලෙඩක්, ඒක වේදනාවක් කියලා පරතෝ බැල්මෙන් බලන්න. පරතෝ බැල්මක් ඇති නම් ඒ දොස්තරට පුළුවන් ඒ රෝගියාට දිගින් දිගටම බෙහෙත් කරන්න. මොකද තමන්ගෙ හිත වෙන් කරගෙනයි තියෙන්නේ. තමන්ගේ හිත අර වේදනාවෙන් පෙළෙන රෝගියාගේ තත්ත්වයෙන් ආවේශ වෙලා නෑ. ආවේගයට පත් වෙලා නෑ.

ඒ නිසා සාමාන්‍ය වෛද්‍යවරුන්ගේ සම්මතයක් තියෙනවා, තමන්ගෙ පවුලෙ ඉතාම කිට්ටු අයට වෙදකම් කරන්න යන්නෙ නෑ. ඒ මොකද වේදනාව ආපු රෝගියා, අපි සාමාන්‍ය සිංහලෙන් කියනවා උණ රෝගියා කැඳ ඉල්ලන්න වගේ මේ දැන් මේක රිදෙනවා කියලා කෑගහනවා. ඊළඟට අනිත් පැත්ත කියල කෑගහනවා. තව පොඩ්ඩකින් තව එකක් කියලා කෑගහනවා. දොස්තර සාමාන්‍යයෙන් කරන්නෙ දවස් දෙකකට සැරයක් ඇවිල්ලා ඒ වෙලාවෙදී කියන ටික විතරක් අහනවා. එහෙම නැත්නම් උදේ ඉඳන් හැන්දෑ වෙනකන් දොස්තර ඉන්න ගියොත් අර රෝගියා නිතරෝම එන එන දේවල්වලට තැවිලා එන එන දේවල්වලට බය ඇති වෙලා නානාවිධ දේවල් කියනවා. ඒ ඔක්කොම දේවල්වලට වෙදකම් කරන්න පටන්ගත්තොත් කවදාවත් ප්‍රධාන රෝගය වෙන් කරලා හඳුනාගන්න හම්බ වෙන්නෙ නෑ. බේත් පන්තියක් දෙන්න වෙයි. වෛද්‍ය වෘත්තියේ පැහැදිලිව හඳුන්වා දෙනවා රෝගියාගේ වේදනාත් එක්ක තමා අනන්‍ය වෙන්න යන්න එපා කියල. ඒ වේදනාව ඒ වෙලාවෙ රෝගියාට දැනෙන දේ කියනවා.

මේක ඉතාමත්ම විවේකීව වෙන් කරගත්ත හිතකින් අහන්න පුළුවන් ශක්තියක් තියෙන්න ඕනෑ.

මේකෙ තත්ත්වෙ මීට වඩා ටිකක් විතර සංකීර්ණයි මානසික රෝගීන් සම්බන්ධව. ඒ මොකද, මානසික වෛද්‍යවරයා පුළුවන් තරම් උත්සාහ කරනවා ඒ මානසික රෝගියාට නිසි නින්දේ නිදැල්ලෙ කතා කරන්න ඇරලා, ඒ චරිතයට වෙච්ච දේවල් හෝ දැනට පවතින මානසික පීඩන තත්ත්ව හඳුනාගන්න. නමුත් කැසට් යන්ත්‍රයකට සද්ද කවන්නා වගේ කතා කර කර හිටියොත් අර රෝගියාගේ හැඟීම්බර භාවය නැති වෙලා යනවා. රෝගියා දැනගන්නවා මේ බිත්තියකට කතා කළා විතරයි. යන්තරේට කතා කළා විතරයි. මේ දොස්තරගේ කිසිම කැක්කුමක් නෑ. කිසිම හඳුනාගන්න ගතියක් නෑ. ඒ නිසා දොස්තරට සිද්ධ වෙනවා ලෙඩාව ටිකක් අවුස්සන්න. අන්තිමට බැලින්නං දොස්තරට පිස්සු හැදිච්ච දවසේ තමයි දන්නෙ, මම මේ ටිකෙන් ටික නමුත් මේ රෝගියාගේ තත්ත්වෙ හඳුනාගන්න ගියා, ගිය නිසා අන්තිමට පිස්සෙක් වගේ හැසිරෙන්න වෙනවා. ඒ කරල අන්තිමට පිස්සු හැදෙනවා. ඒ නිසා දොස්තර කවද හරි රෝගියාගේ රෝග ලක්ෂණත් එක්ක නටන්න පටන්ගත්තොත් දොස්තරත් ලෙඩෙක් වෙනවා. රෝගියා මානසික වෛද්‍යවරයෙක් වන රෝගියෙක් නම්, දොස්තර මානසික රෝගියෙක් වෙනවා. රෝගියා කායික රෝගියෙක් නම්, එකම රෝගයකට වෙදකම් කරන ඒ දොස්තරටත් ඒ ලෙඩේ එනවයි කියන එක නම් හිතාගන්න වෙනවා.

නමුත් මේ ලෝකයේ කෙලෙස් රෝගයට වෙදකම් කරලා බුදු හාමුදුරුවො ලෙඩ වුණේ නම් නෑ. ඒ මොකද උන්වහන්සේ කොටින්ම කිව්වා කලින්ම මට ඔය ඇත්තන් වෙනුවෙන් කරන්න දෙයක් නෑ. මෙන්න මාර්ගය දක්වල තියෙනවා, තමතමන් මාර්ගයේ ගමන් කරන්න කියලා. ඉතින් ඒක නිසා අද කතෝලික සභාවෙන් නම් හොඳටම කියන්න ඉඩ තියනවා බුදුහාමුදුරුවො කිසිම පපුවක් නැති කැක්කුමක් නැති අන්ත ආත්මාර්ථකාමී පුද්ගලයෙක් කියලා. තමන්ගෙ වැඩ ඔක්කොම සිද්ධ කරගෙන අත පිහිද ගත්තැයි කියලා. ගැඹුරු සත්‍යයක් මේකෙ තියෙන්නෙ. වෙන විදියකට කියනවා නම් දුක්ඛ සත්‍යයේ එක නිරූපණයක් මෙතන තියෙන්නේ. යෝගාවචරයා

බුදුහාමුදුරුවන්ගෙ නැත්නම් ගුරු හාමුදුරුවන්ගෙ ඇඟේ එල්ලෙනවා. නැත්නම් ඒ ස්ථානෙ මොකක් හරි එකක් අල්ලගන්නවා. අල්ලගෙන කියනවා කිසි කැක්කුමක් නෑ. මෙච්චර මේ ලෝකෙ තියෙන උත්තම ක්‍රියාව කරන්න ගියත් අපි ගැන බලන්න කෙනෙක් නෑ. අපි මෙහෙම කිව්වහම ඒක සලකන්නෙ නෑ.

මෙහෙම කරන්න ගියාම කොහොමද මේකෙ දුක්ඛ සත්‍යය අවබෝධ කරන්නෙ? නැත්නම් වේදනාවෙ දුක පැත්ත සුඛ පැත්ත අදුක්ඛමසුඛ පැත්ත කියන තුන හඳුනාගන්න හම්බ වෙන්නෙ නෑ. මේක රෝගියාටත් පුරුදු කරන්න ඕනෑ. නැත්නම් යෝගියාටත් පුරුදු කරන්න ඕනෑ. එහෙම නැතිනම් හැගුම්බරව කටයුතු කරන්න පුළුවන් ගතිය එන්න එන්න අඩු වෙනවා. ඒ අඩු වීම තුළින්ම තමයි මේ අපිට වේදනාව දිහා පරතෝ සංකල්පයෙන්, හිත මෑත් කරගෙන මේක දිහා බලන්න පුළුවන් ගතියක් එන්නේ.

තවත් මේක භාවනා කරන අරමුණට සමීපව, එහෙම නැත්නම් භාවනා ජීවිතයේ සෑහෙන අත්දැකීම් ඇති කෙනෙකුට තේරුම්ගන්න පුළුවන් විදිහට ඉදිරිපත් කළොත්, අපි දන්නවා ආරම්භයේදී නීවරණ ධර්ම තදින් බලපාන වෙලාවලදී අරමුණ සිතත් සමග සමීපව ගමන් කරවීමට නීවරණ බැහැර කරන අවස්ථාව යෝගාවචරයාට විශාල සටනක්. මේ වෙලාවේදී අපි කෙටියෙන් මතක් කරනවා මූල කර්මස්ථානය හැකි තාක් දුරට මෙනෙහි කරමින් මූල කර්මස්ථානයෙ විස්තර හැකි තාක් සමීපව බලන්න. බාහිර දේවල් පුළුවන් තරම් දුරින්ම දුරු කරගෙන අරමුණේම හිත ගල්වාගෙන හිත නිමග්න කරගන්න පුළුවන් නම් මේ ප්‍රශ්නෙට එක උත්තරයක් ලැබෙනවා. අනිත් එක, කායික වේදනාව අඩු කිරීමට පුළුවන් තරම් සක්මන් කරලා වාඩි වෙන්න. එතකොට කය සෑහෙන වෙලාවක් යනකං අර සක්මනෙන් ඇති වෙච්ච ව්‍යායාම් නිසා එක ස්වභාවයෙන් තියාගෙන ඉන්න පුළුවන්. අන්න ඒ තත්ත්ව දෙක යටතෙදි අරමුණත් එක්ක හිත මුහුණට මුහුණ දල හිටියොත් නීවරණ ධර්ම යම් කිසි ප්‍රමාණයකට ඈත් කරගැනීමට හැකි වෙනවා. මේක වඩාත්ම සත්‍යයි ශුද්ධ විපස්සකයාට. ඒකයි මේ ශුද්ධ විපස්සනාව දුක්ඛ ප්‍රතිපදාවක් කියලා කියන්නෙ.

මෙන්න මේ තත්ත්වය යටතේදී අපි හිතමු මේ යෝගාවචරයා කාලයක් මහන්සි වෙලා භාවනා කරලා මේ ප්‍රදේශය තේරුම් අරගෙන අරමුණ වේගයෙන් මෙනෙහි කරලා කරලා කරලා ඉතාමත්ම සමීප වෙලා අරමුණට හිත වැටුණා, එහෙම නැත්නම් අරමුණට හිත වැටුණා සේ ක්ෂණික සමාධිය පිහිටියා කියලා. "**පටිපක්ඛෙන අනභිභූතො අප්පිතො විය චිත්තං නිච්චලං ඨපෙති.**"[1] ඒ කියන්නේ දිගින් දිගටම මෙනෙහි කරමින් යන යෝගාවචරයාට නීවරණ ධර්ම යම් කිසි වෙලාවක දුරුවන් කරගන්න පුළුවන් නම්, සමථ සමාධියකට හිත වැටුණා වගේ අර ක්ෂණික සමාධිය අරමුණේම අර්පණා සමාධියක් වගේම නිශ්චල වෙන්න පටන්ගන්නවා. එතකොට යෝගාවචරයාගේ භාවනාව සෑහෙන තලතුනා අවස්ථාවකට පත් වෙලා මොන දේ කළත් දැන් අරමුණෙන් හිත ගන්නෙ නෑ. නමුත් ඒ තියෙද්දි සද්ද ඇහෙනවා, වේදනාව දැනෙනවා, සිතුවිලි එනවා, කය තියෙන බව දැනෙනවා, ආදී වශයෙන් අර මූල කර්මස්ථානයේම හිත පවතිද්දීම, අර ඉස්සර වගේ තළා පෙළාගෙන යන මට්ටමෙන් නොවුණත් නීවරණ ධර්ම හොල්මන් කරන්න පටන්ගන්නවා. භාවනාවෙ යම් කිසි විදිහක එකලසක් පවතිද්දි එක විදියකට යද්දිම නීවරණ ධර්ම මතු වෙන්න පටන්ගන්නවා.

අපි හිතුවොත් අන්න ඒ වගේ මූල කර්මස්ථානයත් තියෙනවා, ඒ අතරමැද අපිට වේදනාවක් එනවා. අපි දන්නවා දැන් විනාඩි 35 ක් මට ඉඳගෙන ඉන්න පුළුවන්. දැන් විනාඩි 38 ක් වෙලා. ටිකෙන් ටික ටිකෙන් ටික ටයර් ටියුබ් එකකට වතුර පුරවනවා වාගේ යට පැත්තෙන් පුපුරන ගති, හිරි වැටෙන ගති, රිදෙන ගති ඊයෙ තාලෙන්ම එනවා. යෝගාවචරයා දන්නවා සාධාරණයි මේ වේදනාව. මොකද මං ඊයෙත් හිටියෙ මෙච්චරයි. දැන් ඒ වෙලාව පැනල. ඉතින් ඒ අතරමග ගුරු උපදේශය ලැබිලා තිබෙනවා පුළුවන් තරම් මූල කර්මස්ථානයේම හිත පවත්වන්න. එහෙම හිත පවත්වාගෙන

---

[1] විසුද්ධි මග්ග (පඨමො භාගො), අනුස්සතිකම්මට්ඨානනිද්දෙස වණ්ණනා, ආනාපානස්සතිකථා වණ්ණනා

යනකොට ටිකෙන් ටික වේදනාව මතු වෙනවා. යෝගාවචරයා හොඳ විනිශ්චයක් අරගෙන, හොඳයි දැන් මූල කර්මස්ථානයට වැඩිය වේදනාව බලවත්. ඒ නිසා මේ තත්ත්ව යටතේදී නැවත නැවතත් අස්වාභාවිකව අසාධාරණව මූල කර්මස්ථානය මෙනෙහි කරල වැඩක් නෑ. ඒ නිසා මම දැන් වේදනාව මෙනෙහි කරන්න ඕනෑ කියලා අර මූල කර්මස්ථානය බහා තබලා දරුණුවට පත් වෙන්නා වූ වේදනාව මෙනෙහි කරනවා. මෙනෙහි කළාට අහන්නෙ නෑ. අරමුණ පැත්තක තියලා අපි හිතමු වම් දණහිසේ වේදනාවක් එනවා. කපන්නා කොටන්නා වාගේ දැනෙනවා. මේ ගැන මෙනෙහි කර කර ඉන්නකොට යෝගාවචරයා හිතනවා දැන් මේ මෙතෙක් වෙලා බහා තබන ලද, කරගෙන ආපු මූල කර්මස්ථානයට යන්න පුළුවන් කියලා. නමුත් වේදනාවට අල්ලපු ගමන් කොහොල්ලෑ බබා වගේ ගහන ගහන එකෙන් වේදනාවට අහු වෙනවා. ඒ නිසා මූල කර්මස්ථානය පෙනුණත් යන්න විදිහක් නෑ. මොකද මේක එන්න එන්නම දත් විලිස්සාගත් සතෙක් වාගේ පනින්න බලනවා.

ඉතින් ඒ අවස්ථාවේදී යෝගාවචරයා ඒ වේදනාවත් එක්ක දිගින් දිගටම කටයුතු කරනකොට ඒ යෝගාවචරයා යම් වෙලාවක පරදිනවා නම්, ඒ කියන්නෙ වේදනාව යෝගාවචරයා විසින් යටපත් කරනවා නම්, අනිවාර්යයෙන්ම මේ යෝගාවචරයාගේ හිතේ ද්වේෂයක් හටගන්නවා. මේ වේදනාවල මුල මෙහෙමයි, මැද මෙහෙමයි, අග මෙහෙමයි කියලා දැනගන්නාසුලු අර අභ්‍යාසයක් කරනාසුලු වූ විද්‍යානුකූල දර්ශනය වෙනුවට අර වේදනාව නැති කර දැමීමේ පිහල දැමීමේ දුරු කරගැනීමේ ද්වේෂ හිත පහළ වෙනවා. ඒ නිසා මෙනෙහි කරන්නේ හරියට තරහකාරයෙකුට පරුෂ වචනයෙන් බනිනවා වගේ. පන්තියේ ඉන්න ළමයෙකුගේ නම කියලා ඇතුල් වීමේ ලේඛනයේ නම කතා කරනකොට ඒක බැනිල්ලකුත් නෙවේ. ආදරයකුත් නෙවේ. ළමය ඉන්නවද බලන්න නම කියනවා. එච්චරයි. මෙනෙහි කිරීම කියන්නෙ ඒකයි. එහෙම නැතුව මේ කේන්ති ගියපු වෙලාවට අල්ලපු ගෙදර මනුස්සයා එක්ක ද්වේෂයෙන් කතා කරනකොට ඒත් නමක් කියලා කථා කරනවා. නමුත් ඒක සාමාන්‍ය වෙලාවක කියාගන්න බැරි නම් ඒ වෙලාවේ කියාගන්නවා. ආන්න ඒ වගේ තමයි අර කේන්ති ගිහිල්ලා වේදනාව මෙනෙහි කරන්න ගියහම වේදනාව

මෙනෙහි කරන්නෙ වින්දනයක් වශයෙන් හෝ වේදනාවක් වශයෙන් අර උඹ නොදකින් කියන අදහසකින්. එතකොට ඒ යෝගාවචරයාට තේරුම් අරගන්න පුළුවන් මේ මෙනෙහි කිරීම වැඩ කරන්නේ නෑ, වැඩ කරන්නේ නැතුව යන්න හේතුව ඒ මෙනෙහි කිරීම ද්වේෂය විසින් පලුදු කිරීමයි.

එතකොට යෝගාවචරයාට ද්විත්ව වූ මෙනෙහි කිරීම් ක්‍රමයක් පාවිච්චි කරන්න වෙනවා. එකක් තමයි මූල කර්මස්ථානය විදගෙන යන්න තරම් ආපු ඒ වේදනාව. ඒ වේදනාව අපි මෙනෙහි කරනවා. එතනම හිත තියාගෙන මෙනෙහි කරන ගමන් සැලකිලිමත් වෙන්න ඕනෑ දැන් ද්වේෂය ඇවිල්ලා තියනවා. වේදනාව විෂයෙහි අපේ සංඥාව වෙනස් වෙලා. ආන්න එහෙම නම් ඒ පැමිණුනා වූ ද්වේෂයත් මෙනෙහි වෙන්න ඕනෑ. මෙනෙහි කෙරුවොත් යෝගාවචරයාට පෙනේවි, මේ වේදනාව නෙමෙයි අපිට විඳින්න බැරි. මේ වේදනාව වංචනික වශයෙන් ඉතාම දරුණු විළිස්සාගත්ත සතෙක් බවට පත් කරන ඒ ද්වේෂය විසින් සත්‍යය සම්පූර්ණයෙන්ම අවුල් කරනවා. අඩු ගානෙ මෙනෙහි කිරීම අරමුණ දිහාවට යන්න තියෙන මාර්ගයත් අවුල් කරනවා. ඒ නිසා මෙනෙහි කළාට කවදාවත්ම පඳුරට වැදුණා මිසක් හාවට වදින්නෙ නෑ.

ඒ නිසා අර ද්වේෂය වෙන් කරලා, නැත්තම් ද්වේෂය ද්වේෂය වශයෙන් දැනගෙන මෙනෙහි කරගන්න පුළුවන් නම් ඒ යෝගාවචරයාට දැකගන්න පුළුවන් වෙනවා, වේදනාව විෂයෙහි අපේ ඇති වන්නා වූ සංඥාව, අපි ගන්නා වූ ආකල්පය සම්පූර්ණ චිත්‍රය අවුල් කරන බව. ඒක තේරුම්ගන්න ඒක මෙනෙහි කරන්න පුළුවන් නම් ඊට පස්සේ දැකගන්න පුළුවන්, වේදනාවට හොඳට ඇහුම්කන් දෙන්න පටන්ගන්නකොට, වේදනාව ඉතාමත් වැඩි වෙමින් තියෙන එකක් වෙන්න පුළුවන්, මධ්‍යස්ථව තියෙනවා වෙන්න පුළුවන්, අඩු වෙමින් තියෙනවා වෙන්න පුළුවන්. ආං ඒ වෙලාවෙදී වේදනාව දැකගැනීම අපිට කියන්න පුළුවන් මධ්‍යම ප්‍රමාණයේ වේදනාවක් දැකගන්න අවස්ථාව. ඒකෙන් යම් වෙලාවක යෝගාවචරයාට ජයගන්න පුළුවන් උනා නම්, වේදනාව ගැන වඩාත් සාර්ථකව මෙනෙහි කරන්න පුළුවන් නම් නැවත ඔහු මූල කර්මස්ථානයට

එන්නෙ විශාල වීරත්වයකින්. ලොකු ජයග්‍රාහී හිතකින්, ලොකු පෞරුෂත්වයකින්. ඒ මොකද, පුංචියට එන වේදනාවක් වහා මෙනෙහි කරලා පිහල හැරියා වගේ නෙමෙයි, වේදනා විෂයෙහි ඇත්තාවූ මේ ද්වේෂයත් දැනගෙන, ඒකත් පිහලා, ඊළඟට වේදනාවත් දැකලා ඒකත් හරි හැටියට තේරුම් අරගෙන, මේ තමයි වේදනාවෙ මධ්‍යස්ථ මට්ටම, ඒකෙ අත්ථංගමය - බැහැල යාම - මේකයි කියලා දැනගත්තහම ලොකු සතුටක් ඇති වෙනවා. ඒ යෝගාවචරයාට හිතේ අධිෂ්ඨානයක් එන්න පුළුවන් අනේ මට මීට වඩා දරුණු වේදනාවක් එනව නම් මගේ සතිය, සමාධිය, ඇත්තද කියලා බලන්න කියල අභියෝගශීලී හැඟීමක් එන්න පටන්ගන්නවා. ඒ යෝගාවචරයාට මතු දවසක මීටත් වඩා ජීවිතේ පැහැරගන්න උග්‍ර වේදනාවක් ආවත් ඒක විඳගෙන මේක තුළ පවතින්නා වූ මේ වේදනාවේ මායාකාරී තත්ත්වය, ඒකෙ ඇති වීම මෙහෙමයි පැවතීම මෙහෙමයි නැතිවීම මෙහෙමයි කියලා දැනගන්නවා. මොකද, ඊට කලින් කරපු සතිපට්ඨාන භාවනාව නිසා යෝගාවචරයා දන්නවා මේ කොයි වේදනාව ආවත් ඒක බදගන්න ගියොත්, මගෙයි කියා ගන්න ගියොත් පැන පැන කනවා. මේක එන්නේ යන්නයි. බදගන්නෙ හිතෙනුයි. ඒ නිසා ඒ බදගන්න හිත පැත්තක තියලා, ඇවිල්ලා යන්න ආපු මනුස්සයට නම කතා කරලා යවන එකයි තියෙන්නෙ.

මෙන්න මේ විදිහට වේදනාව, එන්න එන්න අර තිබුණට වඩා ඉහළ මට්ටමක වේදනාවක් දරා කියාගන්න පුළුවන් මට්ටමට එනකොට, මේ යෝගාවචරයාට ඉස්සර පුළුවන් උදේ වරුවෙ විතරයි නම් හැන්දෑ වරුවේත් භාවනා කරලා බලන්න පුළුවන්. ඉස්සර පුළුවන් ආරණ්‍යයේ විතරක් නම්, දැන් ගමෙත් පුළුවන්. ඉස්සර කරන්න පුළුවන් භාවනා කරන අය මැද විතරක් නම් දැන් භාවනා නොකරන පිරිස එක්කත් භාවනා කරන්න පුළුවන්. ආන්න ඒකෙදී යෝගාවචරයාගේ ඉවසීමේ ශක්තියේ දැඩි බව එන්න එන්නම වැඩි වෙනවා. මෙන්න මේ වැඩි වීම ඉස්සෙල්ලාම වැටහෙන්නෙ යෝගාවචරයාටමයි. නමුත් මේක සමාජ ධර්ම පැත්තෙන් ගත්තොත්, අන්ධ පෘථග්ජන පැත්තෙන් ගත්තොත් මේක නෝන්ජල්කමක්ය කියල හිතෙන්න ඉඩ තියෙනවා. මේ සතුට කායික වේදනාවක් නෙවෙයි. අපි හිතුවොත් වෙන කෙනෙක් එක්ක පවත්වන සම්බන්ධතාවකදී

අනිත් ඇත්තන්ගෙ වැරැද්දක් දැක්කත්, එහෙම නැත්නම් අනිත් ඇත්තෙක් ඇවිල්ලා අපේ වැරැද්දක් දැක්කත් දැන් අපිට ඉවසන්න පුළුවන් ගතිය තියෙනවා. නමුත් අපිට හිතෙන්න පුළුවන් මෙහෙම කෙරුවොත් හෙම බුදියගෙන ඉන්න සිංහයගේ ඔඩොක්කුවේ මීයො දුවන්නා වගේ ඔක්කොමල එයි අපේ ඔළුවට අත හෝදන්න කියල. සමහර වෙලාවට අපට හිතෙනවා පෙණේ පුප්පන්න ඕනෑ කියල. නිකන් ඉඳල හරි යන්නේ නැහැ කියල සංඥාවල් අපිට බාධා කරනවා. පුළුවන්කම තියෙනවා. ඒ පුළුවන්කම දිගේ දරාගෙන ඉදිරියට යනව නම් ඒ යෝගාවචරයා තනියම බුදු වන කෙනෙක් බවට පත් වෙන්න ඉඩ තියනවා. ඒ වෙනුවට, මේ මනුස්සයටත් පාඩමක් කියල දීලා යන්න ඕනෑ, මෙහෙම ඔක්කොටම ඕව නිදහස් කරන්න බැහැ කියල ඒ දේවලුත් හදන්න පටන්ගත්තොත් අර සම්පූර්ණ යෝගී තත්ත්වයට බාධයි.

ඒක නිසා මුලිනුත් මම සඳහන් කළේ වේදනාවත් එක්ක ඉවසන එක නෙවේ ප්‍රශ්නෙ. ඊට පස්සෙ තියෙන සංඥාව. අපේ පරණ කියමනක් තියෙනවා කිඹුලා කනවා ඉවසන්න පුළුවන්, කොහිල කටු ඇනෙන එක තමයි ඉවසන්න බැරි කියල. ඉතින් යෝගාවචරයා දැනගන්න ඕනෑ මේ ධර්ම වංචනික ස්වභාවයෙන් වැඩ කරනවා. රූප ධර්මවල වංචනික භාවයට වඩා සීඝ්‍රයි, උග්‍රයි නාම ධර්මවල. ඒ නිසා ඒවායේදී මුල මැද අග තුන දැනගනිමින් භාවනා කරනවා කියලා කියන්නෙ ඊයෙ කරපු මට්ටම අදට පදනම් වෙන්න ඕනෑ. පදනම් වෙන්න වෙන්න, ඒක අල්ලපු ගෙදර එකක් වගේ, නැත්නම් අනුන්ගෙ එකක් වගේ ආගන්තුක භාවයකින් හිත මෑත් කරගැනීමේ ශක්තිය ඇති වෙනවා. ඉතින් එතකොට අර කලින් කියපු රසඥතාව නැති වෙනවා. හැඟුම්බර ගතිය නැති වෙනවා. වින්දනය කරන්න පුළුවන් ගතිය නැති වෙනවා. එතකොට ලෝකයා අපිට චෝදනා කරනවා මොනම දෙයක් කිව්වත් ඇති වැඩක් නැහැ, ගණන්ගන්නෙ නැහැ. ඉස්සර නම් කවුරු හරි ප්‍රශ්නයක් කිව්වහම හොයල බලන ගතියක් තිබුණා. කවුරු හරි ඇවිල්ල දුක් ගැනවිල්ලක් කිව්වොත් හොයල බලන ගතියක් තිබුණා. දැන් ගණන්ගන්නෙ නැහැ.

ඒකත් යෝග ජීවිතයේම කැල්ලක් තමයි. තේරුම්ගන්න ඕනෑ මේකට කියන්නෙ නිබ්බිද ඤාණය. නිර්වින්දනය. මොනම දේකවත් වින්දන ගතිය නැහැ. ඒ වින්දන ගතිය නැති වෙලා තියෙන්නෙ අඥාන උපේක්ෂාවෙන් නෙමෙයි. ඒක හොඳට මතක තියාගන්න ඕනෑ යෝගාවචරයා. මේක සති සම්පජඤ්ඤයෙන් යුක්තව සිද්ද වෙන වැඩක්. අපේ අපවත් වෙච්ච ලොකු ස්වාමීන්වහන්සේ ලියුමක් ලියල කියනවලු ලෙඩ්ඩු කෙඳිරිගාන්නේ වේදනාවට. උඹ මොකද කෙඳිරිගාන්නේ? උඹට වේදනාවක් නැහැනෙ? උඹ උඹේ වැඩක් බලාගනින්. ලෙඩ්ඩු කෙඳිරිගානව කියල තමනුත් කෙඳිරිගාන්න ඕනෑ කියල දෙයක් නෑ. භාවනා නොකරපු කෙනාට වේදනාව ලෙඩක් තමයි. නැත්නම් ඒකෙන් ලෙඩක් දගන්නවා. භාවනා කරපු කෙනාට වේදනාව කියන්නේ අරමුණක් විතරයි. ඒකෙ මුල මෙහෙමයි, මැද මෙහෙමයි අග මෙහෙමයි. ඉතින් භාවනා නොකරපු කෙනෙක් ඒකට අපට චෝදනා කළාට අපි කියන්න ඕනෑ ඒ මනුස්සයට ලෙඩක් තියන නිසයි කෙඳිරිගාන්නෙ. අපි ඒකට කෙඳිරිගාන්න ගොරවන්න ඕනෑකමක් නැහැ. එහෙම කෙඳිරිගාල ගොරවලා කවදාවත් මේ ලෝකෙ නඩු විසඳන්නත් බැහැ.

ඒ නිසා වේදනානුපස්සනාව පිළිබඳව ඉදිරියට යනකොට, අර මධ්‍යස්ථ අවස්ථාවේදී වේදනාව එනවා, ප්‍රමාණෙ කියවගන්න පුළුවන්. ඊට පස්සේ කේන්ති යනවා. කේන්ති ගියාට පස්සෙ මෙනෙහි කිරීම වැඩ කරන්නේ නැතුව යනවා. අන්න ඒ වෙලාවෙදි හරියට දූනගෙන කේන්තියයි වේදනාවයි නැති වෙන තරමෙ මට්ටමට ගියා නම් යෝගාවචරයා එන්න එන්නම කතා නොකරම ඒ වේදනා විෂයෙහි පුදුමාකාර විෂය බලන තාලයකින් යන්න පටන් අරගන්නවා. එතනදි තපස් ගුණ වැඩෙනවා. ඉවසීමේ ගුණ වැඩෙනවා. ඒ ගුණ වැඩෙන්න වැඩෙන්න, වෙලාව වැඩි වෙන ගතියක් ඇති වෙනවා. වෙනදා පැය භාගයක් ඉන්න කෙනාට පැය තුන්කාල හමාර ඉන්න පුළුවන්. පැය හිටපු කෙනාට දෙක තුන ඉන්න පුළුවන්. අරමුණ මූල කර්මස්ථානයත් එක්ක වැඩි වෙලාවක් පැවැත්වීමේ ඉඩ පහසුකම ලැබෙනවා. ඉතින් අර වේදනාවෙන් ඉඩපාඩු ගන්නවත් එක්කම යෝගාවචරයා ඒ අවස්ථාව පැහැර හරින්න නරකයි. තමන් හිතාගන්න ඕනෑ මේ වේදනා විෂයෙහි තියන මේ වටිනා පිම්ම පැනල

අපි වැඩි වෙලාවක් වැඩි ප්‍රස්තාවක් අරමුණත් එක්ක මුහුණට මුහුණ දල ඉන්න එකේ ජයග්‍රහණයේ ජය පැන් බොන්න යන්න නෙමෙයි තියන්නේ, වැඩිවැඩියෙන් අරමුණේ මූල කර්මස්ථානයේ තොරතුරු දැක දැනගන්න එක. හැඩ නිල ආකාර සටහන් දැනගන්න දැනගන්න ඒ යෝගාවචරයාට ඒ රූප කර්මස්ථානයේ මූල කර්මස්ථානයේ ඇත්තා වූ මේ හැඩනිල දැනගැනීම මාර්ගයෙන්ම මේ යාන්තමට දැනගත්තා වූ වේදනාවේත් හැඩනිල රාශියක් දැනගන්නවා.

රූප අරමුණක් වේවා නාම අරමුණක් වේවා මේකෙ සමානතා වගයකුත් තියනවා. අන්න ඒ සමානතා වැඩ කරනකොට ඉස්සර වෙන්නෙ රූප කර්මස්ථානය. රූප කර්මස්ථානයේ ආලෝකයෙන් තමයි නාම කර්මස්ථානය හඳුනාගන්නේ. නමුත් නාම කර්මස්ථානය උදව් වෙනවා රූප කර්මස්ථානය සමග වැඩි වෙලාවක් මුහුණට මුහුණ දලා ඉන්න ශක්තියක් ඇති කරන්න. මෙන්න මේ විදියට මේ දෙන්න කොණ්ඩේ ගොතනවා වාගේ මේ ගොතාගැනීමෙන් තමයි භාවනාව ගෙනියන්නේ. ඒ නිසා අපි අධිෂ්ඨාන කරගන්න ඕනෑ, භාවනාවේ වැඩි වෙලාවක් ඉන්න නම් විශේෂයෙන්ම වීර්ය ශක්තිය වැඩෙන්න නම් ඒ වේදනාව පිළිබඳව පරතෝ සංකල්පයෙන් බලන්න ඕනෑ. අනුන්ගේ එකක් වාගේ, දෙස්තර කෙනෙක් ලෙඩාගෙ වේදනාව දිහා බලනවා වාගේ හැඟීමකින් කටයුතු කරන්න ඕනෑ. ඉස්සෙල්ල ඉස්සෙල්ල හැඟුම්බර ගතිය වැඩියි. පහු වෙනකොට හැඟුම්බර ගතිය අඩු වෙලා ඒ ගතිය විද්‍යාත්මක පැත්තෙන් අධ්‍යයනය කරන ගතිය වැඩි වෙලා, අවසානයේ මරණ වේදනාවත් පර්‍යංකයේදීම වින්දෙ නැත්නං නම් හිතන්න එපා ලබන ආත්මෙදි ආයෙත් මේ අවස්ථාව ඒකාන්තයෙන් ලැබෙනවා කියලා. ඒ නිසා මරණ වේදනාවත් මේකෙ විඳින්න ඕනෑ. 'මරණය හා සමාන, පඨවි ආපෝ තේජෝ ධාතු වල විවිධ අවස්ථා ආවහම, මීටත් වඩා මට මේ තත්ත්වය දරාගන්න පුළුවන්, කරගන්න විඳගන්න පුළුවන් ශක්තියක් ලැවේවා' කියන අදහස හැම වෙලාවෙදීම මේ ජීවිතයේදීම, මේ ආත්මයේදීම, මට ලැබුණොත් ඒක මේ ජීවිතයේදීම ලොකු ජයග්‍රහණයක්. මේ පංචස්කන්ධය ඉගෙනගන්නවා කියල කියන්නේ මේ පංචස්කන්ධය ඇතුළේ තියෙන ඔක්කොම කිපෙන අවස්ථාවල් හොඳට සිහියෙන් ඉගෙනගන්න එකයි. ඒකට ආසන්නයෙන්ම බාධා කරන්නෙ

වේදනාවයි. වේදනාවට ආසන්නයෙන්ම බාධා කරන්නෙ සංඥවයි. ඒක නිසා අපි සංඥවත් හඳුගෙන වේදනාවත් හඳුගෙන රූප ධර්මයෙන් ලබන්නා වූ අත්දැකීම තව දුරටත් පුළුල් කරමින් ඒ වේදනා විෂයෙහි තව ඉදිරියට යන්න පුළුවන් වෙනවා නම් මුළු ලෝකයම සොයන, මුළු ලෝකයක් මේ පිටිපස්සෙ දුවන්නෙ සැප හොයාගෙන නෙ. නමුත් තාම හම්බු වුණේ නැහැ ඒකට සමීකරණයක්. බුදුහාමුදුරුවෝ සමීකරණය පෙන්නලා දෙනවා. අන්න ඒ සමීකරණය අනුව යෝගාවචරයාට එතකොට අර ගේහසිත දෝමනස්සය අයින් කරලා නෙක්ඛම්ම හිත දෝමනස්සය හෝ නෙක්ඛම්ම හිත සෝමනස්සය ලබාගන්න පුළුවන්. අපි භාවනාවෙන් ලබන තත්ත්වයකටයි මේ යන්නේ කියල ඒකාන්තයෙන්ම මේක වඩාත් සියුම්ව සෝමනස්ස වේදනාවටත් අවසානයේ අදුක්කමසුඛ වේදනාවටත් උපේක්ෂාවටත් පත් වෙනවා.

අදත් අපි පැයකට වැඩි කාලයක් අරගෙන තියෙනවා. මේ කාලය තුළ ඉදිරිපත් කරගත්තා වූ කාරණා නිසා, මීට කලින් යම් බාධක කරදර වරදවා වටහාගැනීම් තිබුණා නම් ඒවා දුරු වේවා. අපිට භාවනාව තවත් ඍජුව කරගෙන වේදනානුපස්සනාව, වේදනා ස්කන්ධය වඩාත් තේරුම් අරගැනීමේ ශක්තිය ආශ්‍රයෙන්, අපෙත්, බාහිරේ අපිත් එක්ක දුක් විඳින අනික් ඇත්තන්ගේත් තත්ත්වය ඇති සැටියෙන් තේරුම්ගැනීමට මේ සතිපට්ඨානය හේතු වේවා. ඒ මාර්ගයෙන් ශ්‍රද්ධා විරිය සති සමාධි ප්‍රඥ කියන ඉන්ද්‍රිය ධර්ම දියුණු වෙලා මේ ජීවිතයේදීම ඒ වේදනාවන්ගේ අවසානය සමෘධ වූ ශාන්ත වූ සුවය වෙනුවෙන් ලබාගත හැකි දේට අපට යාගන්නට ශක්තිය ධෛර්ය බලය ලැබේවා කියන ප්‍රාර්ථනාවෙන් මේ ධර්ම දේශනාව මෙතකින් නිම කරනවා..

# 41 | සඤ්ඤා ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුන ච පරං, භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති, පඤ්චසු උපාදානක්ඛන්ධෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො; ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො; ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අද අපි මහා සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනාවේ දෙවන ස්කන්ධ පබ්බයේ තුන් වෙනියට තියන සඤ්ඤාස්කන්ධයයි මාතෘකා කරගන්න බලාපොරොත්තු වෙන්නෙ. මේ තාක් කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා කියන අනුපස්සනා කොටස් තුන ශක්ති ප්‍රමාණයෙන් විස්තර කරන්න යෙදුණා. ඊගාවට ඉදිරිපත් වුණ ගම්භීර ධර්ම කොට්ඨාශ අඩංගු ධම්මානුපස්සනාවේ නීවරණ පබ්බය හමාර කළා.

මේ සාකච්ඡා වෙමින් පවතින්නේ ස්කන්ධ පබ්බයයි. ඒකට පංචස්කන්ධය, පංච උපාදානස්කන්ධය කියන කොටස් තමයි ගැණෙන්නේ. ඒක සාමාන්‍ය භාවනා ලෝකයේ ගත කරපු, පොත් පත් කියවපු ඇත්තො හොඳට දන්නවා රූපස්කන්ධය, වේදනාස්කන්ධය, සඤ්ඤාස්කන්ධය, සංඛාරස්කන්ධය, විඤ්ඤාණස්කන්ධය කියල. රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ. සමහර වෙලාවට මේකටම රූප උපාදානස්කන්ධ, වේදනා උපාදානස්කන්ධ, සඤ්ඤා උපාදානස්කන්ධ, සංඛාර උපාදානස්කන්ධ, විඤ්ඤාණ උපාදානස්කන්ධ කියල විශේෂණ පදයක් සහිතවත් ගැනෙනව. මේ උපාදානස්කන්ධ විස්තර කරගෙන එනකොට, මේ රූපය ඉතාම ගොරෝසු නිසා කාටත් බැසගැනීමටත් පහසු නිසා රූප උපාදානස්කන්ධයෙන් බැසගන්නවා. හරියට සතර සතිපට්ඨානයේ ඉස්සෙල්ලම කායානුපස්සනාවෙන් ආරම්භ කරනවා වාගෙ. පහසු තැනින්, ලේසි තැනින් පටන්ගැනීම තමයි විපස්සනාවෙ පළවෙනි පාඩම. ඒ පළවෙනි පාඩමේ ස්වභාවය මුළු ථෙරවාදය පුරාම පැතිරිච්ච සුවඳක්. ඒකට අපි කියනව ආනුපුබ්බී ප්‍රතිපදව කියල, අනුපූර්ව ප්‍රතිපදව කියල. එකින් එකට එකින් එකට, ක්‍රමයෙන් ක්‍රමයෙන් ගැඹුරට යනව. ක්‍රමයෙන් ක්‍රමයෙන් සියුම් භාවයට, දන්නා තැන ඉඳලා නොදන්නා තැන දක්වා යන ගමනක්. මේ තමයි ථෙරවාද ප්‍රතිපත්තිය.

ඒ ප්‍රතිපත්තියෙ ශුද්ධ වශයෙන් ශීලස්කන්ධය, සමාධිස්කන්ධය, පඤ්ඤාස්කන්ධය ගන්නකොට මේ පඤ්ඤා ස්කන්ධයේදී තමයි මේ ලකුණ ඉතාම ප්‍රකට. මේ ලකුණ ප්‍රකට නිසා මේක ප්‍රායෝගික වැඩ පිළිවෙළක්. මේකෙ තියෙන්නේ ප්‍රතිපත්තියට බර වැඩ පිළිවෙළක්. පඤ්ඤාස්කන්ධය ඉස්සර කරගත්තහම ඒක අපි ප්‍රධාන වශයෙන් ක්‍රියාත්මක කරන්නේ විපස්සනා භාවනාව කියල. ඉතින් විපස්සනා භාවනාවෙ මූලිකම තේමාවක් තමයි ප්‍රකට තැනින් පටන්ගන්න එක. ආන්න ඒ අතින් බලනකොට අපි රූපස්කන්ධයෙන් පටන් අරගත්තා. ඒ රූපස්කන්ධයේත් පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන හතරෙත් වායෝ ධාතුව තමයි ඉතාමත්ම ප්‍රකට. ඒකෙන් තමයි භාවනාව පටන්ගත්තේ. මේ පටන්ගත්ත තැන ලේසි වුණාට, භාවනාව කරගෙන යනකොට අනෙකුත් මේ ලෝකෙ තිබෙන කිසිම විෂයකට

වඩා ඒ පුද්ගලයා පරිණාමයට පත් කරගනිමින්, මෙතුවක් කල් සංසාරෙ කවදවත් අත්දකපු නැති සියුම් භාවයකට හිත පරිණාමයට පත් වෙන්න වෙන්න, භාවිත භාවයකට වඩා පරිණත භාවයකට පත් වෙන්න වෙනව.

ඒ නිසා ඒ යෝගාවචරයා මූලික වශයෙන් දැනගන්න ඕනෑ මේ පහසු තැනින් පටන් අරගත්තට අපි යන්නෙ මොන වගේ ඉසව්වකටද, මොන වගේ දිශාවකටද, මොන වගේ තත්ත්වයකටද කියන එක. ඒ දැනගන්නා වෙලාවට රූප විතරක් දැනගෙන භාවනා කරනව නෙවෙයි, රූප නාම කියල කොටස් දෙකක් තියෙනවා. එයින් නාමස්කන්ධය සියුම්. ඒකට යාමට ඉණිමගක් වාගේ තමයි මේ රූපස්කන්ධය පාවිච්චි කරන්නේ. ඒ නැතුව මේ රූපස්කන්ධයේ හැමදම ඉන්නවා නෙමෙයි. ඒ නිසා මේ රූපස්කන්ධය භාවනා කරන ඇත්තො, වෙන විදිහකට කියනව නම් ශීලය ශික්ෂාවක් වශයෙන් පුරන ඇත්තොත් දැනගෙන ඉන්න ඕනෑ මේකෙ කොටස් දෙකක් තිබෙන බව. සමාධි භාවනා කරන ඇත්තොත් දැනගෙන ඉන්න ඕනෑ. ඒ වාගේම විපස්සනා භාවනා කරන ඇත්තොත් මේ මූලධර්මය දැනගෙන ඉන්න ඕනෑ. දැනගෙන හිටපුවහම ගමන හරි රසයි. ගමන හරි විවෘතයි. ගමන හරි ප්‍රබුද්ධයි. පැටලිලි අඩුයි. එහෙම නැත්නම් අන්ධකාරෙ යන ගමනක් වාගෙ අතගගා යන ගමනක් වාගෙගේ වෙනවා. ඒ නිසා මේ ධර්ම කොට්ඨාශ කොයි තරාතිරමක ඉන්න කෙනෙකුට වුණත් ලොකු ගැඹුරක් පෙන්නල දෙනව. මේ රූපය කියන්නා වූ, අල්ලන්න කියන්න පුළුවන්, කිරන්න මනින්න පුළුවන්, විද්‍යාවට බෞද්ධ ධර්මවලට යන්ත්‍රෝපකරණවලට අල්ලන්න පුළුවන් තැනින් පටන් අරගෙන මේ වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල ඇතුළට යන්න යන්න මේකෙ පුදුමාකාර ගැඹුරක් තියනව. හිතකින් හිතාගන්න බැරි, තර්කයකින් තොරව දකගන්න බැරි, නමුත් තර්කයකින් හමාර කරන්නත් බැරි පුදුම ගැඹුරකට යනවා.

කොටින්ම ගත්තොත් අපි කලින්ම කිව්වා වාගෙ නාම රූප කිව්වම රූප කොටසට වැඩිය නාම කොට්ඨාසේ බොහොම ගම්භීරයි. ඒ නිසයි ඒ නාම කොට්ඨාසය, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල හතරට කඩල තියෙන්නෙ. එයිනුත් වේදනාස්කන්ධයත්,

සඤ්ඤාස්කන්ධයත්, ඒ වගේම සංඛාරස්කන්ධයත් කියන මේ තුන විඤ්ඤාණට්ඨිති කියන නමින් සූත්‍රවල සඳහන් වෙනව. විඤ්ඤාණය කියල, අර නාම රූප කියන එක සමහර වෙලාවට අපි දක්වනව හිත සහ කය කියල. මේ කය කියන්නෙ කායානුපස්සනාව. රූපස්කන්ධය කියන්නේ මේ අල්ලන්න පුළුවන් ඇඟ. හිත කිව්වම ඒකට චිත්ත, විඤ්ඤාණ, මනෝ ආදී වශයෙන් පරියාය නාම ගොඩක් තියෙනව. එයිනුත් මේ ස්කන්ධ වශයෙන් ගන්නකොට, විඤ්ඤාණස්කන්ධය ගත්තහම සමහර විට මේ තුනටම වේදනාස්කන්ධය, සඤ්ඤාස්කන්ධය, සංඛාරස්කන්ධය ඇතුළු කරල කථා කරන වෙලාවලුත් තියෙනව. නාම රූප වශයෙන් ගන්නකොට කය හිත කියල ගත්තොත් කය වශයෙන් රූපස්කන්ධය ගන්නව. හිත කිව්වම වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල හතරම ගන්නව. ඒ වුණාට ඒක නිරූපණය කරන පොදු දේ වෙන්නේ විඤ්ඤාණය. ඒ නිසා ඒ විඤ්ඤාණය පිහිටා හිටින්නෙ, විඤ්ඤාණයට ඨිතිය වෙන්නෙ, පදනම වෙන්නෙ මේ වේදනාස්කන්ධය, සඤ්ඤාස්කන්ධය, සංඛාරස්කන්ධය. ඒ තුනම සර්වඥතා ඥානය වාගෙ තුන්කල් දක්නා සියල්ල දක්නා දන්නා ඥානයකින් හැර, විශදව දැකදැනගන්න අමාරුයි. ඒ දැකදැනගත්තත් ඒ විශදව දැකගත්තෙ දැනගත්තේ නැති ඇත්තන්ට මේක කියල දෙනව කිව්වම ඒකත් ඉතාමත්ම දුෂ්කර කාරණාවක්. ඒ මොකද, ලෝකයාට ඊට වඩා දැවෙන ප්‍රශ්න තියෙනව. මේ රූපස්කන්ධය බලබලා ඒක ඉගෙනගෙන ඉන්නවාට වඩා, වේදනාස්කන්ධය බලබලා ඒක ඉගෙනගෙන ඉන්නවාට වඩා විශාල දැවෙන ප්‍රශ්න තියෙනව.

නමුත් අපි මේ බණ කියන, බණ අහන පිරිස දිහා බලපුවහම, ඒ අය පුදුමාකාර වෙනස් අභිමතාර්ථයක් ඉදිරිපත් කරගත්ත පිරිසක්. ඒ දැවෙන ප්‍රශ්න දැනෙන්නෙ නැති නිසා නොවේ. නමුත් මේ සංසාරෙ සංවේගය පිහිටුවාගෙන ඒ දැවෙන ප්‍රශ්න ආයාසයෙන් පැත්තකට දල, බොහොම පරිස්සමින් රූපස්කන්ධය වචනයෙන් හරි ඉගෙනගන්න ඕනෑ, අත්දකින්න ඕනෑ, මේ නාමස්කන්ධය ඉගෙනගන්න ඕනෑ, කඩල බිඳල බලන්න ඕනෑ කියල ලොකු පෙලඹීමකින් ලොකු එළඹීමකින් ඉදිරිපත් වෙන පිරිසක් ඉන්නව. ආන්න ඒ පිරිසට වුණත්

මේ වේදනාස්කන්ධය, සඤ්ඤාස්කන්ධය, සංඛාරස්කන්ධයත් සහ විඤ්ඤාණස්කන්ධයත් කියනකොට අපහසුතා මතු වෙනව. ඒ අපහසුතා අර රූපස්කන්ධයට වඩා වේදනාස්කන්ධය අපහසු වෙනව වගේ, වේදනාස්කන්ධයේ ඉඳල සඤ්ඤාස්කන්ධයට යනකොට ආයිත් පතුල අල්ල ගන්න බැරි තරමට ගැඹුරු තටාකයකට වැටෙනව වගේ. ඒ නිසා අපිට හිත හදාගන්න වෙනවා, කලින්ම හිත හදාගන්න වෙනවා මේක හැම තැනම හැම දෙනාටම කියන්න තේරුම්ගන්න පුළුවන් ධර්ම කොට්ඨාශයක් නොවෙයි. අපි සඳහාම මේ අවුරුදු දෙදහස් පන්සීයක කාලයක් සර්වඥයන් වහන්සේගේ මේ ධර්ම කොට්ඨාශ මෙච්චර සජීවීව රැකිල තිබුණා මදැයි, අපිට පුළුවන් වුණත් බැරි වුණත් මේකට වැඳ වැඳ හිටියත් මදැයි, එහෙම නැත්නම් අපි ඒක නැවත නැවත ආසේවනය කරල දවසින් දවස වචනයක් ඉගෙනගත්තත් මදැයි, එහෙම වචනෙන් වචනෙ ඉගෙනගෙන මැරෙන්න ඉස්සර වෙලා අපට මේකෙ ඩිංගිත්තක් භාවනාවට නගන්න පුළුවන් නම් හොඳයි කියල හැම වෙලාවෙම අපිට සිද්ධ වෙනවා සඤ්ඤාස්කන්ධයම හැකි සංඥාවක් විදිහට ඉදිරිපත් කරගන්න.

"හැකි සඤ්ඤාව" කියන එක නිස්සරණ වනයේ ප්‍රසිද්ධ වචනයක්. ඒක මම හිතනවා අපි නම් වශයෙන් කිව්වත් කමක් නැහැ කියල, අපවත් වී වදාළ මීතිරිගල ධම්මනිසන්ති ස්වාමීන් වහන්සේ හඳුන්වල දීපු වචනයක්. මේ නිස්සරණ වනය පුරාම හැම වෙලාවෙම අපි පාවිච්චි කරන්නේ 'හැකි සඤ්ඤාව' කියල. හැකි සඤ්ඤාව ඕනෑ මේ සඤ්ඤාස්කන්ධය ඉගෙනගන්න නම් කොටින්ම. මේක නැති බැරි කෙනෙක් ඉන්නව නම් ඉතින් ඒ පුද්ගලයාට ඒ නැතිබැරිකම නිසාම සඤ්ඤාස්කන්ධය තේරුම්ගැනීම දුෂ්කර වෙනවා. ඒ මොකද, එය ස්වභාවයෙන්ම දුෂ්කරමයි. නමුත් මම හිතාගත්තා මේ සඤ්ඤාස්කන්ධය කියන මේ ඉතාම ගැඹුරු භාවය පහසු ක්‍රමයකටත් අපහසු ක්‍රමයකටත් දෙවිදිහකට ඉදිරිපත් කළොත් මේක පිළිබඳව ප්‍රසන්න හැඟීමක් පහළ වෙයි කියල.

අපට මේ ලෝකෙ දිහාවට හැකි සඤ්ඤාව ඇති කරගන්න ක්‍රම දෙකක් තියෙනව. මේ ක්‍රම දෙකම පාවිච්චි කරන්නෙ අද මේ නිස්සරණ වනය වාගෙ තැන්වල විතරයි. අනිත් හැම තැන්වලම අර

විත්ථාර ගම්භීර ක්‍රමය අමතක කරන්න උත්සාහ කරනව. අද බුද්ධාගමේ පණ නැහැ, අද බුද්ධාගමේ මේව කරන්න බෑ, අද මේ බුද්ධාගමේ මේ ශාසනයේ ඒ හොඳ හරියෙ පණ ගිහිල්ල තියෙන්නේ, කියන විදිහට මේ සඤ්ඤා දෙකෙන්, නැත්නම් සඤ්ඤා දෙක ඇති කරගැනීමේ ක්‍රම දෙකෙන් එකක් පාවා දීපු ගතියක් පේන්න තියෙනව. ඒ නිසා අපි හරි අපහසු තැනක අද ඉන්නෙ. ඒ මොකද, අපි යම් කිසි විදිහකට හඬ නගා කියන්න ගත්තොත් මේ හැකි සඤ්ඤාව කරන ක්‍රම දෙකක් තියෙනවා කියල, අපිට කලහ විවාද කරන්න සිද්ධ වෙලා තියනවා. අපිට වාද කරන්න වෙනව. ඒත් මේ සඤ්ඤාස්කන්ධය ඉගෙනගන්න නම් වාද බිම තියන්න වෙනව. සර්වඥයන් වහන්සේ දේශනා කරනව කලහ විග්‍රහ විවාද, තුවං තුවං, පේසුඤ්ඤං, මුසාවාද ඔක්කොම බහා තබන්න නම්, මේ සඤ්ඤාව පිළිබඳව හොඳට දැනගන්න ඕනෑ. ඒ නිසා මේක තේරුම්ගන්න ඕනෑ. මේක රණ්ඩු කරන්න වාද කරන්න ඉගෙනගන්නව නොවෙයි. ඒ වාදවලින් අයින් වීම සඳහාමයි ඉගෙනගන්නෙ. හැබැයි ඒ සඳහා සියුම් එළඹිච්ච ගතියක් ඕනෑ. ආරාධනා පූර්වක ගතියක් ඕනෑ. ඒක විවාදපන්න විය යුතු නැහැ. නමුත් ප්‍රබුද්ධ භාවයක් අත්‍යවශ්‍යයි. තාර්කික මනසක් අත්‍යවශ්‍යයි. ආන්න ඒ තාර්කික මනස ක්‍රියාවට නංවල නමුත්, අපිට ක්‍රම දෙකටම මේ හැකි සඤ්ඤාව පෙන්නලා දෙන්න පුළුවන්. එකක් තමයි සමථ ක්‍රමය. අනිත් එක තමයි විපස්සනා ක්‍රමය.

සර්වඥ දේශනාව වශයෙන් ගත්තොත් උන්වහන්සේ දේශනා කරල තියෙනව "**දුක්ඛෙ ලොකො පතිට්ඨිතො**" මුළු ලෝකෙම පිහිටලා තියෙන්නේ දුකක. අපි කලිනුත් ඉගෙනගත්තෙ මේ වේදනාස්කන්ධය, සඤ්ඤා ස්කන්ධය, සංඛාරස්කන්ධය කියන තුනේ තමයි විඤ්ඤාණය පිහිටල තියෙන්නෙ කියල. විඤ්ඤාණඨිතිය කියල කියන්නේ වේදනා, සඤ්ඤා, සංඛාර. ඒ වාගෙම මේ ලෝකෙ ඨිතිය කොහේද කියල ඇහුවොත් ලෝකේ පිහිටල තියෙන්නෙ කොහෙද කියල ඇහුවොත් සර්වඥයන් වහන්සෙ දේශනා කරනව "දුකේ" කියල. ඒක නිසා මේ '**සංසාර විෂවෘක්ෂස්ස**' මේ සංසාරය නම් දුක විෂ සහිත ගහේ, '**ද්වෙ ඒව මධුරෙ එලේ**' අමෘත ඵල දෙකයි හටගන්නෙ - මිහිරි ඵල. හටගන්නා තාක් තියෙන්නෙ අමිහිරි - තිත්ත ඵල. ඒ දෙක මොකක්ද?

එකක් තමයි කෙළින්ම සද්ධර්මය රස විඳීම. අනිත් එක තමයි සද්ධර්මය රස විඳින ඇත්තන්ට සාදු කියන එක. ඒක දෙවෙනි වෙන්නේ සද්ධර්ම රසයට පමණයි. ඒ තරම්ම දුෂ්කරයි මේකේ මේ ඇත්ත ඇති සැටියෙන් පිළිගැනීම පවා.

අන්න එවැනි වූ සංසාර විෂ ගහේ, සමථ ක්‍රමයක් තියෙනව හැකි සඤ්ඤාව ඇති කරගන්න. අපි බෞද්ධයෝ වශයෙන් අපිට ලැබිලා තියනවා මෛත්‍රී භාවනාව. මෛත්‍රී භාවනාවට සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙන්නේ "**සුභපරමාහං භික්ඛවෙ මෙත්තාචෙතොවිමුත්ති**". ඒ මෛත්‍රී චේතෝ විමුක්තිය සුබ පැත්ත හොඳ පැත්ත හැකි සඤ්ඤාවම පරමාර්ථ කරගත්ත දෙයක්. ඒ නිසා අපි නිතර දෙවේලේම "**අහං අවෙරො හොමි**" මම වෛර නැත්තෙක් වෙම්වා, "**අබ්‍යාපජ්ජො හොමි, අනීඝො හොමි, සුඛී අත්තානං පරිහරාමි**" කියන තමන්ට කයටම රුචි ලකුණක් අනුව දිගින් දිගටම දිගින් දිගටම මනසිකාරය පවත්වනව නම් ඒ පුද්ගලයාට මේ ලෝකෙ, මේ විෂම ලෝකෙ සම හිත පවත්වන්න පුළුවන්. කවුරු කොයි ආකාරයෙන් ගෙනල්ල උල්පන්දම් දෙන්න හැදුවත් වාද පටලවන්න හැදුවත්, ලන්දේ තියන කුණු පාරට ඇදල දැම්මත්, තමන්ට පුළුවන් මේකෙන් ගැලවිලා යන්න. මව්වරු දරුවෝ හදන්නා වාගෙ. මව්වරුන්ට තියනව අනන්ත ප්‍රශ්න. පවුල් ප්‍රශ්න දරුවන්ගෙ ප්‍රශ්න වැඩි වුණාට මව ඒක දිහා බලන්නෙ කුසින් වදා ගත්ත දරුවෙක් දිහා බලනව වාගෙ මෛත්‍රියෙන්. ඒ නිසා මව ඒ සියල්ලම දරන අතර ලෝකෙට මෛත්‍රී ප්‍රතිමූර්තියක් වෙනව. ඒක බුදු හාමුදුරුවො කියල දීපු එකක් නොවේ. මේ සංසාරෙ ඇතුළත තියෙන ක්‍රමයක්. මෙන්න මේක නිදර්ශනයට ගන්නව. "මාතා යථා නියං පුත්තං ආයුසා එකපුත්තමනුරක්ඛෙ එවම්පි සබ්බභූතෙසු" කියල මේ ලෝකෙ සත්ත්වයා කෙරෙහි මාතෘ සංකල්පයෙන් බලල සියල්ල සුවපත් වෙත්වා, මමත් වෛර නැත්තෙක් වෙම්වා කියල කියන්න පුළුවන් භාවිත මනසක් තියෙනව නම්, එදාට මේ ලෝකෙ නෙල්ලි ගෙඩියක් නැත්නම් දෙහි ගෙඩියක් අල්ලෙ තියාගත්ත වාගෙ මුළු සත්ත්ව ලෝකය දෙසම කුසින් හදාගත්ත දරුවෙක් වාගෙ බලන්න පුළුවන්කමක් ලැබෙනවා. ඒකත් මේ සඤ්ඤාවෙ එක ආකාරයක

මෙල්ල කරගැනීමක්. භාවිත හිතක්. නමුත් පූර්ණ අවබෝධයක් එතන නෑ. එතෙන තියන්නේ සමථය පැත්තකින් ලෝකෙ දිහාවට සුභය ඉස්සර කරගෙන බලන බැල්මක්.

පසුගිය දවස්වල අපි කියවන්නට යෙදුණා පොතක්. ඒක 1918 වාගෙ කාලෙ ඇමරිකාවේ ලියවෙච්ච පොතක්. කිසි සේත්ම බෞද්ධ සංකල්පයකින් නෙමෙයි ඒකේ කරුණු පේන්න තියෙන්නේ. නමුත් ඒකෙ ඉතාමත්ම පැහැදිලිව ඒ පුංචි කථා නායිකාවගෙ මාගීයෙන් මේ එළඹෙන ඕනෑම දේක, මොනම සංසිද්ධියක වුණත් සතුටු වෙන්න කාරණාවක් තියෙන බව පෙන්වනවා. කවදාවත් මොනම දෙයක්වත් සියයට සියයක් භාග්‍ය සම්පන්න නෑ. සියයට සියයක් අවමංගල වෙන්නෙත් නැහැ. අභද්‍ර නෑ. හැම දේකම සතුටු වෙන්න කාරණාවක් තියෙනව. හැම අඳුරු වලාවකම රිදී රේඛාවක් තියෙනව. අපි බලන්න ඕනෑ අන්න ඒ රිදී රේඛාව දිහා විතරයි. අර හාත්පස විශාල අඳුරු වලාව බලන්න ගියොත් අපි සඤ්ඤාව අතින් පරදිනව. නැති සඤ්ඤාවට වැටෙනව. අඬා හෝගාන පිරිස අතර අපිත් අඬා හෝගාන්නන් බවට පත් වෙනව. ඒ මිනිස්සු ඒ කෙඳිරිගාන්නේ ලෙඩ තියන නිසා. අපි කෙඳිරිගාන්නේ මොකටද? අපි කෙඳිරිගාන්නේ මේ හැකි සඤ්ඤාව නැති නිසා. අන්න එවැනි හැකි සඤ්ඤාවක් ඇති කරන්න කිසිදු තර්කයක් අවශ්‍ය නැහැ. අවශ්‍ය කරල තියෙන්නෙ මොළේ හැඟුම්බර පැත්ත අර්ථවත් කරන එක. මවක් දරුවන් කෙරෙහි ඇති කරගන්නවා වගේ. හැම සංසිද්ධියකම - අපිට කවුරු හරි ගහන්න බනින්න ආවත් - ඒකෙ ගත යුත්තක් තියෙනව. ඒ වාගේම අපට මල් මාල පලන්දල ස්තුති කරන්න ආවත් ඒකෙ නරක පැත්තකුත් තියෙන්න පුළුවන්.

ආන්න ඒ කොයි එකෙත් හැම වෙලාවෙම සුභ පරමාර්ථය දකින අදහස තියෙනව නම්, අපි ඒකට ථෙරවාදයේ කියන්නේ මෛත්‍රී භාවනාව කියල. ඒ මෛත්‍රී භාවනාවට පුළුවන් ලෝකෙ තියෙන මේ කටුක විෂමතාව සම්පූර්ණ කලාලයක් එලල තණ පලසක් වාගෙ, එහි සුව සේ රජෙක් වාගෙ ඇවිදින්න. ඒක බෞද්ධම කියල හිතන්න නරකයි. ඒ මොකද, මේකට බ්‍රහ්ම විහරණ භාවනා කියලයි කියන්නෙ. බුද්ධාගම පහළ වෙන්න ඉස්සර කාලේ ඉඳන්ම මේක තිබිල තියෙනව.

ඒ වාගෙම කලින් සඳහන් කළා වගේ, සම්පූර්ණයෙන් ද්‍රව්‍යවාදී භෞතිකවාදී රටවල්වලත් ඉතාමත්ම ගැඹුරින් මේක පිළියමක් විදියට සලකනවා. මේකෙ තියෙන්නෙ සමථය. සමථ භාවනාවක් - සියල්ල සුභ පැත්ත දකින එක. මේකෙන් පුළුවන් සඤ්ඤවෙ ඇති මේ විපල්ලාස ස්වරූපය, මත් කරවන ස්වරූපය මෙල්ල කරගන්න. මේ ඉන්න ටිකට මේ ජීවිතයේදී දිට්ඨ ධම්ම සුඛ විහරණය පිණිස මේ ආත්මෙ සුඛ විහරණය පිණිස ඉතාමත්ම වැදගත් මේක. මේක දැන හෝ නොදැන පුංචි දරුවන්ගෙන් හැමදාම සිද්ධ වෙනව. ඒ නිසා කලහ විවාද තියෙන පවුලකට පුංචි දරුවෙක් ඉපදුණාම අරව ඔක්කොම අමතකයි. හතර වරිගෙම ප්‍රශ්න ඉවරයි. මේ දරුව නිසා පුළුවන් තරම් සුභ පැත්තට එනව. සමනල්ලු මල් දැකල මේ පණිවිඩය අපට කියනව. බඹරු මීවද බැඳල අපිට පණිවිඩය කියනව.

නමුත් මනුස්සය හිතනව, එහෙම නොවෙයි අනුන්ගේ කුණු කන්දල් පුළුවන් තරම් මතක තියාගන ඉඳල රණ්ඩු කරල, වාද කරල තළල පෙළල හදල ගත්තොත් තමයි ලෝකෙ හදන්න පුළුවන් වෙන්නෙ කියල. මහා විසඳන්න බැරි ප්‍රශ්නයක්, අර බෝසත් ලේනා මුහුද හිඳින්න හැදුවා වාගෙ වලිගයෙන්, හරියට වාද විවාද වෙනව. ගිනිපෙට්ටි තරම් පුංචි පුංචි වාදවලින් ලංකාව පුරවනව. ඒක මේ හිතේ තියෙන ඇබ්බැහියක්. ඇබ්බැහියට පත් වෙලා ඉන්න, දුක් විඳින ජනතාවට බනින්න පුළුවන්කමක් ඇත්තෙ නෑ. මේ සඤ්ඤව නිසා හටගන්න ඇබ්බැහිය නැති කෙනෙක්, ඇබ්බැහිය නැති පෘථග්ජනයෙක් හොයන්න බැහැ. ඒකෙ තියන භයානක ගම්භීර පැත්ත පැත්තකට දලා, හැම දේකම ඇත්තා වූ හොඳ පැත්ත බලන ගතිය කිව්වම ඒක සාහිත්‍ය රසයක්. මේ සාහිත්‍යයෙ තියෙන පැත්ත මිනිස්සු බලන දෘෂ්ටි කෝණයෙන් බලන්නෙ නැතිව තව කෙනෙකුට කියන්න පුළුවන් වචන ගොන්නකට දලා, තව කෙනෙකුට කියන්න පුළුවන් හැඟුමක් බවට පත් කරනවා කියන්නෙ ඉතාම දුෂ්කර දෙයක්. ජුගුප්සා ගතිය ගත්තොත්, ජුගුප්සා ගතිය කියන්නේ අප්‍රිය කරන ගතියක්. අප්‍රසන්න බවක්. නමුත් කාව්‍ය රසයක් තියනවා ඒකේ. ඒ ජුගුප්සාවේ තියන කාව්‍ය රසය මතු කරගත්තට පස්සේ ඒක සමාජ ධර්මයක්. ඒක සංවේගයක් බවට පත් කරගැනීම සාහිත්‍ය රසයක්.

අන්න එහෙම සාහිත්‍ය රසයක් තමයි මේ මෛත්‍රී භාවනාව. හැම දේකම හොඳ පැත්ත බලන එක.

නමුත් ඒ වැඩෙන් කෙරෙන්නෙ දිට්ඨ ධම්ම සුඛ විහරණය පමණයි. මේ ආත්මෙ මේ ජීවිතයේ පමණක් සඤ්ඤාවෙ තියන මේ විෂම ගතිය සඤ්ඤාවෙ විෂ මරල, මේ වෙලාවෙ ජීවත් වෙන්න පුළුවන් පරිසරයක් ඇති කරල දෙනවා. නමුත් ඒක තාවකාලිකයි. ඒක තාවකාලික දෙයක් වුණත් ලෝකේ පැත්තෙන් බැලුවොත් අද ඉතාම දුර්ලභ ඉතාම දුෂ්කර දෙයක් බවට පත් වෙලා තියනව. නමුත් මේ බුද්ධ ශාසනයක, ඒ වගේ තැන්වල මෙවැනි දේවල් බහුලව භාවිත වෙන නිසා සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙනව, එක චිත්තක්ෂණයක් මහණ බමුණෙක් මෛත්‍රී භාවනාව වඩනව නම්, ඒ පුද්ගලයා ණය නැතිව රට්ටු දෙන පිණ්ඩපාතය වළඳන්න සුදුස්සෙක් වෙනව කියල. ඒ තරම් ගැම්මක් තියනවා මෛත්‍රී භාවනාවේ. ඒ වගේම භාවනා ක්‍රම දහඅටකටම සර්වඥයන් වහන්සේ ඔය විදිහට කායගතා සතිය ඇතුළුව මේ භාවනා කරන ඇත්තන්ට ලෝකෙට ණය නැති බව විස්තර කරල තියනව. මෛත්‍රී භාවනාවටත් ඒක දේශනා කරල තියනව. ඒකෙන් හිතාගන්න පුළුවන් මේ මෛත්‍රී චින්තනය, හැකි සඤ්ඤාව, මේ සියලුදෙනාම සුවපත් වේවා, නැතිනම් මම සුවපත් වෙම්වායි කියන අදහස ගන්නවයි කියන එක ලොකු ණයකින් නිදහස් වීමක්. ඒ පුද්ගලයාට ලොකු බරකින් නිදහස් වීමක් මේ චිත්තක්ෂණයේදීම ලැබෙනව. මෑත කාලයේ හුගක් මේක ප්‍රසිද්ධියෙ පාවිච්චි කරන ක්‍රමයක්.

නමුත් අද සාකච්ඡා කරන්න මම හිතා හිටියෙ මේ ප්‍රශ්නය නෙවෙයි. අපි රූපය ගැන ඉගෙනගත්තා, වේදනාව ගැන ඉගෙනගත්තා. ඊළඟට සඤ්ඤාව, "**ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථංගමො**", සතිපට්ඨාන සූත්‍රය ආරම්භ කරන්නෙ එහෙමයි. මෙන්න සඤ්ඤාව. අපි මේකට හඳුනාගැනීම කියල කියනව. ඇඳිනීම කියල කියනවා. හඳුනාගන්න නම් සඤ්ඤාවක් තියෙන්න ඕනෑ. සඤ්ඤා නාම තියෙනව. අසවලා අසවල් නමින් හඳුන්වනවා. එයාට ඉස්කෝලේදී කියන නමක් තියනව. යාළුවෝ කියන නමක් තියනව. ඒ වගේම විවිධ විවිධ නම්බු නාම අරකට එකතු

වෙනව. පවුලේ නමක් තියනව. මෙහෙම මෙහෙම විශාල නම් රාශියක් තියනව එක පුද්ගලයෙකුට. කොටින්ම මේ ලෝකේ තියන වස්තු, අපි ලෙහෙසි බවට පත් කරගන්නකොට, කෙළ කෝටි ගානක් වස්තු තිබුණත් ඒ සෑම එකකටම වෙන වෙන නම් තියෙන්න ඕනෑ. ඒ නිසා සර්වඥයන් වහන්සේ උන්වහන්සේගෙ බුද්ධ ඥානය මෙහෙයවල මේ ලෝකෙ දිහා බලනකොට, නමකින් කෙලෙසිච්චි නැති වස්තුවක් ලෝකේ නැහැ කියල උන්වහන්සේ කියනව.

අපි හැම දේකටම නමක් දීල තියෙනව. අපේ පහසුවට අපි එක එකට නම් දෙනව. ඒ දෙන නම්වලින් හිතාගන්න පුළුවන් කෙහෙල් ගහ කන්නද යන්නේ, පොල් ගහ කන්නද යන්නේ කියල තමා කථා කරන ස්වභාවය, නමින් හිතෙනව. නමින් හිතාගන්න පුළුවන්. ඒක නිසා ලෝකේ තියන සෑම වස්තුවක්ම නාමයකින් කෙලෙසිල තියනව. අඩුම ගානේ නමක් නැත්නම් "නම නැති එක" කියල හරි කියනව. ඒ තරමටම මේ සංඥාව අනුව ලෝකෙ කන්න පුළුවන් තැනක් බවට පත් කරගෙන තියෙනව, මේ තෘෂ්ණාව සහිත මනුස්සයා. මේක සම්පූර්ණ සංඥා පද්ධතියක්. භාෂා විලාශයේ තියෙන ව්‍යාකරණ සම්පූර්ණ සංඥා පද්ධතියක්. ගණිත ක්‍රමය සම්පූර්ණ සංඥා පද්ධතියක්. චිත්‍ර කලාව සම්පූර්ණ සංඥා පද්ධතියක්. අද තියන නව තාක්ෂණය කොම්පියුටර් විද්‍යාව සංඥා පද්ධතියක්. ඒ සංඥා පද්ධතියට ඔක්කොම තොරතුරු අරගෙන ඩිංගිත්තක් එහාට මාරු කරල ආපහු දෙනකොට, අර සංඥාව දීපු එක්කෙනාටත් පේන්නේ ආපහු හැරිල එනකොට සම්පූර්ණ අලුත් දෙයක් වාගේ. ඒ තරම්ම දේවල්වල වෙස් පෙරළීමේ හැකියාවක් සංඥාවට තියනව.

ඒක නිසා සංඥාව, සංඥාව වශයෙන් තේරුම්ගන්න ඕනෑ. වෙන විදිහකට කියනව නම්, නාමස්කන්ධය ඇතුළේ සඤ්ඤාව කියල වෙනමම රංගනයක් වෙනමම ජවනිකාවක් තියන බව යෝගාවචරයා දැනගන්න ඕනෑ. මේකට කියනව "ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො" කියල. මේ සඤ්ඤාව ඇති වීම මෙහෙමයි. කවදාවත් සඤ්ඤාවක් ඇති වෙන්නෙ නෑ ස්පර්ශයකින් තොරව. යමක් විඳිය යුතුමයි සංඥාවක් ගන්න. එහෙම නැතිනම් අපට සංඥාවක් ඇති කරගන්න බෑ. අපි උදාහරණයක් වශයෙන් ගත්තොත් පහුගිය අවුරුදු

දහය පහළොව කාලෙ ඇතුළත කොම්පියුටර් විද්‍යාව අලුත්ම භාෂාවක් විදිහට අලුත් වචන පද්ධතියක් ඇවිල්ල තියෙනව. ඒ වචන පද්ධතියෙන් කථා කරනකොට, අර අවුරුදු 15 කට ඉස්සර භාෂාවෙන් කතා කරන ඇත්තන්ට කිසිම හැඟීමක් පහළ වෙන්නෙ නෑ. මොනවද මේ කතා කරන්නෙ කියල තේරෙන්නෙ නෑ. ඇයි මොකක්ද හේතුව? ඒ භාෂා විලාසයට හුරු වෙලා නෑ. විවෘත වෙලා නෑ. සංඥා විඳල නෑ. විඳින්න අවස්ථාවකුත් නෑ. ඕනෑකමක් ඇත්තෙත් නෑ. ඒ නිසා ඒ භාෂා විලාසය සම්පූර්ණයෙන්ම හැඟුම්වලින් තොරයි. ඒ නිසා සංඥාව ඇති වෙන්න නම්, ස්පර්ශය තිබිය යුතුයි. වේදනාව තිබිය යුතුයි.

බලමු අපි මේ ස්පර්ශය සහ වේදනාව කියන එකේ සියයට කොච්චර අල්ලගෙනද මේ කතා කරන්නේ කියල. පූර්ණ ස්පර්ශයක් පූර්ණ වේදනාවක් තිබිල නොවේ, යම්තම් තොල කට ගෑවෙනකොටම අදහස් ප්‍රකාශ කරන්න පටන් අරගන්නෙ මේ සඤ්ඤාවේ තියෙන්නා වූ මත් කරවන ගතිය නිසා. සඤ්ඤා "ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථංගමො" ඒ සඤ්ඤාවෙ අස්තයට යෑමක් තියෙනව. ඒ සඤ්ඤාව පිළිබඳව තොරතුරු තාවකාලිකව අයින් කරගන්න පුළුවන්; එකක් නෙවෙයි අපිට ක්‍රම දෙකකට පුළුවන්. එකක් තමයි ඉස්සෙල්ලාම කියපු විදිහට, අර මෛත්‍රී ඇහෙන් බලනව නම්, තමන්ට වෛර කරපු හතුරුකම් කරපු කිසි කෙනෙකුගෙ ජාතක විස්තර මොකුත් හිතාගන්නෙ නෑ. ඔක්කොම අමතක කරලා දනවා. හැම ආගමික උත්සවයකම, හැම සමුදීමකම සුභ පැතීම් හා ඒ අමතක කිරීම් අපි මෙච්චර උනන්දු කරවල තියෙන්නෙ ඒ අමතක කිරීම් මාර්ගයෙන් ඒ සංඥාවල වැඩීම නතර වෙලා යනව. ඒ නිසා සමථයෙන්ම පුළුවන්. අපි දන්නව පුංචි දරුවෙකුට කිරි දෙනකොට තනෙන් කිරි දුන්නත් ඒ දරුවට දත් එන කාලේ වෙනකොට අම්මාගෙ තනේ හපන ගතියක් තියෙනව. ඒ දරුවගේ දිවත් දතුත් කහනව. ඒ වගේම හුරතලයකුත් තියෙනව. නමුත් ඒ අම්ම කවදාවත්ම දරුවට දඬුවම් කරල කිරි නොදී අතහරින්නේ නෑ. කටටම ගහල ගහල ඉවර වෙලා ඉතුරු තනෙන් කිරි දෙනව. ඒ කරල ඉවර වෙලා අර තනේ සනීප වෙනකල් ඉඳල ඒකෙනුත් කිරි දෙනව. ඒ මොකද ඒක කොහොම හරි අමතක කළ

යුත්තක්. දරුවගෙ හැටි එහෙමයි. එහෙම නැත්නම් දරුව අම්මත් එක්ක වෛරයකටවත් වෙන මොනවටවත් නෙවෙයි ඒක කරන්නේ. ඒ දරුවගෙ හැටි.

ඒ වගේ තමයි මේ ලෝකේ. හරියට දූවිලි පාරක කටු අත්තක් ඇදගෙන යෑම වාගෙ ඔක්කොම හූරගෙන අවුස්සගෙන තමයි ලෝකෙ දුවන්නෙ. අපි හිතන්න නරකයි මේ ලෝකේ මාව අවුස්සන්න ඉන්නව, මාව කිති කවන්න ඉන්නව, මාව පුප්පන්න ඉන්නව කියල. බැලූ බැල්මට නම් එහෙම තමයි. අපි හිතන්න ඕනෑ ලෝකයා කියල කියන්නෙ කුෂ්ට රෝගයක්. ඒ කෙඳිරි ගාන්නෙ කහන හින්ද. ඒ මාව කහන්නෙ ඒ ලෝකයාගෙ කැහිල්ලට මිසක්, මයෙත් එක්ක තියෙන තරහකට නොවෙයි. ඒ නිසා අපි ඒක සම්පූර්ණයෙන් අමතක කරන්න නම් එතනත් සංඥාවෙ අත්ථංගමයක් තියනව. සංඥාව එනව. නමුත් ඒකට පෝර දමන්නෙ නෑ. ඒක සර්වඥයන් වහන්සේ දේශනා කරන්නෙ "**නාභිනන්දති**". ඒ ගැන අභිනන්දනය කරන්නෙ නෑ. "**නාභිවදති**" ඒ ගැන කතා කරන්නෙ නෑ. "**න අජ්ඣොසාය තිට්ඨති**". ඒකට බැසගෙන ඉන්නෙ නෑ. අහවලයි මට ගැහුවෙ අහවල් වෙලාවටයි ගැහුවේ කියල, මෙහෙමයි ගැහුවෙ කියල ඒකෙ අල ගිය මුල ගිය විස්තර මොකුත් නැතුව, බබයි බේසමයි දෙකම අල්ලල කන්දෙන් පහළට විසි කෙරුව වගේ සංඥාව සම්පූර්ණයෙන් අමතක වෙන්න අරිනවා. එහෙම නැත්නම් වර්තමාන මොහොතෙ ජීවත් වෙනව කියන එකත් කරන්න යනවා.

ඒ නිසා මේ සංඥාවෙ අත්ථංගමයක් නැත්නම් ඇත්තටම පිස්සු හැදෙනවා. අපිට හොඳ ප්‍රඥාව නැති, හොඳ සීලයක නැති වෙලාවක බැරි වෙලාවත් අතීත ආත්ම එහෙම පේන්න පටන්ගත්තොත් මහා භයානක මානසික තත්ත්වයකට පත් වෙනව හැම කෙනෙක්ම. මේක මැවුම්කාර දෙවියන් මැවුවා නම් උන්දැට වඳින්න වටිනව, මේ අතීතය අමතක කරන්න පුළුවන් ගතියක් මනුස්සයෙක් තුළ තියෙන නිසා මෙච්චරම අල්ලල බදගන්න ලෝකෙ මේ වර්තමානේ ඔළුව කෙළින් කරගෙන ඉන්න පුළුවන් වෙලා තියෙන්නේ එක විදියකට මේ අමතක වෙන ක්‍රමයක් තියන නිසයි. නමුත් මේක හොඳට තේරුම් අරගෙන, මීටත් වඩා යමක් දැක්කට ඇස් නැත්තෙක් වාගෙ ඉඳල, ඒකෙන් එන්න

තියන කටුක එල මගහරින්න කියල සර්වඥයන් වහන්සේගේ ප්‍රධාන ගෝලයෝ දේශනා කරල තියනව. කන් ඇත්තේ නමුත් නෑහුණා වාගේ ඉඳල, එව්වයේ එන්න තියන ඒ පිටිපස්සේ ඇලිල එන කටුක එල අයින් කරන්න කියල. ඒ වගේම නාසයට දිවට ශරීරයට දැනුණේ නමුත්, නාසය දිව ශරීරය වැඩ කරන්නෙ නැති ස්නායු දුර්වල කෙනෙක් වාගෙ, ගහ බැනගන්න රණ්ඩු කරන්න පැනල යන්න පුළුවන්කම තියෙද්දීත් කොන්ද පණ නැති කෙනෙක් වගේ, මොනම විදියකින්වත් බේරෙන්න බැරි නම් මළකුණක් වාගෙ හරි ඉඳල, මේ කටු අත්තක් වාගෙ එල්ලි එල්ලි ඇදෙන ලෝකයා පුළුවන් තරම් අමතක කරන්න කියල කියනව. ඒකත් එක අත්ථංගමයක් තමයි. සංඥාව ක්ෂය කර දැමීම. ක්‍ෂය කරගෙන යන වැඩ පිළිවෙළට ආවැඩීමක් කරන්න ඕනෑ.

නමුත් ඊට වඩා ගැඹුරුයි, මාර්ග ඥානයකදි මේ සංඥාව අත් හැරදැමීම. වෙනස මොකක්ද? අර කලින් කියපු අත්ථංගමය ඕනෑ වෙලාවක නැවත එන්න පුළුවන්. මාර්ග ඥානයකදී සිදු වෙන අත්ථංගමය හෙවත් සංඥාවේ දුරු වී යාම ස්ථිරයි. ඒක ආපහු එන්නේ නැහැ. අන්න ඒ මාර්ගය ඉගෙනගැනීමයි නැති එකයි අතර තමයි මේ යෝග ජීවිතය, යෝගාවචර ජීවිතය රැඳිල තියෙන්නෙ. ආධ්‍යාත්මික ජීවිතය රැඳිල තියෙන්නෙ. ඒකෙදි අපි භාවනා කරනකොට, විශේෂයෙන් විපස්සනා භාවනා කරනකොට (සමථයේදිත් ඒක අපි පාවිච්චි කරනවා අනියම් වශයෙන්) අපි මතක් කරනව යම් කිසි එක දේකට අවධානය යොමු කරල, එහිම හිත නිමග්න කරල, සති සමාධි වැඩෙන්න නම් එහි හොඳ ස්ථිර සංඥාවක් ඇති කරගන්නය කියල. ආශ්වාස ප්‍රශ්වාසය හෝ පිම්බීම හැකිළීම හෝ මගින් පූර්ණ හොඳ සතියක් ඇති වෙන්න නම්, ඒ දේ වර්තමානයේ වෙන වැඩ පිළිවෙළ දිහාම බලාගන ඉන්න නම්, එහිම සංඥාව ස්ථිර වෙන්න ඕනෑ.

ඉතින් එක පැත්තකින් අපට කියනව, බුද්ධාගමේ ඇති ප්‍රතිපත්ති අනුව සංඥාව අමතක කරන්නයි තියන්නේ කියල. තව පැත්තකින් කියනව, සර්වඥයන් වහන්සෙ විසින් කමටහනයි කියලා දේශනා කරන ලද අවස්ථාවට ආපුවහම එහි සංඥාව තහවුරු කරන්නයි කියලා. මේක යෝගාවචරයා හොඳට කැඳේ ගල බේරුවා

වගේ තේරුම්ගන්න ඕනෑ. ඒ මොකද, අපි යමක් දිහා හොඳට බලනව කියන්නෙ, එබිලා බලනවා කියන්නේ, ලෝකයා අමතක කරනවා කියන එක. යමක් දිහා හොඳට බලන්න නම් අනිත් සියලු ලෝකය අමතක කරන්න ඕනෑ. ඒ මොකද, ලෝකේ කියන්නේ සංඥා ලෝකයක්. යමක් පිළිබඳව හොඳටම දැක්කා, හොඳටම අත ගෑවා, වින්ද කියල කියන්න නම්, වෙන විදිහකට කියනව නම් යමක් පිළිබඳව අතීත අනාගත පච්චුප්පන්න වශයෙන්, ඕළාරික සුඛුම වශයෙන්, අජ්ඣත්ත බහිද්ධා වශයෙන්, දූරේ සන්තිකේ වශයෙන්, හීන ප්‍රණීත වශයෙන් එකොළොස් ආකාරයකටම යමක් දැක්කයි කියල කියන්න නම්, ඒ කාලය තුළ මුළු ලෝකයම අමතක වෙලා තියෙන්න ඕනෑ. මේ ලෝකය අමතක වෙලාවේ, එකකට එළඹෙන එකට තමයි ඒකග්‍රතාව කියන්නේ. ඒකටත් ඕනෑ කරන්නේ සංඥාව. එතන තියන්නේ තිර සංඥාව. සංඥාව නැවත නැවතත් එහිම යොදවල සහතික වෙන්න වෙන්න, යමක් තුළට කිඳබහින්න බහින්න, එහි නිමග්න වෙන්න වෙන්න, හාත්පස ලෝකේ සම්පූර්ණයෙන් අමතක වෙනවා. මේක තමයි සමාධිය කියල අපි කෙටියෙන් සඳහන් කරන්නේ. සමථය කියල කියන්නෙ එකකට නිමග්න වෙලා ඉන්නව. එතකොට මුළු ලෝකෙම අමතකයි. මේ නිසා මේ අත්ථංගමය කියන එක, සංඥාව අතහැර දැමීමේ ක්‍රමය, භාවනාවේදී විවිධ පැතිවලින් විවිධ ආකාරයෙන් සම්බන්ධ වෙනව.

මේ සංඥාව කියන එක නරක දෙයක් කියල හිතන්න නරකයි. අපි තේරුම්ගන්න ඕනෑ, සංඥාවෙ යාන්ත්‍රණය වටහාගෙන, ඒක මේ ආත්මයේ සැප පිණිස හෝ මතු නොඋපදින ආකාරයෙන් සංඥාව දුරු කරගැනීම පිණිස මේ සංඥා යාන්ත්‍රණයෙන් කොහොමද අපි වැඩ ගන්නෙ කියන එක. ඒකෙන් මේ ජීවිතයේ දිට්ඨධම්ම සුඛ විහරණය කියන, මේ ජීවිතයේ සැප පිණිස පාවිච්චි වෙන්නේ සමථ ක්‍රමය. ඒකාග්‍රතාව. අපි මේ සාකච්ඡා කරන්න බලාපොරොත්තු වෙන්නෙ විපස්සනා ක්‍රමය. ඒකෙදී මෙලොව වශයෙනුත් අපි අනිත් ඇත්තන්ට වඩා යම් කිසි සැපයක් විඳින අතර අපිට අදහසක් තියනව මේ ජීවිතයේදීම මේක සීයට සීයක් දුරු කරන්න පුළුවන් කියල. අන්න ඒ දුරු කිරීම සඳහා හුඟක් ධර්‍ම කරුණු විස්තර කරන්න පුළුවන්. මේ

විස්තර කිරීමෙන් බලාපොරොත්තු වෙන්නේ නැහැ යෝගාවචරයෝ භේද කිරීමක්වත් මේක තේරුම්ගන්න බැරි දෙයක් කියල ගම්භීර භාවයක් පෙන්වන්නවත්. ඒක නෙවෙයි උත්සාහ කරන්නේ. තේරුම්ගන්න ඕනෑ, මේ දෙන උපදෙස් කවදාක්වත් ආවට ගියාට දෙන ඒව නෙවෙයි. ඉතාමත්ම ගැඹුරක ඉඳල පිරීගෙන එන එකක්. අඬන බබෙකුට රබර් සූප්පුවක් දීලා නතර කරන්න හදනවා වගේ, භාවනා කරන්න ඕනෑ කිව්වම මෙනෙහි කරනව කියන එක නෙවෙයි මෙතන අදහස.

මේ මෙනෙහි කිරීමෙහි ස්ථිර සංඥව ගන්නේ පැහැදිලි ගැඹුරකින් එන එන හේතු කරුණුවලින් පෙරිල එන කාරණාවක්. අන්න ඒක තේරුම් ගන්න නම්, කොහොමද අරමුණක් නැවත නැවත මෙනෙහි කිරීමේදි ඒ අරමුණේම හිත නිමග්න වෙන්නෙ, කොහොමද ඒ වෙලාවෙ හාත්පස ලෝකයා අමතක වෙන්නේ? එහෙම නැතුව හාත්පස ලෝකයේ තියන සංඥවල් ඔක්කොම මිටි බැඳගෙන පොදි බැඳගෙන භාවනාවට වාඩි වුණාට ඇයි අපේ සිත සමාහිත වෙන්නෙ නැත්තෙ? මේ දෙකම භාවනාව. මේක දැන ගැනීම දෙපැත්තෙන්ම භාවනාවක්. නමුත් මුලදි ලැබෙන්නෙ මේකේ පරාජිත පැත්ත. භාවනාව මුලදී අපි හිතනව අපේ අනන්‍යතාවත් රැකගෙන ගෙදර තියෙන ප්‍රශ්නත් ඔක්කොම අරගෙන භාවනා කරල, ගෙදර ප්‍රශ්න ඔක්කොටම විසඳුම් හොයාගෙන ගෙදර යන්න. භාවනා මධ්‍යස්ථානයක් හදන්න භාවනාවට උනන්දු කෙනෙක් තවත් කෙනෙක්ගෙන් උදව් ඉල්ලුවට පස්සේ, ඒ පුද්ගලයා ඉතාම කැමති වුණා "හොඳයි හොඳයි මාත් එන්නම්, මුදලුත් දෙන්නම්, සහයෝගයත් දෙන්නම්" කියල. ඉතින් අර මුලින් භාවනාවට කැමති උනන්දු කරපු පුද්ගලයා සැලකිලිමත් වෙලා තියනව. මොකද මේ පුද්ගලයා කාර්මික ලෝකයේ වාණිජ ලෝකයේ ගත කරන ගමන් ඇයි මේ භාවනාවටයි භාවනා මධ්‍යස්ථානයටයි මේ තරම් මුදල් කාලය ධනය යොදවන්නේ කියල. පස්සේ එයාට කාරණාව තේරුණාලු. ඒ පුද්ගලයා කිව්වලු මම ඔක්කොම උදව් කරන්නම්. මට පුළුවන් වෙයිද ස්වීප් එකක නොම්මරේ හරියට භාවනා කරල අල්ලගන්න? පුළුවන් වෙනවා නම් මං උදව් කරනව කියල. අන්න එතකොට තේරුණාලු ඒ පුද්ගලයාට

ඕනැකම තියෙන්නෙ ඔක්කොම අමතක කරලා ඊගාවට ඇදෙන ස්වීප් එකේ නොම්මරේ බලාගන්නයි භාවනාවෙන්. එතකොට පේන්න පටන් අරගන්නව, ඒ පුද්ගලයා මේ ලෝකය වඩන්න ලෝකයේ කාමාදී ආසාවන් වඩන්න මේ භාවනාව පාවිච්චි කරන්න හදනවයි කියනකොට, කලින් ආරාධනා කරපු එක්කෙනාට ඉතින් වහ කන්න හිතෙන්න ඇති. මෙහෙම යාළුවොත් එක්කද අපි මේ භාවනා මධ්‍යස්ථාන හදන්නේ කියල. ඒ නිසා මේ සංඥා පිළිබඳව දැනගෙන හිටියෙ නැත්නම්, නොදැන ගියොත් අතරමග වගේ තමයි. හැබැයි කියන්න පුළුවන් එකක් - ඔක්කොමල ඉන්නෙ නම් පැටලිලා. ඒක පිළිබඳව නම් කවදකවත් හිතන්න එපා - රහත් මාර්ගයෙන් මේ සංඥාවල් දුරු කරන තෙක්, එහෙම නැතිනම් අනුසය දුරු කරන තෙක් ඉන්නේ නම් පැටලිලා. ඒ නිසා ජනතාවට හොඳම විහිළු සැපයීමක් මෙතන තියෙන්නේ.

මේ නිසා සංඥාව පිළිබඳව ඉගෙනගැනීමේදී අපි සමථ ක්‍රමයෙන් ඒ සංඥාව හොඳ පැත්තට හරවල ඉන්න අතර, වරින් වර මේ ගැඹුරු කොට්ඨාස වලට හිත යොදනකොට, අපි දවසක් ඇතුළත කරන මේ විගඩම් වැඩ, සංඥාව නිසා අපි නැලවෙන පැද්දෙන හැටි, අපි එහි නිමග්න වන හැටි, වරෙක අපි එයින් ගැලවෙන හැටි, එන්න එන්න එන්න කෙනෙකුට තේරුම්යන්න පටන් ගත්තට පස්සේ මේ ධර්මයෙ ගම්භීර භාවය පුදුමයි කියල හිතෙනව. දවසක් සර්වඥයන් වහන්සේ ශාක්‍ය ජනපදයේ ගත කරන වෙලාවක දවල් දනයෙන් පස්සෙ පිරිසෙන් වෙන් වෙලා ජංඝා විහරණය පිණිස සක්මන් කරල හොඳ තැනක වාඩි වෙලා ඉන්නකොට, ඒ වාගේම දවල් ඒ චර්යාව කරන්න ආපු දණ්ඩපානි කියන ශාක්‍ය රජු සර්වඥයන් වහන්සේ ඉදිරියට පත් වෙලා නිකමට අහල තියෙනව ඔබවහන්සෙ කුමන වාද, කුමන ධර්මයක් අවබෝධ කරගන්න දේශනා කරන ශාස්තෘන් කෙනෙක්ද කියල. බුදුරජාණන් වහන්සේ බොහොම ලස්සනට, දීර්ඝ පාලි පාඨයක් බොහෝම ගැඹුරින් මේ ශාක්‍යයාට දේශනා කරනව. "ඇවැත්නි, මම මේ දෙවියන් සහිත මරුන් සහිත ලෝකයේ, මහණ බමුණන් ප්‍රජාව සහිත මේ මනුස්ස ලෝකයේ යම් කෙනෙක් කලහ විවාදවල පැටලෙන්නෙ නැතුව, අනිකුත් අනුසය ධර්මවලට රාග

අනුසයට පටිඝ අනුසය ආදි අනුසය ධර්‍මවලටත් පත් වෙන්නෙ නැතුව ගත කරනව නම් ඒ මනුස්සයාගෙ හිතේ කවදාවත් සංඥාවල් බැහැගන්නෙ නෑ. සංඥාවලින් ඒ මනුස්සයාගෙ හිත කෙලෙසෙන්නේ නෑ. අන්න ඒ වැනි වාදයක් තමයි මම කරන්නෙ" කියල. මම මේ දීර්ඝ පාඨයේ සාමාන්‍ය සරල අර්ථයයි ඉදිරිපත් කළේ. යම් කිසි ක්ෂීණාස්‍රවයන් වහන්සේ නමක් ඉන්නව නම් උන්වහන්සේට කවුරුත් එක්කවත් හැප්පෙන්න ගහගන්න උවමනාවක් ඇත්තේ නැහැ. ඒ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත ලෝකයෙ තියෙන්නෙම ඇවිල්ල කොනහන එක, හැප්පෙන එක, හූරන එක. නමුත් එහෙම එකක් ඕනැකමක් ඇත්තෙත් නැහැ. ඇතුළත වශයෙන් එතුමට අනුසය ඇත්තෙත් නැහැ. භවරාග, කාමරාග, එහෙම නැත්නම් දිට්ඨි, අවිද්‍යා, විචිකිච්ඡා ආදී අනුසය ධර්‍ම ඇත්තේත් නෑ. අන්න එහෙම කෙනෙක් කවරදාවත් මේ සංඥාවෙ බැහැගන්නෙ නැහැ කියන එකයි සර්වඥයන් වහන්සෙ දේශනා කළේ. අර ශාක්‍යයා නිකං කරකවල අතහැරිය වගේ. දිව එළියට දාලා, මූණෙ රැළි ගන්නල, මූණ දිහා බලල, ඔළුව හොල්ලල යන්න යනව. මොනවත්ම කියාගන්න විදිහක් නෑ. මොකද මේ ධර්‍මය අපි සරලව ගත්තාට මොකද, ඒ පාඨය විග්‍රහ කරල බැලුවොත් මහ විශාල ගැඹුරක් තියෙනව.

සර්වඥයන් වහන්සේ ඒ වුණාට එහෙම නොසලකා හරින්නෙ නෑ. උන්වහන්සේ පස්සෙ දම් සභා මණ්ඩපයට ගියාට පස්සෙ දේශනා කරනව මහා සංඝයා වහන්සේලාට, මහණෙනි මම මෙහෙම ජංඝා විහරණය සඳහා අසවල් වනයට ගියා. ඒ වෙලාවෙදී දණ්ඩපානි ශාක්‍ය රජු ආව. ඒ දණ්ඩපානි මගෙන් මෙහෙම ප්‍රශ්නයක් ඇහුව. ඔබවහන්සේ කුමන වාදයක් කුමන අදහසක් සහිත කෙනෙක්ද, කුමන දෙයක් ලෝකයාට ප්‍රකාශ කරනවාද කියල. මම කිව්වෙ මෙච්චරයි. දෙවියන් සහිත මරුන් සහිත ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත මේ ප්‍රජාවෙ, යම් කිසි කෙනෙක් යම් හේතුවක් නිසා කලහ විවාද කරන එක බහා තබල, ඒ වාගෙම අනුසය ධර්‍මවලට ඉඩක් නැතුව ගත කරනව නම් එයාගෙ හිතේ සංඥාවල් බැසගන්නෙ නෑ. "**සඤ්ඤා නානුසෙනති**" කියල කියනව. අනුසය කරන්නෙ නෑ. බැසගන්නෙ නෑ. ලැගගන්නෙ නෑ. ඉතින් එතකොට ඒ ශාක්‍යයා මා දිහා බලල දිව එළියට දාලා,

නළල රැළිගන්නල, බලා ඉඳල යන්න ගියා කියනව. කියල සර්වඥයන් වහන්සේ දේශනා කරනව, "මහණෙනි ඒ නිසා යම් කිසි කෙනෙක් දෙවියන් සහිත මරුන් සහිත මේ ලෝකෙ, අනුසය ධර්ම සහිත ලෝකේ," - දැන් මේ සංසයා වහන්සේලාටයි දේශනා කරන්නේ. ඒ ඇත්තන්ට දැනට මේ වෙනකොට ඒ අනුසය ධර්ම තියනවා, අනුසය සහිත ලෝකේ යම් සංඥවක් බැසගත්තා නම්, දැන් මට ඇති වෙනව මේ මනුස්සයා කෙරුවෙ හොඳක් කියලා. මට ඇති වෙනව අදහසක් මේ මනුස්සයා කෙරුවෙ නරකක්ය කියලා. මට අදහසක් ඇති වෙනව මේක මංගලයි කියලා දුමංගලයි කියලා. අන්න ඒ විදිහෙ යම් විදියේ අනුසයක් ඇති වුණා නම්, නැත්නම් සංඥවකට කොනක් ආව නම් ඒකට කියන්නේ "**පපඤ්චසඤ්ඤසඞ්ඛා සමුදාචරන්ති**" කියල. ප්‍රපංචයෝ සංඥවෝ ඒ මනුස්සයාට ඇති උනා නම් කවදාවත් ඒක අභිනන්දනය කරන්න එපා කියල කියනවා. "**නත්ථි අභිනන්දිතබ්බං, අභිවදිතබ්බං**". ඒ ගැන කථා කරන්න එපා කියල කියනවා. "**නත්ථි අජ්ඣොසෙතබ්බං**" ඒක රමණය කරන්න එපා කියනව. බැසගන්න එපා කියල කියනව.

ඉතින් මේක හරිම මහ ගැඹුරු ප්‍රශ්නයක්. අපි යම් කිසි කෙනෙක් එක්ක කතා කරනකොට පැහැදිලිවම අපට ඒ පුද්ගලයා පිළිබඳව හැඟීමක් පහළ වෙනව. මේ වෙලාව හොඳයි නැත්නම් මේ වෙලාව හොඳ නැහැ, මේ මිනිහා හොඳයි මේ මිනිහ හොඳ නැහැ, එහෙම නැත්නම් මේක මහ කරදරයක්, එහෙම නැත්නම් මේක මට කරපු ප්‍රශංසාවක් ආදී වශයෙන් විවිධාකාර සංඥ පහළ වෙනව. ඒක අර අනුසය ධර්ම නිසා ඇති වන යන්ත්‍රයෙන්ම ඇති වන දෙයක්. සර්වඥයන් වහන්සේ මෙතෙන්දී සංසයා වහන්සේලාට දේශනා කරනව මහණෙනි, ඒ වාගෙ කටයුතු කරනකොට අනුසය ධර්ම ඇත්තා වූ කෙලෙස් ඇති කෙනාට එහෙම සංඥ පහළ වෙනව. ඒ සංඥවල් පිළිබඳව කවදාවත් අභිනන්දනය කරන්න එපා. අභිවදනය කරන්න එපා. අජ්ඣෝසනය කරන්න එපා. බැහැගෙන හිටින්න එපා කියල. එහෙම බැහැගෙන හිටියෙ නැත්නම් උන්වහන්සේ පැහැදිලිවම අත්දකින්න පුළුවන් කාරණාවක් පෙන්වනව. එහෙම කෙනාට කලහ, විග්‍රහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤං, මුසාවාද මොනවත්

පිහිටන්නෙ නෑ. ඒ පුද්ගලය ඇවිල්ල කථා කරල ගියාට ඒ නිසා කවදාවත් කලහයකට පාරක් හැදෙන්නෙ නෑ. විග්ගහ - උඹ මෙහෙම කිව්වා මම මෙහෙම කිව්වා කියල දැඩි ගැනීමකට එන්නෙ නෑ. විවාද එන්නේ නැහැ. තුවං තුවං - තෝ තෝ කියල බැනගන්න වෙන්නේ නෑ. ඒ වාගේම පෙසුඤ්ඤ - හිස් වචන කේලාම් වචන මුසාවාද කිසිම දේකට ඉඩක් එන්නේ නෑ.

ඉතින් මේක අර අච්චර ගැඹුරු සංඥා ස්කන්ධයට බොහොම පුංචි පහරක් දෙන්නෙ. නමුත් ඒ මුළු සංඥා ස්කන්ධයම හෙල්ලුම් කන්න පුළුවන් බව සර්වඥයන් වහන්සේ දණ්ඩපානි ශාක්‍ය රජුගේ සිද්ධිය උපමා කරගෙන සංඝයාට වහන්සේලාට දේශනා කරල තියනවා. දේශනා කරපු ගමන්ම උන්වහන්සේගේ ආසනයෙන් බැහැල වඩිනව ගඳකිළියට. දණ්ඩපානි ශාක්‍යයා වගේම තමයි අර බණ අහපු සංඝයා වහන්සේලාත් අන්ද මන්ද වෙනව. සාමාන්‍යයෙන් කිව්වොත් කරකවල අතෑරියා වගේ තමයි. දැන් අහන්න කෙනෙකුත් නෑ. සර්වඥයන් වහන්සේ මේක දේශනා කරල, කලහ විවාද නැති කිරීමේ මාර්ගය දේශනා කරල උන්වහන්සේ වඩිනව. දැන් මේ සංඝයා වහන්සේ කල්පනා කරනව කාගෙන් අහන්නද මේක මහා විශාල ගැටලුවක්. සර්වඥයන් වහන්සෙ දැන් ආසනයෙන් නැගිටල වැඩිය. මොකද කරන්නෙ කියල කියනකොටම එක සංඝයා වහන්සේ නමක් කියනව, අපිත් එක්ක ඉන්න අර මහා කච්චායන ස්වාමීන් වහන්සේ නම් මේකට දක්ෂයෙක්. උන්වහන්සේ ළඟට ගිහිල්ලා අපි, සර්වඥයන් වහන්සේ මෙහෙම දේශනාවක් කළා, ආන්න ඒ දේශනාව අපිට ගළපල දෙන්නැයි කියල, දිග ඇරල දෙන්න කියල විවරණය කරල දෙන්නැයි කියල විස්තර කරල දෙන්නැයි කියල ඉල්ලමු කිව්වා.

පස්සෙ මේ කට්ටිය ඔක්කොම ගිහිල්ල, මහා කච්චායන මහා රහතන් වහන්සේ ඉතාම වැඩිහිටි ස්වාමීන් වහන්සේ නමක්, සර්වඥයන් වහන්සේ වැඩඉන්න කාලෙම හිටපු අර්ථකථාචාරීන් වහන්සේ නමක්. ප්‍රසිද්ධයි. උන්වහන්සේ ළඟට ගිහිල්ල පත්කඩේ එලලා වැඳලා සතුටු සාමීචි කථා කරල උන්වහන්සේට කියනව "අවසරයි ස්වාමීන් වහන්ස, සර්වඥයන් වහන්සේ ධර්මාසනයෙ වැඩ හිඳලා මෙන්න මෙහෙම කථාවක් කළා. දණ්ඩපානි ශාක්‍ය රජු හමු

වුණා. දණ්ඩපානිට මම මෙහෙම කිව්වා කියල, සර්වඥයන් වහන්සේම අර වෙච්ච සිද්ධිය අපට කියල එයින් මතක් කළේ මොකක්ද? යම් කිසි වෙලාවක පුද්ගලයෙකුට මේ ප්‍රපංච සංඥා සහිත, ප්‍රපංචයන් සහිත සංඥාව යටකරගෙන ඔබා තලාගෙන, අල්ලාගෙන හිටිනවා නම් ඒ සංඥාවන් ඒ ප්‍රපංචයන් කවදාවත් අභිනන්‍දනය කරන්න එපා. අභිවදනය කරන්න එපා අජ්ඣෝසනය කරන්න එපා" කියල දේශනා කළා. එහෙම වෙනව නම් සංඝ සමාජය තුළ හෝ අපිත් එක්ක ආශ්‍රය කරන ඇත්තන් තුළ කවදාවත් කලහ, විගහ විවාද තුවං තුවං, පෙසුඤ්ඤ, මුසාවාද කවදාවත් එන්නෙ නෑ.

එවිට මහා කච්චායන ස්වාමීන් වහන්සෙ කියනවා, මේ භික්ෂූන් වහන්සේලා හරි පුදුම පුරුෂයො. හොඳට අරටුව තියෙන මහා ගහක් හොයන්න ගිහිල්ල, කැලේට ගිහිල්ල ඒ අරටුව තියෙන මහ කඳ ඉක්මවල, ඒ පොඩි අතු කඳත් ඉක්මවල පුංචි පුංචි කිනිත්තත් ඉක්මවල, කොළවලට ගිහිල්ල කොළවල හොයනව අරටුව. ඉතින් සර්වඥයන් වහන්සේ වැඩ ඉන්න වෙලාවෙ මම ගාවට එන්නෙ මොකද? මට මොනවද කරන්න පුළුවන්? ඒ නිසා මං ගාවට ඇවිල්ල කථා කරන එක හරියට අර කොළවල ගහක අරටුව හොයනව වාගෙ වැඩක්. මම මේ අන්තිම කෙළවරේ ඉන්නෙ කෙනෙක්. ඒ නිසා කරුණාකරල ඒ ප්‍රශ්නෙ විසඳෙන තාලෙකට කටයුතු කරන්නෙයි කියල. ඒ සංඝයා වහන්සේලා බැගෑපත් වෙනව, සර්වඥයන් වහන්සෙ දේශනා කරල ආසනයෙන් නැගිටලා ගිය නිසා අපිට නැවතත් සර්වඥයන් වහන්සේ හමු වෙන්න බැනෙ. සර්වඥයන් වහන්සෙ කීප අවස්ථාවකම ඔබවහන්සේගෙ විචක්ෂණ බුද්ධිය ගැන ප්‍රශංසා කරල තියෙනව. ඒ නිසා අනුකම්පා කරන්න. අනුකම්පා කරල ඔබවහන්සේට තේරෙන විදිහට මේක අපිට විග්‍රහ කරන්නෙයි කියල.

දෙතුන්පාරක් එහාට මෙහාට හෙලෙත්තාඩු කරල හප්පල, පස්සෙ ඒ මහා කච්චායන ස්වාමීන් වහන්සේ සංඝයා වහන්සේලාට මෙහෙම පවසනව "එහෙනම් මහණෙනි අහන්න. ඇහැක් ඇති කල්හි, රූපයත් ඇති කල්හි චක්ඛු විඤ්ඤාණය කියන දැකීමේ සිත පහළ වෙනව. දැකීමේ හිත පහළ වෙන්න නම් ඇස් ඇති පුද්ගලයෙක් වෙන්න ඕනෑ. රූපය ඉදිරිපත් වෙන්න ඕනෑ. "**චක්ඛුංච පටිච්ච රූපෙ**

**ච**" ඇහැට පැමිණුනා වූ රූපය නිසා චක්ඛු විඤ්ඤාණය පහළ වෙනව, "**තිණ්ණං සඞ්ගති ඵස්සො**" ඇහැත් සප්‍රාණිකව පවතින තාක් කල්, රූපත් ඉදිරිපත් වන තාක් කල්, ඇහැ දකින හිතත් පහළ වෙලා තියෙන තාක් කල් මේ තුන එකට එන තාක් කල් මේ ස්පර්ශය වෙනවා. දකීමේ ස්පර්ශය පවතිනව. නැත්නම් හිත ඇහේ. "**ඵස්ස පච්චයා වෙදනා**" යම් කිසි ආකාරයකට මේ දැකීම, ස්පර්ශය, රූපය ඇවිල්ල ඇහේ තියෙන මේ සංවේදී භාවයේ වැදෙමින්, කිතිකවමින් සිත එහි යෙදී පවතින තාක් කල් එයින් වින්දනයක් ලබනව. "**යං වෙදෙති, තං සඤ්ජානාති**" යමක් අපිට මේ විදිහට පංච ඉන්ද්‍රිය තුළින් වින්දනයක් ලබාදෙනව නම්, අත්දැකීමක් ලබාදෙනව නම්, අපිට ඒක පිළිබඳව හැඟීමක් පහළ වෙනව. "**යං සඤ්ජානාති තං විතක්කෙති**" යමක් අපේ හැඟුම් ලෝකෙට ඇතුල් වුණා නම් අපි ඒක නැවත නැවත විතක්කනය කරනව ඒ පැත්ත මේ පැත්ත දල. "**යං විතක්කෙති තං පපඤ්චෙති**" ඒ විතර්කවලට පස්සෙ අපි කටගැස්ම එහෙම දල තුනපහ දල ඕක හදගන්නව. විතක්කනයකින් පස්සෙ, ප්‍රපංච කරනව. "**යං පපඤ්චෙති තතොනිදානං පුරිසං පපඤ්චසඤ්ඤාසඞ්ඛා සමුදාචරන්ති**" ඒ කරන්නා වූ පපඤ්ච විසින්ම ඒ පුද්ගලයා බිඳ හෙළනවා. ඒ පුද්ගලයා වසාගෙන පවතිනවා.

ඒ නිසා ශුද්ධව පවතින්නා වූ ඇහැත් ශුද්ධව පවතින්නා වූ රූපත් ශුද්ධව පවතින්නා වූ සිතකින් පටන් අරගෙන කොහොමද මේ අතීත අනාගත පච්චුප්පන්න චක්ඛු විඤ්ඤාණයේ මත් වෙන්නේ. ඔන්න ඔය මත් වීම නිසා තමයි මේ ලෝකෙ එකම රූපයක් දෙන්නෙක් දැක්කහම දෙකක් කියන්නෙ. දෙන්නම දැකල තියෙනව. දෙන්නම බොරු නොවේ කියන්නෙ. නමුත් ඒ දෙන්නා ගත්ත සංඥවල්, ගත්ත ප්‍රපඤ්ච හාත්පසින්ම වෙනස් නිසා එකම දේ දැකල දෙන්නෙක් දෙවිදිහකට කථා කරනව. අනික් අතට එකම දේ එකම පුද්ගලයා දෙපළක දැකල, දෙවේලාවක දැකල දෙකක් හිතනව. ඉතින් මේක මහා භූත ලෝකයක්. මහා විලෝපන ලෝකයක්. මේ ලෝකය තුළ අර කියපු කලහ, විග්‍රහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤං, මුසාවාද ඔක්කොම පෙළගැහෙනව. මේ ගත්ත එක එක පුද්ගලයෙකු මේ තත්ත්වයට පත් වෙච්ච හැටි පිළිබඳ නඩුවක් අහන්න ගියොත්, කිසිම

දේක බොරුවක් නෑ. ඒ පුද්ගලයා ඇත්ත වශයෙන්ම රූපයක් දැකල තියනව. ඇත්ත වශයෙන්ම හිත එතැන පිහිටල තියෙනව. ඇත්ත වශයෙන්ම ඒක විඳලත් තියෙනව. ඇත්ත වශයෙන්ම ඒක හඳුනාගෙනත් තියෙනව. ඇත්ත වශයෙන්ම ඒක විතර්කනය කරලත් තියනව. ඇත්ත වශයෙන්ම ප්‍රපංචනය කරලත් තියෙනව. ඒ ප්‍රපංච නිසා ඒ පුද්ගලයා ඒ රූපයේ ඉතුරු ටික හොඳට වැඩිපුර හදාගෙන, ඒක දිගේ කල්පනා කරන්න යන විට ඒ පුද්ගලයා ඒකටම මත් වෙලා වාගෙ එකම චිත්‍රයක් හෝ සිද්ධියක් හෝ සංඥවක් හෝ චිත්තයක් බවට පත් කරල දෘෂ්ටිගත කරගන්නව. ඒක දෙතුන්සැරේ බලනකොට දෘෂ්ටිගත වෙනව. තව පුද්ගලයෙක් බලල එයත් විඳිනවා. එයත් ඒ පිළිබඳව හැඟීමක් පහළ කර ගන්නව. ඔහු පහළ කරගන්න හැඟීම වෙනස්. අර ඉස්සෙල්ල එක්කෙනා හිතනව මේක හොඳ සුභ සංඥවක්, දෙවෙනි එක්කෙනා කියනව අසුභයි කියල. එහෙම නැත්නම් සුභයත් නෑ, අසුභයත් නෑ. ඒ අනුවයි ඔහු විතර්කනය කරන්නෙ. ඒ අනුවයි ඔහු ප්‍රපංචනය කරන්නෙ. එහෙම නැත්නම් සිතුවිලි මනෝ ලෝකේට වැටෙන්නේ. ඒ අනුව තමයි ඔහු අතීත අනාගත චක්ඛු විඤ්ඤාණත් මේකට දාගෙන පඹ ගාලේ පැටලුණා වාගෙ අර ඉස්සෙල්ලා දැක්ක කෙනාට විරුද්ධව සම්පූර්ණයෙන්ම කථා කරනව.

ඒ නිසා "**සබ්බං ඵස්සපච්චයා**", ඔක්කෝම ඇති වෙලා තියෙන්නේ ස්පර්ශයක් සහිතවමයි. නමුත් ඒ පුද්ගලයා එතෙන්ට යනකොට සෑහෙන සංඥ ලෝකයක් අරගෙන ගිහිල්ල සහ අලුතෙන් ආපු සංඥවන් තමන්ගෙ පුරුදු සංඥවන් තුළින් පෙරල, ඒකෙන් ඇති කරගත්තා වූ ප්‍රතිබිම්බය විසින්ම ඔහු පාගා දමනවා. ඔහු ගිලගන්නව. ඔහු වසාගෙන සිටිනවා. මේක අසාගෙන සිටින වෙන කෙනෙක් හෙම කිව්වොත් ඒක මමත් දැක්කා, මෙහෙමයි දැක්කෙ කියල ඔන්න කෑම පිඟාන බිම තියල හරි කමක් නෑ වාද කරන්න පෙළඹෙනව. මෙන්න මෙහෙම ලෝකයක් මෙතන තියෙන්නෙ. ඒ නිසා මේ සංඥව කියන එක මහා භයානක දෙයක්. එක පැත්තකින් බලන විට මහා විශාල විහිළුවක්. කනෙත් මේ දේම තමයි සිද්ධ වෙන්නෙ. නාසයෙත් මේ දේමයි, දිවෙත් මේ දේමයි, කයෙත් මේ දෙයමයි. විඤ්ඤාණය

කියල තව එකක් තියෙනව. ඒක පිස්සු ඩබල් - දැන් කාලෙ තියෙන වචනවලින් කියනව නම්. අර ඉස්සෙල්ලා එක නම් අරගෙන ඇවිල්ලා පෙන්නන්න පුළුවන්, මෙන්න මේ තැනදි මේක වැරදිල මේ පිස්සුව හැදුණේ, මෙන්න මේ පටලැවිල්ලක් හැදුණේ. අර මනෝ විඤ්ඤාණයට ගියාම ඒක දෙගුණ තෙගුණ වෙනව.

ඉතින් ඒක නිසා කවද්ද මේකෙ ගැලවිල්ලක් එන්නෙ, "අන්තො ජටා බහි ජටා ජටාය ජටිතා පජා". ඇතුළත් ගැට - පිටත් ගැට. මේ ප්‍රජාව ගැටෙන් ගැට ලාගෙනයි ජීවත් වෙන්නෙ. ඉතින් කොහොමද මේකෙන් ගැලවෙන්නෙ කියන එකයි. ඒ සංඥා නැවත පහළ නොවෙන්නා වූ ආකාරයට ගලවගන්නේ කොහොමද? ඒ නිසා අපිට සිද්ධ වෙනව තේරුම් අරගන්න ඒ "චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං" කියන එක සුද්ද බුද්ද හිතක්. ඒකෙ කිසිම ක්ලේශයක් නැහැ. ආරම්භය කොච්චර කෙලෙසිච්ච කෙනෙක් වුණත්, ප්‍රභාකරන්ගේ හිත ගත්තත්, තමන්ගෙ හිත ගත්තත්, දැන් ඇහැට රූපේ වැටෙන වෙලාවෙදි චක්ඛු විඤ්ඤාණය පහළ වෙන එක ශුද්ධ නිකෙලෙස් හිතක්. ඒ තුන එක දිගට ගමන් කරන තාක් කල් ස්පර්ශය සිද්ධ වෙනවා, තාම නිකෙලෙස්. "තිණ්ණං සඞ්ගති ඵස්සො. ඵස්සපච්චයා වේදනා" ඒක වින්දනය කරනව. ස්පර්ශයක් නැතිව කවදාවත් වින්දනයක් පහළ වෙන්නේ නෑ. ස්පර්ශය නිසාමයි වින්දනය පහළ වෙන්නේ. අන්න ඒ වින්දනයත් එක්කම සංජානනයක් ඇති වෙනවා පරණ අපේ මතක සටහනුත් එක්ක. මේකා දෙමළා, මේකා සිංහලයා, මේකා හොඳ එකා, මේකා අල්ලපු ගෙදර එකා, මේකා යාළුවා, අම්මා, තාත්ත කියල අරගත්ත සංඥා රාශිය තුළින් හරියට අව් කන්ණාඩිය දාපු කෙනා හැම වෙලාවේම අන්ධකාරයක්, එහෙම නැත්නම් මන්දාරමක් දකින්නා වාගෙ දකින්නෙ, සංජානනය කරන්නේ අර කෙලෙසිච්ච අනුසය සහිත සිත තුළින්. ආන්න ඒ සංජානනය නිසා ඔහු විතක්කනය කරන්න පටන් අරගන්නව. විතක්කනයට පෝර ලැබෙනවා. මෙහෙම මෙහෙමයි මෙහෙම මෙහෙමයි කියල. ඒ පදනමේ යනකොට ඔහු දන්නෙම නැහැ තණ්හා, දිට්ඨි, මාන කියන්නා වූ බරපතළ ප්‍රපංච තත්ත්වයකට, නැත්නම් මනෝ ලෝකයට වැටිල ඔහු සම්පූර්ණයෙන්ම මනෝ ලෝකය තුළ

අතරමං වෙනවා. නමුත් පිළිගන්නේ නැහැ. තමන්ම හදගත්ත ලෝකේ කිමිදීමට පත් වුණාට පස්සෙ, තව කෙනෙක් එහෙම ඇවිල්ල තට්ටු කරල කිව්වොත් ඕක වැරදිය කියල, ඒක ඒ පුද්ගලයාට මහා බරපතළ අභියෝගයක් බවට පත් වෙනව.

ඒකට මේ විස්තර අපේ මේ කටුකුරුන්දේ ඤාණානන්ද ස්වාමීන් වහන්සේගේ පොත්පත්වල සඳහන් වෙලා තියනව. උන්වහන්සේ පෙන්වල දීල තියනව ලස්සන ජාතක කතාවක්. මේ තත්ත්වෙ පෙන්නන්න හොඳ නිදර්ශනයක්. එක් කාලෙක පිය මහ රජ්ජුරුවන්ට රජකම භාරගන්න පුළුවන් දරුවො තුන්දෙනෙක් (පුත්තු තුන්දෙනෙක්) ඉඳල තියෙනව. ඒ කුමාරවරුන්ට රටක් රාජ්‍යයක් පාලනය කරන්න එසේ මෙසේ දැනුමක් තිබ්ල මදි. ඒ නිසා යම් කිසි ශාස්ත්‍රයක කෙළ පැමිණිලා වරෙල්ලායි කියල, රන් කහවණු දීල පිටත් කරල තියෙනව. සුදුසු තැනක සුදුසු ආකාරයෙන් ගුරුවරයෙක් හොයා ගෙන රන් කහවණුවලින් යම් කිසි ශාස්ත්‍රයක කෙළ පැමිණිලා එන්න කියල. හොඳම ශාස්ත්‍රයෙ කෙළ පැමිණි කෙනාට රජකම දෙනව කිව්ව. බාලම කුමාරයා ගිහිල්ල හම්බ වුණා කැලේ මුළු ජීවිතේම ගත කරපු ආචාර්යවරයෙක්. ඒ ආචාර්යවරයා කියල තියෙනව මේ කැලේ ඕනෑම තැනක, සත්තු කාල දාපු ඇට කැල්ලක් අරගෙන ආවොත් ඒ සතාගෙ සම්පූර්ණ ඇටසැකිල්ල හදන හැටි මවන හැටි මම කියල දෙනව කියල. ඉතින් අර පුද්ගලය අවුරුදු 7 ක් විතර ඕනෑම තැනක සත්තු කාල දාපු ඇට කැල්ලක් අරගෙන ඇවිත් ඒ සතාගෙ සම්පූර්ණ ඇටසැකිල්ල හදල ඒ ශාස්ත්‍රයෙ කෙළ පැමිණියා.

ඊගාව මද්දුමයා සොයාගත්ත ඒ ආචාර්යවරයා කියල තියෙනව නරක් වෙච්ච නැති පූර්ණ ඇටසැකිල්ලක් තියෙනව නම්, මම ඒකෙ මස් පුරවල හම පුරවල දැන් පණ ගිය එකක් විදියට වාගේ, සප්‍රාණ නැති, නමුත් පණ ඇතුවා වාගේ මස් පුරවල හම පුරවල පූර්ණ සතා ඇති කරල දෙන්නම් කියල. දැන් ඔහුත් සම්පූර්ණ අවුරුදු 7 ක් ඉඳල ඒ ශාස්ත්‍රයෙ කෙළ පැමිණියා. ඊළඟ එක්කෙනා ගිය තැන ආචාර්යවරයා කියල තියෙන්නෙ ඇටසැකිල්ලත් සම්පූර්ණ, හම මස් ඔක්කොමත් සම්පූර්ණ, මේ දැන් මැරිච්ච සතෙක් සොයාගෙන එන්න, ඒ සතාට දැන් පණ දෙන්න පුළුවන් කියල. එයත් කොහොම හරි අර

වගේ අවුරුදු 7 ක් ඉඳල අර ශාස්ත්‍රයෙ කෙළ පැමිණිල නැවත අවුරුදු 7 ඉවර වෙලා එනකොට කැලේදී ඒ තුන්දෙනා හම්බ වුණා. හම්බ වෙලා සහෝදරයෝ තුන්දෙනා කොහොමද කියල අහනකොට එක එක්කෙනා කියල තියෙනව මම මෙන්න මේ මේ ශාස්ත්‍රයෙ කෙළ පැමිණියා කියල. ඊට පස්සෙ කියල තියනවා යන්න ඉස්සර අපි මේ ශාස්ත්‍ර කරලා බලමු කියල. ඉතින් බාලම මල්ලි හොයනකොට ඇට කැල්ලක් තිබිල තියෙනව. ඒකෙන් විශාල දිග ව්‍යාඝ්‍ර සතෙක් වාගෙ සම්පූර්ණ ඇටසැකිල්ලක් හදල සම්පූර්ණ කළා. ඊළඟ එක්කෙනා කිව්වා දැන් මේකෙන් මට පුළුවන් මස් පුරවල සමින් වහල සම්පුර්ණ සතා හදනව කියල, ඒක හැදුවා. තුන්වෙනි එක්කෙනා බලාගෙන හිටියා. සතා හදල ඉවර වෙනකොටම පණ පිහිටෙව්වා. පණ පිහිටවපු ගමන් අර ව්‍යාඝ්‍රයා පැනපු ගමන් අර තුන්දෙනාව කෑවා.

අන්න ඒ වාගේ තමයි අපේ සිතුවිලි රටාව. අපිම මවාගත්ත මේ චිත්ත රූපෙ අපිව කාල දානව. මේ වෙලාවේ මේ කාලා ඉන්නේ, වැරදිලා ඉන්නෙ කියල කවුරු හරි ඇවිත් කිව්වොත්, අරිට වඩා කෑගහනවා. මම දන්න දේ මම දැක්ක දේ. මගේ දේට ඇඟිලි ගහන්න හදනව කියල පුදුමාකාර කලහ විවාද විග්‍රහ තුවං තුවං, පේසුඤ්ඤං දිගට යනව. එහෙම නැත්නම් තවත් උපමාවක් පෙන්නලා දීල තියනවා, නුග ගහ - පුංචි නුග ඇටේකින්, අබ ඇටයක් පමණ ඇති පුංචි නුග ඇටේකින් ඉහළට ඇදෙනව නුග කඳ. ඉහළට ඇදිල අතු පතර විහිදුණාට පස්සෙ ඒ නුග කඳෙන් අරළු බහිනවා. කඳ හැදෙන්නෙ මේ පොළොවෙ සාරය උරාගෙන ඉහළට. කඳෙන් ඇති වෙන්නා වූ අරළු පුංචි කෙඳි වශයෙන් බැහැල, කඳ වටේට ඇති වෙලා පොළොවට හයි වෙච්ච ගමන් ඒවා අර කඳට වඩා ලොකු වෙනව. ලොකු වෙලා මහ කඳ සම්පූර්ණයෙන්ම වහගෙන කොතැනද මහ කඳ කියල හෙයාගන්න බැරි තරමට අර ඉහළින් පහළට ආපු අරළුවලින් මහ කඳ වහගන්නව. එතකොට නුග කඳ බලාගන්න බැරුව යනව.

ඒ වගේ තමයි අපි යමක්, යමෙක්, දැකපු ගමන් සතිය පිහිටුවාගත්තෙ නැත්නම්, දැකපු ගමන්ම මෙනෙහි කරගත්තෙ නැත්නම් දකිනවා දකිනවා කියල, ඒ දකින චිත්‍රය දිගේ ගිහිල්ලා අපි

රාග, ද්වේෂ, මෝහ, පහළ කළාට පස්සෙ කටත් ඇරිල තියෙයි ඇසුත් ඇරිල තියෙයි. අපිට දකින බව මතක නැති වෙනවා. අපි චින්තන ලෝකයක හිර වෙනවා. කනට ශබ්දය ඇහෙනකොට "ඇහෙනව ඇහෙනව" කියල අපි මෙනෙහි කරන්නෙ නැත්නම්, ථිර සංඥාව (සුපතිට්ඨිත සතිය) පහළ කරගත්තෙ නැත්නම්, ඒ ඇහිච්ච සද්දේ මට බැන්නා මට ස්තුති කළා මේක ස්ත්‍රී ශබ්දයක් පුරුෂ ශබ්දයක් කියල ඒක දිගේ ප්‍රපංච කරන්න ගියාම අපි අහන්නෙක් බවවත් මතක නැති වෙනවා. රස බලන්න ගියහම කොච්චර පටලැවෙනවද? ගඳ පහස ආදී මේ සෑම දේකින්ම අපි පටලැවෙන ස්වරූප බලනකොට අතරමැද ඉඳගෙන මේ සම්පූර්ණ මායාව කරන්නෙ සඤ්ඤාව.

සර්වඥයන් වහන්සෙ දේශනා කරනව මරීචිකූපමා සඤ්ඤා. අර ඈත දැඩි නියගයට මිරිඟුව කාන්තාරෙ කෙළවරක දකිනව. සමහර විට දිගට තියන තාර පාරවල්වලත් පේනව. මේ ඈත පේන්නෙ හරියට වතුර වාගේ. ඇත්තටම බාහිර තාපයේ උච්චතර භාවයක් තියන්නේ. බැලූ බැල්මට පේන්නෙ පුංචි රැළි ගහල තියෙන නිල් ගැඹුරු වතුරක් වාගෙ. ඒක පස්සේ මුවා දුවනවලු වතුර අල්ලන්න. ආන්න එහෙම දුවන්න දුවන්න මායාවත් දුවනව ළං වෙන්න බෑ. අන්න ඒ වාගෙ තමයි සංඥාව ඇති කරන්නා වූ මේ විපර්යාසය අපි කොච්චර දුවල අල්ලන්න ගියත් හරි යන්නෙ නෑ. අපිට අවශ්‍ය වෙන්නෙ මොකක්ද? දකිනකොටම දකිනව බව මෙනෙහි කරන්න දැනගන්න ඕනෑ. අහනකොටම අනිකුත් ඕනෑම දෙයක්, පිම්බීම හැකිළීම නම් ඒ වෙනකොටම මෙනෙහි කරන්න ඕනෑ. පහු වෙන්න දෙන්න නරකයි. පහු වුණොත් මෙන්න මේ කියන විලෝපනය සිද්ද වෙනව - සංඥාවේ විපල්ලාසය. ඒ වගේම තමයි ආශ්වාස ප්‍රශ්වාසයක් එනකොටම ඒක මෙනෙහි කරන්න කියල කියන්නෙ අර අඬන බබාට සූප්පු දෙන්න වාගෙ නතර කරන්න කියන කථාව නෙවෙයි. බොහොම ගැඹුරක් තියෙන එකක්. සංඥා දිගේ බලාගෙන යනකොට තේරෙනව මේ එක චිත්තක්ෂණය අල්ලගන්න බැරි වුණොත් අපිම අපි විසින් හදගන්නා ලද චිත්ත රූපවල සිතිවිලිවල හිතලුවක් මත මත් වෙලා අපි සළුව ගසා දලා නැගිටලා ගියාට පස්සෙයි අපි දන්නේ භාවනාවෙ ඉඳගෙන නේද හිටියෙ කියා.

අන්න ඒ තරමටම අපේ සියලු හැකියා අපි භාවනාව තුළින් ගලවල දනව, අපේ තියන බල පුළුවන්කාරකම් අපේ අවබෝධයට විරුද්ධව හිටින්න කටයුතු කරනව මේ සංඥාව. මේ සංඥාව නරක එකක් නම් නොවෙයි. ටිකක් පරක්කු වෙනව සංඥාව දපනය කරගන්න, දමනය කරගන්න. ඒ දමනය කිරීමේ විස්තර කියන්න වෙලාව මදි. මේ වෙනකොටත් අපේ කාලය ගත වෙලා තියෙනව. අපි බලාපොරොත්තු වෙමු මේ ඇති කරගත්ත පදනමේ ඉඳගෙන මේ කරන භාවනාවේදී ඒ සඤ්ඤාව සර්වඥයන් වහන්සේ ප්‍රයෝජනය පිණිස, හැකි සංඥාව ඇති කරගැනීම පිණිස මොන තරම් ගැඹුරු ධර්මයක් දේශනා කරල තියනවද කියල වටහාගන්න. මම හිතනවා අද දේශනා කරපු සාකච්ඡා කරපු තොරතුරුත් මෙතුවක් කල් තමන් දැනගෙන හිටපු ධර්මත්, ඒ වාගේම භාවනා කරල ලැබිච්ච දේවලුත් එක්ක බලනකොට විශේෂ ආලෝකයක් වැටෙයි කියලා. ඒ වගේම ප්‍රාර්ථනා කරනවා එසේ ආලෝකයක් වැටේවා කියල.

අපි මේ විදිහට ඇතුළත පිටත ගැටගැහෙමින් චේතනා කර්ම රැස් කර ගනිමින් යන මේ ජීවිතය, මේ ඇති වෙන්නා වූ ගැටේ, මේක සෝවාන් උනත් ගලවගන්න අමාරුයි. සකෘදගාමී අනාගාමී අරහත් ආදී හතර චක්‍ර වළල්ලකින් ගලවන්න තියන ගැටේ, අලුතින් කර්ම අලුතින් චේතනා රැස් නොකර දිගින් දිගටම දැකගැනීමේ ශක්තිය, මේ සංඥා ප්‍රපංච විපල්ලාසයන්ගෙන් තොරව අපේම වර්තමානයේ පවතින දේ දැකගැනීම සහ අපේම ශීලය අධිශීලයක් බවට අපේම චිත්තය අධිචිත්තයක් බවට අපේම ප්‍රඥාව අධිප්‍රඥාවක් බවට පත් කරගැනීමේ යෝගාවචර ප්‍රතිපත්තිපූර්ණ ජීවිතයකට ආලෝකයක් වේවායි ප්‍රාර්ථනාවෙන් අදට නියමිත මේ පිළිබඳ ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනව.

# 42 | සඤ්ඤා ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුන ච පරං, භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති, පඤ්චසු උපාදානක්ඛන්ධෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො; ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො; ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො තී ති.**

ගෞරවනීය යෝගාවචර මහා සඞ්ඝරත්නයෙන් අවසරයි.

අපි මේ ඉදිරිපත් කරගත්තේ මහා සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනාවේ සඤ්ඤා ස්කන්ධයට පිවිසුමක් ලබාගැනීම සඳහා අදාළ පාලි පාඨයයි. ධම්මානුපස්සනාවේ ස්කන්ධ පබ්බයේ පංචස්කන්ධය සඳහන් වෙන එකේ, ඒ පාලි පාඨය සම්පූර්ණයෙන්ම සඳහන් වෙනවා. අපි අදාළ සඤ්ඤා ස්කන්ධය මතු කරගන්න තැනින් තමයි, මාතෘකා ශීර්ෂයෙන් නතර කරන්න යෙදුණේ. ඊට කලින් පවත්වන්න යෙදුණ ධර්ම දේශනාවල ඒ තාක් වූ කායානුපස්සනා,

වේදනානුපස්සනා, චිත්තානුපස්සනා කොටස්, ඒ වාගේම ධම්මානුපස්සනාවේ නීවරණ පබ්බය, හමාර කළ බව මේ සෑම සියලුදෙනාම දන්න කාරණාවක්. වෙන විධියකින් කියනව නම්, අද අපි මේ ඒ සූත්‍රය මත්තේම හමු වෙන හතළිස්දෙවැනි වතාව. අපි හතළිස්එක් වැනි වතාවෙත් මේ මාතෘකාවමයි, මේ සඤ්ඤා ස්කන්ධයමයි ඉදිරිපත් කරගත්තේ.

ඉතින් මුලදී අපි සෑහෙන වේලාවක් ගත කරල තේරුම්ගත්තා, මේක ධර්මයේ ඉතාමත්ම ගැඹුරක් සඳහන් වෙන තැනක් කියල. ඒකම අපිට තවත් පැත්තකින් මතු කරගන්න පුළුවන්, අපි යෝගාවචරයන් වශයෙන් මේ ප්‍රතිපදවට බැසගත්ත පිරිස වශයෙන්; ප්‍රධාන වශයෙන් සීලයෙන් සමාධියෙන් ප්‍රඥාවෙන් මේ තුන් ආකාර වූ කෙලෙස් සිඳ ලීමේ කෘත්‍යයේ යෙදී සිටින්නේ. අපි සීලය මාර්ගයෙන් වීතික්කම මට්ටමට වැටිච්ච කායික වාචසික ගොරෝසු කෙලෙස් කපා හැරීමේ ප්‍රතිපදව පිළිගෙන, ඒ සඳහා ඇප කැප වෙලා ජීවත් වෙන පිරිසක්. ඊගාවට චිත්තානුපස්සනාව, නැත්නම් චිත්ත භාවනාව මාර්ගයෙන්, පරිවුට්ඨාන කෙලෙස් නම් වූ නීවරණ ධර්ම හිතේ නැගල අපේ ගුණ ධර්ම වනසන කෙලෙසන, නමුත් අනුන්ට පේන්නත් පුළුවන් නොපෙනෙන්නත් පුළුවන් මට්ටමේ තියෙන මේ නීවරණ ධර්ම යටපත් කිරීම අපි ශීල ශික්ෂාව ඉක්මවා ගිය සමාධි ශික්ෂාව වශයෙන් හඳුන්වාගෙන තියෙනවා. ඒක සඳහා ඇප කැප වී ජීවත් වෙනවා. අවසාන වශයෙන් තියෙන්නේ අනුසය කෙලෙස් වශයෙන් සඳහන් වෙන කොටසයි. ඒක තමන් තුළ ඇද්ද නැද්ද කියල බාහිරට තියා තමන්ටත් නොදැනෙන තරම්ම හීන් නූලෙන් වැඩ කරන දෙයක්. ආසයානුසය ඥානය සහිත වූ මාගේ සර්වඥයන් වහන්සේට නම්, ඒ පුද්ගලයට නොපෙනුණත් උන්වහන්සේගේ ෂඩ් අසාධාරණ වූ ඥානයට වැටහෙන නිසා, හරිම වාසනාවක් තියෙනවා හොඳ කන්නාඩියක් හම්බ වෙච්ච කෙනෙක් ඒ කන්නාඩිය ඉදිරිපිටට ගිහිල්ල තමන්ගෙ මූණෙ තමන්ගෙ ඇඳුම් පැළඳුම්වල තියෙන අඩුපාඩු සොයාගන්නා වගේ සර්වඥයන් වහන්සේ ඉදිරියට පත් වෙලා අවධානය ලබාගත්තා නම් අපිට පුළුවන් අපේ චරිතයේ ඇති කෙලෙස් වර්ග තුනම උන්වහන්සේගේ ප්‍රතිබිම්බයෙන් අපිට පිළිබිඹුව

හැටියට ලබාගන්න. ශරීරයේ තියෙන රෝග ලක්ෂණ හොයන්න ගන්න දැන් තියන විශේෂ යන්ත්‍රෝපකරණ වාගේ. කායික වශයෙන් ඇඟ ඇතුළේ තියෙන ලෙඩ පවා ඒ යන්ත්‍රයට බස්සලා දැකගන්න පුළුවන් ශක්තියක් අද තියෙනව.

අන්න ඒ වගේ තමයි ආසයානුසය ඥානය සහිත වූ සර්වඥයන් වහන්සේට අනුන්ගේ හිත්වල පවා තියෙන දේ, සාමාන්‍ය මිනිස්සුන්ට තමන්ටවත් නොදැනෙන තමන්ගෙ හිතේ පවතින දේ, සර්වඥයන් වහන්සේට දැකගන්න පුළුවන් ඥානය නිසා "බුද්ධ චක්ෂුසය" නිසා අමුතුම ඇහැක් අපිට තිබුණ. ඒක නිසා මහා පරිනිර්වාණ සූත්‍රය හමාර වුණාට පස්සේ 'අනේ, ලෝකේ තිබුණ දහම් ඇහැ නිවිලා ගියා' කියන එක සඳහන් වෙනවා. ඒ නිසා අපට අද තියෙන්නේ ඒ ඇහැ නැති තැන, ඒ ඇහැ කළ කෘත්‍යය හැකි තාක් දුරට අවංකව ඇප කැප වී සාධනය කරගන්නයි. ඒ සඳහා මේ අනුසය කෙලෙස් ගැන කථා කරනකොට, ප්‍රඥාවෙන්ම, ප්‍රඥා ශික්ෂාවෙන්ම මැඩලිය යුතු මේ අනුසය කෙලෙස් ගැන කථා කරනකොට, මේ සංඥාව ඉතාමත්ම වැදගත් වෙනවා. ඒ නිසා ධම්මනුපස්සනාවෙ ඉස්සර වෙලා නීවරණ පබ්බය පෙන්නල දීල දැන් උපාදානස්කන්ධ පෙන්වනකොට, මෙහි ඉස්සෙල්ලාම කායානුපස්සනාවට අදාළ රූප ස්කන්ධය, ඊගාවට වේදනා ස්කන්ධය, ක්‍රමයෙන් ගැඹුරු කරගෙන ඇවිල්ලයි සඤ්ඤා ස්කන්ධයට වැටෙන්නේ. ඒක නිසා මේක අත්‍යන්ත භාවනාමය ධර්ම කොට්ඨාසයක් කියල කියන්න පුළුවන්. වෙන විධියකට කියනව නම්, අත්‍යන්ත වශයෙන්ම, ඇත්ත වශයෙන්ම අනුසය කෙලෙස් හා සම්බන්ධ ධර්ම කොට්ඨාසයක්. ඒක නිසා කෙනෙකුට වැටහෙන්න පුළුවන්, 'මේක මට ඕනැත් නෑ' යි කියල. එහෙම නැත්නම් 'මට මේක තේරෙන්නෙත් නෑ' යි කියල බැහැර කරන්න ඉඩ තියෙනවා. ඒ මොකද? හැම කෙනාම තමන්ගෙ අනුසය කෙලෙස්වලින් වැළඳී තිබෙන රෝගය මේකයි කියල දැනගෙනම ඉන්නවමත් නෙවෙයි, පොදු වශයෙන් බලනකොට නොදැන ඉන්නවත් නෙවෙයි. මෙන්න මෙවැනි සංකලනයක් තමයි පෘථග්ජනයා තුළ තියෙන්නේ.

ඒ නිසා මහා කරුණාවෙන්, ඒ විතරක් නෙවෙයි ධර්මය අහගෙන ඉන්නකොට තේරෙනවා මහා ප්‍රඥාවකින්, අඩියටම අත දල

තමයි සර්වඥයන් වහන්සේ මේ සෑම දේශනයක්ම කරලා තියෙන්නේ. එහෙම නැත්නම් සෑම උපදේශයක්ම කවදාකවත් ආවට ගියාට කරපු එකක් නෙවෙයි. තාර්කික ඥානයටත් ඉතාමත්ම ගැළපෙන, ප්‍රත්‍යක්ෂයටත් ගැළපෙන, නිවනට යොමු කරන ධර්මයක් බව පේන, ඥානවන්තයින්ට ගැළපෙන, ප්‍රඥාවන්ත කෙනෙකුට ඇවිල්ල බලන්න කියල කියන්න පුළුවන් ධර්ම කොට්ඨාසයක් බව වැටහෙන ඉතාමත්ම ගැඹුරු මාතෘකාවක් තමයි සඤ්ඤාව. අපි එදා **මධුපිණ්ඩික සූත්‍රයේ** ජවනිකා තුනක් මාර්ගයෙන්, සඤ්ඤාවේ ගැඹුරක් ඇති බව තේරුම්ගත්ත. අපිට එච්චර විස්තර කරගන්න වෙලා ලැබුණේ නෑ.

ඒකම අපිට දැකගන්න පුළුවන් සංග්‍රහ පොත්වල සඳහන් වෙනවා, රහතන් වහන්සේට සංඥා තුනක් ඕනෑම ආරම්මණයක් මතින් ඇති කරගන්න පුළුවන් කියල. ඒක ආර්ය ඍද්ධියක්. රූපයක් දැක්කා. ශබ්දයක් ඇහුවා. ගඳක් දැනගත්තා. රසක් වින්දා. පහසක් ලැබුවා. එහෙම නැත්නම් හිතට යම් කිසි සංකල්පනාවක් ආවා. මේ මොනම ආකාරයෙන් හෝ සම්බන්ධ වන්නා වූ බාහිර ආරම්මණයක් මත, අවශ්‍ය නම් රහතන් වහන්සේට සුබ සංඥාව පහළ කරගන්න පුළුවන්. අවශ්‍ය නම් අසුබ සංඥාව පහළ කරගන්න පුළුවන්. අවශ්‍ය නම් මධ්‍යස්ථ සංඥාවක් ඇති කරගන්නත් පුළුවන් - සුබත් නැති අසුබත් නැති, දැක්කා නොදැක්කා ගානට සංඥාවක් ඇති කරගන්නත් පුළුවන්. මේක ආර්යයන් වහන්සේලාට ඇති ඍද්ධියක්. විකුර්වණයක්. මෙන්න මේ නිසයි රහතන් වහන්සේට රහතන් වහන්සේ කියන්නේ. උන්වහන්සේගේ හැකියාව තියෙන්නේ මෙතැනයි. රහත් වෙනවයි කියල කියන්නේ නොහැකියාවක් නම් නෙවෙයි. රහත් වෙනවයි කියල කියන්නෙ මොනම දෙයක්වත් කරගන්න බැරි තත්ත්වයකට පත් වෙන ගතියක් නෙවෙයි. රහත් වෙනවයි කියල කියන්නේ හැකියා වැඩි වීමක්. රහතන් වහන්සේලා අතර ප්‍රධානියා තමයි අපගේ සර්වඥයන් වහන්සේ. උන්වහන්සේගේ ශ්‍රාවක පිරිසට ඕනෑම ආරම්මණයක් මත ඕනෑ නම් සුබව දකින්න පුළුවන්, ඕනෑ නම් අසුබව දකින්න පුළුවන්, ඕනෑ නම් සුබ අසුබ දෙකට වට්ටන්නේ නැතිව දකින්නත් පුළුවන්.

පෘථග්ජනයා කියල කියන්නේ, දැක්කොත් සුබේට, මැරුණත් ඒක සුබේම තමයි. ඒක නිත්‍ය සංඥවකට දගන්නවා. මේ වස්තුව සුබයි, මේක ළං කරගත යුතුයි, බදගත යුතුයි, ලොකු කරගත යුතුයි, මගේ කරගත යුතුයි කියල. ඊට පස්සේ ප්‍රපංචයෝ ඒ මතුමත්තේ වඩා වර්ධනය කිරීම, ඒක මතම අහස් මාලිගා තැනීම් අනන්ත අප්‍රමාණ කරල, ඒ අහස් මාලිගාවලටම යට වෙලා, එහිම ගිලීගෙන, ඇබ්බැහි වෙලා මැරිල යනවා. යම් ආකාරයකට යම් සංඥවක් ඇති කරගත්තා නම් අසුබයි කියල, අම්මා මුත්තා කීවත් ඒක නම් අරින්නේ නැහැ. ඒක අරින්න වුණොත් මරණෙ හොඳයි. නමුත් මේ සංඥව අරින්නේ නෑ, ඒ තරමටම දිට්ඨියට ආසන්නයේ සංඥව පවතිනවා. යම් වෙලාවක අදුක්ඛමසුඛ වගේ සුබත් නැති අසුබත් නැති සංඥවකට වැටුණොත් ඒක නම් කොහොම කෙරුවක්වත් ගණන්ගන්නෙ නෑ. එතෙන්දි නින්දට වැටෙනවා. කොහොම කෙරුවත්, උලෙන් ඇනල ඉන්න තොපට මොන මර නිදිද කියල සර්වඥයන් වහන්සේ දේශනා කළත් ඒ සංඥවේ වස - මිහිරි පැත්තක්, සුබ හෝ අසුබ පැත්තක් නැත්නම්, සිත සැඟවී ගන්නවා. සිත බුබ්බඩ වෙනවා. කම්මැලි වෙනවා. නිදගන්නවා. ඒක නැගිට්ටවන්න බෑ. මර නින්දක් එතන තියෙන්නේ.

අන්න ඒ වගේ මේ සංඥ තුනේ ස්ථිර භාවයක් ගැනීම තමයි පෘථග්ජනකම කියන්නේ. හරියට කුරුසෙකට තියල ඇණයක් ගැහුව වගේ, හිලකට තියල ඇබයක් හිර කළා වගේ, පෘථග්ජනයා ඒ අරමුණ අල්ලනවා. ඒ අල්ලන්නේ තමන් ගෙනාපු රුචි අරුචිකම් අනුවමයි. ඒ අල්ලපු ඇල්ලිල්ල නම් මොනම තාලෙන්වත් ගලවන්න බෑ. අන්න ඒක ගලවල වෙනස් ක්‍රමයට දක්වන්න පුළුවන් ගතිය තමයි සර්වඥයන් වහන්සේ ළඟ තියෙන්නේ - පුරිසදම්මසාරථී කියල කියන්නෙ. සුබ සංඥව වශයෙන් දැකපු දේ අසුබවත් පෙන්නල, සංඥව නිෂ්ක්‍රිය කරවනවා. නිෂේධ කරවනවා. අසුබව දැකපු දේ සුබව පෙන්නල, අර කලින් ගත්ත සංඥව දිට්ඨියකට පත් වෙන්න දෙන්නේ නැතිව ඊට පල්ලෙහා තියෙන චිත්ත මට්ටමට ගෙනල්ල, ඒ පුද්ගලයාටම නිදහස ලබා දෙනවා. උඹට ඕනෑ නම් මේ අරමුණේ මෙතෙක් කල් දැක්කේ අසුබයටමයි. දැන් සුබව දකින්න තව

විකල්පයක්. දැන් මෙතෙක් කල් දැක්කෙ සුබවටයි. දැන් අසුබව දකින්න තවත් විකල්පයක්. මෙතෙක් කල් සුබ-අසුබ දෙක මැද හිටපු වෙලේ නිදාගෙන හිටිය. දැන් නිදාගන්න එපා. අවදි වෙයන්, ප්‍රබුද්ධ වෙයන්, බුදු වෙයන් කියල; අර සංඥාවෙන් කුප්පන්නේ නැති දේකට වුණත් මහා අවබෝධයක්, මහා අවදි කිරීමක්, ප්‍රබුද්ධ කිරීමක් කරන්න ශක්තියක් සර්වඥයන් වහන්සේට තිබුණා අර ආසයානුසය ඥානය තිබුණ නිසා.

ඒක නිසා සර්වඥයන් වහන්සේ "යම් කිසි කෙනෙකුට" කියල ව්‍යවහාර කළත් රහතන් වහන්සේට නැත්නම් බ්‍රාහ්මණයා කියන වචනෙට තමයි මේ සර්වඥයන් වහන්සේ සඳහන් කරන්නේ; යම් කිසි කෙනෙකුට මේ සංඥාව පිළිබඳව, නැත්නම් තමන් දැක්ක රූපය, ශබ්දය, ගන්ධය, රසය, පහස, හිතට එන ධම්මාරම්මණ පිළිබඳව ගත්තාම ඕක හොඳ කියල ගන්නත් පුළුවන්, නරක කියල ගන්නත් පුළුවන්, හොඳ නරක දෙකටම වැටෙන්නෙ නැතිව ගන්නත් පුළුවන් කියන පළල් මනසකට වැටුණා නම්, සර්වඥයන් වහන්සේම **මධුපිණ්ඩික සූත්‍රයේ** දේශනා කරනවා, එවැනි බමුණෙකුට, නැත්නම් එවැනි රහතන් වහන්සේට, මේ පෘථග්ජන කෙලෙස් සහිත ලෝකයා පැත්තෙන් බලනකොට කිසිම තාලෙකට වාදෙකට පෙළඹෙන්නේ නැති කුකුස් නැති විචිකිච්ඡා නැති භවාභව තණ්හා නැති කෙනා කියල කියන්න පුළුවන්. ඒ නිසා පේනවා, මේ සෑම කලහයකටම විවාදයකටම සත්ථ දාන, දණ්ඩ දාන, කලහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤ, මුසාවාද ඔක්කොටම හේතු වෙන්නෙ මේ අල්ලගත්ත සංඥාව දැඩිව ගැනීම. කැක්කුමක් ඇති කෙනා, ජාතිය රට ගැන කැක්කුමක් ඇති කෙනා, තමන් ගෙනාපු මත වාදය පිළිබඳව කැක්කුමක් ඇති කෙනා, ඒ මත්තෙ මැරෙන එක විශාල වීරකමක් විධියට අපි හිතනවා. ඒ මතය විකල්පයක් වශයෙන් සලකා බැලීම නෝන්ජල්කමක් කියලත් හිතනවා.

මේ නිසා අද මනුෂ්‍යයා අතර ප්‍රධානම සටන තියෙන්නේ ආගම නිසයි. ආගම ඇති කරල තියෙන්නේ මනුස්සයට නිදහස ලබා දෙන්නයි. ආගම ඇති කරල තියෙන්නේ මනුස්සයට මේ සංසාරයේ කඨෝර ගතිය දුරු කරල ශාන්තියක් ඇති කරල දෙන්නයි. නමුත්

ඒකාන්තයෙන්ම මේ ආගම චිත්ත මට්ටමෙන් සඤ්ඤා මට්ටමට ගිහිල්ල, සඤ්ඤා මට්ටමෙන් දිට්ඨි මට්ටමට යනවා. අපි කියනව එතකොට චිත්ත විපල්ලාස, සඤ්ඤා විපල්ලාස, දිට්ඨි විපල්ලාස කියල. මේ දිට්ඨි විපල්ලාසෙට වැටුණට පස්සේ තිරිසන් සත්තු නම් මරාගන්නෙ කන්න, බඩගින්නට. උන් ඊට පස්සේ බඩ පිරුණට පස්සේ කවදාකවත් රණ්ඩු කරන්නෙ නෑ. මනුස්සයගේ එහෙම නෙමෙයි. බඩ පිරුණට පස්සේ ඇති වෙච්ච ප්‍රශ්නයක් තමයි මේක. මේ සංඥාවල් අල්ලගෙන, දිට්ඨි ඇති කරගෙන, කාපු බීපුවට පස්සේ මේ සැලසුම් කුහකකම් මත අනිත් දෘෂ්ටි ගත් ඇත්තන් මරා දමනවා. ඒ නිසා මේ සටන සංසාරෙ පවතින තාක් කල් දිගට පවතිනව. නමුත් ආගමක් වශයෙන්ම සඳහන් කරන මේ බුද්ධාගමේ, ඇත්තටම කියනව නම් බුද්ධ ආගම, එහෙම නැත්නම් බුද්ධ ධර්මයේ, හරියටම මේක පතුලටම කිඳා බැහැල උන්වහන්සේ පෙන්නල දීල තියෙනවා. මෙන්න මෙතැනයි මේකෙ පටන්ගැන්ම, මෙන්න මෙහෙමයි යන්නෙ, ගියාට පස්සේ මෙන්න මෙහෙමයි, ඔක්කෝම එක ජීවිතයක් තුළ දැකගන්න පුළුවන්.

ඒ නිසා දණ්ඩපාණී ශාක්‍යයා ශාක්‍ය වංශික සර්වඥයන් වහන්සේ ළඟට ඇවිල්ල 'ඔබවහන්සේ කිනම් වාද ඇත්තෙක්ද?' කියල අහනකොට සර්වඥයන් වහන්සෙ සඳහන් කරන්නේ "දෙවියන් සහිත, මරුන් සහිත, දේව මනුෂ්‍ය ප්‍රජාව සහිත මේ ලෝකේ, යම් කිසි කෙනෙක් වාද විවාදයන්ගෙන් තොරව, සැක කුකුස්වලින් තොරව, භවාභව තණ්හාවකින් තොරව යම් බමුණෙක් ඉන්නව නම්, ඒ බමුණට සංඥාව ලැගගන්නෙ නෑ. සංඥාව ටැග්ගැහෙන්නේ නෑ. සංඥාව ස්ථිර වෙන්නෙ නෑ" කියල. එච්චරයි කිව්වේ. අර ශාක්‍යයා නළල රැළිගන්නල, දිව දික් කරල, කට ඇද කරල මොනවක්වත් කියන්නෙ නැතිව යන්න ගියා යි කියනවා. ඒ කියන්නෙ උන්දෑ එන්න ඇත්තෙ සමහර වෙලාවට බුදුරජාණන් වහන්සේට වාදයක් නඟන්න වෙන්න ඇති. ඒක දැනගෙන වෙන්න ඇති සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා "මේ දෙවියන් සහිත මරුන් සහිත ලෝකේ, යම් කිසි කෙනෙකුට මෙන්න මේ ගුණ තියෙනව නම්, එයාට සඤ්ඤාවක් බැසගන්නෙ නෑ". **සඤ්ඤා නානුසෙනති** - සඤ්ඤාව වැද හෙවන්නෙ

නෑ, වැදගන්නෙ නෑ, ඒ ස්ථානයේ නිදගන්නෙ නෑ. දණ්ඩපාණිට දිරවගන්න බැරි වුණා මේක. මිනිහට විතරක් නෙමෙයි දැන් ඉන්න අපටවත් ඒ වාක්‍යය කීවට දිරවන්නේ නෑ. භවය පිළිබඳ ලොකු පිඬු කිරීමක් ඒකෙ තියෙනවා.

මේ නිසාම සර්වඥයන් වහන්සේ පසු දින දම් සබා මණ්ඩපයේදී සංඝයා වහන්සේලාට මතක් කරනවා. "මහණෙනි, ඊයෙ මට මෙන්න මෙහෙම සංගදියක් වුණා. මෙන්න මෙහෙම රජෙක් ඇවිල්ල කථා කළා. මම ඒ ඇත්තාට කිව්වේ, යම් කිසි බ්‍රාහ්මණයෙක් වාද විවාදයන්ගෙන් තොරව කුකුස් සැක සංකාවලින් තොරව ප්‍රපංච කරන්නෙ නැතුව භවාභව තණ්හා නැතුව ගත කරනව නම්, එයාට කිසිම සඤ්ඤාවක බැසගන්නෙ නෑ කියල මම කිව්වා. ඒ කියනකොට උන්දැ මෙහෙම රැළි නඟල, මුහුණෙ රැළි නංවල, දිව දික් කරල, කට ඇරගෙන ඉඳල, හැරමිටියේ එල්ලිලා ඉඳල යන්න ගියා" යි කියල. ඊට පස්සෙ සර්වඥයන් වහන්සේ ශ්‍රාවකයන් වහන්සේලාට ඊට වැඩිය තව එක විග්‍රහයක් කරනවා. "යම් හේතුවක් නිසා මහණෙනි, උඹලට හරි කමක් නෑ, මේ ප්‍රපංච සංඥ සංකා පහළ වුණා නම්, සංඥවල් බැහැගෙන හිතට වද දෙන්න ගත්ත නම්, මේකා හොඳයි, මේකා නරකයි, මේක සුබයි, මේක අසුබයි, මේක වේවා, මේක නොවේවා, මේක ලාභ, මේක සත්කාර, මේක ප්‍රශංසාව, මේක අප්‍රශංසාව ආදී වශයෙන් සංඥවක් බැස්ස නම්, මට දෙන්න තියෙන උපදෙස මෙච්චරයිඃ ඒක අභිනන්දනය කරන්න එපා, අභිවදනය කරන්න එපා, ඒකට බැසගෙන හිඳින්න එපා. ඒක පිළිබඳව නම්බු කරන්න එපා, ඒක පිළිබඳව කථා කරන්න එපා, එහෙම දෙයක් වුණා මට කියල හිත කුරුවල් කරගන්න එපා. යම්ම කිසි කෙනෙකුට වැටහුණා නම් මට දැන් අසවලා පිළිබඳ මෙහෙම සංඥවක් ආවා, එහෙම නැත්නම් අහවල් වස්තුව පිළිබඳ මෙහෙම සංඥවක් ආවා, මගේ භාවනා පිළිබඳ මෙහෙම සංඥවක් ආවා කියල දැනගත්ත ගමන්ම අභිනන්දනය කරන්න එපා. අනේ මට විතරයි මේක වුණේ, අරයට නැනෙ කියල ඒකම අගය කරන්න යන්න එපා. අභිවදනය - කාටවත් කියන්න යන්න එපා. වචන කථා කරන්න යන්න එපා. කරපු ගමන් අහු වෙනවා, කරපු ගමන්ම අර ආපු සංඥව තහවුරු වෙනවා. 'න

**අජ්ඣෝසාය තිට්ඨති**'. බැසගන්නත් එපා. ඒකට හතර වටින් පස්, අතින් තව පොහොර දල, පස බුරුල් කරල මේ ගහ වවන්න යන්න එපා. දැනගන්න ඒක සංඥවක් කියල. යම් කිසි කෙනෙකුට අන්න ඒ විධියට සංඥවක්, ප්‍රපංචයක් මතු වෙච්ච වෙලාවක - මෙතන තියන්නේ **පපඤ්චසඤ්ඤාසංඛා** කියන පදය - මතු වෙච්ච වෙලාවට ඒක අභිවදනය කරන්නෙ නැතුව, අභිනන්දනය කරන්නෙ නැතුව, අජ්ඣෝසනය කරන්නෙ නැතුව, ඒ කියන්නෙ බැසගන්නෙ නැතුව ඉන්නව නම්, ඒ පුද්ගලයගෙ අනුසය කෙලෙස් සියල්ල ප්‍රහාණය වෙනවා. රාගානුසය, දිට්ඨානුසය, පටිඝානුසය, අවිජ්ජානුසය ආදී වශයෙන්, භව රාග, විභව රාග, සත්ථ දාන, දණ්ඩ දාන, කලහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤ ආදී වශයෙන්, මෙයාට මම කෝටු පාරවල් දඩුවම් පහර පහක් දෙන්න ඕනෑ, නැත්නම් සැතකින් බෙල්ල කපල දාන්න ඕනෑ, එහෙම නැත්නම් මෙයත් එක්ක වාද විවාද කරන්න ඕනෑ, තෝ තෝ කියල රණ්ඩු කරන්න ඕනෑ, කේලම් බස්, මුසා බස්, පරුෂ වචන පාවිච්චි කරන්න ඕනෑ, බොරු කියල මෙයාව වරද්දන්න ඕනෑ කියන ඒ කිසිම විකල්ප විකාර දෙයක් මතු වෙන්නෙ නෑ.'

මේක කිව්වට පස්සෙ අර අහගෙන හිටිය සංඝයාටත් අර දණ්ඩපාණිට වෙච්චි දේම තමයි වෙන්නෙ. නමුත් සර්වඥයන් වහන්සේ ආසනයෙන් නැගිටලා ගඳකිළියට වැඩියා. සංඝයා මූණෙන් මූණ බලා ගත්ත. දැන් අර මාතෘකාව පටන්ගත්තෙත් සර්වඥයන් වහන්සේමයි. පටන් අරගෙන තව ඩිංගිත්තක් ඉස්සරහට ගෙනියල, භාවනාවේ ගැඹුරෙදීම සංඥවක් එනකොටම ඒ සංඥව අල්ලාගෙන ඒක අභිනන්දනය කරන්නෙ නැතුව, ඒ ගැන කථා විවාද වචන බහුල කරන්නෙ නැතුව, ඒකට බැසගන්නෙ නැතුව හිටියොත් අනුසය කෙලෙස් නතර කරන්න පුළුවන්ය කියන වචනය කියල, අරිට වැඩිය ඩිංගක් තිරයක් ඇරල පෙන්නලා, උන්වහන්සේ ධර්මාසනයෙන් බැහැල ගඳකිළියට වැඩියා.

ඒ පිරිසේ හිටියා මහා කොට්ඨිත ස්වාමීන් වහන්සේ. ඉතින් අර පිරිස එකතු වෙලා උන්වහන්සේට වැඩිහිටියෙක් වශයෙන් මතක් කරල කිව්වා 'අවසරයි ස්වාමීන් වහන්ස, මේක කොහොමද අපි දැන් තේරුම් බේරුම් කරගන්නෙ? කථා මාතෘකාව අතනයි. දැන් මේ

සර්වඥයන් වහන්සේම කථා මාතෘකාව මතු කරල උන්වහන්සේ දීපු උත්තරේ මෙහෙමයි, කොහොමද කරන්නෙ?' එතෙන්දිත් එද මතක් කරගත්ත විධියට, ඒ කොට්ඨිත ස්වාමීන් වහන්සේ ටිකක් ඇඟ මැලි කඩල, පස්සෙ විස්තර කරල දෙනව, වෙන තැන්වල සර්වඥයන් වහන්සේ විසින් දේශනා කරන ලද ආකාරයට, කොහොමද මේ සංඥුවක් ප්‍රපංචයක් බවට පත් වෙලා එයින් කෙනෙක් නොමග යන්නෙ? කොහොමද භාවනාවකදී කෙනෙක් ඒක නතර කරගන්න මේ යාන්ත්‍රණය පිළිබඳ දැනුම උපයෝගී කරගන්නෙ? කියන එකට තව එක පියවරක් උන්වහන්සේ සඳහන් කළා.

අපි ගත්තා වගේ, දැන් මෙතන අපි සාකච්ඡා කරන්නෙ පංචේන්ද්‍රිය. ඒ වාගේ තමයි සළායතන ගත්තහම. ඒක ඇහැ, කන, නාසය, දිව, ශරීරය, මන කියන මේ එක එක ඉන්ද්‍රියක වැඩ පිළිවෙළ දිහා බැලුවහම කොහොමද මේ සංඥ බැසගැනීම? සංඥ සුබ වශයෙන් බැසගත්ත කෙනාට සුබ වශයෙන්ම ඒක ස්ථිරසාර වෙන්නෙ කොහොමද? අසුබ වශයෙන් බැසගත්ත කෙනාට ඒක අසුබ වශයෙන්ම තව දුරටත් දකින දකින දේ ඒ තාලේටම දකල ඒක තහවුරු වෙන්නෙ කොහොමද? මේ සුබ අසුබ දෙක නැති කෙනාට මතක හිටින්නෙ නෑ. එපා වෙනවා. කම්මැලි වෙනවා. ඒ නීරස භාවයට පත් වෙලා ඒකෙන් හිත ලුහුටල යන්නෙ කොහොමද? ප්‍රමාදයට වැටෙන්නෙ කොහොමද? ඒක දැකගන්න නම්, මේ මහා කොට්ඨිත ස්වාමීන් වහන්සේ මේ ඉදිරිපත් කරපු කොටස උදව් උපකාර වෙනවා.

'**චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං**' ඒක බොහෝ තැන්වල සර්වඥයන් වහන්සේ සළායතන පිළිබඳ විස්තරයෙදි කියනවා; ඇහැට රූපයක් දැකපුවාම දකින හිත පහළ වෙනවා. අපි කියනව හිත ඇහේ පහළ වෙනවා. අපි ඒකට කියනවා චක්ඛු විඤ්ඤාණය කියල. '**තිණ්ණං සඞ්ගති ඵස්සො**'. මේ පණ ඇති ඇහැ තියෙන තාක් කල්, අර ඉස්සරහ තියෙන රූපය දිගට පවතින තාක් කල්, හිත ඇහේම තියෙන තාක් කල්, වෙන තැනකට පැනලා නොගිය තාක් කල්, ඒ දැකීම සම්බන්ධ ස්පර්ශය සිදු වෙනවා. ඇරිල තියෙන ඇහැට අර වර්ණ රූපය ඇවිල්ල වදිනවා. දිගින් දිගට දිගින්

දිගට වදිනවා. වදින වදින රූපයේ රස බලමින් දනගනිමින් එතැන චක්ඛු විඤ්ඤාණය පහළ වෙනවා. **තිණ්ණං සඞගති ඵසෙසා** - මේක සිදු වෙන තාක් කල් ස්පර්ශය සිද්ධ වෙනවා. මේ තුනේ ගැටීම, එකට ගමන් කිරීම සිද්ධ වෙනවා. ඒ යම් කිසි ස්පර්ශයක් ඇති වෙන්නේ නැතුව නම් මනුස්සයාට, ඒ ඇහැ සහිත පුද්ගලයාට, සන්තානයට, වින්දනයක් ලබන්න බෑ. 'ඵස්සපච්චයා වේදනා', ස්පර්ශය තියෙනව නම් විඳිනවා. ඇහැට රූපයක් දකින වෙලාවෙදි ඇහේ මේ වින්දනය සිදු වෙනව නම්, හොඳට මතක තියාගන්න ඕනෑ, ඒ වෙලාවෙ කනේ කිසි සේත්ම කිසිම කෘත්‍යයක් වෙන්න බෑ. චේතනා පූර්වක කිසිම කෘත්‍යයක් වෙන්න බෑ. කන සම්පූර්ණයෙන් බීරි වෙලා තියෙන්නෙ. නාසයේ කිසිම දෙයක් වෙන්න බෑ. දිවේ කිසිම දෙයක් වෙන්න බෑ. කයේ කිසිම දෙයක් වෙන්න බෑ. හිත පූර්ණ වශයෙන්ම දන් ඇහැ දිහාවට යොමු වෙලා එහි නිමග්නව ගත කරනවා. එනිසා රූප දකීම සිදු වෙනවා, ඒ වින්දනය තමයි එකම වින්දනය.

'**යං වෙදෙති තං සඤ්ජානාති**'. දන් දන්නව මේක ඇහෙන් සිදු වෙන දෙයක්. රූපය ඇවිල්ල කනට වැටුණට, රූපය ඇවිල්ල කටට වැටුණට, රූපය ඇවිල්ල නාසයට වැටුණට, රූපය ඇවිල්ල කයට වැටුණට, කිසිම කිචිකැවීමක් කරන්න පුළුවන්කමක් රූපයට නෑ. රූපයට පුළුවන්නෙ එකම කිචිකැවීමයි - චක්ඛු ප්‍රසාදය පමණයි. ඒ චක්ඛු ප්‍රසාදය පහළ වුණාට පස්සෙ, ඒ චක්ඛු ප්‍රසාදය කිචිකැවුණට පස්සේ කනේ ඒ වාගෙම සංඥ ගලමින් පවතිනවා, නාසයේ ගලමින් පවතිනවා, දිවේ ගලමින් පවතිනවා, කයේ ගලමින් පවතිනවා. ඒ ඔක්කෝටම වැඩිය මේ ඇහේ ඇති වෙන්නා වූ සංඥව, මේ කිතිකැවීම ප්‍රකට නම්, ස්වභාවය තමයි සිත ඇහැ දිහාවට යන බව. යන්නේ අනිත් ඒවා වහගෙන. කන නාසය දිව කය සම්පූර්ණයෙන්ම වසා දමාගනිමින් හිත පූර්ණ වශයෙන් ඇහැට යොමු වෙනවා. ඒක අභිධර්මයේදී චිත්ත වීථි විග්‍රහයකින් පෙන්වනවා - පංචද්වාරාවජ්ජනය. ඊගාවට චක්ඛුවිඤ්ඤාණය. ද්වාර පහේම හොඳට හොයල බලනවා, ආවර්ජනා කරලා බලනවා, කොහෙද රසවත්ම ආහාරය තියෙන්නෙ කියල. රසවත්ම ආහාරය ලැබෙන්නෙ ඇහෙන් නම්, හිත පූර්ණ අවධානය ඇහැට යොමු කරනවා. ඒ කියන්නේ

අනෙක් ඒවායින් සිත කපා දමනවා. කපල පූර්ණ වශයෙන් ඇහැට යනව. ඇහැට ගියාට පස්සේ, සිත ඒ චිත්තක්ෂණය හොඳ සේ වින්දනය කරනවා. ඒ විඳින ටික විතරයි හඳුනාගන්නෙ.

අපි සාමාන්‍යයෙන් චිත්‍රපටි ශාලාවකට ගියාම ඇහැට රූප දකින එක තමයි කරන්නෙ. චිත්‍රපටි ශාලාව කියල කියන්නෙ චිත්‍ර ශාලාව. නමුත් රූප ශබ්ද සහිත චිත්‍රපටි හදන්න පටන්ගත්තට පස්සේ, ඒ අදාළ රූප රාමුවට ආවේණික වූ ශබ්දයත් එකතු කිරීම චිත්‍රපටි කලාවේ ලොකු ප්‍රගතියක්. ඉස්සෙල්ල තිබුණේ නිශ්ශබ්ද රූප. නිශ්ශබ්ද චිත්‍රපටි. පස්සෙ තිබුණා ශබ්ද රූප චිත්‍රපටි. ඒවාට කීවේ කථානාද චිත්‍රපටි කියලයි. ඒ ශබ්ද රූප චිත්‍රපටියේ අර රූපත් එක්කම ශබ්දත් කවනකොට ඒ නිෂ්පාදකයා බලාපොරොත්තු වෙන්නෙ අපේ ආවේග මත් කිරීම. අපිට දෙන්න හදන පණිවිඩය බොහොම ප්‍රකට වෙනවා, ප්‍රබල වෙනවා. ඊගාවට අපි ඉඳගෙන ඉන්න ආසනය ඉස්සරහ පන්තියේ ආසනයක් නම්, එච්චරම සැප පහසු නැහැ. හොඳ ගානක් ගෙවල අපි ඈතට වෙලා වාඩි වුණා නම්, ආසනයේ රසත් අපිට වැටහෙනවා. ඊගාවට ඒ වෙලාවෙදි අපි සමහර වෙලාවට කඩල කනවා. වෙන මොනව හරි රස කැවිලි කනවා. දිවෙත් යම් කිසි රසක් විඳිනවා වෙන්න පුළුවන්. ආසනයේ ඉන්න මදුරුවෝ මකුණෝ කනව වෙන්නත් පුළුවන්. ඒ වාගේම අනිත් ඇත්තෝ කන ආහාරවල සුවඳ වදිනවා වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් දුම් පානය කරන ඇත්තන්ගෙ ඒ දුම් ගඳ වදිනව වෙන්නත් පුළුවන්. ඒ නිසා බලන බැල්මට පේන්නේ ඇහැ, කන, නාසය, දිව, ශරීරය කියන මේ ඔක්කෝගෙන්ම අපිට සංඥ ගලාගෙන එනවා කියලයි.

ඒක නිසා මේ පැය තුනක චිත්‍රපටියක් බැලුව නම්, අපිට පේන්නේ පැය තුනේම ඇස් දෙකත් ඇරිලා තිබුණා, කනත් ඇහිලා තිබුණා, නාසයත් ගඳ බලමින් හිටියා, දිවටත් රස දැනුණා, ආසනයේ පහසත් ලැබුණා කියල. නමුත් පැහැදිලිවම භාවනා කරපු කෙනෙකුට නම් වැටහෙනවා රූප බලන වෙලාවේදී නම්, ශබ්දත් එක්ක කලවමක් නෑ. ගඳ රසත් එක්ක ස්පර්ශයත් එක්ක කිසිම කලවමක් නෑ. රූපය බැලීම පමණමයි ඒ චිත්තක්ෂණයේ සිද්ධ වෙන්නෙ. එතකොට ඒක විඳිනවා, ඒකෙන් සංඥවක් ගන්නවා. ඒ එක්කම චිත්තක්ෂණය

සම්පූර්ණ වශයෙන්ම කනට ගිහිල්ල, කනේ ඒ වාගෙම සංඥුවක් ගන්න පුළුවන් හැකියාව තමයි හිතේ තියෙන යුහුසුලු භාවය. ඒකයි හිතේ තියෙන විචිත්‍රකම. එතකොට අපිට මතක නැති වෙනවා මීට ඉස්සෙල්ල මොහොතේ රූපයේ හිටියෙ. දැන් ඉන්නෙ ශබ්දයේ. ඉස්සෙල්ල හිටියෙ ඇහේ. දැන් ඉන්නෙ කනේ කියන එක මතක නැති වෙන තරමට අකුණු විදුලියක වේගයෙන් මේ හිත ඊගාවට රූපයෙන් ශබ්දයට, ශබ්දයෙන් ගන්ධයට ගන්ධයෙන් රසයට මාරු කළ නිසා ඒ හයම වැඩ කළා වාගෙ අපිව මත් කරන්න පුළුවන්. දැකපු චිත්‍රයේ ඉන්න නළු නිළියෝ ඇත්තම චරිත වගේ අපිව මත් කරමින්, ඒ ඇත්තෝ විවාහ වෙනකොට සතුටු වෙන්නත් මැරෙනකොට අඬන්නත් ගහගන්නකොට විසිල් ගහන්නත් අප්පුඩි ගහන්නත් තරමටම අපි මත් වෙනවා. මත් වෙලා අපි හොඳ චිත්‍රපටියක් බැලුවා, නරක චිත්‍රපටියක් බැලුවා කියල ආකල්පත් ඇති කරගන්නවා. එක චිත්තක්ෂණයක තියෙන්නෙ එක රූප රාමුවයි. ඒ රූප රාමු එකක් එකක් පිටිපස්සේ දිගට යනකොට ඒක කථාවක් බවට පත් වෙනව. ඒ අතරමැද විශාල අන්ධකාරයක් තියෙනව. අර අන්ධකාරය තුළ තමයි අපි මේ ඔක්කෝම එකින් එකට එකින් එකට ගැටගහගෙන චිත්‍රපටිය සංස්කරණය කරන්නේ.

මෙන්න මේ වාගෙ සංකල්පයක බලනකොට, රූපය නිසා ඇති වෙන්නා වූ රූප සංඥුව ඇති වුණාට පස්සෙ '**යං සඤ්ජානාති තං විතක්කෙති**', ඒ ගත්ත සංඥුව අරගෙන විතර්කනය කරනවා. ඒක තව ටිකක් ඒ පැත්තෙන් දෘෂ්ටි කෝණය, මේ පැත්තෙන් දෘෂ්ටි කෝණය ආදී වශයෙන් විවිධ හැඩ දල බලනවා. කලා නිර්මාණයක් කරපු චිත්‍ර ශිල්පියෙක් විවිධ පැතිවලින් කලා නිර්මාණය රස විඳින්නා සේ - ඈතට ගිහිල්ල බලනවා, ළං කරල බලනවා, ආලෝකය මේ පැත්තෙන් දල බලනවා, ඒ පැත්තෙන් දල බලනවා, ආන් එහෙම විවිධාකාරයෙන් බලන්නා වගේ, හිත අරක ඒ පැත්ත මේ පැත්ත පෙරළපෙරළ බලනවා. '**යං විතක්කෙති තං පපඤ්චෙති**', ප්‍රපංචය කියල කියන්නේ ඒ විතර්කනය කිරීම ප්‍රාණ භුක්තියක් විධියට දිගින් දිගටම කරන්න පටන්ගන්නවා. ඒ ගත්ත සංඥුව විවිධ මානවලින් විවිධ හැඩතලවලින් විවිධ දෘෂ්ටි කෝණවලින් හපහපා රස බලනවා.

තලුමරනවා. ඒකම කටේ තියාගෙන විවිධාකාරයෙන් රස විඳිනවා. එතකොට දිගට ප්‍රපංච පහළ වෙනවා. '**යං පපඤ්චෙති තතොනිදානං පුරිසං පපඤ්චසඤ්ඤාසඞ්ඛා සමුදාචරන්ති**', ඒ පුද්ගලයා ඒ සංඥාවෙන් විතක්කයට, විතක්කයෙන් ප්‍රපංචයට යනකොට ඇති වුණා නම් හිතක් මේක සුබයි කියල, ඒකාන්තයෙන්ම සුබයි කියල, සුබ සංඥාවේම නිමග්න වෙනවා. අසුබයක් විධියට දැක්ක නම්, ඒ නැවත නැවත පහළ කරන සෑම සිතුවිල්ලක් නිසාම, ඒ පුද්ගලයාට ඒක අසුබමයි. මොනම තාලෙකින් කිව්වත් අසුබය පිළිබඳ සංඥාව ස්ථිර කරගෙන ඒකට අනුයාත වෙන තාලෙටම තමයි විතර්ක කරන්නෙ. ඒකට අනුයාත වෙන තාලෙටම තමයි ප්‍රපංච කරන්නෙ. ඒ නිසා ඒ පුද්ගලයට මොකක් දැක්කත් ඒ දැකීමෙන් ඇති කරන සංඥාව තහවුරු කරගැනීම සඳහා හිතේ තියෙන පරණ සංඥාවලුත් අරගෙන, කනෙන් නාසයෙන් ලැබෙන අර කඩ කඩ වෙච්ච අනෙකුත් සංඥා කෑලිත් අරගෙන හිතේ අර ගත්ත සංඥාව තහවුරු කරගන්නවා.

එහෙව් කෙනාට ඉස්සෙල්ලාම චිත්ත වශයෙන් විපල්ලාසය පහළ වෙනව. ඊගාවට සඤ්ඤා විපල්ලාසය එනවා. අන්තිමට දිට්ඨි විපල්ලාසයක් බවට පත් වුණාට පස්සෙ මොනම තාලෙකින්වත් වෙනස් කරන්න බෑ. කවුරු හරි කියල දෙන්න ගත්තොත් මේ නිකන් රූප රාමුවක් විතරයි, මේ සැබෑ ලෝකේ නෙවෙයි, මේක චිත්‍රපටියක් කියල, අර පුද්ගලයට පේනවා මේ මනුස්සයා මම විඳින රසය සම්පූර්ණයෙන් කාබාසිනියා කරන්න හදනව නේ. මම ෂෝක් ඒකට ඒකෙ සන්දර්භය රස බලමින් ඉන්න වෙලාවෙදි මාව නැගිට්ටෙව්ව, මගේ රස වින්දනයට බාධා කළා කියල, අර ඇත්ත පෙන්නන්න හදන පුද්ගලයා පේන්නේ හතුරෙක් වාගෙ. ඒකට ඒ තරම්ම නිමග්න වෙලා හිටියෙ මට හරියටම කථා සන්දර්භය වැටහුණා. මට කථාවේ තේමාව වැටහුණා. ඒ කරගෙන යනකොට මේ මනුස්සයා ඇවිල්ල මේක මේ චිත්‍රපටියක් කියල කිව්ව නේ. එහෙම නැත්නම් මේක මේ පැය දෙකක වැඩක් විතරයි, මුළු ජීවිතය නෙවෙයි කියල කිව්ව නේ. එහෙම නැතිනම් සමහර විට චිත්‍රපටිය හදිස්සියේවත් විදුලිය නැති වෙලා, ශාලාව විවෘත කරන්න වුණා නම් එහෙම, අර මනුස්සයා හරි විශාල මනෝ ලෝකයක් මවාගෙන හිටපු දේ ඇදගෙන වැටෙනවා.

ඒ තරමටම මේ සංඥාව අති රසයි. මොකද, ඒ සංඥාවෙන් හදගන්න ලෝකය අපේ ලෝකය. ඒ ලෝකයේ මමයි රජා. ඒ ලෝකේ මගේ අදහස තමයි ප්‍රධානම අදහස. වෙන කවුරුවක්වත් නෑ. ඉන්න ඇමති මණ්ඩලයම මට තමයි, මගේ දේට තමයි පක්ෂ. මට විරුද්ධව අදහසක් පහළ වුණත් ඒත් මගෙ ඇමති මණ්ඩලයේ කෙනෙක් මිසක්කා, ඒක මට ඕනෑ වෙලාවක යටපත් කරන්න පුළුවන් කියල අර විතර්ක හා ප්‍රපංච පුදුම විධියට මේ මනුස්සයව ගොනාට අන්දවනවා. ඒක දගත්තට පස්සෙ වෘෂභ රාජයෙක් වාගෙ, ඔළමොළ නැතිව ඒක ස්ථිර කරගන්න අනිත් අයට කෑගහනවා. "මේ මට වැටහෙන දේ කාටවක්වත් වැටහුණේ නෑ, මං තරම් මේකට හිත යෙදුවේ නෑ, මට තරම් කැක්කුමක් නෑ' කියල. ඊට පස්සෙ දිගින් දිගට දිගින් දිගට ගියාම, අර සත්ථ දන, දණ්ඩ දන, කලහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤ, දිගටම කලහ පානවා. කොයි වෙලාවෙ සංඥා මට්ටමෙන් නතර වෙනවද, කොයි වෙලාවෙ දිට්ඨි මට්ටමෙන් නතර වෙනවද කියන එක අපි තේරුම්ගන්නකොට ගොඩක් පමයි.

ඒක නිසා අපි කියනවා සංසාරයක් පුරා අපේ කෙලෙස්, මෝහ පටල මහ මේරු පර්වතය වගේ ගොඩ ගැහිල තියෙන්නෙ. අපි ගාව දීර්ඝ කාලයක කෙලෙස් පටල රාශියක් තියෙනව. අපි මේ ලෝකයට කියනවා මනුස්ස ලෝකය කියල. ඒ මොකද? මනුස්සය තමයි ලොක්ක. මම තමයි මනුස්සය, ඒ නිසා මේ ලෝකේ හැදිලා තියෙන්නෙ මගේ පහසුවටයි. පුරුෂයෝ හිතනව මේක පුරුෂ ලෝකයක් කියල. සම්පූර්ණ ව්‍යාකරණය හැදිල තියෙන්නෙ ඒ වගේ පෞරුෂත්වය පෙන්නුම් කරගෙන, පෞරුෂත්වය පෙන්වන්න. ඒකට මේ ස්ත්‍රියාව කැමති නෑ. ස්ත්‍රියාව කියනවා, 'නෑ නෑ එහෙම නෑ. මේ දෙන්නම සමානයි. අපි දෙගොල්ලටමයි මනුස්ස ලෝකෙ තියෙන්නෙ' කියල. බලනකොට මේ ලෝකේ නෑ මනුස්සකමක් හෝ තිරිසන් ලෝකයක් හෝ සිංහ ලෝකයක් හෝ කොටි ලෝකයක්. එහෙම එකක් නැහැ. ලෝකය ලෝකයයි.

නමුත් අපි ඒක හදගත්තට පස්සෙ, අපි සිංහල බෞද්ධයා කියල අදහසක් ඇති කරගත්තට පස්සෙ, ඒ මත්තෙ මැරෙන්න පුළුවන්. නොමැරෙන ඇත්තන්ට පේන්න තියෙන්නෙ හැඟීමක් නැති

පිරිසක්, කැක්කුමක් නැති පිරිසක් ආදී වශයෙන්. ඒ තමන් ගත්ත අර ප්‍රපංච කිරීම, තමන් ගත්ත අර සංඥාව, තමන් ගත්ත අර විතර්ක ඒ තාලෙටම අනිත් ගොල්ලත් ඒ මෝඩකම නොකළයි කියල, ඒ තාලෙටම අනිත් ගොල්ලත් පටලවා නොගත්තයි කියල ඒගොල්ලත් එක්ක රණ්ඩු කරනවා, වාද කරනවා, කලහ කරනවා, විවාද කරනවා, තුවං තුවං තෝ තෝ කියනවා, පේසුඤ්ඤ කථා කරනවා, මුසාවාද කථා කරනවා, පරුෂ වචන කථා කරනවා. ඒ නිසා ඒ තුවං තුවං කොටස්, පේසුඤ්ඤ, පරුෂ වචන, මුසාවාද කියන ඒවා අර රෝගයෙන් ගලන සැරව. එතකොට කායික වශයෙන්, වචන වශයෙන් එළියට බැහැල. නමුත් හැම වෙලාවෙම ඇතුළෙ තියෙනවා ඊට වැඩිය පරිවුට්ඨාන මට්ටමේ ඒව. ඒ පරිවුට්ඨාන මට්ටමට යනකොට, මේ සංඥාවෙන් ඇති වෙන වැඩ පිළිවෙළ හුගාක් වෙලාවට ද්වේෂයට බරව තමයි යන ගතියක් පේන්නෙ. රාග අනුසයටත් හේතු වෙනවා. නමුත් හුගක් වෙලාවට කලහ විවාද, පේසුඤ්ඤ, තුවං තුවං, සත්ථ දන, දණ්ඩ දන ආදී වශයෙන් තමයි පෙන්නල තියෙන්නෙ.

ඒක නිසා යම් කිසි කෙනෙක් මේ සංඥාව ඇති වෙනකොටම දැන් පරණ ආපු සංඥාව මත්තට මේ පුද්ගලය පිළිබඳව තිබුණ වැරදි ගතිය ආයෙ පෙනිල, දැන් ඔහු ප්‍රිය පුද්ගලයෙක් වශයෙන් හෝ අප්‍රිය පුද්ගලයෙක් වශයෙන් හෝ නැවත නැවතත් පේනකොට ම ඒ සංඥාව දැකගන්න පුළුවන් වුණා නම්, ද්වේෂ චරිතයක් වේවා, රාග චරිතයක් වේවා, මේ කලහ විවාද නැති තැනට, ඕනෑම දෙයක් පිළිගන්න පුළුවන් මට්ටමට සංඥාවේ අර රහතන් වහන්සේගේ තියෙන ගුණය තාවකාලිකව ලැබෙනවා. ඒක පිට පැත්තෙන් දකින්නත් පුළුවන් නේ. ඇතුළු පැත්තෙන් දකින්නත් පුළුවන් නේ. නැත්නම් මේක නැහුණා වාගෙ, නොදැක්කා වාගෙ අත හරින්නත් පුළුවන් නේ. ඒ තුනම මට කැපයි නෙ. සතිමත් පුද්ගලයට හම්බ වෙන පළවෙනිම නිවන, ඒ චිත්තක්ෂණයේ ලැබෙන නිවන කියන්නෙ ඔන්න ඕක තමයි. තමන් හොඳටෝම දන්නව ඒ පුද්ගලය පිළිබඳව පටිඝ සංඥාව මතු වුණා. එහෙම නැත්නම් පටිඝ අනුසය, නැත්නම් රාග අනුසය, එහෙම නැත්නම් මෝහය, නැත්නම් දිට්ඨියක් නැත්නම් මොකක් හරි එකක්

මතු වුණා. මතු වෙනකොට ම දැනගන්න නම් එසේ මෙසේ සතියක් තිබිල බෑ. හොඳ සුපතිට්ඨිත සතියක් තියෙන්න ඕනෑ.

ඒ ඇති වෙනකොටම දැනගත්තහම, අපි දන්නව සාමාන්‍යයෙන් රූප කර්මස්ථානය වඩනකොට පඨවි ධාතුවේ තදකම හොඳටම වැටහිලා, අපි හිතමු දරාගන්න බැරි තරමට තදකම මතු වුණා. මතු වෙනකොට යම් කිසි කෙනෙකුට කල්පනා වුණා නම් මේ රිදෙන ගතියක් තද ගතියක් නෙවෙයි, පඨවි ධාතුවයි කියල, ඒ දැනගන්නවත් එක්කම හොඳ සෞඛ්‍ය සම්පන්න තාලෙට, ධාර්මිකව හිතන්න පුළුවන් මේ පඨවි ධාතුවට තනිවම හිටින්න බෑ. මේක ආපෝ වායෝ තේජෝ කියන පදනමේ තමයි තියෙන්නෙ. ඒ නිසා මේ පඨවි ගතිය, තද ගතිය තියෙන්නෙ මෙළෙක් ගතියට සාපේක්ෂකව. මේ මෙළෙක් ගතිය, තද ගතිය දෙක තියෙන්නේ මේ වැගිරෙන ගති, තද කරන ගති, පිඬු කරන ගති මතු මත්තෙ කියල, අර තද ගතිය, මේ මගේ කකුල රිදෙනවා කියන ප්‍රඥප්තියෙන් ගලවලා තද ගතිය වැටහෙන්න නම්, මෘදු ගතියක් තියෙන්න එපායැ. ඒකාන්ත තද ගතියක් කියල ලෝකෙ දෙයක් නෑ නෙ. එහෙම වෙච්ච එක්කෙනාට මේ මෘදු ගතිය දැන් තද ගතියක් බවට පත් වුණා.

දැන් සීමාව ඉක්මුවා. මේක පවතින්නෙ මොන වගේද? වැගිරෙන දේක තද ගතියක්ද? වායු ගතියක තද ගතියක්ද? ඝන දේක තද ගතියක්ද? මේකෙත් උණුසුම් සිසිල් ගතියක් තියෙනවද? මේකෙ චංචල කම්පන ගති නැතුව එහෙම හිටි තැනම තියෙනවද? ආදී වශයෙන් කල්පනා කරල බලනකොට අර තද ගතියෙන් අපි වහළාගන්න තියෙන තත්ත්වය, තද ගතියෙන් මුසපත් වෙන්න තියෙන තත්ත්වය වෙනුවට පඨවි ධාතුවෙ ගති වගේ, අනෙකුත් ධාතු ස්වභාව දිගේ ඈතට හිත යනව වගේ, යම් සංඥාවක් හඳුනාගත්ත නම්, සුබ වේවා අසුබ වේවා දෙක මැද වේවා හඳුනාගන්න කොටම හිතන්න පුළුවන් මම පුරුෂයෙක්, මම යෝගාවචරයෙක්, මම සතිය ඇති කෙනෙක්, මට ඕනෑ නම් මේක පිළිබඳව සුබ සංඥා තියෙද්දි අසුබ සංඥාවක් ගන්න පුළුවන් වෙන්න ඕනෑ. නැත්නම් මට රහත් වීමේ හැකියාවක් නැහැ. ඒ වාගෙම සුබත් නැති අසුබත් නැති ගණන්ගන්න දෙයක් නැති විධියට නොසලකා හරින්න පුළුවන්

ශක්තියක් තියෙන්නේ, අන්න මේකෙ විකුර්වණය. මේක ලබන්ට, සංසාරයක් පුරා ගෙනාපු මෝහ පටල තිබුණත් හරියට සංඥුව සුද්ද කරගත්තොත් එක පාරෙන් කපන්න පුළුවන්.

ඒක ඉස්සෙල්ලාම අවබෝධ කෙරුවේ අපේ සර්වඥයන් වහන්සේ. අනිත් ඔක්කොලම හිතුව මේකට ගෙවන්න වෙයි කියල. හිතුව මේකට මෙච්චර වෙලා සිල් පුරන්න වෙයි කියල. හිතුව මෙච්චර වෙලා මේකට සමාධියකින් එන්න වෙයි කියල. හිතුව මේක කපන්න අවශ්‍ය තරම් ප්‍රඥුව, ප්‍රඥු ආයුධය මදි කියල. සර්වඥයන් වහන්සේ කිව්වා 'එක චිත්තක්‍ෂණයයි'. හැබැයි මේක තේරුම් කරල දෙන්නත් අපි පැය දෙකක් අරන් තියනවා. භාවනා කරපු කෙනාට නම් මේ කථාවෙ තේරෙන්නේ සංඥුව පිළිබඳව මෙච්චර විස්තර කරනකොට, මේ අමාරු ප්‍රශ්නය තව කෙනෙකුට විස්තර කර දීමේ ඇත්තා වූ සන්නිවේදන ප්‍රශ්නයක් විදියට. භාවනා කරන කෙනාට ඒක විශාල ඝන අන්ධකාරයක් තිබුණත්, ඉටිපන්දමක් පත්තු කළත්, ඒ ඉටිපන්දමට පුළුවන් කිසිම පැකිළීමක් නැතුව අන්ධකාරය තමාගේ ශක්ති මට්ටමට කපා හරින්න. අන්ධකාරය සැරයි කියල ඉටිපන්දම නිමෙන්නේ නෑ.

ඒ වගේ තමයි ප්‍රඥුලෝකය පහළ කරගත්ත නම් සංඥු මට්ටමෙන්, අනුසය මට්ටමෙන්, ඒ පුද්ගලයාට පුදුමාකාර රහත් හිතක්, නැත්නම් ආර්යයන් වහන්සේලාගෙන් පැමිණිච්ච ඒ රහත් සුවඳ දැන් දැන් නිවන් දකින්න පුළුවන්ය කියන මේ ගැම්ම, ප්‍රධාන වශයෙන්ම පණ පෙවෙන්න පටන්ගන්නව. ලොකු ආලෝකයක්, චක්ඛුං උදපාදි, පඤ්ඤා උදපාදි ආදී වශයෙන් දක්වන මේ කරුණුවලට ලොකු සම්බන්ධතාවක් ඇති වෙනව. ඒකට කියනව තදංග නිබ්බුතිය කියල. තදංග වශයෙන් ලැබෙන නිවන. මේකෙ තව යෝගාවචරයාගේ හිත පැත්තෙන්, නැත්නම් ඒ භාවනා චිත්ත වීථි වැඩෙන පැත්තෙන් ගත්තොත් මේකට සර්වඥයන් වහන්සේ සංඥු පිළිබඳ හොඳ දැනීමක් ඇති කරගෙන උන්වහන්සේ දෙන්නෙම සුබත් නැති අසුබත් නැති අරමුණු. පිම්බීම හැකිළීම ගන්නව. ආනාපානය ගන්නව. නැත්නම් කුමක් හෝ විපස්සනාවට ගොදුරු වෙන අරමුණක් ගත්තහම ආරම්භයේදීම තියෙන්නේ කිසිම සුබයක් නැහැ. කිසිම අසුබයක්

නැහැ. මධ්‍යස්ථ අරමුණක් දෙනවා. උන්වහන්සේ දන්නව පටන්ගන්නකොට ඒ පුද්ගලයට ඒක පිළිබඳව සංඥා ගැනීම ලේසියි. ඒ මොකද, හොඳට සටහන් පේනවා. හොඳට ආකාර පේනවා. ඒ නිසා කියනව හොඳ හැටි අල ගිය මුල ගිය අංග ප්‍රත්‍යංග ව්‍යංජන අනුව්‍යංජන වශයෙන් හොඳම සටහනක් ගන්නය කියල. පිම්බීම ගත්ත නම්, ඒ පිම්බීමේ මුල මැද අග කොහොමද තමන් දකින්නෙ? ඒක කම්පනයක්ද? චංචලකමක්ද? තදකමක්ද? සියුම් කමක්ද? උණුසුමද? සිසිලද? වැගිරෙන ගතියද? මේවගේ සංකලනයක්ද? චිත්තක්ෂණයෙන් චිත්තක්ෂණයට මේවා වෙනස් වෙන්නෙ කොහොමද? සෑම විස්තරයක්ම බලාගත්තොත්,ඒ පුද්ගලයට ස්ථිර සංඥාවක් ඇති වෙනව 'මම පිම්බීම දැක්කා. මම මේ පිම්බීමේ කොනක් දැක්කා නෙවෙයි, හාත්පසින්ම දැක්කා'. ආශ්වාසය ප්‍රශ්වාසය ගත්තත් එහෙමයි.

ඊළඟ චිත්තක්ෂණය, මේ ආශ්වාසයෙන් ප්‍රශ්වාසයකට පෙරළෙන තැන, නැත්නම් පිම්බීම, හැකිළීමකට පෙරළෙන තැන වඩාත් අලුතෙන්ම හිතක් ඇති කරගෙන, අලුත් සෙල්ලම් බඩුවක් හම්බ වෙච්ච පොඩි දරුවෙක් වාගේ, අර පරණ සෙල්ලම් බඩු ගොඩම විසි කරල අලුත් සෙල්ලම් බඩුව බලන්නා වාගේ ගිය ආශ්වාසය අත ඇරලා අලුතෙන් ප්‍රශ්වාසයට හිත යොදනවා. ගිය පිම්බීම අත ඇරලා දැන් හැකිළීමට හිත යොදනකොට ඒකෙ සම්පූර්ණ හැඩතල, නිල, අංග ප්‍රත්‍යංග, ව්‍යංජන අනුව්‍යංජන වශයෙන් හාත්පසින්ම දැකපුවාම ඒ පුද්ගලයාට එක පිම්බීම් හැකිළීම් වාර දහයක් පහළොවක් බලාගෙන යනකොටම, තියෙන්න පුළුවන් සටහන්, තියෙන්න පුළුවන් ආකාර, තියෙන්න පුළුවන් වෙස් බැන්දුම් ඔක්කොම දැකගන්න පුළුවන්. වෙන විධියකට කියනව නම්, බුදුරජාණන් වහන්සේ කියාපු උපදේශය තේරෙනවා. ඔක්කොම හාත්පසින් '**දුක්ඛං පරිඤ්ඤෙය්‍යං**' කියල කියන විධියට මේක '**පරිඤ්ඤෙය්‍ය තබ්බං**' හාත්පසින්ම දැකගන්නව. දැක්කයි කියල කවමදාවකවත් 'දැන් හරි, මම මේ වැඩේ කරල ඉවරයි' කියල බහා තබන්නෙ නෑ. 'මම දැන් අවුරුදු හතක් භාවනා කළා' යි කියල කවදාවක්වත් මම පිම්බීම දැක්කයි කියල බාරගන්නෙ නෑ. 'මට බලන්න දෙයක් තියෙනවා, මම ඒක බලනවා.

මේ හැකිළීමෙත් ඒ වගේම බලන්න දෙයක් තියෙනවා. පිම්බීම හැකිළීම දෙක අතරමැදත් බලන්න දෙයක් තියෙනවා. ඒකත් බලනවා' ආදී වශයෙන් ඒ පිම්බීම හැකිළීම දිගේ බලාගන බලාගන යනකොට, මේ සුබත් නැති අසුබත් නැති අරමුණේ ස්වභාවය තමයි එන්ට එන්න එන්ට එන්ට ඒ සංඥාව අඩු වෙන්න පටන්ගන්නවා. සුබ දෙයක් නම් මේකට ළං වේවා, වැඩි වේවා, මගේම වේවා ආදී වශයෙන් ඒ මතුමත්තේ පහළ වෙන හිතිවිලි - නැත්නම් ප්‍රපංච කියලත් කියනව - විස්තර කිරීම්, අමතර වචන, අමතර විස්තාර දිගින් දිගට හිතට යන්න ගියොත් පැටලෙන්න තියෙන ඉඩ වැඩියි. ඒක අසුබ දෙයක් නම්, අමනාප ගති පහළ වෙන්න තියෙන ඉඩ වැඩියි. ඒ නිසා සුබ අසුබ නැති මධ්‍යස්ථ අරමුණක් දුන්නහම වෙන්න තියෙන්නේ ඒ මතුමත්තේ එන සංඥාව, එන්න එන්න සංඥාව බැස නොගන්නා තත්ත්වෙකට පත් වීමයි.

සර්වඥයන් වහන්සේව අර දණ්ඩපාණී ශාක්‍යයා දැක්කහම, දණ්ඩපාණී ශාක්‍යයාට දෙන උත්තරේ මතක් වෙනවා. 'බ්‍රාහ්මණය, යම් කිසි රහතන් වහන්සේ නමකට වාද විවාද නැත්නම්, ඒ වාගේම සැක කුකුස් නැත්නම්, භවාභව තණ්හාව නැත්නම්, නීච තණ්හා වෙච්චි කෙනාට සංඥාව බැසගන්නෙ නෑ'. ඉස්සර නම් මම අඩු ගානෙ පිම්බීම හැකිළීම දැක්කා, මෙච්චර මෙච්චර දැක්කා කියල ඒකේ හැඩ නිල පේනවා. පහු වෙනකොට අඩු තරමෙන් කියනව නම්, පිම්බීම හැකිළීම දෙකේ අතර තියෙන වෙනසවත් නොපෙනී යනවා. වෙනස් කරන්න තියෙන සංඥාව නැති වෙන්න පටන්ගන්නව. දෙකම එක වාගෙ පේනවා. පිම්බීම හැකිළීම, ආශ්වාස ප්‍රශ්වාස, සක්මන් කරනකොට වම දකුණ ඔක්කොම නැති වෙලා, මේ සංඥාවට මොකක්දෝ වෙන්න පටන්ගන්නවා. මේ තමයි රහත් වෙන්න හදන හිතක, සංඥා පොළොවට, සංසාරෙට ගහල තිබුණු කූඤ්ඤෙ හෙල්ලෙන ගැස්සෙන වෙලාව. ඒ හෙල්ලෙන්න ගැස්සෙන්න ගත්තම දැන් හෙල්ලෙන්නේ ගැස්සෙන්නේ යෝගාවචරයෝ. යෝගාවචරයට කරප්පං එන්න පටන් අරගන්නව. නැත්නම් සිහි නැතිවා වැනි ගතියකට එන්න පටන්ගන්නව. ඕං තිබුණ අරමුණ නැතුව ගියා. දැන් හරි කලබලේ. ඒ මොකද? සංසාරෙ පුරාම තිබුණෙ අරමුණක්

අරගෙන ඒකෙ ස්ථිර සංඥාවක් ගන්නයි අපිට ගුරුවරු කියල දුන්නේ. ඉතිහාසේත් ඉගැන්නුවෙ ඒක. භූගෝලෙත් ඉගැන්නුවෙත් ඒක. අපිට ගුරුවරයාත් ඉගැන්නුවේ ඒකයි. ආචාර්යයවරු ඉගැන්නුවෙත් ඒකයි. සමහර විට ඒ අයට බුදුහාමුදුරුවන්ගේ ආචාර්යවරු කියලත් කියනව. කොහොම කෙරුවක්වත් ස්ථිර සංඥාවට තමයි අපි පොහොර දලා තිබුණේ.

නමුත් බුදුරජාණන් වහන්සේ දීපු මේ කර්මස්ථාන වර්ධනය කියන භාවනාවට ගියහම සංඥාව එන්න එන්න දුර්වල වෙනවා. ඉතින් ගොඩ දපු මාළුවෙක් වාගෙ මේ යෝගාවචරය ගැහෙන්න සැලෙන්න පටන් අරගන්නවා. නමුත් මේ වෙච්චි කාරණාව කියාගන්න තරම් අවබෝධයක් නෑ. මොකද? ඒක වෙනුවෙන් තියෙන්නේ බයක්. ඒක වෙනුවෙන් තියෙන්නේ සැකයක්. ඒක වෙනුවෙන් තියෙන්නේ බලාපොරොත්තු සුන් වීමක්. ඒක වෙනුවෙන් තියෙන්නේ අධිෂ්ඨාන ශක්තිය ගිළිහී යාමක්. මොකද බලාපොරොත්තුව නම්, එන්න එන්න මේක දැඩි වෙයි, අල්ල බදගන්න පුළුවන් වෙයි, මගේ කියාගන්න පුළුවන් වෙයි කියල. බුදුරජාණන් වහන්සේ අර දණ්ඩපාණී ශාක්‍යයට කිව්වෙම 'දක්ෂයා නම්, සංඥාවෙ බැහැගන්න බෑ, බහින්නේ නැහැ, බහින්න ඉඩ දෙන්න එපා, බැස්ස නම්, අනිවාර්යයෙන්ම එතැන අනුසය කෙලෙස් පහළ වෙනවා'.

ඒක නිසා සංඥාව අඩු වීගෙන අඩු වීගෙන යනකොට යනකොට, මේ ධර්ම කොට්ඨාශ අහපු කෙනාට නම් තේරෙනව, හැබැව නේ. දැන් මේ සංඥාවේ, මේ මම බලාපු අරමුණේ මට රාගයක් පහළ වෙන්න කිසිම ඉඩක් නෑ. නොදකින් නොපතන් කියලා ද්වේෂයක් පහළ වෙන්න ඉඩකුත් නෑ. ඒ පිම්බෙන වෙලාවෙ හැකිළෙනවදෝ, හැකිළෙන වෙලාවෙ පිම්බෙනවදෝ කියල මෝහයක් පහළ වෙන්න ඉඩකුත් නෑ. අවිද්‍යාවක්, එහෙම නැත්නම් භාවාභව තණ්හාවක්, සැකයක්, කුකුසක් මොකුත් නෑ. මෙතෙක් එනකන් හොඳට අර ගොරෝසු තැන ඉඳල ගොරෝසු නැති තැනට යනකල් දිගට සතිය තිබුණා. ඉතින් එතකොට වෙන්නෙ මේ සංඥාව එන්න එන්න දුරු වෙනවා.

කලහවිවාද සූත්‍රයේ මේකට බොහෝම ලස්සන අනියම් මාර්ගයේ උපමාවක් සපයනවා. උන්වහන්සේ සඳහන් කරනවා මේ කලහ විවාද ලෝකේ පහළ වෙන්න හේතුව ප්‍රිය භාවය. ඉතින් පුද්ගලයෙක් ලෝකේ පහළ වෙච්චහම '**තත්‍ර තත්‍රාභිනන්දිනී**'. ගිය තැන කොතනද, එතැන ඇල්ලුවා. මනුෂ්‍යයෙක් නම්, මනුෂ්‍ය භාවය ඇල්ලුවා. ගෙම්බෙක් නම්, ගෙම්බ භාවය ඇල්ලුවා. ගෙම්බට වුණත් තට්ටු කරනවට ගෙම්බ කැමති නැහැ. අපි කීවොත් හෙම ගෙම්බා ඉන්න ඒ දුක්ඛිත තත්ත්වයෙන් ගලවල මනුෂ්‍යයෙක් කරන්න මරන්න ඕනැයි කියල, වැරදියි. වැඩෙත් වැරදියි. ගෙම්බත් කැමති නෑ. අඩු ගානෙ අපායක සතෙක්වත් මැරෙනවට කැමති නෑ. ඉන්නේ අපායේ. ඒකෙන් ගලවනවා කියල මරනවට කැමති නෑ. දුක්ඛිත තත්ත්වෙන් හෝ ඉන්න කැමතියි. මරනවට කැමති නෑ. ඒ මොකද? '**තත්‍ර තත්‍රාභිනන්දිනී**'. ඒ තත්‍ර තත්‍රාභිනන්දනය නැත්නම් කොහොමද මේ සංසාරෙ කැරකෙන්නේ? ඒ අභිනන්දනයම තමයි මේ කලහ විවාදයට හේතුව. කලහ විවාදයට මුල් වෙන්නේ මෙන්න මේ බැසගත්ත සංඥුව. සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා, මේ බැසගත්ත සංඥුවට ප්‍රධානම හේතුව රූපයේ බැසගැන්ම. රූපයේ භූත භාවය, රූපයේ රූප්පන ගතිය. රූපය නිතරෝම එක එක පැතිවලට හරවමින් වර්ණයෙන් රසයට, රසයෙන් ගන්ධයට, ගන්ධයෙන් ශබ්දයට මාරු කර කර මාරු කර කර අපිව පිනවන නිසා අපි රූපයේ බැසගන්නවා. මේක මගේ වස්තුව, මේ මගේ නෑදෑයා, මේක මගේ රට ආදී වශයෙන් මේ සේරම බදගන්න බදගන්න, සංඥුව හොඳට තහවුරු වෙන්න වෙන්න, රණ්ඩු වැඩී. යම් දවසක රූපය විරූප වෙනකොට, රූපය විරංජනය වෙනකොට, රූපය නිර්වින්දනය වෙනකොට සංඥුව ඉබේම ගැලවෙනව, ගැලවෙන්න පටන්ගන්නවා.

ඉතින් ඒ නිසා සංඥුව ගැලවීගෙන එනකොට තෘෂ්ණාව වැඩි කෙනා, ස්ථිර සංඥුව ඇති කෙනා, ස්ථිර සංඥුවට රණ්ඩු කරන කෙනා, වෙව්ලන්න පටන්ගන්නවා. දඩිය දන්න පටන්ගන්නවා. සහලවනවා. මේ ෂෝක් එකට භාවනා කරගෙන හිටිය මේ අරමුණ නැතුව ගියානෙ. අරමුණේ මේ තිබුණ කළු සුදු වෙනස නැති වුණා නෙ කියල ඉතින් එතැන ඉඳලම තක්කු මුක්කු වෙනවා. ආයෙ

පුම්බනවා හකුළනවා. හුස්ම ගන්නව නයි පුම්බනව වාගෙ. ඒ මොකද, අර නැති වෙච්ච සංඥව මතු කරගෙන හෝ මේ සංසාරෙ ගැටගැහිලා කොහොම හරි ඉන්න එපායැ. සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා, මේ රූපය විභූත වෙන්න නම් **'න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී, නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී'**. සංඥව ඇත්තෙත් නෑ; දැන් රූපය - ආශ්වාස ප්‍රශ්වාස දෙක - නෑ. ඒ කියන්නෙ ආශ්වාසයෙන් ප්‍රශ්වාසය වෙන් වෙලා නෑ, පිම්බීමෙන් හැකිළීම වෙන් වෙලා නෑ; හැබැයි නැත්තෙමත් නෑ. **න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී'** සිහි නැති වෙලත් නෑ, විසඤ්ඤ භාවයට පත් වෙලත් නෑ. **'නොපි අසඤ්ඤී'** නේවසඤ්ඤනාසඤ්ඤයතනයට ගිහිල්ලවත් සඤ්ඤවේදයිත නිරෝධයට ගිහිල්ලවත් නෙවෙයි. **'න විභූතසඤ්ඤී'** සඤ්ඤව ඉක්මවලත් නෙවෙයි. මෙතෙක් ජීවිතයේ අත්දැකපු නැති සඤ්ඤවක්ම එන්න පටන්ගන්නවා.

මෙතෙන්දි යෝගාවචරයා නොසැලෙන්න දන්නව නම්, යෝගාවචරයා දන්නව නම් මේ විශාල සටනක් නිසා මම මේ සංඥව දැන් සම්පූර්ණ පච කරල තියෙන්නේ, ඒ පච කෙරුවේ බුදුහාමුදුරුවන්ගේ මේ සීල සමාධි ප්‍රඥ ක්‍රමයට මම ඇවිල්ලයි, ඒ නිසා මම මෙතැනදී හුළං වදින්නෙ නැති තැනක පත්තු වෙන පහන් දැල්ලක් වගේ හරියටම මේ හිත නැගිට්ටුව ගන්න ඕනෑ, හිත ඍජු කරගන්න ඕනෑ කියල දන්නව නම්, ආන්න එතැනදී තමයි රූපය විභූත වෙන්නෙ. රූපයට ඇවිල්ල අපිට කුප්පන්න බැරි වෙන්නෙ. රූපයට ඇවිල්ල අපිව කුද්දන්න බැරි වෙන්නෙ. කුද්දන්න බැරි තරම් නිදිමරගාතේ නෙවෙයි මේක කරන්නෙ, සම්පූර්ණ ප්‍රබුද්ධත්වයකින්. ආන්න ඒ විභූත සංඥවත් මේකට වෙච්චහම ඒ පුද්ගලයාට නිවන බොහෝම සමීපයේ ඉන්නේ. නිවන් ගියා තමයි. ඒකට කියනව **තදංග නිබ්බුතිය** කියල.

ඉතින් මේ භාවනා ක්‍රමය දන්නෙ නැති ඇත්තෝ චෝදනා කරනවා, මේ භාවනාවෙදී ඉක්මනටම සංඥව නැති කරල මිනිස්සු පිස්සු වට්ටනවයි කියල. පිස්සු හැදෙනවා, මෙතෙන්ට ඇවිල්ල නිවන ප්‍රතික්ෂේප වුණොත්. බලාපොරොත්තු වෙන්නෙ ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා නම්, අර රූපය විභූත වේගෙන එනකොට ඒ පුද්ගලයා

මොනව හරි භූතයක් අල්ලන්න පටන්ගන්නව. ඒ මොකද? නැත්නම් මිනිහ අසරණ වෙනවා. මිනිහ පව වෙනවා. යෝගාවචරයා නිකම්ම නිකම් ගන්න දෙයක් නැති තත්ත්වයට පත් වෙනවා. ඒ මොකද? එයා බලාපොරොත්තු වෙන්නෙ නිවන නෙවෙයි. අර කලින් කියාපු කලහ විවාදයක්, එහෙම නැත්නම් කුකුසක්, එහෙම නැත්නම් සැකයක්, එහෙම නැත්නම් භව විභව පිළිබඳ තණ්හාවක්, මොනව හරි ආසාවක් තිබුණ නම්, ඒ සියල්ලම මතු කරනවා මෙතැනදී. මොකද? රූපය විභූත වෙනවා. සඤ්ඤාව අන්න අර කියන විධියට 'න සඤ්ඤාසඤ්ඤී න විසඤ්ඤාසඤ්ඤී, නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී', කියල, සඤ්ඤාව අපි නොදන්න තැනකට ගෙනියල. මෙන්න මෙතැන්දී තමයි බුද්ධ ඇදහිල්ල ඕනෑ කරන්නෙ. මෙතැන්දී තමයි ධම්ම ඇදහිල්ල ඕනෑ කරන්නෙ. මෙතැන්දී තමයි අපිට සංඝ ඇදහිල්ල ඕනෑ කරන්නෙ. ඒ මොනවක්වත් නැතුව අපි වෙන මොනව හරි හදගත්තොත්, මෙච්චර ලස්සනට සෝදගත්ත මේ රෙදි කැල්ලට වැටෙන ඕනෑ සායමක් අල්ලනවා.

අපි මේ සංඥාව දිගේ මේ ගියේ. සංඥාව දැන් සම්පූර්ණයෙන්ම අර කියන තත්ත්ව හතරෙන් ගිළිහිලා; රූපයේ පිම්බීමේ හැකිළීමේ සංඥාවක් නෑ. එහෙම නැත්නම් අර නාස්පුඩු පුරවාගෙන යන ගොරෝසු කම්පන, චංචල ගතිත් නෑ. '**නොපි අසඤ්ඤී**', අපි ඒක නොදැනී ඉන්නවත් නෙවෙයි. එයින් ඇති වුණා වූ සාරයක් එයින් ඇති වූ ප්‍රාග් සංඥාවක් තියෙනව. හැප්පීමේ ලාංඡනය තියෙනව. '**නොපි විසඤ්ඤී**', අපට සිහි නැති වෙලා, නින්ද ගිහිල්ල, විසඤ්ඤා තත්ත්වයට පත් වෙලත් නෙවෙයි. '**න විභූතසඤ්ඤී**', සංඥා නැති ගහක් කොළකුත් නෙවෙයි. සංඥාව ඉක්මවලත් නෑ. මොකක්දෝ සංඥාවක් තියෙනවා.

අන්න ඒ සංඥාවට අවදි වෙන්න බැරි නම්, මේ කෙලෙස්වලින් බැඳිලා තියන තොපට මොන මර නිදිද කියල සර්වඥයන් වහන්සේ ප්‍රශ්න කරනවා. ඉතින් මේකෙදි එකයි වෙන්නෙ. එක්කෝ මෙතෙන්දී සැක සංඥා පහළ කරනවා. නැත්නම් නින්දට වැටෙනවා. මේ දෙකට වැටිච්ච නැති යෝගාවචරයෙක් නම් ජීවිතේම නෑ. එක්කෝ ඒ අරමුණ නැති වේගෙන යනකොට සැක සංඥා පහළ කරනවා. පහළ කරලා

එක්කො අර කියන විධියට පුම්බන්න පටන්ගන්නව, එහෙම නැත්නම් පිඹින්න පටන්ගන්නව. නැත්නම් ඇස් දෙක ඇරල බලන්න ගන්නව. මේ කය, බඩ, නාසය එහෙම ඇත්තටම තියෙනවද, නැත්නම් ඇත්තටම නැති වෙලාද? මෙහෙම ගියොත් එහෙම අංසභාගෙට, කොර වීමකට යයිද? කියල ඇරල බලන අවස්ථාවල් නැත්තේ නෑ. ඒ විතරක් නෙවෙයි නින්දට නොවැටෙනවා නොවෙයි.

ඒ දෙකම අතරමැදින් මේ සංඥව මේ විධියට දියළු තත්ත්වෙට පත් වෙනකොට, බැස නොගන්නා තත්ත්වෙට පත් වෙනකොට, මේ රහත් මාර්ගයට ළං වීමක්, එහෙම නැත්නම් සංඛාර උපේක්ඛාවට ළං වීමක්, එහෙම නැත්නම් සංස්කාරයන් පිළිබඳ උපේක්‍ෂාවට පත් වීමක් කියල ඒ යෝගාවචරයා ඒ වෙලාවේදී කුණාටු අවස්ථාවක නැව බේරාගන්නා දක්ෂ කප්පිත්තෙක් වගේ, ඇඹිල්ල නතර කරලා මේ කියන තත්ත්වේදී ස්ථිර වශයෙන් මේකට මුහුණ දෙන්න පුළුවන් නම්, ඒ යෝගාවචරයා මේ භෞතික ලෝකයේ අෂ්ට ලෝක ධර්මයට කම්පා නොවෙන, මේ සූත්‍ර පාඨයෙන් කියනව නම්, වාද විවාදවලට පෙළඹෙන්නෙ නැති, කතං කතී භාවය නැති, තුවං තුවං භාව නැති, පෙසුඤ්ඤ පරුෂ වචන නැති, ඕනෑම දෙයක් ආපුවාම, 'මේක වෙන්නත් පුළුවන් නොවෙන්නත් පුළුවන්, මට තියෙන්නෙ මේක දිහා බලාගෙන ඉන්නයි' කියල ගල් බමුණා වාගේ, තපස්වරයෙක් වාගේ ඒක දිහා බලාගෙන ඉන්න ශක්තිය ඇති කරගන්න ඕන.

ඒ යෝගාවචරයා කවදාකවත් විනිශ්චයකට එළඹෙන්නෙ නෑ. තේරුම් අරගන්නවා, දැන් කෝවට දල මේ යකඩෙ රත් වෙලා තියෙන්නේ, දැන් ඊට පස්සේ ඕනෑ අපට ඕන විධියට හදාගන්න. එනිසා මේක, මෙතෙක් ගෙනාපු ඒ ඔක්කෝම අපේ රුචි අරුචිකම්, අපේ පෞරුෂත්වය, මම මාගේ කියන සංඥවල් ඔක්කොම කෝවේ උණු වෙලා තියෙන්නේ. ඇඟිල්ල ගහන්න යන්න නරකයි. මොකද හුඟක් රස්නෙයි ඒ වෙලාවෙ. අවශ්‍ය කරන්නේ මේක අර සීල, සමාධි ප්‍රඥාවෙන් ඇවිල්ල දීපු තත්ත්වයක්, මේ තත්ත්වයේදී නහමක් මගේ හිත සැලේවා! මට මේ චිත්‍රයේ සම්පූර්ණයෙන්ම මුල මැද අග කියන තුන් ජවනිකාවම දැකගන්න ලැබේවා! කියල මේ ආදී හොඳට නිබ්බුතිය ගැන හිතල, නිර්වින්දනය ගැන අවබෝධ කරගැනීමයි.

වෙලාවකට මේ තත්ත්වෙ එපා වෙන ගතිය, මෙයට බය වෙන ගතිය, අසරණ කරන ගතිය අනිවාර්යයෙන්ම පහළ වෙනවා. ඒ පහළ වීම අර ස්ථිර සංඥවට පුරුදු කරපු, සංසාරෙ ගෙනාපු කෙලෙස් කහට. ආන්න ඒ වෙලාවෙදි මේක කිට්ටු කරගෙන එනකොට ඒකට බය වෙන හැටි, එපා කරවන හැටි, එහෙම නැත්නම් අනුන්ගේ දෝෂයක් වගේ දකින හැටි, කවුරු හරි මට මේකට වින කළා ආදී වශයෙන් පේන නොපෙනෙන වස්තුවකට මේක හේත්තු කරන්න හදන හැටි, මේවා සේරම අර සඤ්ඤ විපල්ලාසෙන් සිදු වෙන කාරණා.

ඉතින් මේව කථා කරනකොට අපේ අටුවාචාරීන් වහන්සේල බොහොම සහේතුකව සඳහන් කරනවා, මේක කවදාවකවත් භාවනා නොකරපු කෙනෙකුට එන්නෙ නෑ, මේ විකාරය එන්නෙ නෑ. ඒ වගේම රහතන් වහන්සේට එන්නෙත් නෑ. මේක භාවනාවෙන් සල්ලි දීලගත්ත පිස්සුවක්. ඇදගෙන නෑම. ඉල්ලගෙන කෑම. යෝගාවචරයට වඳින්න වටින්නෙ අන්න ඕක නිසා. මොකද මේ තත්ත්වය ඉක්මවන්නෙ නැතුව කවදාවකවත් බෑ නිවන් දකින්න. මේක මරණ මොහොතෙදී කෙරෙන වැඩක් නෙවෙයි. ලෙඩ වෙලා කෙරන වැඩක් නෙවෙයි. වයසට ගිහිල්ල කෙරන වැඩක් නෙවෙයි. හොඳ තරුණ ඔදයක් ඇතුව කෙරෙන වැඩක්. විශේෂ කාර්ය බළකායකට පුහුණු කරන හැකියා සහිත තරුණයෙක් ඒ බළකායේ පුහුණුව පිණිස මඩ ගොඩවල්වල, කටු කම්බිවල, බෝතල් කටුවල ඇවිදින්නේ තමන්ගේ හැකියාවල් පුරුදු පුහුණු කරන්නා වගේ. භාවනාවේදී මේ දේවල් පනවාගෙන නෙවෙයි. ඒක මහා මෝඩ කමක්. ඒක අත්තකිලමථානුයෝගය පනවගෙන නෙවෙයි. එන දේට සාර්ථකව මුහුණ දීල, මෙන්න මෙහෙමයි සංඥව, මෙන්න මෙහෙමයි රූපය, මෙන්න මෙහෙමයි කලහ විවාද කියල දැනගෙන 'මම මේ ශාන්ති පදයට යන්නෙ, මම මේ යහපතට යන්නෙ'.

ඒ නිසා ඇස් ඇත්තේ අන්ධයකු සේ ඉඳල හෝ කන් ඇත්තේ බීරකු සේ ඉඳල හෝ, එහෙම නැත්නම් සංඥ නැති වෙනකොට සංඥ නැති බව දැනගැනීමෙන් හෝ මේකට මුහුණ දුන්නොත් රූපය විභූත කරන්න පුළුවන්. එතකොට ඒ රූපය පිළිබඳව සුබ සංඥව ගන්න පුළුවන්. අසුබ සංඥව ගන්න පුළුවන්. එහෙම නැත්නම් සුබ අසුබ

දෙක නැතිවත් ගන්න පුළුවන්. ඕනැම කුණු කයක් මත මේ රූපය, රූපය වශයෙන් අරමුණු කරල මෙතෙන්ට එන්න පුළුවන් නම්, ඕනැ කුණක් නිවනට අරමුණු කරන අදහසින් ගන්න පුළුවන්. ඕනැ රූපයක්, සුබ දෙයක් - අපි කියමු හොඳ තරුණ ක්‍ෂත්‍රිය හෝ බ්‍රාහ්මණ කාන්තාවක් - අන්තිම සුබ වස්තුවක්. නමුත් නිවන සම්පූර්ණයෙන්ම කාබාසිනියා කරන්නා වූ යක්‍ෂණියක් වෙන්න පුළුවන්. ඕනෑ සුබයක අසුබයක් දකින්නත් පුළුවන්. ඒ වාගේම තමයි මේ සුබයේ සුබය දකින්නත් පුළුවන්. අසුබයේ අසුබය දකින්නත් පුළුවන්. සුබ අසුබ දෙකේ සුබ අසුබ නැති තත්ත්වය දකින්නත් පුළුවන්. ඒ තත්ත්වයට යන්න නම්, මේ රූපය කරන මේ හොල්මන්වලට අහුවෙන්නේ නැතුව ඒක විහුත කරන හැටි දැනගන්න ඕනෑ. භාවනාව විරූප වෙනකොට අන්තිම දක්වා යන්න පුරුදු වෙන්න ඕනෑ. තටු ගහල නැගිටින්න නරකයි. නැගිට්ටොත් හැමදම එතෙන්ට ගිහිල්ල ආපහු හැරිලා එනවා.

කාලයක් තිබුණලු ශරීර සෞඛ්‍යය පිණිස වයසක මනුස්සයෙක් හැන්දෑවට පිට්ටනිය වටේ රවුමක් කැරකෙනවලු. මිනිහ වයසට යනකොට කිව්වලු දවසක 'මට භාගයයි යන්න පුළුවන්' කියල, ඒ බාගෙ ගිහිල්ල ආපහු හැරිලා එනවලු. භාගය ගිහිල්ල ආපහු හැරිලා ආවත් රවුමම තමයි. ආපහු හැරෙන්නේ නැතුව එහා පැත්තෙන් ආව නම් රවුම හරි. එහෙම නැත්නම්, 'මට දැන් ලෙඩයි, මට යන්න බෑ.' ඒ හින්ද භාගයක් ගිහිල්ල ආපහු හැරිල එනවා. අන්න ඒ වගේ තමයි යෝගාවචරයෝ. තමන්ගේ තියෙන තණ්හාව, මේ ලෝකෙට තියෙන ආසාව, මේ ලෝකෙට තියෙන ස්ථිර සංඥාව නිසා, කලහ විවාද නිසා, තුවං තුවං නිසා අතෙන්ට ගියාට පස්සෙ ඒ පුද්ගලයා නිකන් කලකොල භාවයකට පත් වෙනවා. කරකවල අතෑරියා වගේ තත්ත්වෙකට පත් වෙනවා. මොකද? විශේෂයෙන්ම මේ සක සංඥාව, මම කියන හැඟීම විශේෂයෙන් දෙදරන්න ගන්නව. සහලවන්න ගන්නව. ඒක අසරණ වෙන්න ගන්නවා. ඉතින් අපි යනවා ඒකට නීතිඥයෝ හොයන්න. නඩුව කොහොම හරි දිනවලා මමයා නැවතත් තහවුරු කිරීමේ නඩුවකට අපි පෙළඹෙනවා, අච්චර ලස්සනට මේ ඔක්කෝම පෝලිම් වෙලා තියෙන වෙලාවෙ.

මේකට ප්‍රධාන හේතුව වෙන්නේ මේ සඤ්ඤ විපල්ලාස. ඒ නිසා කර්මස්ථාන එක්කත් රණ්ඩු, භාවනා මධ්‍යස්ථාන එක්කත් රණ්ඩු, ගුරුවරු එක්කත් රණ්ඩු, අනික් ඇත්තොත් එක්කත් රණ්ඩු. ඒ මොකද හේතුව? මේ සංඥ අනිත් පැත්ත හැරෙන්නෙම විපල්ලාසයක් නිසා. ඒක හැරෙන්නෙම නිත්‍ය සංඥවටමයි. අනිත්‍ය සංඥවට යන්න නම් ලොකු කැප කිරීමක් කරන්න වෙනවා. මේ ආසාවල් අතාරින්න ඕනෑ, නෑදෑ පරපුර, වස්තු අතාරිනවා වගේම ඒ ඕනෑම දෙයක්, ඕනෑම දෙයක් වෙන්න පුළුවන් බවට හිතා ගන්න ඕනෑ. මම ඒකයි මුලින්ම සඳහන් කළේ, මේකට සම්පූර්ණ උත්තරයක් සලස්වනවා මෛත්‍රී භාවනාව. හැබැයි නිවන දෙන්නෙ නෑ, සමාජීය ප්‍රශ්නයක් විසඳනවා. මොකද? මෛත්‍රී භාවනාවේ උගන්වනවා හැම දේම සුබය බලන්න. එතකොට අඩු ගානේ කලහ, විවාද, තුවං තුවං, පේසුඤ්ඤ, සත්ථ දාන, දණ්ඩ දාන, ඒවා නැති වෙනවා. එතකොට අඩු ගානෙ තමන් නිවන් දැක්කෙ නැත්නම් ළඟ ඉන්න මිනිහටවත් නිවන් දැකගන්න අවස්ථාවක් තියෙනවා. මේ එක්කෙනෙක් මේක පටලවාගත්තහම කවදාකවත් රණ්ඩුවක් එකකින් නතර වෙන්නෙ නෑ. තව කෙනෙකුට මේක පැතිරෙනවා. ඉතින් ඒක නිසා එක් කෙනෙක් රණ්ඩුව නතර කරන පැත්තට ගියොත් දෙන්නෙක් සැනසෙනවා. සර්වඥයන් වහන්සේ කියනවා කවදාකවත් වෛරයෙන් වෛරය සංසිඳෙන්නේ නෑ, අවෛරයෙන්මයි සංසිඳෙන්නේ. ඒක සනාතන ධර්මයක්. පෙනුමට නම් පේන්න තියෙන්නෙ නිකං හැඟුමක් නැති වැඩක්, කැක්කුමක් නැති වැඩක් කියල.

ඒ නිසා යෝගාවචරයා අමුතු ජාතියේ පුද්ගලයෙක්. යෝගාවචරයා මේ සාමාන්‍ය සමාජ මට්ටමෙන් තමන් මනින්නට හොඳ නෑ. සාමාන්‍ය සමාජ මට්ටමෙන් මේ දේවල් මනින්නත් හොඳ නෑ. තමන් දැනගන්න ඕනෑ මම මේ සංඥව අර කියන තත්ත්වයට පත් කරගන්න ඕනෑ, රූපය විභූත කරන්න ඕනෑ කියලා. ඊට පස්සෙයි අපිට ඒ අවුල තුළින් එගොඩට පැනගන්න පුළුවන් වෙන්නෙ. ඒත් අඩු ගානෙ මේ විපස්සනා චිත්ත වීථියවත් ඉවර නෑ. ඉවර වුණත් ලැබෙන්නෙ සෝවාන් මාර්ගය පමණයි. ඊට පස්සෙ මේ චක්‍රය හතරවාරයක් කැරකෙන්න ඕනෑ. කැරකුණාට පස්සෙ තමයි අර

බ්‍රාහ්මණයෙක්ගේ තත්ත්වෙට පත් වෙන්නෙ. ඊට පස්සෙ ඕකෙන් කවදාකවත් රැල්ලක් නැගෙන්නේ නෑ. ඕකෙන් කවදාකවත් මේ ජීවිතේට අවුලක් ඇති කරන්නේ නෑ, තමන්ට විතරක් නෙවෙයි අනුන්ටත්. නමුත් සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා, එහෙම කෙනාටත් ලෝකයා නම් කුණු කන්දල් දනවා. ඒක නේ බුදුරජාණන් වහන්සේ ළඟට දණ්ඩපාණී ශාක්‍යයා ආවේ මොකකින් හරි අවුස්සන්න බලාගෙන. සර්වඥයන් වහන්සේ දීපු උත්තරෙන් ඒ මනුස්සය නිකන් නළල රැළි කරල, දිව දික් කරල, කට ඇරලා යන්න ගියා. මොකද හැප්පෙන්න දෙයක් නෑ, කුප්පන්න දෙයක් නෑ. සර්වඥයන් වහන්සේ රූපය සම්පූර්ණයෙන් විභූත කරල තියෙන්නෙ. සංඥව උන්වහන්සේට ඕනෑ විධියට ඇති කරගන්න පුළුවන්. මේක යෝග ජීවිතයට බලනකොට ඉතාමත්ම වැදගත්. මේක දන්නව නම්, කවදාකවත් භාවනා ක්‍රම දෙකක් තේරුම් ගැනීමේ කිසිම ප්‍රශ්නයක් හිටින්නේ නෑ. කළ යුතු උත්තම දේ තියෙද්දී ළාමක දේට කවමදාකවත් නැමෙන්නෙ නෑ. නැමුණත් දැනගන්නවා. ඒ වෙලාවෙ හැටියට මම එහෙම කළාට, කළ යුත්ත මේකයි කියල උතුම් දේ උතුම් හැටියට සලකාගැනීමේ ශක්තිය ලැබෙනවා.

ඒ නිසා ඒ සංඥවෙන් ගැලවීම කියල කියන්නේ එක පොත්තකින් ගැලවෙන දෙයක් නෙවෙයි. ලූනු ගෙඩියක පොතු ගහනවා වගේ, පොතු ඇරගෙන ඇරගෙන ගියාම ගන්න මදයක් නැති බව, කෙහෙල් ගහක පොතු ගහනකොට වගේ තේරෙනවා. නමුත් ඒ පොතු එකින් එක ගැලවීමක් මේ සංඥවෙ සිද්ධ වෙනකොට, අපිටම අපි ගැන ලොකු හාස්‍යයක් ඇති කරගන්න පුළුවන්. අනේ මේ වගේ පැටලිල්ලක ඉන්න අපි, මේ යෝගාවචර කියාගන්න අපි මෙච්චර හැසිරීමක් කරනව නම්, මේ මිථ්‍යාදෘෂ්ටික මනුෂ්‍යයෝ, නැත්නම් තමන්ගේ හික්මීමක් ගැන අධිකාරයක් වගකීමක් නැති ඇත්තෝ මේ කරන විගඩම කොහොම නවත්තන්නද?

මේ ලෝකය කියන්නේ අන්න ඒ වගේ ජවනිකා රංග මණ්ඩලයක් බව තේරුම් ඇරගෙන හැකි තාක් දුරට තමන්ට එයින් ගැලවිලා මිදී යන්න නම්, මේ සඤ්ඤා විපල්ලාස ගැන ලොකු හැඟීමක් ඇති කරගන්න ඕනෑ. නමුත් මම හිතන්නේ නෑ ඒක

සාකච්ඡා කරල ඉවර කරන්න පුළුවන් මාතෘකාවක් කියල. කෙසේ වෙතත් අපි මේ පැය දෙකක පමණ කාලය ඇරගෙන තියෙනවා. මම හිතනවා මේ කාරණා විශේෂයෙන්ම මේ පිරිසට ගොඩක් ආහාර වෙයි කියලා. ඒ මොකද? හැම කෙනාම ලොකු ජීවිත පරිත්‍යාගයකින්, ලොකු කැප වීමකින් මේ කටයුතු කරනවා. නමුත් සංඥාවෙ නෑ එහෙම ජීවිත පරිත්‍යාග කළාද නැද්ද කියල අනුකම්පාවක්. ඒකට හරියටම එතැනට මිටියෙන් ඇණයට ගහන්නම ඕනෑ. එක බණ පදයකදි හරි කමක් නෑ, පැයකින් විතර විස්තර කරන බණකින් හරි කමක් නෑ, නෙය්‍ය පුද්ගලයෙක් හරි කමක් නෑ, පදපරමයා හරි කමක් නෑ, හතරදෙනාම මේක තේරුම්ගන්න ඕනෑ. විශේෂයෙන්ම විපච්තඤ්ඤ පුද්ගලයයි කියල කියන්නෙ මෙන්න මේ ටිකක් ප්‍රපංච කරනකොට තේරුම් අරගන්න කෙනා. ඉතින් අද හුගක් ඉගෙනගෙන ටිකක් ප්‍රපංච කෙරුවත් ධර්මය තේරුම්ගන්න අය අඩුයි. හුගක් අද ඉන්නේ නෙය්‍ය පුද්ගලයන් කියල අපි ඒ තරමට දල ගත්තත්, පැය ගානක් හෝ සාකච්ඡා කරල අපිට මේ වනකොට ලැබිල තියෙන යම් ප්‍රමාණයක අත්දැකීම් හරි, අරමුණු විරංජනය වෙන හැටි, නිබ්බිදාව පහළ වෙන හැටි, එපා වෙන හැටි දකිමින් අභීතව මේකට මුහුණ දෙන්න ඕනෑ. මේක අපේ භාවනා ප්‍රතිඵලයක් බව, ඒක අපේම ප්‍රශ්නයක් බව තේරුම්ගන්න ඕනෑ. කිසිම ආගමක එන්නෙ නෑ මේ ප්‍රශ්නේ. ඒ නිසා මේක විශේෂ ප්‍රශ්නයක්. නමුත් මේක විසඳගන්න බැරිව ප්‍රශ්නෙන් ඇවිල්ල නතර වෙනව නම් ඒක එච්චර දක්ෂකමක් නෙවෙයි. මොකද? ධර්මය ජීවත් වෙනවා. මේවා තේරුම්ගත්ත ඇත්තෝ ලෝකෙ ජීවත් වෙනවා.

එනිසා අපිට ඒ තේරෙන ඥානය නිතැතින්ම පහළ වේවා! තවත් ඒ වාගේ ධර්ම කරුණු අහල අපිට මේ ඇති වුණා වූ, මතු වෙන්නා වූ, මත්තට මතු වෙන්න තියෙන අවස්ථාවකදී කොහොම හෝ මේ සඤ්ඤා විපල්ලාස ගැටේ ලිහාගෙන ඉදිරියට යාගැනීමේ ශක්තිය ධෛර්යය බලය ලැබේවා! කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා.

# 43 | සංඛාර ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුන ච පරං, භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති, පඤ්චසු උපාදානක්ඛන්ධෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො; ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො; ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො; ඉති සඞ්ඛාරා, ඉති සඞ්ඛාරානං සමුදයො, ඉති සඞ්ඛාරානං අත්ථඞ්ගමො ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි සතිපතා, නිතිපතා පවත්වාගෙන ආ මහා සතිපට්ඨාන සූත්‍ර දේශනා දැන් අවස්ථා කීපයක් පසු කරමින් අපි අද මේ ඉදිරිපත් කරගත්ත සංස්කාර ස්කන්ධයට පැමිණෙනවා.

ඒ අනුව අපි මේ තාක් කල් සාකච්ඡා කරපු දේශනා කරපු කොටස්, නම් වශයෙන් සඳහන් කරනවා නම් කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාවේ නීවරණ පබ්බය, ස්කන්ධ පබ්බයේ රූප, වේදනා, සඤ්ඤා කියන කොටස් පහු කරලා අපි හතළිස් තුන්වන වාරයටයි අද මේ එළඹිලා තියෙන්නේ. ඉතින් මේ කොටස ධර්ම දේශනාවට හැඳින්වීමක්

වෙනවා වගේම තවත් පැත්තකින් මතක් කර දීමක් වෙනවා, මේ තාක් කල් අපි ඒ සාකච්ඡා කළා වූ මුල් කොටස් ඒකාන්තයෙන්ම අද සාකච්ඡා කරන්න බලාපාරොත්තු වන සංස්කාර ස්කන්ධය පිළිබඳව ගැඹුර අවබෝධ කිරීමේදී විශාල ආලෝකයක් වන බව. ඒ මොකද? අපි සාමාන්‍යයෙන් කතාවේදී උනත් රූප ධර්මවලට වඩා නාම ධර්මවල ගැඹුරක්, සූක්ෂ්ම භාවයක් අවබෝධ කරගැනීමේ දුෂ්කර භාවයක් ඇති බව කවුරුත් පිළිගන්න දෙයක්. විශේෂයෙන්ම භෞතිකවාදී නොවන ඕනෑම කෙනෙක් පිළි අරගන්නවා, ඒ පැත්ත බොහොම ගැඹුරක්, සූක්ෂ්ම භාවයක්, විෂම භාවයක් පවතින මාතෘකාවක් බව.

එයිනුත් අභිධර්මය මේක කොටස් කරනකොට චෛතසික සහ සිත කියල, චිත්ත චෛතසික වශයෙන් දෙකට කඩල පෙන්නනවා මේ නාම කොට්ඨාශ. එයිනුත් චෛතසික පනස්දෙකක් කොටු කර දක්වනවා. පරිග්‍රහ කොට දක්වනවා. එයින් පනහක්ම වැටෙන්නේ සංස්කාර ගොඩට. ඒකෙන් හිතාගන්න පුළුවන් කොච්චරක් මේක විවිධ සාකච්ඡාවලට විවිධ මතිමතාන්තර, මත දැක්වීම්වලට ලක් වෙලා තියෙනවද කියලා. ඒ චෛතසික ධර්මවලින් වේදනා චෛතසිකය වේදනා ස්කන්ධය වශයෙන්, රූපස්කන්ධයට පස්සෙ නාම ස්කන්ධයට ආරම්භය ලබා දෙන්නේ වේදනා චෛතසිකය ගැන ඉගෙනීමෙන්. ඒකත් ඉතින් ගැඹුරුයි. ඊගාවට සඤ්ඤා ස්කන්ධය අපි සති දෙකක් පමණ කල් ගත්තා, ඒක අපේ ශක්ති ප්‍රමාණයෙන් මූලධර්ම පැත්තෙන් අත්දැකීම් පැත්තෙන් අපේ ජීවිතයට සම්බන්ධ කරගන්න.

ඒ ඔක්කොම ධර්ම පසාරු කරගෙන ඊට වඩා ඇතුළතකට ආරාධනාවක් ප්‍රවේශයක් සංස්කාර ස්කන්ධයෙ තියෙනවා. ඒක නිසා ඕවා පිළිබඳව නැවත මතක් කරගැනීම, ඒ ධර්ම කොට්ඨාශ කෙරෙහි ධර්ම ගෞරවය ඉදිරිපත් කරගැනීම මේ සංස්කාර ස්කන්ධය අවබෝධ කරගැනීමට අත්‍යවශ්‍ය කාරණාවක් වෙනවා. එහෙම නැත්නම් මේකේ ප්‍රවේශයට, මේකට ළඟා වීමට අමාරු ස්වභාවයක් තියෙනවා. අපි බලමු ඒ අවබෝධය ඇතුවත් නැතුවත් හැකි තාක් දුරට ඒක පිළිබඳව මේ ගත කරන කාලයත් එක්ක, ඒ ධර්මය කෙරෙහි ඇත්තා වූ

ගෞරවයත් සාදර බවත් අවබෝධයත් වැඩි වෙන විදියට මේ ඉදිරියට තියෙන විනාඩි ස්වල්පය ගත කරන්න. අපි සංඥා පිළිබඳව නොයෙක් විස්තර විභාග පසුගිය දවස්වල කරන්නට යෙදුණා. එයිනුත් අවසාන වශයෙන් අපට ගන්න තියෙන්නේ, යෝගාවචර ජීවිතය පැත්තෙන් බලල ගන්න තියෙන්නේ, සඤ්ඤාවල තියෙන හැකි සඤ්ඤාව තමයි. ඒකට හේතුව සඤ්ඤාව පිළිබඳව යම් කිසි කෙනෙක් තුළ යම් ප්‍රමාණයක නොදැනීමක් තියෙනවා නම් ඒ නිසා ඔහුට තමන්ගේ හැකි සඤ්ඤාව බාධා කරගැනීමක් එයට හානි වීමක් අනිවාර්යයෙන්ම සිද්ධ වීමයි.

සඤ්ඤාස්කන්ධය පිළිබඳව අවබෝධය වැඩි වෙන්ඩ වෙන්ඩ වෙන්ඩ, වෙන විදිහකට කියනවා නම් ධර්මය පිළිබඳව මේ අපේ වැඩ පිළිවෙළේ සම්‍යක් දෘෂ්ටික ශාසනයේ දැක්වෙන කොටස් අවබෝධ වෙන්ඩ වෙන්ඩ වෙන්ඩ, ඒකාන්තයෙන් ඒ පුද්ගලයාගේ හැකි සඤ්ඤාව වැඩෙනවා. වීර්ය වැඩෙනවා. ඉදිරියට යන ගතිය, අප්පටිවානීව, අසංතෘප්තව, ඉදිරියට යන ශක්තියක් ඇති කරන්නේ මේ හැකි සංඥාව. ඊට පස්සේ එවැනි හැකි සඤ්ඤා වක් ඇතුව, මේ ධර්මය මම මෙලොව වශයෙන්ම සාක්ෂාත් කරගත යුතුයි, මම මේ තාක් කල් මේ භාවනාවට කලින් කළා වූ දාන කටයුතු, සීල ප්‍රතිපදා, සමාධිය පිළිබඳව යම් යම් අපේ ආයෝජන පුංචි දේවල් නෙමෙයි, ඉතාමත්ම බරපතළ ලොකු තැනකට යොමු කරපු දේවල් කියලා වටහාගන්නවා. ඒ මතුමත්තෙ ධර්ම ගෞරවයත් ඇතුව, ධර්මය පිළිබඳ ඥානයත් ඇතුව තමයි, මේ සංස්කාර ස්කන්ධය පිළිබඳව එළඹෙනකොට ඒ ධර්මයේ තලතුනා භාවයකට, ඥානයකට යොමු කරවන්නේ. ඒකට දර්ශන විෂයේ කියන්නේ ඥාන විභාගය කියලා. ඥාන පිළිබඳව, අවබෝධ පිළිබඳව විකාශයක්, පුළුල් භාවයක් මෙතන සාකච්ඡා වෙනවා. ඒක නිසා මේ සංස්කාර පිළිබඳ විග්‍රහය ප්‍රත්‍යක්ෂයට පමණක් සීමා වෙලා නෑ. මේ දර්ශන විෂයට සමහර වෙලාවට මූලක වශයෙන් එළියටමත් ඇවිල්ලා සාකච්ඡා වෙන වෙලාවල් තියෙනවා. කොහොම නමුත් පසුබිමේ විශාල අර්ථයක්, විශාල චරිතයක්, භූමිකාවක් මේ සංස්කාර පිළිබඳව තියෙනවා.

මේ සංස්කාර පිළිබඳව ඇත්තා වූ වෙනස නිසාමයි, අද මහායාන හීනයාන භේදයක්, නිකාය භේද, නානා ප්‍රකාර භේද ඇති වෙලා තියෙන්නේ. ඒ නිසා තව ඉස්සරහට යනකොට මේ සංස්කාරයන් වැඩෙනවා හැර වෙන වෙන්ඩ දෙයක් නෑ. වැඩෙන්න වැඩෙන්න වැඩෙන්න එකිනෙකා අතර පටු භාවය, භේද භාවය වැඩි වෙනවා. නමුත් ඒ ගත්ත කෙනා ඉතාමත්ම විචක්ෂණව ඉතාමත්ම තියුණුවෙන් අනිත් ඇත්තන්ට ඒ තමන් ගත්ත දේ දමාගසමින් තමයි, ඒ සංස්කාරයන් වැඩෙන්නෙ. ඒ නිසා "**සබ්බෙ සංඛාරා අනිච්චා, සබ්බෙ සංඛාරා දුක්ඛා**" කියල කිසි පැකිළීමක් නැතුව සර්වඥ දේශනාවේ සඳහන් වෙනවා. සංස්කාරයෝ ඒකාන්තයෙන්ම සියල්ලම අනිත්‍ය පිණිසමයි, දුක පිණිසමයි. ඒ නිසා අවබෝධ කරනකොටත් මේ සංස්කාර පිළිබඳ කථා කරනකොටත් ප්‍රත්‍යක්ෂ කරනකොටත් මේ අනිත්‍ය භාවයේ හොල්මන, මේ පෙළන තවන දුක්ඛ ස්වභාවය මතු වෙනවා කියන එක සුබ ලකුණක් කියලා හිතාගන්ඩ ඕනෑ. එහෙම නැතුව නිත්‍ය සංඥාවක්, දුක්ඛ සත්‍යය අමතක කිරීමක් හෝ යටපත් කිරීමක් හෝ ඔබා තැබීමක් කෙරෙනවා නම් ඒක සංස්කාරයක් කියලා හිතාගන්න.

මේ අනුව, අපි ඉන්නෙ සංස්කාරයන් පිළිබඳව මූලධර්ම විග්‍රහයකද, එහෙම නැත්නම් ප්‍රත්‍යක්ෂයේද කියන එක අපිට හොඳට පැහැදිලියි. ඒ නිසා මේ විපස්සනා මාර්ගයට කියන්නේ දුක්ඛ ප්‍රතිපදාව. ඒ පිළිබඳව ආයෙ කිසිම වෙනත් ඉදිරිපත් කිරීමක් අවශ්‍ය නෑ. ඒක පිළිගත්ත සම්මතයක්. මම හිතන්නෙ සංස්කාර ස්කන්ධයට බහිනකොට කාටවක්වත් සන්තෝස වෙන්න පුළුවන් දෙයක් ඉතුරු වෙන්නෙ නෑ. ඒකෙ තියෙන්නෙම අපි මෙතෙක් කල් මේ සර්වඥ දේශනාවෙහි සඳහන් වන විදිහට, අනේ මහණෙනි, උඹලත් මමත් මේ සංසාරේ මෙච්චර කල් මේ චතුරාර්‍ය සත්‍යය අවබෝධ නොකරපු නිසා මෙච්චර කාලයක් ඇවිද්ද වටවළල්ලෙ ගියා. දැන් ඒ වටවළල්ලෙ යෑම නම්බුවක් කරගන්න විදියක් නෑ. නොදැනුවත්කමමයි. අපි හිතුවා ඒ කාලෙ අපි අනුන්ට වැඩිය වෙනස්, අපි අනුන්ට වැඩිය දක්ෂයි, අපි අනුන්ට වැඩිය හුරුබුහුටියි, අපි සූක්ෂ්මයි. ඒ නිසා අපිට තවත් මේ දක්ෂකම්, හුරුබුහුටිකම් තනා වඩාගෙන ඉන්න පුළුවන් වෙයි කියන

තාක් කල් තමයි සංසාරේ සැරිසැරුවේ. මේ ඔක්කොම තකතිරුකම්, මේව ඔක්කොම සංස්කාර, මේව ඔක්කොම පෘථග්ජන භාවයේ අනන්‍යතාව පිළිබඳ දේ කියල තේරුම් අරගත්ත දවස වෙනකොට අර මෝහිනීගේ පිටිපස්ස පැත්ත දක්ක වගේ විශාල අනිත්‍ය සංඥාවක්, සබ්බෙ සංඛාරා අනිච්චා කියලා ඇති හැටියෙන් දැකීමක්, දුක්ඛා කියල ඇති හැටියෙන් දැකීමක් අවශ්‍ය වෙනවා.

ඒක නිසා **ගිරිමානන්ද** වගේ සූත්‍රවල දසසංඥාවක් ගැන සාකච්ඡා කරනකොට, ආනාපානය උගන්වන්න කලින්ම සංස්කාර පිළිබඳ සංඥාව හිතේ තැන්පත් කරනවා. **සබ්බ සඞ්ඛාරෙසු අනිච්ඡා සඤ්ඤා... සබ්බ සඞ්ඛාරෙහි අට්ටීයති හරායති ජිගුච්ඡති.** මේ කරන ඇලිල්ල, මේ කරන කලවම, මේ කරන හැඩගැස්වීම, අට්ටීයති හරායති ජිගුච්ඡති. ජුගුප්සා කරනවා, අතහරිනවා, හලාදමනවා. නමුත් එක පැත්තකින් බලනකොට මේක තමයි පෞරුෂත්වය කියලා අපි කියන්නේ. මේ තමයි ආත්ම වර්ධනය කියකියා අපි මේ වැඩ කරගෙන යන්නෙ. ඉතින් ඒක නිසා භාවනා යෝගාවචරයෙක් දුක්ඛ ප්‍රතිපදාව තමයි ඒක කියලා දැනගෙන විපස්සනාවේ යෙදෙනකොට පුළුවන්කමක් තියෙනවා මේ නාඩගමෙන් පොඩ්ඩක් පියවරක් පිටිපස්සට තියලා මේ නාඩගම දිහා බලන්ඩ. බලනකොට ස්වයං විවේචනයක් විතරමයි ආගමික වෙන්නෙ. එහෙම නැත්නම් ධර්මානුකූල වෙන්නෙ. අනුන් විවේචනයට බැස්සොත් ඒකත් තවත් සංස්කාරයක් වෙනවා. ඒක තවත් දුක පිණිස පිහිටනවා.

මේ නිසාම දෝ සර්වඥ දේශනාවේ මේ ලෝක සත්ත්වයාටම කථා කරල කියනවා, මම කරන්න තියෙන දේ කරල තියෙනවා උඹලා වෙනුවෙන් මට කරන්න දෙයක් නෑ. මාර්ගය දේශනා කරල තියෙනවා. පුළුවන් ප්‍රදේශයක පුළුවන් ඇත්තෙක් ඒ මාර්ගයේ යන්න. යම් විදියකට සර්වඥයන් වහන්සේ දේශනා කළා නම් මං ළඟට එන්න මම ආසිරි ගන්වන්නම් එතකොට ඔබට මේ මේ දේවල් ලැබෙයි කියලා, සර්වඥයන් වහන්සේ දන්නවා ඒ ඔක්කොම සංස්කාර. මේ කිසිම දේකින්, කිසිම කෙනෙකුට කරන්න දෙයක් ඇත්තෙ නෑ. පුළුවන් නම් පුළුවන් එකම කෙනා තමයි සර්වඥතා ඥාන ලබපු, තුන් කල් දක්නා වූ, මහා කරුණාවක් ඇත්තා වූ සර්වඥයන්

වහන්සේ. උන්වහන්සෙත් කියනවා මට උඹලා වෙනුවෙන් කරන්න දෙයක් නෑ. මට පුළුවන් පාර පෙන්නන්න විතරයි.

ඒ නිසා මේ සංස්කාර පිළිබඳ අධ්‍යයනයේදී ඒක අනිත්‍යතාව පිළිබඳව, අනිච්චත්වය පිළිබඳව, දුක පිළිබඳව පැහැදිලිවම ආදීනව පෙන්නාවි. ප්‍රතිඵල පෙන්නාවි. ඒ නිසා තමන් ඒක සීමා කරගන්න ඕනෑ පුළුවන් තරම් ස්වකීය සිත පිරිසිදු කරගැනීම පිණිස. අත්ථ කුසලය පිණිස. නමුත් ඒක තේරුම් අරගන්නට අපිට නැතුව බැරි යකෙක් වාගෙ, අනුන් සම්බන්ධ අතීතය සම්බන්ධ අනාගතය සම්බන්ධ නිදසුන් ඉදිරිපත් කරගන්න වෙනවා. අන්න එතනදී අනිත් ඇත්තන්ට හැඟවීමක්, ඉඟි කිරීමක් කෙනෙහීමක් වේ දෝ කියල සැක එන්ඩ ඉඩ තියෙනවා. නමුත් අපේ ධර්මය අවබෝධ කරගැනීමේ අවංක ප්‍රයත්නයක් මිස කාටවක්වත් කොනහන්න දෙයක් ඇත්තෙ නෑ මේකෙ. ඒවා හුදු නිදර්ශන පමණක් වශයෙන් අරගත්තෙ නැත්නම් අපිට මේ සංස්කාර පිළිබඳව මේ ශාසනයේ සඳහන් වෙච්ච දේවල් ඉස්මතු කරගන්න අමාරුකමක් තියෙනවා. ඒ නිසා නිදර්ශන ගන්න වෙනවා. අපේම අතීතයෙන් ගන්න වෙනවා. ඒ වාගේම අනුන්ට වෙච්ච දේවල්වලින්, ඉතිහාසයෙන් පාඩම් ගන්න වෙනවා. නමුත් ඒවා කවදාකවත් පුද්ගල ආරෝපණයක් කරලා කෙනෙකුට කෙනෙහීමක් කියල හිතන්න නරකයි. මොකද මේ අවබෝධ ඥානය සඳහා ඒක අවශ්‍ය වෙනවා.

දර්ශනය පැත්තෙන් බලනකොට හුඟදෙනෙක් කියන්නෙ මේ සංස්කාරයක් තමයි ඥානය කියන්නේ, සංස්කාරයක් තමයි අවබෝධය කියල කියන්නෙත් ලෞකිකව. ඉතින් මේ ලෞකික අවබෝධය ඇතුවත් බෑ නැතුවත් බෑ ලෝකෝත්තර අවබෝධයට. ඒ නිසා මේ සංස්කාර අපේ වාසිය පිණිස යොදාගන්ඩ සිද්ධ වෙනවා. ඒක නිසාම සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙනවා උන්වහන්සේගේ ඥානයට වැටහෙන සංස්කාර අතරින් ඉතාමත්ම වැරදි අඩු සංස්කාරය තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය. ඒකත් සංස්කාරයක්. ඒකත් එගොඩ උනාට පස්සේ කවදාකවත්ම කරේ තියාගෙන යන්න ඕනෑ පහුරක් එහෙම නෙවෙයි. ඒකත් එගොඩ කිරීම සඳහාම ඇත්තා වූ සංස්කාරයක්. ඒක නිසාම දේශනා කරනවා "**ධම්මාපි වො භික්ඛවෙ**

**පහාතබ්බා, පගෙව අධම්මා"** මහණෙනි මේ ආර්ය අෂ්ටාංගික මාර්ග ධර්මයත් ඔබට අත හරින්න සිද්ධ වෙනවා. එහෙනම් අධර්මය ගැන කුමන කථාද? ඒක නිසා මේ සංස්කාර ගැන ඉගෙනගන්ඩ ඉගෙනගන්ඩ අතහරින්නයි වෙන්නෙ. බදගන්න නෙවෙයි. පුස්තකාලෙ ගිහිල්ල තැන්පත් කරගන්න නෙවෙයි. ආඩම්බරයක් වශයෙන් ආත්මයක් වශයෙන් ගන්න නෙවෙයි. ඒ නිසා මේක ඒකාන්ත ස්වයං විවේචනයක් වෙන්න ඕනෑ. වෙන කෙනෙක්ගේ සංස්කාර පිළිබඳ තොරතුරු රැස් කිරීම වනචරයි. ඒ මොකද, ඒකෙන් හුඟක් වෙලාවට වැරදි වෙනවා. ඇත්ත වශයෙන්ම ඉතාම දක්ෂ කෙනෙකුට නම් ඒක වැරදෙන්නෙ නැති විදිහට වැරදි අඩුපාඩු නැති විදියට පාවිච්චි කරන්න පුළුවන්. නමුත් ලෝකයාට ඉදිරිපත් වෙන්නෙ ඒකෙන් විශාල වැරදි අදහසක්.

ඒක නිසා හොඳම දේ තමයි, මේ ආත්ම පර්යේෂණය, ආර්ය පර්යේෂණය තමන්ගේම සංස්කාර පිළිබඳ හදරමින්, මෙහි ඇත්තා වූ මුල නසන ක්‍රමය, ඒ සංස්කාර රැස් කරන්නාම සංස්කාර විසින් කෙලෙසන හැටි, සංස්කාර විසින් විනාශයට පත් කරන හැටි, දැකගත්තා නං මේ නයින්ට කිරි පොවන වැඩේ අතහරිනවා. දැන් පටිච්ච සමුප්පාදය ගැන සාකච්ඡා කරනකොට - අවිජ්ජා පච්චයා සංඛාරා - අවිද්‍යාව මෙලෝ වශයෙන් අපිට දෙන ප්‍රධානම දේ, මේ සංසාරයට ඇද බැඳ තැබීමට, මේ වද බන්ධන ලබාදීමට ප්‍රධාන වශයෙන් ඉදිරිපත් කරන උපකරණය තමයි සංස්කාර. සංස්කාරයන්ට ගොදුරු වෙලා සංස්කාරයන් මගින් තමයි විඤ්ඤාණය බිහි කරන්නෙ. සංඛාර පච්චයා විඤ්ඤාණං අපිට මේව පිළිබඳව පටිච්ච සමුප්පාදය වගේ ලෝකෙටම දල අනුන්ටත් තමන්ටත් දල අතීතයටත් අනාගතයටත් දල පච්චුපන්නයටත් ගැළපෙන, ඒ විදිහට දේශනා කරලා තියෙන එක මෙහෙම තේරුම්ගන්නත් පුළුවන්.

තව ක්‍රමයකට යනවා - මේක විග්‍රහ කරනකොට වටහාගන්න පුළුවන් නිදර්ශන තුනහතරක්ම තියෙනවා. එකක් තමයි අභිධර්ම ක්‍රමයට චිත්ත වීථියක් පටන්ගන්නකොට **භවංග, භවංග චලන, භවංග උපච්ඡේද, පංචද්වාරාවජ්ජන** කියල පියවරවල් ටිකක්, නැතුව බැරි පියවරවල් ටිකක් දක්වල තියෙනවා. ප්‍රස්තාර කරල තියනවා. මේ

පංචද්වාරාවර්ජනය කියලා කියන්නේ, උදාහරණයක් විදිහට අභිධර්මයේ විස්තර කරන්නේ අඹ ගහක් යට හොඳ....ට සැප සේ බුදියගෙන ඉන්න මනුස්සයෙකුට එක පාරට සද්දයක් ඇහිල එයා නැගිටිනවා. ඒක අර භවංගයේ ඉන්න මනුස්සයා භවංග චලනය වුණා වගේ නින්ද කැඩෙනවා. ඊගාවට භවංග උපච්ඡේද. නින්දෙන් මිනිහ අවදි වෙනවා. අවදි වෙලා බලනකොට මේ නින්ද හොල්ලල දන්නත් නින්දෙන් කඩන්නත් හේතු වුණේ මොකක්ද කියල හිත ඊගාවට විග්‍රහ කරල බලනවා. ඒ වෙලාවෙදි යමක් ඇහෙන් දැකලා, අර වෙච්ච සංගදිය සාධාරණීකරණය කරන්නත් ඉඩ තියනවා. මොකක් හරි කවුරු හරි ඇඟට දමල ගහලා වෙන්න ඇති, වතුර ටිකක් වත්කළා වෙන්න ඇති, එහෙනම් ඔහොම ඇහැටත් පේනවා. එහෙම නැත්නම් කනට සද්දයක් ඇහිච්ච නිසා මට මේ නින්ද හෙල්ලුම් කෑව, නින්දෙන් අවදි වුණා වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් නාසයට දැනිච්ච අමිහිරි භයානක ගඳක් නිසා, එහෙම නැත්නම් දිවට දැනිච්ච රසයක් නිසා එහෙම නැත්නම් කයට දැනිච්ච පහසක් නිසා, එහෙම නැත්නම් හිතට ආපු හොල්මනක් නිසාද කියල මේ මොකෙන්දෑ මේ වෙච්ච සංගදිය වුණේ කියලා ආවර්ජනය කරල බලන ගතියක් හිත කරනවා. ඒකට කියන්නෙ ආවර්ජන හිත කියලා. මේ පංචද්වාරයෙන්ගෙන් ද්වාර පහටම පණිවුඩකාරයෙක් ඇරලා බලනවා කොහෙටද අමුත්තෙක් ඇවිල්ලා ඉන්නෙ. කොහාටද අමර දෙයක් සිද්ධ වුණේ කියලා. ඉතින් ඒ නිදර්ශනය ගෙනියනවා දිගටම. අඹ ගෙඩියක් වැටිලා ඩොග් ගාල සද්දෙ. එතකොට හිත තේරුම් අරගන්නවා - හරි. නින්ද කැඩුණේ මේ සද්දෙන්. කන ක්‍රියාත්මක උනා, කනට අඹ ගෙඩිය වැටීමේ සද්දෙ ඇති වුණා, ඊට පස්සෙ කනේ විඤ්ඤාණයක් පහළ වුණා. මේ විඤ්ඤාණය පහළ වෙන්න තමයි අර නිසිනින්දේ තිබුණ නින්ද කඩාගෙන භවංගය කඩාගෙන හොලවල අවදි කරගත්තෙ.

දැන් විඤ්ඤාණය ඉන්ද්‍රිය පටිබද්ධව කනට සම්බන්ධ වෙලා දැන් දුවනවා. ඉතින් ඊට පස්සේ ගොඩක් දේවල් වෙන්න පුළුවන්. අඹ ගෙඩියක් දැකපු මිනිහෙකුට ඇති වෙන දේවල්. අන්න අර වෙලාවේ අපි ගත්තොත් එහෙම නින්ද කැඩුණා. කැඩිච්ච ගමන් තාම හොල්මන

තියෙන්නෙ කලකොලේ තියෙන්නෙ මොකදෑ මේ උනේ කියලා. අන්න ඒ වෙලාවෙදි සිහි එලවාගැනීම සඳහා, මම මේ හෙල්ලුම් කෑවෙ මම මේ ඇදගෙන වැටුණේ සද්දයක් අහලද රූපයක් දැකලද? ගඳක් වැදිලද? දිවට රසක් දැනිලද? කයට පහසක් දැනිලද? කියලා තාම විනිශ්චයක් නෑ. පණිවුඩකාරයෙක් සීඝ්‍රයෙන් දුවනවා, ඒ අදාළ ද්වාර පහ විෂයෙහි. ඒක වෙලා ගත වෙන වැඩක් කියල හිතන්නත් පුළුවන්, නොහිතන්නත් පුළුවන්. මේක අභිධර්මයේ ක්ෂණවාදය අනුව චිත්තක්ෂණයක් දීලා තියෙනවා. බොහෝම සීඝ්‍රයෙන් මෙයා විනිශ්චය කරනවා, එක්කො ඇහෙන් එක්කො නාසයෙන් කනින් දිවෙන් ශරීරයෙන් කියල. මෙන්න මේ විනිශ්චය කරන වෙලාවේදි අපි විවේකීව බැලුවොත් අඹ ගෙඩියක් වැටෙනවා ඇහෙන් දකින්නත් පුළුවන්. කනෙන් අහන්නත් පුළුවන්. නාසයෙන් විඳින්නත් පුළුවන්. දිවට රස විඳින්නත් පුළුවන්. කයට පහස විඳින්නත් පුළුවන්. වෙන විදියකට කියනව නම් ඒ වෙලාවට විඤ්ඤාණයට පස්දෙරකින් දෝරෙ ගලන්න පුළුවන් තොරතුරු දත්ත. නමුත් විඤ්ඤාණය ඉතාමත්ම ප්‍රකට දේ විතරමයි තෝරන්නෙ. මෙයා කියනවා සද්දෙ තමයි මේ මගේ නින්ද කැඩුවෙ, නින්ද හොල්ලලා දැම්මේ. එහෙම නැත්නම් රූපෙ වෙන්නත් පුළුවන්. ගඳ වෙන්නත් පුළුවන්, රස වෙන්නත් පුළුවන්, පහස වෙන්නත් පුළුවන්. මෙයින් එකක් තෝරාගත්තට පස්සෙ තමයි ඕ....න්න කලඑළියක් එන්නෙ. සිහි එලවාගන්න පුළුවන් වෙන්නෙ. මෙයාට මේ වෙච්ච සංගදිය මේකයි. අඹ ගෙඩිය වැටිලා ඩොග් ගාපු නිසයි අවදි වුණේ, කියලා හිතට ඊට පස්සෙ ඉස්පාසුවක් වෙනවා. දැන් ඕන්න ස්ථාවරයක් ඇති කරගත්තා. ඊට පස්සේ ඒ ස්ථාවරය දිගේ තමයි මේ චිත්ත වීථිය දුවන්නෙ.

මෙතනදි හොඳට විවේකීව බැලුවොත් හෙම ඇත්ත වශයෙන් විඤ්ඤාණයට දෙරවල් පහකින් තොරතුරු එනවා. කවමදවත් පහම නම් අත්දකින්න හම්බ වෙන්නේ නෑ. පහෙන් එකක් තෝරාගන්න වෙනවා. මෙන්න මේ තේරීමෙදි විඤ්ඤාණයට බෑ, විඤ්ඤාණයට ලැබෙන සෑම තොරතුරක්ම ආහාර කරගන්න. ඒ ආහාර කරගන්න පුළුවන් ප්‍රදේශය සීමා කරගැනීමක් වෙනවා. මෙතනදි සංස්කාර තමයි ක්‍රියාත්මක වෙන්නෙ. අපි සාමාන්‍යයෙන් නිදර්ශනයක් ගත්තොත්

ඇට්හෝම් මේසෙකට ගියහම ඒකෙ විවිධාකාර කෑම ජාති ඇරලා තියනවා. ඔක්කොම ඇට්හෝම් මේසෙ කන්න බෑ. කැවට රසත් නෑ. තෝරන්නත් බෑ. මිනිස්සු බලාගන ඉන්න හින්ද කරන්නත් බෑ. ඒ නිසා ඒ පුද්ගලයාට සිද්ධ වෙනවා එයාට සුදුසු දෙයක් තෝරාගන්න. තෙල් කෑම තෝරන මනුස්සයා තෙල් කෑම කයි. මිහිරි රස කැමති කෙනා එහෙම කයි. සැර බීම බොන කෙනා ඒවා බොයි. එහෙම නැත්නම් පලතුරු පමණක් ආහාරයට ගන්න කෙනා එහෙම කරයි. ආන්න ඒ වගේ තමයි, අපි අර ඇට්හෝම් මේසයක් ඉදිරියට ගියාම කොයි එකද තෝරාගන්නේ කියලා ලොකු තක්කු මුක්කුවක් එනවා. මොකද ඒ තරම් ආහාර ඉදිරිපත් වෙනවා.

අන්න ඒ වගේ විඤ්ඤාණය අවදි වෙච්ච ගමන්, මෙයින් එකක් තෝරාගැනීම මනුස්සයාට අනිවාර්ය වෙනවා. අන්න එතනදි ඒ මනුස්සයා එයාගෙ පරණ පුරුදු රුචි අරුචිකම් ආශාවල් විවිධාකාර උපක්‍රම කරමින් එකක් තෝරාගෙන ඒක තමයි හොඳම දේ කියලා කියන්න, එතන ඉඳලාම ඒක පෝෂණය කරන්න ගන්නවා. තවත් පැත්තකට කියනව නම්, චිත්‍රපටියක් බලන්න ගිය මනුස්සයෙක් ගිය පාරත් අපි ඉදිරිපත් කරගත්තා, ඒ මනුස්සයාට ඉඳගෙන ඉන්න චිත්තක්ෂණයක් පාසා, රූප රාශි - රූපවාහිනී කියලනෙ කියන්නෙ - රූප වැහෙන්න පටන්ගන්නවා. ඊගාවට ඒත් එක්කම ඒ රූපයේ කොනකින් පටියෙ කොනකින් සද්ද නිපදවනවා. සද්දත් නිතරෝම ඇහෙනවා. චිත්‍රපටි ශාලාවේ හෝ ටෙලිවිෂන් එකක් බලන කෙනෙකුට ගෙදර මිනිසුන්ගේ කෑම්බැල්ලේ හෝ සද්දත් නිතරම ඇහෙනවා. ඊගාවට නාසයට ගඳ නිතරෝම වදිනවා. දිවට රසත් ඕන්නම් ලබාගන්න පුළුවන්. කයට පහසත් ලැබෙනවා. මේ චිත්‍රපටියෙ සන්දර්භය පිළිබඳ හැඟීමකුත් තියනවා.

අපිට හිතෙනවා මේ පහම රස විඳිනවා කියලා. නමුත් ඒකාන්තයෙන්ම අපි දන්නවා පහක් දෝරෙ ගලද්දී එකයි බුක්ති විඳින්නෙ. එක චිත්තක්ෂණයට එකයි. හැබැයි ඒක සියයට සීයක් බුක්ති විඳිනවා. එක්කො රූපෙ එක්කො සද්දෙ එක්කො ගඳ එක්කො රස එක්කො පහස. ඊගාව චිත්තක්ෂණයෙ සද්දෙ ඉඳල රූපෙට පනිනවයි කියන එක හිතට මහ ලොකු වැඩක් නොවෙයි. පිස්සු

වඳුරෙක් අත්තක් අතහැරලා තවත් අත්තකට පනිනවා වගේ වැඩක්. ඊට පස්සේ ඒක රූපෙ නෙවෙයි සද්දෙ, සද්දෙ නෙවෙයි ඊගාවට රූපෙ, ඊගාවට රූපෙ නොවෙයි ගඳ, ඊට පස්සේ රස. මෙන්න මේ විදියට සෙල්ලම් කරලා ඉවර වුණාට පස්සෙ අපි හිතනවා අපි මුළු කාලෙ පුරාම රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පහම ස්පර්ශ ලබමින් ලොකු ආස්වාදයක් ලැබුවා, චිත්‍රපටියක් බැලුවා ආදී වශයෙන්. නමුත් ඒ චිත්‍රපටිය බලපු දෙන්නෙක්ගෙන් කථාව ඇහුවොත් දෙන්නෙ දෙකක්. එක් කෙනෙක් බලන වෙලාවේ එක් කෙනෙක් අහනවා. එක් කෙනෙක් අහන වෙලාවෙ එක් කෙනෙක් රස බලනවා. එක් කෙනෙක් රස බලන වෙලාවෙ එක් කෙනෙක් ගඳ බලනවා. එක් කෙනෙක් ගඳ බලන වෙලාවේ තව කෙනෙක් පහස ලබනවා. මේ නිසා එකම චිත්‍රපටිය බලන දෙන්නගේ සංස්කාර දෙකක් සිද්ධ වෙන්නෙ. උකහාගන්නෙ දේවල් දෙකක්.

මෙතනදි මූලධර්මයක් වශයෙන් අපට ගන්න තියෙන්නෙ එක් චිත්තක්ෂණයකදී අපට ලැබෙන්නා වූ ඒ දත්ත සියල්ලම අවබෝධ කිරීමේ උකහාගැනීමේ ශක්තිය කවමදකවත් විඤ්ඤාණයට ලැබෙන්නෙ නෑ. ඒ නිසා අනිවාර්යයෙන්ම සිද්ධ වෙනවා අපිට එකක් තෝරාගන්න. මේ තෝරාගැනීම තමයි අපි මානව නිදහස, තෝරාගැනීමේ නිදහස, ඥනය පිළිබඳව අවබෝධය පිළිබඳව අපිට ඇති අයිතිවාසිකම කියලා කියන්නෙ. මෙහෙම තෝරාගැනීමේ විවිධත්වයක් නැත්නම් මනුෂ්‍යයො දෙන්නෙක් නෑ. සත්තු දෙන්නෙක් නෑ. අත්දැකීම් දෙකක් නෑ, දෙපාරක් බලන්න දෙයක් නෑ. නමුත් හැම වෙලාවෙම මේ තෝරාගැනීමේ විවිධත්වය තිබෙන නිසා එකම වුණත් විවිධාකාරව තෙම්පරාදු කර කර පෙන්නුවොත් අපිට විවිධාකාර රස ගෙන දෙනවා. මේ නිසා ලෝකේ "**ඌනො ලොකො අතිත්තො තණ්හාදසො**" කියල රට්ඨපාල රහතන් වහන්සේ සඳහන් කරනවා කෝරව්‍ය රජ්ජුරුවන්ට. මේ ලෝකෙ ඌනයි. හිඟයි. කවමදකවත් තෘප්තිමත් කරන්න බෑ. "තණ්හාදසො". කාමයට දසකම් කරන බැලමෙහෙකම් කරන පහිඳින තත්ත්වයක් තියෙන්නෙ.

ඉතින් මේ නිසා අපිට හැම වෙලාවෙම අලුත් බලාපොරොත්තුවක් තියනවා. ඊයෙ මට වැරදුණේ මේ අවස්ථාවෙදි

මම රස බැලුව විතරනෙ, මම ගඳ බැලුවෙ නෑ නේ. එහෙම නැත්නම් ගඳ බැලුව විතරනෙ දැක්කෙ නෑනෙ. දැක්ක විතරනෙ ඇහුවෙ නෑනෙ. අනිත් දවසේ මම ඒක ඇහුවොත් මම පිරෙයි කියලා ඔන්න අනිත් දවසෙ ගිහින් ඔන්න අර කුණු කන්දලේම ආයෙ අවුස්සලා අලුත් කරලා බලනවා. මේ නිසා දිගටෝම මේ කාම රාජිණියට පහිදින ගතියක් හැම පෘථග්ජනයෙක් තුළම තියනවා. ඒක නැත්නම්, අපිට හිතෙනවා නම් ඔක්කොම පුළුවන්නෙ, රූපෙ බලන්න විතරමයි, බැලිය යුතුමයි කියලා ඒක අපි කියන්නෙ හිර කඳවුරක් වාගෙ. ඒ මනුස්සයට නෑ එතකොට තෝරා බේරාගැනීමේ නිදහසක්. ඒක කඳවුරු ස්වරූපයක්. හිරකාරයෙක් වගේ. ඒ නිසා මේක විහිළුවක් කරගන්නත් නරකයි. ඒ වෙලාවට අපිට තියෙන මේ අවබෝධයට සහ ඥානයට ඉඩ සලසමින් විවිධ දේවල් එක මොහොතකදි ඇහෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන් ශරීරයෙන් ඉදිරිපත් වීම අපිට පේන්නෙ ක්ෂණ සම්පත්තිය වගේ. පෙර පින් කරපු නිසා අපිට ඇහැක් ලැබුණා. අනේ!! කොච්චර ලස්සනට මට ගැඹුර පේනවද! නිල්, කහ, රතු පේනවද! කියලා අපි රූපය පිළිබඳව ඇහැ පිළිබඳව ලොකුවට උදම් අනනවා. ඒ වාගේම හොඳට කන ඇහෙනකොට, වයසට ගියත් මට කන ඇහෙනවා, මෙහෙමයි මෙහෙමයි. එහෙම නැත්නම් මට ඈත තියෙන දේවල් පවා මට හොඳට අහගන්න පුළුවන් කියලා කන ගැන සතුටු වෙනවා. නාසය ගැන, දිව ගැන, කය ගැන, ඔන්න ඔය වගේ විවිධ ආකාරයට ආස්වාදවලින් පිනවනකොට අපිට හිතෙනවා අපේ අම්ම අප්පවත් විඳපු නැති සැප අපි විඳිනවා කියල.

නමුත් මේ මුළු ඔක්කොම පිටිපස්සෙ ගියත් කවදාවකවත් මේ මුළු චිත්‍රය දැකගන්න නම් ලැබෙන්නෙ නෑ. ඒක නිසා එකම අවස්ථාවෙ සියල්ලම පරිග්‍රහ කරනවා සියල්ලම දැනගන්නවා කිව්වහම අපි තේරුම්ගන්න ඕනෑ ඒ වෙලාවෙ කුප්පපු දේ, ඒ වෙලාවේ අපි අවුස්සපු දේ, ඒ වෙලාවෙ බදගත්ත දේ, ඒ වෙලාවෙ රුචි කරපු දේ දැනගත්තා නම්, එච්චර තමයි අපිට යන්න පුළුවන් උපරිමය. ඊගාව චිත්තක්ෂණයේ ඒක වලංගු නෑ. මොකද ඊගාව චිත්තක්ෂණයෙ අපි ඇලිල තියෙන්නෙ වෙන මාර්ගයකින්. ඊගාව චිත්තක්ෂණයෙ අපි ආශා කරල තියෙන්නෙ සංස්කරණය කරල තියෙන්නෙ වෙන එකක්.

මෙන්න මේ ඌන භාවය නිසා, එයින් නැගිටපු ගමන් අපි ළඟ විශාල ප්‍රයත්නයක් තියෙනවා, අපි මෙච්චර සංසිද්ධියෙන් රූපය බලපු එක ඇත්ත. රූපෙ තමයි බැලුවෙ, බැලිය යුත්තෙත් රූපෙ, අනිත් අයට එච්චර ඥානයක් නෑ, මට විතරයි තිබ්බෙ. මම ඒක නිසා රූපය මාර්ගයෙන් මෙච්චර මෙච්චර ඉගෙනගත්තා කියලා, අර කරපු තකතිරුකම වැහෙන්ඩ අපි විවිධාකාර සංඥා, එහෙම නැත්නම් අනුමිති ඥාන මාර්ගයෙන් අපි ඒ කරපු දේ සාධාරණීකරණය කරගන්නවා. ඒ නිසා අපිට ඒ කබරගොයා තලගොයා කරගත්තට පස්සේ ඌ කන්ඩත් පුළුවන්. ඒ මොකද ඒ කබරගොයා නම් කබරගොයාමයි. කන්න ඕනෑකම නිසා තමයි අපි තලගොයා වශයෙන් දැක්කෙ. ඊට පස්සේ ඒක කන්න පුළුවන්. ආන්න ඒ වගේ තමයි, ලෝකේ ඉදිරිපත් කරන්නෙ කෝක උණත් තමන්ට ඕනෑ දේ තමයි තමන් දකින්නෙ. තමන්ට ඕනෑ දේ තමයි තමන් බලන්නේ. තමන්ට ඕනෑ දේ තමයි තමන් රස විඳින්නෙ. තමන්ට ඕනෑ දේ තමයි තමන් ගඳ බලන්නේ. තමන්ට ඕනෑ දේ තමයි තමන් පහස ලබන්නේ.

ඉතින් මේක දිහා බලපුවහම හැම කෙනෙක්ම බොහෝ බොල් භාවයකට, නිකන් කෝම්බයක් වගේ තත්ත්වයකට පත් වෙනවා. ඒක නිසා මේක හුඟ දෙනෙකුට විචිත්‍ර මන වඩන දෙයක් වෙනවා. ඒ නිසාම පෘථග්ජන ලෝකෙ තියනවා, ආහාර වර්ග හතරක් ගැන සඳහන් කරනකොට මනොසංචේතනික ආහාර නැත්නම් කෙනෙකුට ජීවත් වෙන්නත් බෑ. මේ විදියට අපි දකින දෙයින් අපිට ඕනෑ දේ හඳගන්න එක, මේක තමයි සංස්කාර කියන වචනයට දෙන අර්ථ නිරූපණය. මේ දේ නැත්නම් මොකටද ජීවත් වෙලා. රජය දෙන දේ විතරක්ම නම් ගන්නෙ, අම්ම අප්පා දුන්න දේ විතරක්ම නම් පරිභෝග කරන්නේ එහෙම නැත්නම් අපි යම් කිසි කෙනෙක් විසින් විනිශ්චය කරපු දෙයක් රස විඳිනවා නම් මොකටද? ඒ නිසා අපි අපේ ජීවිතය වැඩෙන්න මනෝසංචේතනික ආහාරයට, අපේ චේතනාවට ඉඩ තියන්න ඕනෑ. මේක තමයි අපි අනාගන්න තැන. මෙතන තමයි අපේ පෘථග්ජන භාවය මතු කරන තැන.

ඉතින් ඒ නිසා අපිට සංස්කාර නැතිනම්, එතන සම්පූර්ණ ඥාන විප්‍රයුක්ත වෙනවා. අවබෝධයෙන් තොර වෙනවා. සංස්කාරම

පදනම් කරගෙන ගියොත් ලෝකේ ඌන භාවය, අතෘප්ත භාවය, කාමදස භාවය වීතික්කමනය වෙලා අනුන් එක්ක ගටාගෙන බැඳීගෙන රණ්ඩු කරගෙන අනුන්ට දුක් දෙන මට්ටමට යනවා. එහෙම නැත්තම් හිත ඇතුළේ නීවරණ ධර්ම ගොනු කරගෙන ගොජ දමමින් පෙණ දන්න පටන්ගන්නවා. එහෙම නැතත් මේ සංස්කාර නිසා අනුසය ඇති වෙනවා. ප්‍රතිපදාවෙදි අපි මේ කරන්න හදන්නෙ මේ සංස්කාරයන් සමථයකට පත් කිරීම. ඒ සඳහා විශේෂයෙන්ම අවශ්‍ය වෙනවා, කවමදාකවත් මේ ඉඳුරන් පහ සන්තෘප්ත කරන්න බෑ. ඒක නිසා මේ එකකින් තීව්‍ර අත්දැකීම් ලැබීම සඳහා අල්ලපු ගෙදරට වැඩිය මට කරන්න, එහෙම නැත්නම් ඊයෙට වඩා අද කරන්න, අපේ දෙමව්පියෝ කෙරුවට වඩා කරන්න ආදී වශයෙන් අපි ළඟ තියෙන්නා වූ මේ දේ බාරගන්නත් නරකයි. එහෙම දෙයක් නිතරෝම අප තුළ ක්‍රියාත්මක වන බව, සංස්කාර නිතරෝම අපි දන හෝ නොදන ක්‍රියාත්මක වන බව, ඒකාන්තයෙන් අපගේ හිතට වද්දගන්න ඕනෑ. ඒකයි සර්වඥයන් වහන්සේ ගිරිමානන්ද සූත්‍රයේ ආනාපානය දේශනා කරන්න ඉස්සර වෙලා **"සබ්බ සංඛාරෙසු අනිච්ඡා සඤ්ඤ"** කියලා මේ සංඥව හිතේ තියාගන්න කියලා තියෙන්නෙ. එතකොට ඔළමොළකම් කරාවි, (ඒක පිළිබඳ ප්‍රශ්නයක් නෑ) ඒ වුණත් කවුරු හරි ඥනවන්තයෙක් ගුණවන්තයෙක් කිව්වොත්, ඔය අල්ලගත්තු දේම විතරක් නොවෙයි සත්‍යය, ඔය දැකල තියෙන්නෙ අඩුම ගානෙ ඉන්ද්‍රිය පටිබද්ධ ඥනයෙන් පහෙන් එකයි. කිසි යම් කෙනෙක් වෙන එකක් දකින්න පුළුවන්. තව කෙනෙක් තව එකක් දකින්න පුළුවන්. ඒ නිසා පොඩ්ඩක් නැවත කල්පනා කරලා බලන්න, පොඩ්ඩක් මේකට සමාව දෙන්න, පොඩ්ඩක් තමන්ට සමාව දෙන්න ආදී වශයෙන් කියනකොට නම් ඒ පුද්ගලයා ගැන නම්‍යශීලී භාවයක් තියෙනවා. විවෘත භාවයක් තියෙනවා. ඇත්ත වෙන්න පුළුවන්. මොකද මේ සියලු සංස්කාර අනිත්‍යයි. ඉතින් මම ගත්ත දේ නම් බොරුවට නෙමෙයි ගත්තේ. ප්‍රත්‍යක්ෂයෙන්මයි ගත්තෙ. වෙන විදියකට කියනවා නම් ස්පර්ශයෙන්මයි ගත්තෙ. නමුත් ස්පර්ශයෙන් එක් චිත්තක්ෂණයකින් ලබපු දේ මගින් පූර්ණ චිත්‍රයක් මවන්න පුළුවන්කමක් නෑ. ඒ චිත්‍රයේ අඩුපාඩු ගොඩක්ම එන්නේ හිතේ පරණ සංඥවලින්. අනුමාන

ඥානවලින්. ඒ නිසා ඇත්ත දේ දැකලම තමයි, අතගාලම තමයි කියන්නෙ. නමුත් ඒ තුළ සංස්කාර පිහිටලා තියනවා.

ඒ නිසා යෝගාවචරයා දන් දෙන අවස්ථාවට වඩා සිල් රකින අවස්ථාවට ආපුවහම, මේ සංස්කාරයන් පිළිබඳ අවබෝධය, අඩු ගානෙ වළලුකර දක්වා තෙමෙන මට්ටම වගේ වතුරට බැහැලා. ඊට පස්සේ සමථ භාවනාවෙදි ඒ පුද්ගලයා අපිව නිතරම කුප්පන්න හේතු වෙලා ඉදීමට පත් වෙලා තියෙන නීවරණ ධර්මයන්ගෙන් අයින් වෙලා සමාහිත හිතක් ඇති කරගත්තහම, "**සමාහිතො භික්ඛවේ භික්ඛු යථාභූතං පජානාති**" කියපු විදියට අර තරම්ම ඇලී ගැලී වාසයක් කරන්නෙ නෑ සංස්කාරත් එක්ක; යම් ප්‍රමාණයක විවෘත ස්වභාවයක් ඇති කරගන්නවා. එතනදී සර්වඥයන් වහන්සේ දේශනා කරනවා යම් කිසි කෙනෙක් ඒ විදිහට නීවරණයන්ගෙන් තොර වෙලා ධ්‍යාන සුඛයක් විඳිනවා නම් ඒකට කියනවා දිට්ඨ ධම්ම සුඛ විහරණය කියලා. මෙලෝ වශයෙන්ම සුව විඳින කෙනෙක් කියලා. ඒක තව පැත්තකින් කියනවා "**විවෙකජං පීති සුඛං**". මේ පෘථග්ජනයා හැමදාම විවේක ප්‍රීති සුඛය සොයන්නෙ සැණකෙළිවල. හුඟාක් රූප තියන තැන්වල හුඟක් විවේක වෙයි කියලා හිතෙනවා. හුඟාක් සද්ද වැඩි කරගන්නවා. සැණකෙළි කියලා කිව්වහම අපිට ඒ අදහසනෙ එන්නේ. ඒ වගේම ගඳ, රස, පහස. වෙසක් උත්සව වගේ දවස් වෙනකොට 'හැපී' වෙසක්. හැප්පි හැප්පි වෙසක් තමයි. එතකොට තමයි ඇඟට වදින්නෙ වෙසක්. නැත්නම් වදින්නෙ නෑ. ආන්න ඒ වගේ දේවල්වලදි ඉන්ද්‍රිය ධර්ම ඉතාමත්ම උත්සන්නව, ඉතාමත්ම දැවෙන සුලු තාලෙට ඒ බාහිර ආයතනත් එක්ක ගැටෙමින් විවිධාකාර මත් වීමක් මිසක්ක වෙන දෙයක් නෑ.

මෙක උමතු දර්ශනයක් විදිහට සර්වඥයන් වහන්සේ දැක්කා. උන්වහන්සේ දේශනා කරන්නෙ "විවෙකජං පීති සුඛං" කියලා කියන්නෙ මේකටයි - සද්ද ඇහෙන්නෙ නැති තැනකට ගිහිල්ලා කන් දෙක වහගෙන, නැත්නම් කනෙන් වැඩ නොගෙන, ඇස් දෙකට රූප පේන්නෙ නැති තැනකට ගිහිල්ලා ඇස් දෙකෙන් රූප නොබලා, ගඳ රස නොබලා, කය සම්පූර්ණයෙන්ම මිසරයේ පිරමීඩයක් වගේ තැන්පත් කරලා, ඇහැ කන දිව නාසය සියලු ඉන්ද්‍රියන්ට විවේකය

දීමෙන් උපදින්නා වූ ප්‍රීති සුඛය අමානුෂිකයි. නිරාමිසයි. ඒ වගේම තමයි ඒක සාධාරණයි. ධාර්මිකයි. අර රූප ශබ්ද ගන්ධ රස විෂයෙහි කොච්චර කඹුරන්න ඕනෑද, කොච්චර පහිදින්න ඕනෑද, කොච්චර නඩත්තු කරන්න ඕනෑද, කොච්චර දසකම් කරන්න ඕනෑද? ඒ රූප ශබ්ද ගන්ධ රසයන්ගෙන් වෙන් වෙලා රූප නැති, ශබ්ද නැති, ගන්ධ රස නැති, කයේ පහස කියන එක ඉතාමත්ම අඩුම සිවුපසයෙන් යැපිලා මේ ගත කරන ජීවිතයෙ ලැබෙන මේ පහස දිහා බලනකොට, මේ මනුස්සයාට විතරමයි මේ ලෝකය පිළිබඳ විනිශ්චයක් දීමේ අයිතියක් තියෙන්නේ.

අනේ මෙහෙම තියෙද්දි මේ සංසාරෙ මේ පෘථග්ජනයො මේ විවේකය ප්‍රීති සුඛය කියන එක නීච කරලා සලකලා ඒක නාස්තික ජීවිතයක්, ඒක තපස්සර ජීවිතයක්, විවේකය ප්‍රීති සුඛය තියෙන්නෙ නම් මේ රූප ශබ්ද ගන්ධ රස වාහිනී වන වහනය වන තැන්වලයි කියලා ඒවා වැඩි කරගැනීමට ගන්න එකට විද්‍යාව කියලා කියාගෙන, ඒ විෂයෙහි මේ මතු උපදින දරුවොත් ඉපදිච්ච දරුවොත් වහ එළාගෙන, වසඟ කරගෙන, මේකට ප්‍රගතියයි කියලා හිතාගෙන යන ගමනෙදි සර්වඥයන් වහන්සෙ කිව්වේ මේක සුසාන වර්ධනයක් කියලා. ප්‍රගතියක් නෙමෙයි. මෙන්න මේ සෙල්ලමේදී අපේ මේ මාතෘකාවෙ එන සංස්කාර විශාල වැදගත් මෙහෙවරක් කරනවා. නමුත් කවදාවකවත් අර වගේ රූප ශබ්ද ගන්ධ රස විෂයෙහි තාම රස බලලා ඉවර වෙච්ච නැති කාටවක්වත් මේක විස්තර කරන්න ගියහම මහා භයානක දෙයක්. ඒ ඇත්තො කියාවි උඹලා හොඳට කාල බීල ඉවර වෙලා, දැන් අපි යමක් හොයාගෙන කන්න හදන වෙලාවෙදි අපිව පීඩනයට ලක් කරනවා කියල. අර වාදය ප්‍රකාශ කරනවයි කියල, මේ වාදය ප්‍රකාශ කරනවයි කියල. ඒ ඇත්තන්ට හිතෙනවා තාම ඒ ඇත්තන්ගෙ ප්‍රයත්නය නිසා ඔය පූර්ණ රස වින්දනයක් මේ කුණු කන්දලේ තියෙයි කියලා. මේ පංචස්කන්ධය සමග මේ ආමිස සැපයේ එකිනෙකා කපා කොටාගනිමින් කරන මේ දේ තුළ තවත් ප්‍රගතියක් තියෙයි කියලා ඒ ඇත්තො ළඟ බලාපොරොත්තුවක් තියනවා. ඒ මොකද අර **"සබ්බ සංඛාරෙසු අනිච්ඡා සඤ්ඤා"** කියන එක ඇහිලා ඇති. සමහර විට ඇහිලත් නෑ. ඇහුවට මේක හිත් වැදිලා නෑ. හිත්

වැඳුණත් ඒක මෙලෝ වශයෙන් සාක්ෂාත් කරගැනීමේ ප්‍රයත්නයකට තාම හිත ගිහිල්ලා නෑ.

අන්න එහෙව් කෙනෙකුට අනිච්චං, දුක්ඛං අනත්තං කියලා උගන්වන්න හදන එක, ඌරන් ඉදිරිපිට මුතු දමන්නා වාගේ. ඌරා හැම වෙලාවෙම බලන්නෙ කෑම. මුතු වැටෙනකොට ඌ හිතනවා හොඳ පණු බිත්තර ටිකක් අහු උනයි කියලා. ෂුෂ් ගාල කටට අරං හපල බලනකොට මේක තදට, ගලට හැපෙනකොට ඌට අර මුතු දාපු එකා පේන්නෙ පුදුමාකාර හතුරෙක් විදිහට. මේ මිනිහා මාව රැවැට්ටුවනෙ. මං හොඳ මස් කෑලි ටිකක් කියලානෙ කෑවේ. කාල බලනකොට ඒවා පුංචි ගල්. ඌරට නෑ මුතුවල රසයක්. පළඳින්නයෑ. අන්න ඒ වගේ තමයි වටිනා ධර්මය, සංස්කාර පිළිබඳව හෝ අනිත්‍ය දුක්ඛ අනාත්ම පිළිබඳව හසරක් නැති පිරිසකට ඒවා දේශනය කළාට කවදාවත්ම ඒකෙ ගුණයක් වගතුගක් වෙන්නේ නෑ. ගලකට වැස්සා වගේ. මුනින් නමපු කළේකට වතුර වැක්කෙරුවා වගේ. ඊට වැඩිය හාත්පසින් වෙනසක් තියෙනවා විපස්සනාවට සමථයට එළඹිච්ච කෙනාට ඒ ධර්මය දේශනා කරනකොට. ඒ ඇත්තට පේනවා මොකද මේ? ඉබ්බ දියට දාම්මා වගේ කට්ට පෙගෙන්නෙ නැතිව තියෙන්නෙ මොකද? අපිට ඕනැ කරලා තියෙන්නෙ මේ පෘථග්ජන ආශාව. අනුන් අතර කැපී පෙනීමේ ආශාව. අනුන්ට වඩා මම රූප දැක්කා සද්ද ඇහුවා කියලා ලාංඡන පදක්කම් එල්ලගැනීමේ ආශාව තියන තාක් කල් ධර්මය අජීර්ණයට හිටින්නේ. ධර්මය ඔහුගේ පරම්පරාව විනාශ කරන දෙයක් බවට පත් වෙනවා. ඒක මහ අපිස් වැඩක් වශයෙන් චෝදනා කරනවා හිත ඇතුළින් හරි. ඒ නිසා ඒ චෝදනාව ඔහුට එවෙලෙම බලපානවා.

නමුත් මේ සංස්කාර පිළිබඳව කතාවේදී සර්වඥයන් වහන්සේ දේශනා කරන ධර්ම දිහා බලනකොට උන්වහන්සේ රජ කුලේ ඉපදිලා මේ කතා කරන්නේ. ඔක්කෝම රජ සැප ලබලා විඳලා තුන් මහල් ප්‍රාසාදවල ඉඳලා සෑම අභිරූපිකාවන්ගෙන්ම පහස ලබලා ඔක්කෝමත් ලබලා, දුෂ්කර ක්‍රියාවෙත් අන්තිම කෙළවරට, මේ බුද්ධ කල්පයේ කාටවත් කරන්න බැරි දෙකම අත්දැකලා තමයි කියන්නෙ - මේ දෙක මැදින් තමයි මධ්‍යම ප්‍රතිපදාව වැටිලා තියෙන්නේ. ඒ නිසා

මූලිකවම දැනගන්න, මේ රණ්ඩු කරන්නේ දබර කරන්නේ සංස්කාර සඳහායි. මේ සංස්කාරයන් කොච්චර කෙරුවක්වත් සක්විති රජ කෙනෙකුටවත් කවදාවත් පූර්ණ සතුටක්, පරිපූර්ණ භාවයක්, පිරිච්ච භාවයක් ගන්න බෑ. නමුත් ඒක ගන්න බැරි බව අහනකොට නම් ලොකු පිරිච්ච සතුටක් ඇති වෙනවා. ඒක අදහාගන්නකොටත් වටහාගන්න හදනකොටත් ලොකු සතුටක් ඇති වෙනවා - හැබෑ නේන්නං මැරෙනකල් හරි ඒ පණිවුඩය දන්නේ නැතුව පහිදිනව නං කඹුරනව නං දඟලනවා නං, අනේ ඒ තාක් කල් අපි ගෙවිල නාස්ති වෙනවා. ඒක නිසා මේ බැරි දෙයක් ඕනෑ නෑ. ඒ නැති බව, බැරි බව වටහාගැනීම, සංස්කාර සංස්කාර වශයෙන් දැනගැනීම, බුදුහාමුදුරුවො වගේ කෙනෙකුගේ, ගුණවතුන්ගේ වචනයකින් මිස කවදාවත් අපිට ඉච්චා භංගත්වයකින් තොරව පිළිගන්න අමාරුයි. අපි හිතන්නෙ ඒක තමයි අපේ ඥාන විභාගය කියලා. අපි හිතන්නේ ඒක තමයි අපේ අවබෝධ ශක්තිය කියලා. ඔය බුදුහාමුදුරුවො කොච්චර කිව්වත් මගේ ජීවිතය මම අවබෝධ කරගන්න එපැයි, මම ඥානය ලබාගන්න එපැයි කියලා අපි වෙනමම පසුම්බියක් තියාගෙන ඉන්නවා මගේ ඥානයට කියලා, ඒ තාක් කල් අපේ මේ ගමන බාල වෙනවා.

සර්වඥයන් වහන්සේ දේශනා කරනවා, අපි මේ දේවල් ගොඩාක් ඉදිරිපත් වෙච්ච වෙලාවක මේ දේ මට සැපයි, මේ දේ මට සප්පායයි, මේ දේ මට ගුණයි හොඳයි කියලා තේරුම්ගැනීමේදී මුළු මානව ප්‍රජාව විසින්ම උපමාන පහක් ඉදිරිපත් කරගන්නවා. ශ්‍රද්ධා, රුචි, අනුස්සව, ආකාර පරිවිතක්ක, දිට්ඨි නිජ්ඣානක්ඛන්ති කියලා මේ උපක්‍රම පහ විතරයි මනුෂ්‍යයාට තියෙන්නේ. ඒ මනුස්සයා ඇදහිල්ල නිසා සමහර වෙලාවට මේක මට ඒකාන්තයෙන් සුව එළවනවයි කියලා ඉදිරිපත් වෙච්ච දෙයින්, කොටසක් ප්‍රතික්ෂේප කරනවා. කොටසක් භාරගන්නවා.

මෙතනදී හොඳ මූලධර්මයක් ඉදිරිපත් වෙනවා. යමක් තෝරනවයි කියලා කියන්නේ යමක් ප්‍රතික්ෂේප කිරීමමයි. අපි යමක් දිහා හොඳට බලනවා කියලා කියන්නේ අනිත් දේවල් නොබලා සිටීම. ඉතාමත්ම සූක්ෂ්ම දේවල් දක්වන කණ්ණාඩියකට ඇස් දෙකෙන්ම

බලන්න පුළුවන්කමක් දැන් තියෙනවා, සමහර වෙලාවට එක ඇහැක් වහගෙන ඒකටම හිත නිමග්න කරල බලන්න ඕනෑ. බලනකොට තමයි ඒකෙන් දැක්වෙන දර්ශනය පේන්නේ. ඒ වෙලාවදී වටපිට වෙන දේවල් පිළිබඳව නොබලා ඉන්න ඕනෑ. බැලුවොත් ඒ සූක්ෂ්ම දර්ශනයෙන් කණ්ණාඩියෙන් පේන දේ පේන්නෙ නෑ. ඒ නිසා යමක් තෝරනවයි කියලා කියන්නේ යමක් ප්‍රතික්ෂේප කිරීමමයි. මෙන්න මේ සඳහා අපි ශ්‍රද්ධාව උපයෝගී කරගන්නවා. බුදුහාමුදුරුවෝ කිව්ව දේ නම් ඔක්කොම ඇත්ත. බුද්ධාගමේ තියෙන ඔක්කොම ඇත්ත. අනිත් ඔක්කොම බොරු. එහෙම කිව්වේ නැත්නම් බුද්ධාගමේ වෙන්න බෑ. මේක සර්වඥයන් වහන්සේ කියන්නෙ, "ඉදමෙව සච්චං මොඝමඤ්ඤං" මේකමයි ඇත්ත, අනිත් සියල්ල බොරුයි කියල අන්න අර කඩතුරාවට යට වෙන්න ඕනෑ අපි මේ එකක් තෝරාගන්නකොට. සර්වඥයන් වහන්සේ පවසලා තියනවා, ශ්‍රද්ධාව කියන්නේ අන්න එහෙම එකක්. ඒකෙන් තමයි මනුෂ්‍යයො ඒ දේටම යෙදිලා අනිත් දේවල් ප්‍රතික්ෂේප කරන්නෙ. නමුත් දැනගන්න ඕනෑ ඒක 'ශ්‍රද්ධාව'. එහෙම නැතුව මේ ලෝක සත්‍යයක් හෝ පරම සත්‍යයක් නොවෙයි. වැඩේ පටන්ගැනීමට කරන උපමානයක් විතරයි. ඒකෙ අඩුපාඩුකම් තියනවා. මොකද්ද අඩුපාඩුකම? තමන් තෝරාගත්ත දේ තුළ සත්‍යය නොතියෙන්න පුළුවන්. අතහැරපු දේ තුළ සත්‍යය තියෙන්න පුළුවන්. මෙන්න මේ ද්වයතාවය ශ්‍රද්ධාව ලද්ද පටන් හැමදාම තියනවා.

ඊගාවට තමයි රුචිය. මම නම් මෙන්න මේ රුචියට කැමතියි. මම කැමති ශාස්ත්‍රීය සංගීතයට. මම කැමති පොප් සංගීතයට. එක එක්කෙනාට තියෙනවා අයිතිවාසිකම්. ඉතින් ඒ මනුස්සයට ඒ නිසා කොච්චර දේවල් සම්බන්ධ කරලා, කලවම් කරලා දුන්නත් ශාස්ත්‍රීය සංගීතයට කැමති කෙනා ඒකමයි තෝරන්නෙ. ඒක එයාගේ ආවේණික ලකුණක්. එතනදිත් සර්වඥයන් වහන්සේ දේශනා කරනවා ඒ රුචිය තුළත් සත්‍යය නොතිබෙන්න පුළුවන්. අරුචියි කියලා ප්‍රතික්ෂේප කරපු දේ තුළ සත්‍යය තියෙන්න පුළුවන්.

අනික් එක තමයි අනුස්සවය. මගේ ගුරු පරම්පරාව මෙච්චරක් කල් මට මෙන්න මේක කියලා දීලා තියෙනවා. මම අහලා තියනවා යමක් ඉදිරිපත් කළොත් මෙන්න මේ උපමාන දිගේ මේ ටික

තෝරාගන්න, මේ ටික ප්‍රතික්ෂේප කරන්නෙයි කියලා. අපිට සමහර වෙලාවට ඒ ගුරු පරපුරුවලින්, ලේ පරපුරුවලින්, නෑදෑ පරපුරුවලින් යම් යම් ඥාන ලැබිලා තියනවා. ඒකට කියනවා අනුස්සව කියලා. ඒ අනුස්සවය තුළත් ශ්‍රද්ධාවෙ, රුචියෙ තියන මූලික අඩුපාඩුකම් දෙක තියෙනවා. ඒ තුළ සත්‍යය නොතිබෙන්න පුළුවන්. ප්‍රතික්ෂේප කළ දේ තුළ සත්‍යය තිබෙන්න පුළුවන්.

ඊගාව එක තමයි ආකාර පරිවිතක්කය. ආකාර පරිවිතක්කය කියලා කියන්නේ තර්කයෙන් බැසගත්තට පස්සෙ ඒ තර්කයෙන් දිනපු දේ හරි, තර්කයෙන් වැරදිච්ච දේ වැරදියි. නැත්නම් යුද්ධයක් කරලා (සාමාන්‍යයෙන් බාහිර ලෝකයේ කෙරෙන) යුද්ධය දිනපු එකා කොහොම හරි කමක් නෑ දිනපු එකා හරි. පැරදිච්ච එක්කෙනා වැරදියි. ඒ කියන්නෙ අවසාන ඵලය ගත්ත ක්‍රමවේදය සාධාරණීකරණය කරනවා. ඒක තමයි තර්කයෙන් කරන්නේ. සර්වඥයන් වහන්සේ දේශනා කරනවා තර්කයත් ඒ වගේ හුඟදෙනෙක් පෙනෙන දේවල් විනිශ්චය කරන දෙයක්. නමුත් තර්කයෙන් දිනල ඔප්පු කරගත්ත දේ තුළ අසත්‍යය තියෙන්න පුළුවන්. තර්ක කරලා බැහැර කරපු දේ තුළ සත්‍යය තියෙන්න පුළුවන්.

අනිත් එක තමයි දිට්ඨි නිජ්ඣානක්ඛන්තිය. මම බලාගත්ත දෘෂ්ටිය. තමන් බැසගත්ත දෘෂ්ටිය. ඇත්ත තිබුණත් මට මේක නං ඕනැ නෑ කියලා අපිට කියන්න සිද්ද වෙන වෙලාවල් තියනවා. සමහර අවස්ථාවල කියනවා හරි යන්න පුළුවන්, නමුත් එපා. ඒක නොවෙයි මගේ දෘෂ්ටිය මේකයි කියලා ආධානග්‍රාහීව අපි සමහර විට දැඩි බල දෘෂ්ටිගත වෙනවා. ඒ දෘෂ්ටිගත උනාට පස්සෙ බොරු උනත් ඒක අපිට වද දුන්නත් අපේ දෘෂ්ටියට අහු වෙන දේ විතරක් අපි බදගන්න ගතියක් තියෙනවා.

මෙන්න මේ ක්‍රම පහම සංස්කාරවලට යටයි. ඒ නිසා මේ සියලු සංස්කාර අනිත්‍යය පිණිස පිහිටනවා, ඒ සියලු සංස්කාර දුක පිණිස පිහිටනවා කිව්ව නං ඒ මනුස්සයට තේරෙනවා ඔච්චර ලෝකෙ රණ්ඩු කර කර ඉද්දි පොඩ්ඩක් පැත්තකට වෙලා බලා හිටපුවහම

ඉතුරු වෙන දෙයක් කාපුවහම ඉවරයි. රණ්ඩු කෙරුවත් කන්න වෙන්නෙ අඩුපාඩු සහිතව. රණ්ඩු නොකර හිටිය නම් නොකා ඉන්න වෙන්නේ නෑ. අපේ කර්මානුරූපව අපිට ලැබෙනවා. ඒ නිසා භාවනා කරලා ඉදිරියට යන්ඩ යන්ඩ යන්ඩ, ඒ මනුස්සයා සිද්ධියකදී ඉක්මනට අත පොවන්න යන්නේ නෑ. යන්ඩ අරිනවා. ටිකක් දුර යන්ඩ ඇරලා පැත්තකට වෙලා බලා ඉන්නකොට තේරෙනවා ඉතාම බලවත් වූ, හෘදය සාක්ෂියට ඉතාම එකඟව මේ රණ්ඩු කරන කෙනා සමහර විට වැරදි පැත්තෙ ඉන්නෙ. හදිසියෙ විනිශ්චය කළා නම් අපි ඒ පුද්ගලයා නිසා ඒ වැරදි විනිශ්චයකට එන්න තිබුණා. දැන් හොඳට තේරෙනවා ඒ මනුස්සයත් දැන් හතීකොන හත්අටපොළේ ගාගත්ත, බැබිල ගහේ කැත කරගත්ත බල්ලෙක් වගේ දඟලනකොට නම් අපිට තේරුම්ගන්න පුළුවන් මේ සටනට එළඹිලා ඉන්න කට්ටිය ජීවිත පරිත්‍යාගයෙන් සටන් කරනකොට, පැත්තකට අඩිය තියාගත්ත කෙනාට, ආ.. දැන් නම් ටිකක් පැහැදිලියි තත්ත්වය. නමුත් තාමත් නරකයි විනිශ්චයකට යන්න. තාමත් චිත්තක්ෂණයක් ඉවසන්න ඕනැ. ඒකට තමයි අපණ්ණක ප්‍රතිපත්තිය කියන්නේ. අවිරුද්ධ ප්‍රතිපත්තිය කියන්නේ. මෙන්න මේකට තමයි සාමීචී පටිපන්න කියන්නෙ.

අපි ශාසනයේ වැඩ කරන්නෙ කවදාවක්වත් අපිට මේ වර්තමානයේ මේ ගොජදන, දැඩි සේ අපේ අවධානය ඉල්ලන එකම දේකින්වත් විනිශ්චයක් දෙන්නේ නෑ. ඒ වගේ දේවල් අනන්ත අප්‍රමාණ මේ ශාසනේට වෙලා තියනවා. විනය පිළිබඳ කථා කරනකොට හැම වෙලාවෙම හැම විනය පරිච්ඡේදයකට පස්සෙ විනී වස්තු ටිකක් පෙන්වනවා. සිදු වූ සැබෑ සිද්ධි. මෙන්න මේක මෙහෙම වෙලා තියනවා, මෙන්න මේකයි විනිශ්චය. බලනකොට විනිශ්චයවල් ඉතාමත්ම එකිනෙකට සමීපයි. එකකවත් කළු සුදු භේදයක් නෑ. හුඟාක් විචල්‍ය සාධක තියනවා. අපි මේ එකක් අරගෙන දැඩි සේ ඔප්පු කරන්න හදනකොටම පෘථග්ජන භාවය මතු වෙනවා. සංස්කාර ගතිය මතු වෙනවා. අපි වහාම කර්ම චක්‍රය ක්‍රියා කරගෙන ඒ වෙලාවෙම අපි විනිශ්චයක් ඇති කරගන්නවා. ප්‍රධාන වශයෙන් සර්වඥ දේශනයේ ඇතුළත් වෙනවා "චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි" කියල. ඒ සංස්කාරයන් කරනකොට මම කලිනුත් මතක් කළා

චෛතසික 50 ක් වැඩෙනවා. ප්‍රධාන චෛතසිකය වශයෙන් පෙන්නන්නේ චේතනාව. සංස්කාර කියලා පෙන්වනකොට මුල් පෙළේ ඉන්න මුල්ම එක්කෙනා පෙන්නන්නෙ චේතනා. චේතනා පසුපස ඉන්න අනිත් අය ටික ඔක්කොම පොදිය ගහපුවහම තමයි ඒකට කියන්නෙ සංස්කාර.

ඒ නිසා අපි චේතනා පූර්වකව ඔළමොළ විධියට ඉදිරිපත් වෙන ගතියක් තියනවා, අපේ ඥානය මඳ වෙන්ඩ වෙන්ඩ, ඉවසීම අඩු වෙන්ඩ වෙන්ඩ. ඒ නිසා අපිට සිද්ද වෙනවා භාවනා කරගෙන යනකොට යනකොට තමන්ගේම අත්දැකීම් නිසා මේ සර්වඥයන් වහන්සෙ දේශනා කරපු ආකාරයට, "**ඛන්ති පරමං තපො තිතික්ඛා**" ක්ෂාන්තිය පරම තපසයි. ඒ නිසා අපට සිද්ධියක් වෙනකොට ලජ්ජී කුක්කුච්ච වෙන එකයි අපට විනයේ කියල තියන්නෙ. වහා ඉදිරියට පැනලා ඒක ක්‍රියාත්මක කරන්න ගත්තොත්, ඇත්තටම ඒ පුද්ගලයා අවංක නෑ කියල කවදාවත් කියන්න බෑ. ඒ මනුස්සයා ස්පර්ශයක් නැතිව ක්‍රියාත්මක වෙන්නෙ කියලා කවදාවත් කියන්න බෑ. හැඟීමක් කැක්කුමක් නෑ කියල කවදාවත් කියන්න බෑ. නමුත් ඒ කැක්කුමවත් ඒ හැඟීමක්වත් ඒ ස්පර්ශයවත් හොඳක් කරයිද නරකක් කරයිද කියන එක සීයට පනහ පනහ තමයි යෙදිල තියන්නේ. ඒ නිසා හොඳ දනමුත්තො, එහෙම නැත්නම් හුඟක් කාරණා විඳගත්ත ඇත්තො, මේ සිද්ධිය යන්න ඇරලා හුඟාක් වෙලා බලාගෙන ඉන්න එක තමයි කරන්නෙ. හුඟක් වෙලාවට එතකොට අර වහා පැනලා ක්‍රියාත්මක කරන ඇත්තන්ට පේන්නෙ මේ මනුස්සයට කිසි කැක්කුමක් නෑ. මොනවා උනාම මොකද, එයාට නං මොකෝ කියලා ඊට පස්සේ කොන් කරන්න පටන්ගන්නවා. ඒ කියන්නේ කැක්කුම තියනවා නං මෙක ගාගන්ඩම ඕනෑ. අපේ සාමාන්‍යයෙන් මේ ඕළාරික භාෂාවෙන් කියනව නං කැක්කුමක් තියෙන්නත් ඕනෑ, ඒ නිසා හැම දේකින්ම ගාගන්නවා නං අනාගන්නව නං මේ සමාජයේ බොහෝම විසිල් ගහන ගතියක් තියනවා. මේ සංසාරෙ කොච්චර නං අපි ඔය වැඩේ කරනවද?

ඉතින් ඒක නිසා සර්වඥයන් වහන්සේ මේකට මේ වගේ මූලධර්මයෙන් විතරක් නෙවෙයි, ප්‍රායෝගික පැත්ත ගොඩක් දේශනා

කරල තියෙනවා. උන්වහන්සේ එම නිසා හැම පැත්තම බලලා ඒක අතීත වශයෙන් අනාගත වශයෙන් ප්‍රත්‍යුත්පන්න වශයෙන්, හීන වශයෙන් ප්‍රණීත වශයෙන්, ඕළාරික වශයෙන් සුඛුම වශයෙන්, දූර වශයෙන් සන්තික වශයෙන්, අජ්ඣත්ත වශයෙන් බහිද්ධ වශයෙන්, හැම පැත්තම බලනකල් අනිත් සංස්කාර ඔක්කොම පුළුවන් තරම් අමතක කරන්න. අමතක කරලා එක සංස්කාරයක මේ සියල්ල දැක්ක නම් ඔබට තේරෙයි ඒ ටික බලාගන්න අවුරුදු කීයක් එක අරමුණක්ම බලන්න වෙනවද? මේ අන්දමට ඇහෙන් කනට කනෙන් නාසයට නාසයෙන් දිවට ආදී වශයෙන් මේ පහක් වූ දේවල් විෂයෙහි මේ විඤ්ඤාණය දසකම් කරන තාක් කල් ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය පවතින තාක් කල්, කවමදකවත් ඒ ඇත්තාට තමන්ට හිත සුව පිණිස සාධාරණ ධාර්මික විනිශ්චයකට එන්න බෑ. අවංක වෙන්න නම් පුළුවන්. ස්පර්ශයක් ඇතුවම කථා කරනව වෙන්නත් පුළුවන්. කැක්කුමක් ඇති කෙනෙක් වෙන්නත් පුළුවන්. වැඩට බැහැපු කෙනෙක් වෙන්නත් පුළුවන්. වීර්යවන්ත කෙනෙක් වෙන්නත් පුළුවන්. කොයි දේ තිබුණත් පණ එපා කියල හරි කමක් නෑ, මේ ගත්ත අරමුණේ හැම පැතිකඩක්ම හැම අඟපසඟක්ම හැම අංගයක් ප්‍රත්‍යංගයක්ම ව්‍යංජන අනුව්‍යංජනයක්ම දැක්ක දවසට එයාට තේරෙන්න පටන්ගන්නවා, මේ සංගදියෙ තමයි නොදැක්ක දේත් ගැබ් වෙලා තියෙන්නේ.

ඒක නිසා අපට මෙතනදිත් තේරීමක් කරන්න වෙනවා. ඒකයි සර්ඥයන් වහන්සේ දේශනා කළේ මේ දුක්ඛ නිරෝධගාමිනී ප්‍රතිපදවෙදි මමත් දෙනව විකල්පයක්. ඒකට අපි කියනවා ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලා. ඒකත් සංස්කාරයක්. හැබැයි ඒක තමයි සංස්කාර තවතවත් අඩු කිරීම පිණිස ලේශ බවට පත් කිරීම පිණිස ඇති හොඳම සංස්කාරය. නමුත් ඒකත් සංස්කාරයක්. ඒක නිසා කවද හරි ආර්ය අෂ්ටාංගික මාර්ගයත් අතහැරපු දවස වෙනකල් කවදවත් නිදහසක් ලැබෙන්නේ නෑ. අඩු ගානෙ අපි ආර්ය අෂ්ටාංගික මාර්ගය පැත්තට ගිහිල්ලා හරි රණ්ඩු කරන්න පටන් අරගන්නවා, ඒක දිනවන්ට ඕනැ, ඒක ජයගන්ට ඕනැ කියලා. ඒ කියන්නෙත් ඒක

සංස්කාර වශයෙන්මයි භාර අරගෙන තියෙන්නෙ. ප්‍රයෝජනය සලකල නෙවෙයි.

ඒ නිසා අපේ ඥනයේදී යම් තාක් අපේ විඤ්ඤණය ඉන්ද්‍රිය පටිබද්ධ නම්, අපි භාවනා ලෝකෙ ඉන්නේ තාම පහළ මට්ටමක. ඉන්ද්‍රිය පටිබද්ධ ඥනය කියලා කියන්නේ අපිට ඒ ඥනය පහළ වෙන්නෙ ඇහේ. විඤ්ඤණය පහළ වෙන්නේ ඇහේ, කනේ, නාසයේ, දිවේ, ශරීරයේ. හොඳට අරමුණ දිගේ ඉන්නකොට තමන්ට වැටහෙනවා මේ අරමුණ මට ඇඟට දැනෙනවා, එහෙම නැත්නම් කනට ඇහෙනවා, නාසයට දැනෙනවා ආදී වශයෙන් මේ ඉඳුරන් පක්ෂ කරගන, ඉඳුරන් සාක්ෂි කරගෙන පවතින තාක් කල් ඒවා ප්‍රඥප්ති විෂයේ හැසිරෙන්නෙ. ඒකට හැඩ තියෙනවා. නිල තියනවා. ආකාර තියනවා. විවිධ ආකාර තියෙනවා. මෙහෙම තමයි අපි හැමදාම භාවනාවට බහිනකොට පටන්ගන්නෙ.

නමුත් එහිම ඒ අරමුණේම ඉන්නකොට ඉන්නකොට මේක ඇහැට අහු වෙනවද මේ වෙලාවෙ කනට අහු වෙනවද නාසයට දිවට ශරීරයටද කියන එක, මේ අනන්‍යතාව නැති වෙනවා. ඕන්න යෝගවචරයා තක්කු මුක්කු වෙනවා. ඕන්න කලබල වෙනවා. තියනවද නැද්ද හොයන්න බෑ. අරමුණ පිම්බීම හැකිළීම තියෙනවද දන්නේ නෑ. ආශ්වාස ප්‍රශ්වාස තියෙනවද දන්නේ නෑ. හිත හැම දේකම පාවෙන්න පටන් අරගන්නව කියලා අර අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤණ මට්ටමකට හිත වැඩෙනකොට අනිත් ආගම්වල කට්ටිය හිතනවා දැන් නම් දෙයියන්නාන්සේ තමා. ඇයි මේක ඇහැට කනට නාසයට දිවට අහු වෙන්නෙ නෑ. මේක පටන්ගැන්මක් නෑ. අවසානයක් නෑ. හොඳත් නෑ නරකත් නෑ. ඉතින් අර හින්දු ආගමේ තියන මැවුම්කාර දෙයියන්වහන්සේගේ ලකුණු ඔක්කොම තියෙනවා. 'ඒකෝ', ඒ වගේම සර්ව බලධාරී, හැම තැනම ඉන්නවා, හැම කෙනෙකුටම තියෙනවා, හැම වෙලාවෙම තියෙනවා ආදී වශයෙන් ඔක්කොම ලකුණු තියෙනවා.

යෝගවචරයාට සර්වඥයන් වහන්සේ දේශනා කරනවා මේ ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤණයේ පටන් අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤණයට

යන්න පුළුවන් වෙන්නෙ බොහෝම කලාතුරකින් කෙනෙක්ට. ඒකත් අර කියන හොඳ ආර්ය අෂ්ටාංගික මාර්ග සංකල්පයක් දිගේ ප්‍රතිපදාව සතතයෙන් පවත්වන කෙනාට. එතනින් ගියාට පස්සෙ ඒක බාරගන්න ලෑස්ති නැත්නම්, එයා ඒ වෙලාවට නූල් බඳින්න හදනවා නම්, පින්කම් කරන්න හදනවා නම්, පිළියම් කරන්න හදනවා නම්, මේ මගේ සතිය කැඩිලාදෝ, එහෙම නැත්නම් මේ සමාධිය බිඳිලදෝ නැත්නම් කවුරු හරි හූනියම් කරලදෝ නැත්නම් භූතයොදෝ ආදී වශයෙන් මේ මඩ කැලතුණා වගේ කලල් මඩක් බවට පත් වෙනකොට, අහු වෙන්නෙ නැති දෙයක් බවට පත් වුණහම යෝගාවචරයා කිසා ගෝතමී දරුව අරගෙන ඇවිදිනවා වගේ හැම තැනම මේක අරගෙන ඇවිදිනවා. මේ මධ්‍යස්ථානය හරි නෑ, වෙන මධ්‍යස්ථානයකට යන්න ඕනැ. මේ ගුරුවරයා හොඳ නෑ, වෙන ගුරුවරයෙකුට යන්න ඕනැ. මේ ක්‍රමය හරි නෑ. කොතෙන්ට ගියත් මේ විඤ්ඤාණය, මේ සංස්කාර පිළිබඳව තේරුම්ගන්න ඉස්සර වෙලා මේ අනින්ද්‍රිය පටිබද්ධ භාවය ආවට පස්සෙ ඉතාම ඉවසිල්ලෙන් ඒක දිහාම බලාගෙන හිටියොත්, තමන් ගත්ත මූල කර්මස්ථානයේම අනාගත ස්වරූප අතීත ස්වරූප එන්න එපායෑ මෙතෙන්ට. ඇයි මොකද, වර්තමාන ස්වරූපය දිය වෙලා. වර්තමාන ස්වරූපයේ සටහන් ආකාර නෑ. නමුත් නැත්තෙත් නෑ. ඔය සංඥාව ගැන කථා කරනකොට කිව්වා "න විසඤ්ඤසඤ්ඤී නො පි අසඤ්ඤී" ආදී වශයෙන් මොකද්දෝ සංඥාවක් තියෙනවා නමුත් මේක කියාගන්න බෑ. නිකං ඇඟ කිලිපොළනවා වගේ. ඉතින් යෝගාවචරයා කමටහන් සුද්ද කිරීම නතර කරනවා. වැඩක් නෑ. කිව්වට වැඩක් නෑ. මොකක්දෝ භාවනාව පැටලිලය කියල.

ඉතින් මෙතනදී ගුරුවරයා කෙරෙහි විශ්වාසය තුළින්, නැත්නම් ගුරුවරයා කලින් මේවා ධර්ම කොට්ඨාස ධර්ම සාකච්ඡා මාර්ගයෙන් කියලා දීලා ඇති ගතියෙන් යෝගවචරයට පණ පොවලා තිබුණොත්, අනේ යෝගාවචරයා හොඳට තේරුම් අරගන්නවා මේ අරමුණේ තියනවා සුඛුම අවස්ථා, මේ අරමුණේ තියනවා දූරේ අවස්ථා, මේ අරමුණේ තියනවා බහිද්ධා අවස්ථා, මේ අරමුණේ තියනවා අප්‍රිය අමනාප අවස්ථා. ඉතින් ඒක අවබෝධ කරන්නෙ

නැතුව මේ සිදුවීම අවබෝධ කරන්න බෑ නේ. අරමුණ දැක්කයි කියන්න බෑ නේ. දැන් අන්න ඒ මෙතෙක් කල් නොදැක්ක ඉතාම සියුම් කොටසකට යන එකයි සිද්ද වෙන්නේ. වෙනදට වඩා වීරියකින් වෙනදට වඩා ලොකු ගෞරවයකින්, වෙනදට වඩා ලොකු චර්යාවකින් හැමදම ඒ වෙලාවට ඒකෙම යෙදෙමින් මේ සූක්ෂ්ම කොටස් අල්ලගන්න ඕනෑ. එතකොට හිත අනින්ද්‍රිය පටිබද්ධ තැනට යනවා. විඤ්ඤාණය විඤ්ඤාණය පමණයි. ඉබ්බා තමන්ගේ ඔළුව අතපය වලිගෙ ඔක්කොම කට්ට ඇතුළට ගත්තම එක ගුලියයි. ඇවිදින්නෙ කරන්නෙ නෑ. එහෙමම සිසිර තරණය කරනවා. ඒ වගේ තමයි හිත සම්පූර්ණ ඇතුළට ඇදගත්තා වගේ අවස්ථාවකට පත් වෙනවා. යෝගාවචරයා ඒ වෙලාවේදී කලකොල කරගන්නව නං, සැක බාද සංකා ඇති කරගන්නව නං එයාට කියන්න තියෙන්නේ නිවන සඳහා භාවනා කරන කෙනෙක් නම් නෙවෙයි. එක්කෝ කාට හරි කියන්න, නැත්නම් මේ ලෝකේ තියන මෝස්තරේට අනුව, එහෙම නැත්නම් අහසින් යන්න, එහෙමත් නැත්නම් අනුන්ගෙ හිත් කියවන්න - මේ වගේ තුච්ඡ ලාමක ආශා ඉදිරිපත් කරගත්තොත් මාරයාත් ඒ වගේම හතර මහ භූතයොත්, දුර්වල මනුස්සයෙක්ව හයිය ඇති පුරුෂයො දෙන්නෙක් අත් දෙකෙන් අල්ලාගන එහාට මෙහාට වන වන කෙස්සෙන් අල්ලල හොල්ලන්නා වගේ අර මනුස්සයා සහලවනවා, වෙහෙස කරවනවා. පුදුමාකාර වද කරනවා.

ඒ අනුව තේරුම් අරගන්න මේ සංස්කාර ප්‍රකටව තමන්ගේ අත යට තිබුණත්, එහෙම නැත්නම් තමන් ඒකට යට වෙලා හිටියත් මේ තුළ තියෙන්නෙ හතීකොන පැතිරිච්ච අනිත්‍ය භාවයක්. ඒ වාගේම මේකෙ තියෙන්නෙ දුක් එළවන ගතියක්. ඒ නිසා මේ දුක් එළ වන භාවයේ සියල්ල මට දැකගන්න ඕනෑ. ඒ සියල්ලෙම නෑ සිත් එළවන ගතියක්. සියල්ලෙම නෑ තමන්ගෙ බලාපොරොත්තු. අර කලින් ගිහි කාලෙ, පෘථග්ජන කාලෙ භාවනා කරන්න ඉස්සර තිබුණ බලාපොරොත්තු ඉෂ්ට වන ගතියක් නෑ. ඉච්චා භංගත්වයක් එන්න ඉඩ තියෙනවා. එපා වෙන ගතියක් එන්න ඉඩ තියනවා. කම්මැලි වෙන ගතියක් එන්න ඉඩ තියනවා. බය එළවෙන ගතියක් එන්න ඉඩ තියනවා. ආන්න ඒ බව තේරුම් අරගෙන දැන් මම ගැඹුරු භාවනාවක

ඉන්නෙ. ඒකට කාගෙවත් සරණක් නෑ. මගේම සමාධියේ සරණයි. මගේම සතියේ සරණයි. සති සමාධි දෙක කැඩිල නැත්නම්, අරමුණේ නම් හිත පවතින්නෙ, හිතේ, අරමුණේ, මේ වගේ නොදැක්ක පැති රාශියක් තියෙනවා. මෙව්ව නොදැක්ක නිසයි, මේවා දැකගැනීම නිවනට යොමු වන බව නොදන්න නිසයි අපි හැම වෙලාවෙම දන්න, රුචියට ශ්‍රද්ධාවට ගැළපෙන අනුස්සවයට ගැළපෙන තර්කෙට ගැළපෙන දෘෂ්ටියට ගැළපෙන දේවල් මෙතෙක් කල් අල්ල අල්ල හිටියා. කවදවත් ඒක ඒකාන්ත නිෂ්ටාවක් දෙන්නේ නෑ.

ඒ නිසා මේකට කට ඇරලා කියන්න පුළුවන් දුක්ඛ ප්‍රතිපදව කියලා. නමුත් ඒ දුක්ඛ ප්‍රතිපදවෙ නටන්නෙ මොකටද? දුක නැති කරන්නයි. වඩන්න නෙවෙයි. ඒ නිසා දැන් අපි ඍජුවම දුකත් එක්ක වැඩ කරනවා. දුකේ තියෙන පෙළෙන බව අපිට ඇහෙන් කනෙන් නාසයෙන් දකින්නා වගේ විඤ්ඤාණයට වැටහෙනවා. ඒකෙ තියෙන සන්තාපන ගතිය හොඳට වැටහෙනවා. නමුත් දැනගන්න ඕනෑ සංසාරයේ කවදවත් අපි මෙතෙක් කල් දුකට මේ විදියට මුහුණ නොදුන්න නිසයි, මේ වෙලාවෙදි වෙන වෙන දේවල් හොයාගෙන පැනපු නිසයි, අපි මේ සංසාරෙ කාම රාජිනීගෙ රාජ්‍යයේ දස බැල මෙහෙවරකම් කරන්නෙ. දැන් අපි අපේ බිස්නස් එක කරනවා. දුකට ඍජුවම මුහුණ දීලා තියෙනවා. ඒ නිසා සංස්කාරවලට අපිව හොල්ලන්න බෑ. මෙතෙන්දි ඒ නිසා යෝගාවචරයා අනිවාර්යයෙන්ම අර සැප එළෙව්වෙ නැතත් බලාපොරොත්තු දේ නොවුණත් ගෙනාපු කර්මස්ථානය දිගේම ඉදිරියට යනවා. ඒක සමථයෙදිත් වලංගුයි. විපස්සනාවෙදී තදින්ම වලංගුයි. ලොකු අධිෂ්ඨාන ශක්තියක් ඇති කරගන්න වෙනවා. මේ වෙලාවෙදි ඒක බහා තබල පර්යංකයෙන් නැගිටල යනවා කියලා කියන්නෙත් සංස්කාරයක් තමයි. හිටියත් සංස්කාර තමයි. ඒ නිසා ඒ විවිධාකාර දේවල් තමන්ගෙ අත යටට අරගෙන දිගට කරගෙන යනවා නං, ඒ තුළ කොහොමද විඤ්ඤාණ පහළ වෙන්නෙ කියලා තේරෙනවා. ඒ සංස්කාරයන්ගෙන් තමයි විඤ්ඤාණය පහළ වෙන්නේ. ඒ නිසා තමන්ට කබරගොයා හම්බ උනත් තලගොයා කරගන්න තමන්ට පුළුවන්.

එහෙනම් ඇයි අපි අනුන්ට දෙස් කියන්නෙ? අනුන් චපලයි කියන්නෙ? ඇයි අපි අනුන්ට දෙස් කියන්නෙ, අනුන් මායාකාරී සටකපට, එහෙම නැත්නම් මේ මේ දුර්වලකම් තියෙනවා කියලා? ඇතුළතින් බලනකොට අපිත් පෘථග්ජනකම කියන්නෙ මේ වගේ සට මායාකාරී ස්වරූපයක්. එක පරතෝ බැල්මක් අනුන්ගේ දෙයක් දිහා බලා ඉන්නවා වගේ සතියට යට කරල බලාගන ඉන්නකොට සර්වඥයන් වහන්සේ සජීවීව අවබෝධ කරගත්ත ධර්මය ඒ දුක තුළ ඒ ඉච්චා භංගත්වය තුළ පරාජය තුළ මේ දුක්ඛ ප්‍රතිපදාව තුළ පුදුමාකාර විදියට සජීවී වෙන්න පටන්ගන්නවා. ඉතින් එතනදී යෝගාවචරයට අර සාමාන්‍ය වීරිය නොවෙයි, වීරවන්තකමක් ඕනැ වෙනවා. තේරුම් අරගන්න වෙනවා මෙතනදි පැනලා යාම තමයි පෘථග්ජනකමේ හැටි. නමුත් පැනලා කොහෙද යන්නෙ. ගිහිල්ලා කබලෙන් ලිපට තමයි වැටෙන්න. ඊට මීට වැඩිය හොඳයි මේ ඉදිරියට පැමිණිච්ච දුක, නොපැමිණි සැපක් ගැන (සැපක් කියල හිතුවට දුකම තමා තියෙන්නෙ) නමුත් සැපක් කියල හිතලා මෙතනින් නැගිටලා යාම ඒ ආධ්‍යාත්මික ජීවිතයෙ කොන්ද පණ නැතිකම. නමුත් ඒක තමයි ලෝකෙ හැටි. ඒ නිසා අපිට ඒක ප්‍රතික්ෂේප කරලා මේ ලෝකෙ ඉන්නත් බෑ.

ඒ නිසා අපි අධිෂ්ඨාන කරගන්න ඕනෑ දස්සැරයක් වැටුණත් කමක් නෑ, මේ සංස්කාරවල ස්වරූපය ඇති හැටියෙන් දකින්න. මගේම අඩුපාඩුකම් ටික මටම එපා වෙන හැටි, මටම කම්මැලි වන හැටි, මම මේක දමල ගහන හැටි, ඒත් පණ්ඩිතකමට එහෙම උනාට මොකද පණ්ඩිතයෙක් වගේ ඒ කරපු දේට කරුණු ඉදිරිපත් කරන හැටි, අන්න ඒක තමයි ලෝකෙ තියෙන විශාලතම විහිළුව. ඒක අපි තුළින්ම දැකගන්න පුළුවන් නම් එදාට බුදුන් දැක්ක වගේ. එදාට ඇත්තටම කථා කරගන්න බැරි තත්ත්වයකට පත් වෙනවා. අපි මේ කතා කරනවයි කියලා කියන්නෙත් වචී සංඛාර. හුස්ම ගන්නවයි කියලා කියන්නෙ කාය සංඛාර. සඤ්ඤා වේදනා කියලා කියන්නෙ චිත්ත සංඛාර. මේ සංස්කාර ඔක්කෝම නැති කිරීම තමයි සඤ්ඤා වේදයිත නිරෝධය කියලා කියන්නෙ. ඕවා ඉතින් අපේ පෘථග්ජන පැත්තෙන් බලනකොට මළා හා සමානයි. ඉතින් එවැනි දේකට තමයි

ඒ යෝගාවචර ජීවිතයෙහි, නැත්නම් විපස්සනාවෙදී (ගැඹුරු විපස්සනාවෙදී) හිත යොමු වෙන්නෙ. ඒ නිසා ඒක බලනකොට පෘථග්ජන පැත්තෙන් බලනකොට ලෙකු ඉච්චා භංගත්වයක් වගේ. නැත්නං තපස්සරකමක් මහ අපිස් ගතියක් පේන්න පටන්ගන්නවා. ඒ නිසා එවැනි ධර්ම ඒ සියල්ලටම ජනප්‍රිය වෙන්නෙ නැති එකත් ධර්මයේම ගතියක්. ඒ නිසා අපි හොඳට තේරුම් අරගන්න ඕනැ ඒ රුචියට අනුව ගිහිල්ලාත් බෑ. අර කලින් සඳහන් කළ කරුණු පහම නැති උනත් අපේ සති සමාධි දෙකේ ඒකාකාර පැවැත්ම තියෙනවා නම් අපි හැමදම භාවනා විපස්සනා ලෝකේ ඉස්සරහට යනවා. ඒකට හේතුව මොකද, අපි සංස්කාර පිළිබඳව හතීකොන හාත්පස තේරුම්ගැනීමයි.

ඒක තමයි ලෝකෙ තියෙන මනුෂ්‍ය හිතකින් කරන්න පුළුවන් උත්කෘෂ්ටම වික්‍රමය. ඒක හරි නම්, ඇත්තම නම්, වෙන කෙනෙකුට කරපන් කියල කියන්න බැරි තරම් සංකීර්ණ දෙයක්. නමුත් සර්වඥයන් වහන්සෙ මහා කරුණාවකින්, ඒ විතරක් නොවෙයි මේ කරුණු ඉදිරිපත් කිරීමේ මහා ප්‍රඥාවකින් දූන් අවුරුදු දෙදස් පන්සිය ගණනක් ගිහිල්ලාත් තවත් කෙනෙකුට ආරෝපණය කරන්න පුළුවන් තරමට ධර්මය තුළ මේක ගැබ් කරල තියෙනවා. ඒකයි අපි මේ ලබපු ක්ෂණ සම්පත්තියෙ තියෙන වටිනාකම. ඒ නිසා මේ කාරණා තමන්ගේ අත්දැකීමට ළං කරගෙන තමන්ගෙ ප්‍රත්‍යක්ෂයට, ඒ වගේම දැනුමට ළං කරගෙන පුළුවන් තරම් මේ පිළිබඳව හාත්පස වටහාගැනීමට මට ලැබේවා! නැවතත් නම් අනේ මේ සංස්කාරයන් බදගෙන සංස්කාරයන් උපාදන කිරීමේ මෝඩකම නොකර, සංස්කාරයන් සංස්කාරයන් වශයෙන් දැකගැනීමට ශක්තිය ධෛර්ය බලය ලැබේවා කියලා අපි ඇතුළතින් ප්‍රාර්ථනා කරමු.

ඒකට ඒකාන්තයෙන්ම අපට තිසරණ සරණ තියෙනවා. අපිට ඉස්සරහින් ගිය ගමන් කළ ඇත්තන්ගෙ සුවඳ තියනවා. මේ වගේ ස්ථානවල ඉන්නකොට ගොඩක් දැනෙනවා. ඒ නිසා අධිෂ්ඨාන කරමු - ඒ ඇත්තන්ගේ සතුට පිණිසත් ශාසනයේ පැවැත්ම පිණිසත් අපේ අභ්‍යන්තර ශාසනයේ ශීලය අධිශීලය කරගැනීමටත් සමාධිය අධිසමාධිය කරගැනීමටත් චිත්තය අධිචිත්තයක් කරගැනීමටත් ප්‍රඥාව

අධිප්‍රඥව කරගැනීමටත් මේ සංස්කාර ස්කන්ධය පිළිබඳ මනා වැටහීමක් මට ඇති කරගන්න ලැබේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් නිම කරනවා.

# 44 | විඤ්ඤාණ ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුන ච පරං, භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති, පඤ්චසු උපාදානක්ඛන්ධෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු: ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො; ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථඞ්ගමො; ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො; ඉති සඞ්ඛාරා, ඉති සඞ්ඛාරානං සමුදයො, ඉති සඞ්ඛාරානං අත්ථඞ්ගමො ඉති විඤ්ඤාණං, ඉති විඤ්ඤාණස්ස සමුදයො, ඉති විඤ්ඤාණස්ස අත්ථඞ්ගමො' තී ති;**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අද අපි සතිපට්ඨාන සූත්‍රයම සම්බන්ධ කරගෙන 44 වෙනි වතාවටත් පැයක ධර්ම දෙශනාවටයි මේ සූදනම් වෙන්නෙ.

අද අපි ප්‍රවේශය ලබාගන්නේ ස්කන්ධ පබ්බයේ විඤ්ඤාණ ස්කන්ධයටයි. ඒ නිසා අද දේශනා වෙච්ච කොටසේ, ඒ විඤ්ඤාණ ස්කන්ධය අයත්ව ස්කන්ධ 5 ක් පමණ මාතෘකා වශයෙන් යොදගන්න යෙදුණා. එයින් අපි රූපස්කන්ධය, වේදනාස්කන්ධය, සඤ්ඤා ස්කන්ධය, සංඛාරස්කන්ධය කියන කොටස් මීට ඉස්සර සතිවල

ආසන්න කාලයේ දේශනා කරන්න යෙදුණා. ගිය වතාවේ අවසන් කරමින් සිටියේ සංඛාරස්කන්ධය ගැනයි. එතනදී කාටත් වැටහෙනව ඒක ගොඩක් ගැඹුරු ධර්මයක් ඇතුළතක් ගැන සාකච්ඡා කරන කොටසක් බව. ඒ විදියට රූපයෙන් වේදනාවට, වේදනාවෙන් සංඥාවට, සංඥාවෙන් සංස්කාරයන්ට, සංස්කාරයන්ගෙන් මේ අද විස්තර කරන්නා වූ විඤ්ඤාණය කියන තැනට එනකොට ක්‍රමික ගැඹුරක්, එහෙම නැත්නම් අනුපූර්ව පිළිවෙළින් එන්ට එන්ට ඒ පෘතග් ඥානයේ නැත්නම් ධර්මයේ ඇත්තා වූ ගැඹුර, පළල් භාවය හොඳින්ම විස්තර වෙනවා.

ඒ නිසා මේ ධර්ම කොට්ඨාශ ගැන ඇහුම්කන් දෙනකොට වුණත් දෙවිදියක ආකල්ප ඇති කරගන්න පුළුවන්. එකක් තමයි මෙච්චර ගැඹුරු කොටස් අපිට වැටහෙන්නේ නැත, අපිට ඒක අදාළ නැත, ඒ නිසා මේවා අධ්‍යයනය කිරීම හෝ මේ විෂයෙහි භාවනා කිරීමට තරම් අපි භාග්‍යවන්තයෝ නොවෙයි, අපි පව් කරන්නෝ පාපතරයෝ, වශයෙන් කල්පනා කරල හිත වට්ටගන්නත් අනන්තවත් ඉඩ තියෙනවා. අනෙක් එක තමයි, මේ ධර්ම කොට්ඨාශ ඇහුම්කන් දෙනකොට තමන් ඒ යම් කොටසක් සතිපට්ඨාන වශයෙන් හෝ ධර්ම ස්කන්ධ වශයෙන් අහලා තිබෙන දේවල්වලට යම් ආලෝකයක් ලැබෙනකොට, තමන් මේ ආගමික ජීවිතය හැඩගස්වාගැනීමේදී යම් ආකල්ප විකල්ප තබාගෙන කළා නම්, ඒ ආකල්ප ඒ විකල්ප ඒ නිස්සරණ අභ්‍යාස හරි, මේ ක්‍රමයෙන් මට අද මෙච්චරක්වත් මේක අවබෝධ කරගන්න ලැබුණා කියලා ඒ ධාරණ මට්ටමේදී සතුටක්, එහෙම නැත්නම් චින්තාමය මට්ටමේ සතුටක්, එහෙම නැත්නම් භාවනා කරනකොට ඒ කායානුපස්සනා වශයෙන් හෝ රූපස්කන්ධය වශයෙන් හෝ ඇති වීම් නැති වීම් වශයෙන්, ඒ වාගේම වේදනාවන්ගේ ඇති වීම් නැති වීම් වශයෙන් තිබෙන ඕළාරික පැත්ත හෝ ප්‍රත්‍යක්ෂයට අහු වෙනකොට ලොකු සතුටක් උනන්දුවක් ඇති වෙන්නත් ඉඩ තියෙනවා. මේ දෙකම යෝගාවචර ජීවිතයට අත්‍යවශ්‍යයි කියන්න පුළුවන්. මේක මට බැහැ මේක මට ගැඹුරුයි කියල ඒක ප්‍රහාණය කරන කම්මැලි හිතෙන ගති යෝග ජීවිතයකට එච්චරම දුර බැහැර දේවල් නෙවේ. සමහර වෙලාවට හොඳට මේ ධර්ම කොට්ඨාශ මෙච්චර පැය ගණන් විස්තර කරන්න ඕනෑ නැහැ.

එක චිත්තක්ෂණයෙන් දෙකෙන් සමහර වෙලාවට එක පර්යංකයෙන් පවා වැටහෙනකොටත් ලොකු සතුටක් ඇති වෙන්නටත් ඉඩ තියෙනවා. නමුත් සාමාන්‍ය යෝග ජීවිතය ගත කරන්නේ මේ දෙක මැද. වරින් වර අර වාගේ බොහෝම බරසාර විදියට ධර්මය ගැන කල්පනා කරල අපි පාපතරයි, නැත්නම් අපි අතින් අඩුපාඩුකම් තියෙනවා කියල, කුකුස්කරන වෙලාවලුත් තිවෙනවා. අනිත් පැත්ත හුඟක් ඕනැවට වැඩිය මට ලේසියට ධර්මය වැටහෙනවා කියල සතුටක් එන්නත් ඉඩ තියෙනවා.

ආන්න ඒ දෙක අතරමැදින් යාම තමයි මේ යෝග ජීවිතයේ ආනුපුබ්බී ප්‍රතිපදව. ඒකට හේතු වේවා කියන අදහසින් තමයි මේ දෙපැත්තට අයිති ධර්ම නිදර්ශනත් අපිට භාවනාවෙන් ලැබිලා තියෙන, අපි අපි භුක්ති විඳින අත්දැකීම් කොට්ඨාශත් හැකි තාක් දුරට ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙන්නේ. එහිදී සංස්කාර ගැන කතා කරනකොට මූලිකව අපි තේරුම් අරගත්තා, එක චිත්තක්ෂණයක වැඩ කරන්නේ ඇස කන දිව නාසය කය යන මේ පංචේන්ද්‍රියන්ගෙන් එකයි. ඒකටයි විඤ්ඤාණය (නැත්නම් මනස) යොමු වෙන්නේ. එතකොට ඇහැට යොමු වුණා නම් හිත ඒකට චක්ඛු විඤ්ඤාණය කියනවා. කනට යොමු වුණා නම් ඒකට සෝත විඤ්ඤාණය කියනවා. ඊළඟට එක එක ඉන්ද්‍රියට ඉදිරිපත් වන විදියට ඒ ඒ විඤ්ඤාණයට විශේෂ නමක් දෙනව චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය විදියට. සමහර වෙලාවට ඒ වාගේ ඉන්ද්‍රියවලට සම්බන්ධ නොවී මනායතනය වැඩක් කරනකොට මනෝවිඤ්ඤාණය කියනවා. මේ නිසා එක සංසිද්ධියක් වෙනකොට හිත තිබුණේ චක්ඛු විඤ්ඤාණයේ නම්, චක්ෂුසයේ නම්, අපි චක්ඛු විඤ්ඤාණය අත්දකින වෙලාවක නම් දැකීම පමණමයි සිද්ධ වෙන්නේ. ඒක පිළිබඳව කිසිම බෞද්ධ නිකායක වාදයක් නැහැ. ඒ නිසා ඒ සංසිද්ධියේදී රූප සම්බන්ධ කොටස පමණයි අපි අත්දකින්නෙ. ඒ නිසා ඒ වෙලාවේදි අපි බිහිරෙක් ඒ වගේම ගොළුවෙක්, ඒ වගේම අතපය හිරිවැටුණ මනුස්සයෙක් ආදී වශයෙන් අනෙක් ඉන්ද්‍රිය ඔක්කොම අක්‍රිය වෙන්නේ නැත්නම් චක්ඛු විඤ්ඤාණයට අර සියයට සියයක්ම වැඩ කරන්න ලැබෙන්නේ නෑ. චක්ඛු විඤ්ඤාණය පහළ වෙන්නේ අනෙක් විඤ්ඤාණයන් වසා දමමින් භංග කරමින් විනාශ කරමින්. එහෙම

නැත්නම් චක්ඛු විඤ්ඤාණයට නැගී සිටින්නට බැහැ. ඒ නිසා අපි චිත්තක්ෂණයේ අත්දකින්නේ අර ඇහැට දකින රූප ටික පමණයි. නමුත් මේ හිතේ පවතින්නා වූ වහා වෙනස් වනසුලු බව නිසා **"දූරංගමං එකචරං"** ආදී වශයෙන් සටහන් කරන මේ හිතේ ස්වරූපය ඊගාව චිත්තක්ෂණයේදි සෝත විඤ්ඤාණය පහළ වෙලා ඇහැත් රූපත් ආලෝකත් සම්පූර්ණයෙන් අමතක කරලා අර සංසිද්ධියේම ඊගාව චිත්තක්ෂණයේ තිබෙන ශබ්ද අත්දකිනවා වෙන්න පුළුවන්.

මේ වගේ චිත්තක්ෂණ දෙකතුනක් එකතු වුණාම අපිට කියන්න හිතෙනව, මම මුළු සිද්ධියම දැක්කා ඇහුවා රස වින්ද ගඳ බැලුවා ස්පර්ශ කරල බැලුවා කියන සම්පූර්ණ චිත්‍රයක් හිතේ මැවෙනවා. එතකොට අපිට පේන්නෙ චිත්තක්ෂණ හයක් හිටිය නම්, හයේ හයම වින්ද කියල. නමුත් මූලධර්ම පැත්තෙන් බලනකොට නම් පේන්න තියෙන්නේ එක චිත්තක්ෂණයක රූප බලනව, තව චිත්තක්ෂණයක ශබ්ද අහනව, තව චිත්තක්ෂණයක ගඳ බලනව, තව චිත්තක්ෂණයක රස බලනව, තව වෙලාවක පහස ලබනවා. අන්තිමට ඔක්කොම හදල දිගටෝම සියල්ලම දකිමින් හිටියා කියල පොඩි සංස්කරණයක් කරලයි අපි මේ කථාවට විඥප්තියට බහින්නේ. මේ සංස්කරණය කෙරුවට පස්සෙ තව කෙනෙක් වාද කෙරුවොත් ඔබ ඒ වෙලාවේ ඇහුම්කන් දෙමින් හිටියෙ නෑ, කට ඇරගෙන බලාගෙනයි හිටියෙ කියල, අපි අර නාහපු දේ ඇහුවා යයි හිතෙන් හිතාගත්ත දේ ඔප්පු කරල පෙන්වන්න නොකරන වංචාවක් නෑ, නොකරන චපලකමක් නෑ, කපටිකමක් නෑ. මෙන්න මෙතනදී අපි ඇත්තටම දැකපු දේ ගැන කතා කරනව නම් අපිට තාර්කිකව ප්‍රත්‍යක්ෂයට අල්ලලා කතා කරන්න පුළුවන්. ඒක ඔප දන්න හැඩ දන්න අපි ඇහුවා යැයි හිතාගත්ත දේ, ගඳ බැලුවා යැයි හිතාගත්ත දේ, ඇත්තටම ඒ චිත්තක්ෂණය නෙවෙයි ඊට පෙර පසු චිත්තක්ෂණ ගඳ බලලත් තියෙනවා ශබ්ද අහලත් තියෙනවා. නමුත් අපි ඔක්කොම එක වෙලාවට කෙරුවා කියන්න මේ කරන විකාරය නිසා තමයි අද ලෝකේ මෙච්චර වාද විවාද. කොටින්ම කියනවා නම් බුද්ධාගම ඇතුළේ මෙච්චර නිකාය රාශියක් තියෙන්නේ මෙන්න මේ පුංචි වෙනස නිසා. නමුත් ඒකේ කියනවා නම් කියන්න තියෙන්නේ නම්බුවෙ ජීවත් වෙන මිනිහට අවනම්බුව මරණයටත් එහා. මරණයට

වඩා විශාලයි. ඒ නිසා ඒක ඔප්පු කරල පෙන්වන්න අර එක හාමුදුරු කෙනෙක් හිටගෙන ශ්ලෝක පන්සියයක් කිව්වලු තමන් කරපු වැරැද්ද වහගන්න.

මෙන්න මේ සංස්කරණය නිසා තමයි ලෝකය හරිම විචිත්‍ර. මේ නිසා තමයි මෙච්චර දුකෙන් පිරිච්ච ලෝකය සියයට 50 හාස්‍යයෙන් පිරිච්ච නිසා මනුස්සයාට ඔළුව උස්සාගෙන ඉන්න පුළුවන් වෙලා තියන්නේ. මේ දිහා බලනකොට පුදුමාකාර ළමා නාඩගමක් මේ වැඩිහිටියොයි කියාගන්නා ඥානවන්තයොයි කියාගන්නා සිල්වන්තයෝ කියාගන්නා පිරිස් අතර තියෙන්නේ. වෙන මොකවත් නෙමෙයි මම බලනව නම් මා තුළත් තියෙන්නේ ඒකමයි. මෙන්න මේ තත්ත්වය සබ්බෙ සංඛාරා අනිච්චා සබ්බෙ සංඛාරා දුක්ඛා කියන ඒ දර්ශන පථය තුළින් ඒ දැක්ම තුළින් දකිනවා නම්, ඒක කොච්චර හොඳද? ඒ අතින් අපි ඒ විදිහේ කුහකකම් චපලකම් අපි අතින් සිද්ධ වුණත්, අඩු ගානේ එහෙම දෙයක් මා තුළ තියෙනවා කියල දැන ගැනිම විශාල පෞරුෂත්ව වෙනසක් ඇති කරන දෙයක්. විශාල ලෙස ඇතුළට අත දල විමුක්තිය දිහාවට නිස්සරණය දිහාවට තල්ලු කරන මගක්. මේ හාස්කම මෙන්න මේ පුදුමාකාර හැකියාව තියෙන මූලධර්මයට තමයි අපි සතිය කියල කියන්නේ. ඒ නිසා අපි දැක්කා කියල කියන්න හදන දේ සමහර විට දැක්කා යැයි කියල හිතාගත්ත දෙයක්. අපි ඇහුවා යැයි මේ ඔප්පු කරන්න හදන දේ සමහර වෙලාවට දැකල, ඒ අනුසාරයෙන් හිතාගත්ත ඇහිල්ලක් වෙන්න පුළුවන්. නමුත් ඒක වාදයකට බැස්සොත් තාර්කිකව ඔප්පු කරන්න ගත්තොත් අපි ජීවිතය පරදුවට තියලා අපි අරක ඔප්පු කරන්න උත්සාහ ගන්නවා.

ඒ නිසා පුළුවන් තරම් ඒ වාගේ දේක **සබ්බෙ සංඛාරා අනිච්චා** වාගේ කටයුත්තක් ඔප්පු කරල බලන්න නම්, කවදවත් නරකයි තව කෙනෙක් සම්බන්ධ කරගන්නට. තමන්ගේම අභ්‍යන්තරගත සිද්ධියකට හිත දල බැලුවොත් අපි ආශ්වාස ප්‍රශ්වාසයට හිත දන්න කියනව. පිම්බීම හැකිළීමට හිත දන්න කියනවා. ඒවා ඒකාන්තයෙන්ම ආධ්‍යාත්මික මධ්‍යස්ථ සංසිද්ධි. මේ සිද්ධියක් දිහා බලාගන ඉන්නකොට ඕනෑම යෝගාවචරයෙකුගේ මුල කාලෙදි ඇහුවොත් ඒ

යෝගාවචරයා සමහර වෙලාවට කියනවා මට ආශ්වාස ප්‍රශ්වාස එක දිගටම අවස්ථා 10 බලා ඉන්න පුළුවන්, නැත්නම් විනාඩි 10 ක් තත්පර 10 ක් ඉන්න පුළුවන්. පිම්බීම හැකිළීම එක දිගට මට තත්පර 7 ක් 8 ක් තත්පර 10 ක් 15 ක් බලන්න පුළුවන් කියල. නමුත් හොඳට දියුණු වුණාට පස්සේ, නැත්නම් යෝගාවචරයා භාවනාවෙන් යම් කිසි ඇත්ත ඇති සැටියෙන් දකින්න පටන්ගත්තට පස්සේ හොඳට විස්තර කරනවා මේ එක හුස්ම රැල්ලක වුණත් හිත කොච්චර වාර ගානක් විවිධ දේවල් කවලම් කරමින්ද යන්නේ කියලා. එක හුස්ම රැල්ලක් තුළ හුස්ම රැළි දස්ගානක් තියෙනවා. ඒකත් දැනගන්න පුළුවන් පහු වෙනකොට. ඒ වාගේම එක පිම්බීමක් ඇතුළත පිම්බීම් රාශියක් තිබෙනවා. ඒකත් දැකගන්න පුළුවන්.

ආන්න එදාට හිතෙනවා යෝගාවචරයාට පේනවා එක හුස්ම රැල්ලක්වත් එක පිම්බීම හැකිළීමක්වත් එක දිගටම දැක්කා කියන්න අමාරුයි කියලා. නමුත් ඒ නොදන්න කාලේ භාවනා නොකරපු කාලේ ඇත්ත ඇති හැටියට නොදැක්ක කාලේ අපි විස්තර කරනවා, හුස්ම රැල්ල එක දිගට විනාඩි 10 ක් 15 ක් දැක්කා. එහෙම නැත්නම් හුස්ම රැලි 100 ක් හමාරක් එක දිගට දැක්කා ආදී වශයෙන්. නමුත් හොඳට ගැඹුරින් බලනකොට මේ එක හුස්ම රැල්ලක් කියන්නේ එක ඒකකයක් නෙවෙයි. ඒක ඇතුළේ ක්‍රියා රාශි රාශි සිද්ධ වෙනවා. සිතුවිලි සිත් අනන්ත අප්‍රමාණ පහළ වෙනවා. මේ අතරමැද හිතත් පිට ගියාද නැද්ද කියල කියනවයි කියන එක, හොඳට භාවනා කරපුවාම එන්ට එන්ට වචනයෙන් කථා කරගන්ට බැරි තත්ත්වයට පත් වෙනවා. ඉතින් ඒ නිසා අර මුලින් විනාඩි 10 ක් 15 ක් තිබ්බා කියන එක බොරුවක් කියල අපායගාමී අකුසල කර්මයක් වෙනව නොවෙයි. ඒ වාගේම තමයි පස්සෙ එක හුස්ම රැල්ලක් ඇතුළේ මෙච්චර වැඩ කොටසක් වෙනව කියලා දැකපුවාම මේ නිසා මගේ සතිය කැඩිලදෝ, සමාධිය කැඩිලදෝ කියල පස්සගහන්න කරන විග්‍රහයක් නෙමෙයි. මේ තමයි හැටි. මේකට තමයි ඇත්ත ඇති සැටියෙන් දැකීම කියල කියන්නෙ. පහු වෙනකොට තේරෙනවා අපි කොච්චර සංස්කරණය කරලද මේ වචන කතා කරන්නේ කියල. නමුත් ඒ සංස්කරණය පිළිබඳ ගැටලුව සංස්කරණයකින්ම විසඳනවා හැර, ගැටලුව පැත්තකට දාලා බේරන්න බැහැ. කතා නොකර

කරන්නත් බැහැ, මේ ඔක්කොම හරි ගියාම කථා කරන්නම් කියල පැත්තකට වෙලා ඉන්නත් බැහැ.

ඒක නිසා ඒ වෙලාවට අවශ්‍ය වෙන්නේ, තමුන්ට අවංකව කියන්න තියෙන දේ කීමේ අදහසින් සාකච්ඡා කරගෙන යනකොට මේ තුළ වෙනස්කම් වෙනකොට යෝගාවචරයාට අවශ්‍ය කරල තියෙන්නේ, මේ මේ විදියට විය යුතුයි කියලා බලාපොරොත්තු වෙනවට වඩා ඒ වෙනස්කම් ඇත්ත ඇති සැටියෙන් ප්‍රකාශ කරන එකයි. ඒ ප්‍රකාශ කරනකොට ඒක අවංක වෙන්න වෙන්න යෝගාවචරයා කියනකොටම තව පළපුරුදු කෙනෙකුට හොඳට වැටහෙනවා, ටික කාලයකින් යෝගාවචරයාටම වැටහෙනවා. ඒ නිසා මේ සංස්කාර පිළිබඳව අපි ගිය සතියේ ඉදිරිපත් කරගත්ත දේ වුණත් ඉදිරිපත් කරගෙන භාවනා කරනකොට තමන්ට ඒකේ යාන්ත්‍රණය වැටහෙන්නට හුඟාක් භාවනා අත්දැකීම් අවශ්‍යයි. නමුත් ඊට කලින්ම මේ යාන්ත්‍රණය තේරුම්ගැනීමට නම් සම්‍යක් දෘෂ්ටිය වශයෙන් මේ සංස්කාරයෝ අනිත්‍යයෝය, මේ සංස්කාරයෝ දුක්ඛයෝය කියන මේ කාරණා දෙක අඩු ගානේ අහල තියෙන්න ඕනෑ, අහලත් හිතේ දරාගෙන තියෙන්න ඕනෑ. එහෙම නොවුණොත් ඒ කියන්නේ ඒ දෙක වෙනුවට අශෘතවත් පෘථග්ජනයෙක් වෙනවා නම් මාරයා දීලා තියෙන ඒකායන ගැටේ, මළපුඩුව තමයි, මේ සෑම සංස්කාරයක්ම නිත්‍යයි සුඛයි සුභයි කියන එක. ඒ නිත්‍යතාව නිසා තමයි අර රණ්ඩුව. මම මෙහෙම කිව්වා, මගේ කනට ඇහුණා, මෙන්න මෙහෙම කිව්වා, නැත්නම් මගේ ඇස් දෙකට දැක්කා, මෙන්න මෙහෙම වුණා.

මෙන්න මේ විදියට අපි ඒ දැඩි මතග්‍රාහීව අරගෙන මේ සත්ත දන දණ්ඩ දන තුවන් තුවන් පේසුඤ්ඤ කලහ විවාද මුසාවාද දිගට යන්නේ හුඟාක් වෙලාවට මේ හිතලුවක් මත ගත්ත ප්‍රක්ෂේපණයක් නිසා. ඒ නිසා අශෘතවත් පෘථග්ජනයා බොහෝම වේගයෙන් එකිනෙක පිළිබඳ විනිශ්චයවලට එළඹිලා චිත්ත වශයෙන් දිට්ඨි වශයෙන් අර ගත්ත සංඥාවල් වැඩි වෙන්න පටන්ගන්නවා. ඉතින් ඒ පුද්ගලයාට ගහපාදීලවත්, එහෙම නැත්නම් වෙන යන්ත්‍රයක රසායනික මාර්ගයෙන්වත් ඒක අයින් කරන්න අමාරුයි. සතියට මතක් කරල දෙන්න ඕනෑ ඒ සංස්කාරයෝ අනිත්‍ය බව මූලධර්ම

වශයෙන් දැනගෙන, ඒක නිත්‍යයි කියල හරි කමක් නෑ අනිත්‍යයි කියල හරි කමක් නෑ, එක වරක් නෙමේ දහස්වරක් බලබලා ඉන්නකොට මේක තනි ඝන මැණිකක් නෙවෙයි, මේක ඇතුළේ පැලඉරි රාශියක් තියෙනවා, මේක බොල් වෙච්ච එකක්, මේක එච්චර වටින එකක් නෙමෙයි කියල ටිකෙන් ටික, ටිකෙන් ටික තේරෙන්න පටන්ගන්නව. අන්න ඒ තේරෙන්න පටන් අරගත්තට පස්සෙ දිගට දිගට දිගට යනකොට තමන් කොච්චර නම් මේ ඉදිරියට ඉදිරිපත් වන සෑම දේම සංස්කරණය කරන ගතියක් තියෙනවාද? ඒ මොකද අපේ ඉන්ද්‍රියවලට ශක්තියක් නෑ, ඔක්කොම සන්නිවේදන එක තැන දැනගන්න. ඒ නිසා අශෘතවත් පුද්ගලයාගේ සෑම දැනීමක් තුළම සංස්කරණයක් අවශ්‍යමයි. ඒක අපි පිළිඅරගත්තොත්, කාගෙ හුනු කිල්ලෝටෙත් හුණු ටික ටික තියෙන බව දන්න නිසා, අපිට තේරෙන්නේ අපේ මේ තියෙන සංස්කරණ ගතිය වහාම දැනගැනීම සඳහා සියයට සියයක්ම සතිමත් වන එකයි, වර්තමානයේ ඒ දේට හිත යොදන එකයි.

නමුත් අභාග්‍යයකට වගේ වෙලා තියෙන්නේ අනුන්ගේ වරද දකින එකේ හරි රසවත් බවක් තියෙනවා. ඒක තමයි අපේ වරද. වෙන විදියට කියනවා නම් අනුන්ගේ සංස්කාර දැකීම, මම මීට කලින් ධර්ම දේශනා දෙකකින් මතක් කළා වගේ නිදර්ශන වශයෙන් ගත්තහම හරි විචිත්‍ර කරගන්න පුළුවන් ධර්ම දේශනාවක. නමුත් ඒක අපේ සංස්කාර මකා දන්න මායාවක් බවට පත් වෙනවා. ඒ නිසා අපි නිදර්ශන ගන්න ඕනෑ, ලෝකයා සම්බන්ධ කරගන්න ඕනෑ, අජ්ඣත්ත බහිද්ධා වශයෙන් සීමාව සලකලා. ඒ මොකද අපේ වර්තමානයේ සිදු වන සෑම දේම දැනගැනීම තමයි අවශ්‍ය කරන්නේ. ඒකට විශ්වාසය, විශ්වසනීය භාවය ඇති කරගන්නයි අපි මේ නිදර්ශන ගන්නේ. එහෙම නැතිව කාටවත් රිදවන්න කොනහන්න, එහෙම නැතිනම් අර කියන දණ්ඩදන සත්තදන කියන ඒ රාශියට වැටෙන්න නෙමෙයි. ඒ නිසා සංස්කාරයන් පිළිබඳ බැලුවත් ලොකු හාස්‍යයක් තියෙනවා. ඒ වාගේම යාන්ත්‍රණය පැත්තෙන් ලොකු ගැඹුරක් ඇතිවයි සර්වඥයන් වහන්සේ මේ දේශනා කරන්නේ. නමුත් ඒක අත්දකින්න එක චිත්තක්ෂණයයි ඕනෑ. ඒ චිත්තක්ෂණයට සූදනම් වන්නට නම් චින්තාමය වශයෙන් සුතමය වශයෙන් බොහෝ කල් ගන්නවා. නමුත් ඒක අත්දැකගන්න

ඉතාමත්ම සුළු මොහොතයි යන්නේ. ඒ නිසා ඒක බුදුරජාණන් වහන්සේගේ අධිකාරියේ හෝ කාගේවත් අධිකාරියේ තිබෙන දෙයක් නෙවෙයි. යම් කිසි කෙනෙක් හොඳට සුතමය වශයෙන් අහල තියෙනවා නම්, ඒ වාගේම චින්තාමය වශයෙන් මේක අනිත්‍යයි දුකයි කියල පිළිගන්න කැමැත්තෙන් භාවනා කරගෙන යනව නම්, එක පිම්බීමක් හැකිලීමක් ඇතුළත එක ආශ්වාස ප්‍රශ්වාසයක් ඇතුළත අපි කොච්චර නම් මේ හුදු ආශ්වාස ප්‍රශ්වාසයේ ඇත්තා වූ ස්වාභාවික ලකුණු කොච්චරක් වර්ණ ගන්වනවද? කොච්චරක් සංස්කරණය කරනවද? ඒ සංස්කරණය කරපු එක තමයි අපිට පේන්නේ අර ස්වාභාවික එකට වඩා හොඳ එක වගේ. එනකොට නියම දේ මුළුගැන්වෙනවා, අර හැඩගස්වල එළියට දාපු දේ, තෙම්පරාදු කරල එළියට දාපු දේ ජය ගන්නවා. ගොම බෙටි යට වෙනවා, තිරුවානා ගල් පා වෙනවා, මේ දේ හැම මෙහොතකම සිද්ධ වෙනවා.

මෙය සිද්ධ වෙන බව දකගන්නට නම්, අපි මේ සමාජය තුළින් ගත් අත්දැකීම් අභ්‍යන්තරකරණය කරගෙන අපි මේ නිතරෝම සංස්කරණය කරන්න ගන්න උත්සාහය දකගන්නව නම්, අපි අද මාතෘකා කරගන්න හදන විඤ්ඤාණය දිහාවට ලොකු ආලෝකයක් ලැබෙනවා. මූලධර්ම වශයෙන් දකගන්න ලොකු ආලෝකයක් වැටෙනවා. ඒ මොකද, විඤ්ඤාණඨිති වශයෙන් සඳහන් කරන්නේ රූප, වේදනා, සඤ්ඤා, සංඛාර කියන මේ හතර. මේ හතර මත තමා විඤ්ඤාණය ගොඩනැගෙන්නේ. මේ හතර නැත්නම් විඤ්ඤාණයක් එන්න විදියක් නෑ. මේ හතරෙම රූප ගත්තත් වේදනා ගත්තත් සඤ්ඤා ගත්තත් සංස්කාර ගත්තත්, කවදාවත් පූර්ණ අවබෝධයක් මේ පෘථග්ජන කඩතොලු වෙච්ච දෙකඩ වෙච්ච හිතට ලැබෙන්නේ නැහැ. රූපයක් ගත්තොත් ඒ රූපයේ තියෙන්නා වූ පඨවි ආපෝ තේජෝ වායෝ කියන එකේ වායෝ ස්කන්ධය දැක්කත්, වායෝ ස්කන්ධයේ ඇත්තා වූ දරන ගතිය සහ කම්පන ගතිය යන දෙක ප්‍රතිවිරුද්ධ ධර්ම දෙකක්. ඒක හරි හැටියට දකිනවා කියල අපි හිතුවාට ඒ අවස්ථාවේ පඨවි ආපෝ තේජෝ තුනමත් තියෙනවා. ඒවා දකගන්න හම්බ වෙන්නේ නැහැ. ඒ නිසා රූප ස්කන්ධය බැලුවත් බොහෝ විට අටෙන් එකයි දකින්නේ. අටෙන් එකටත් අඩුයි, මොකද පඨවි ධාතුව විස්තර කරනකොට ප්‍රතිවිරුද්ධ ධර්ම තුනක් යුගළ තුනක් විස්තර

කරනවා, එකයි දකින්නේ. නමුත් අපේ දැක්ම තියෙන්න ඕනෑ. ඒ දැක්කට මදි, තව දකින්න ඕනෑ කියල සම්පූර්ණ රූපස්කන්ධය දැකීමත් බොහෝ වාර ගානක් බහුලීකත කරන්න ඕනෑ.

වේදනා බලනකොට දුක වේදනාව, සුඛ වේදනාව සමහර විටෙක භාවනාවේදි යම් ප්‍රමාණයකට ඉවසිලි ශක්තියෙන් දැකගන්න පුළුවන්. නමුත් යෝගාවචරයා අදුක්ඛමසුඛ වේදනාව දකින්නෙත් නෑ. ඒ දැකීම භාවනාවේ උතුම් බවක් බව දන්නෙත් නෑ. ඒ නිසා ඒක හැමදම අන්ධකාරයේ පවතිනවා. ඒ නිසා භාවනාව දුකයි. ඊළඟට සංඥා ගැන ගත්තහම ඒක සර්වඥයන් වහන්සේ පෙන්වන්නේ මිරිඟුවක් වගේ කියලා. දැක්කයි වගේ කියල කිව්වට ඒකෙන් ගන්නේ සම්පූර්ණ නොගෙනිය යුතු වැලි කාන්තාරයක තියෙන දවන ගතිය වතුර කඩක් වාගේ දකින්නේ. ඒ නිසා අපි නොදැක්ක පැති කොච්චර එතෙන තියෙනවද? ඊගාවට සංස්කාර ගත්තම අපි යාන්තම් ඇටසැකිල්ලක් දැක්කහම ඒක මස් පුරවල සම පාට කරල ලස්සන සතෙක් සාදගන්න උත්සාහ කරනවා. මෙන්න මේ විදියට ඉතාම සුළු ප්‍රත්‍යක්ෂයක්, ඉතාම සුළු ස්පර්ශයක් ඇතිව අනෙක් ඔක්කොම මවාගත්ත දේවල් තුළ ඇති කරගන්නා වූ මේ ආණ්ඩුව පවත්වන්නේ විඤ්ඤාණය කියන ආයතනය. අර රූපවලින් ඇති කරගත්න මවා පාන බොරු සෝබන ගති වේදනා සඤ්ඤා සංස්කාර ඔක්කොම ඇති කරනකොට මේ බොරු ටික රකින්න වෙනමම ගුහාවක් අවශ්‍යයි, හොර ගුහාවක්. ආන්න ඒ වාගේ එකක් තමයි විඤ්ඤාණය. විඤ්ඤාණයෙත් තියෙනවා ඒ වාගේම හොර ගුහාවක්. ඒ නිසා සර්වඥයන් වහන්සේ කියනවා විඤ්ඤාණය මායාකාරයෙක් කියල. අපි දන්නවා හන්දියක් හන්දියක් ගානේ ඔය ඉන්න මැජික්කාරයො මායාකාරයෝ, ඒ මිනිස්සු දිහා සල්ලිත් දිලා කටත් ඇරගෙන බලාගෙන ඉඳල කියනවා පුදුමාකාර මැවිලි කරන්නෙ. ඉතින් ඔච්චර මැවිලිකාරයෙක් නම් හන්දියක් ගානේ ගිහින් මවමවා ඉන්න ඕනෑකමක් තියෙනවයෑ. උෟට ඕනෑ දෙයක් මවාගෙන පැත්කට වෙන්න පුළුවන් නේ. නමුත් අපි දන්නෙ නෑ, මේ අපිට ඇස් බැන්දුමක් කරල කීයක් හරි කඩා වඩාගන්න මිනිහෙක් බව. අපි ඒ වෙනුවට කරන්නේ හොඳ මැජික්කාරයා කියලා සම්මාන දෙන එකයි,

අපි මෝඩකමට ඔටුනු පලන්දන එකයි, පැලඳගන්න එකයි. විඤ්ඤාණයෙත් ඒ වාගේම මායාකාරී ස්වරූපයක් තියෙනවා.

ඊට අමතරව විඤ්ඤාණයේ තියනවා ආයතනීකරණ ශක්තියක්. අපි දන්නවා රජයේ දෙපාර්තමේන්තුවලට, ව්‍යාපාර ලියාපදිංචි කරන්න ගියාම ඒ ව්‍යාපාරවලට ලියාපදිංචි කළාට පස්සේ පෞද්ගලිකත්වයක් හම්බ වෙනවා. තනියම ක්‍රියාත්මක කිරීමට නෛතික බලයක් හම්බ වෙනවා. ඕනෑ නම් නඩුවකට පෙනී සිටින්නත් පුළුවන්. එහෙම නැත්නම් ඒ ව්‍යාපාරවලට විරුද්ධව නඩු දන්න පුළුවන්. එතකොට ව්‍යාපාර ගෙනියන නියෝජිතයෙක් ගියාට නඩු යන්නේ නියෝජිතයාට විරුද්ධව නොවෙයි. කොහේද ඒ ආයතනය තියෙන්නේ, මොකද්ද ඔය ආයතනයේ හැටි, ඕවා ඔක්කොම නිර්වචනය කරලයි මේ කොම්පැනිකාරයෝ වැඩේ පටන්ගන්නේ. ඕවා ඔක්කොම ප්‍රපංච. නමුත් ඒ ප්‍රපංච ටික නැත්නම් බෑ සමාජයක් පවත්වන්න. අපි රජය ගත්තත් රජය කියල කියන්නේ රජය කරන පක්ෂය නෙමෙයි. රාජ්‍ය යන්ත්‍රණය, රාජ්‍ය තන්ත්‍රය කියල වෙනම එකක් තියෙනවා, කොහේද ඕක තියෙන්නේ, සෙංකෝලෙද? අපි ඒවට සංකේත හදගන්නවා. ආණ්ඩු පක්ෂය පැරදුණාට පස්සේ ඕන්න රජයත් දිය වෙලා යනවා. කොහෙට දිය වුණාද දන්නේ නෑ. හැබැයි ඊට පහුවෙනිදා අලුත් රජයක් එනවා, දිගටෝම රජය තියෙනවා. රජය කියන්නෙ මොන වගේ එකක්ද, රාජ්‍ය යන්ත්‍රණය කිව්වාම හිතෙනවා ගල් රෝල වාගේ එකක් වෙන්න ඇති කියලා. රාජ්‍ය යන්ත්‍රණය කීවහම තවත් චිත්ත රූපයක් දෙන්න හදනවා. නමුත් එහෙම දෙයක් නෑ.

ඒ නිසා සර්වඥයන් වහන්සේ දේශනා කරනවා විඤ්ඤාණං අනිදස්සනං කියල. මේ විඤ්ඤාණය නිදර්ශනය කරල පෙන්නන්න විදිහක් නෑ. උන්දෑ දන්නවා මේ බොරු කරන්නා වූ බොරුවට රැවටෙන්නා වූ රූපස්කන්ධය, නැත්නම් රූප යයි අල්ල බදගන්න ගතිය, වේදනාව යැයි අල්ල බදගන්නා ගතිය, සංඥව යැයි අල්ල බදගන්නා ගතිය, ඒ වාගේම සංස්කාර කියල අල්ල බදගන්නා ගතිය, ඒ වගේම කාගේ හරි බොරු සාක්ෂියක් එක්ක තමයි මේ නාඩගම ගෙනියන්නේ. ඒකට විඤ්ඤාණය සැදී පැහැදී ඉඳගෙන ඉන්නව. ඒ

නිසා විඤ්ඤාණයේ පවතිනව විඤ්ඤාණයෙන්ම මුල් කරගත්ත ස්වරූපයක්. ඒ නිසා ඒක ප්‍රතික්ෂේප කළොත් අපි විඤ්ඤාණය කියල එහෙම ක්‍රියාවලියක් නැත, විඤ්ඤාණය කියල ආයතනයක් නැත කිව්වොත් අපි භෞතිකවාදයට වැටෙනවා. විඤ්ඤාණය ඇතැයි කියාගන්නා වූ, නැත්නම් විඤ්ඤාණය ආත්මය යැයි කියාගන්නා වූ ඇත්තන්ගේ බලවත් බොල් ගතිය නිසා, බලවත් හිස් කෝම්බ ගතිය නිසා, සමහරු ප්‍රතික්‍රියා වශයෙන් කියනවා, විඤ්ඤාණය ඇත්තෙම නෑ කියලා. ඒ ඇත්තන්ට තමයි භෞතිකවාදීන් කියල කියන්නේ කියල. නමුත් ඒ ඇත්තෝ අන්තවාදීන්. එහෙම නැත්නම් අපි මේ භෞතිකවාදීන් මේක නැහැ කියන්න හදනවා, ඒ නිසා විඤ්ඤාණයක් තියෙනවමයි කියල අර රාජ්‍යතන්ත්‍රයක් තියෙනවා, ආයතනයක් පවතිනවා, පුද්ගලයෙක් ඉන්නව ස්ත්‍රියාවක් පුරුෂයෙක් ඉන්නව ආදී වශයෙන් ඒක ඔප්පු කරන්න ගත්තොත් අපි ආත්මවාදයට වැටෙනවා.

ඉතින් සර්වඥයන් වහන්සේ මේ ප්‍රශ්නය විසඳපු හැටි, දීපු සාර්වභෞමික උත්තරය දිහා බලනකොට උන්වහන්සේ පැහැදිලිවම මේ භෞතිකවාදය පිළිබඳව හොඳ ආස්වාද ආදීනව නිස්සරණ වශයෙන් දකලා තියෙනවා. ආත්මයක් වශයෙන් ගන්න ගතියේ ආස්වාදය, ආදීනවය නිස්සරණය වශයෙන් දකලා තියෙනවා. ඒ නිසා උන්වහන්සේ ආත්මයක් ඇතැයි කියන්න යන්නෙත් නෑ, ආත්මයක් නැතැයි කියන්න යන්නෙත් නැහැ. ඒ දෙක මැදින් යන්නෙයි කියල කියන්නේ. ඉතින් මේ දෙක මැදින් යනකොට මට වැටහෙන ක්‍රමය තමයි, කවදාවත් නරකයි මේක බාහිරයේ විග්‍රහ කරන්න යන්න. බාහිරයේ විග්‍රහ කරගන්න ගියොත් දර්ශනවාදවලට වැටෙනවා. එතනින් එහාට ඉතින් අර කලහ විවාද තුවං තුවං පේසුඤ්ඤ මුසාවාදවලට වැටෙනවා. අභ්‍යන්තරගතව අපි විඤ්ඤාණය දිහාවට, අනිදස්සන විඤ්ඤාණයක් දිහාවට, එහෙම නැත්නම් අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයක් දිහාවට නැත්නම් ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයක් දිහාවට සතිය මෙහෙයවුවොත් නම් මම අර කලින් කිව්ව වගේ අපි අහපු තරම් බුද්ධාගම, එහෙම නැත්නම් අපි හිතාගත්ත තරම් මේ ධර්ම කොට්ඨාශවල ඇත්ත නැත්ත එක චිත්තක්ෂණයකින් සමහර වෙලාවට වැටහෙන්න ඉඩ තියෙනවා.

මෙයින් අනිදස්සන විඤ්ඤාණය හෝ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය හෝ කියන මේ ධර්මවලට වඩා ඕළාරික ගොරෝසු දේ තමයි ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය. හැබැයි ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙත් අර මායාකාරී ස්වරූපය තියෙනවා. "**විඤ්ඤාණං අනිදස්සනං, අනන්තං සබ්බතො පභං**" හැම ආකාරයෙන්ම ප්‍රභාස්වරයි මේක. නිදර්ශන පෙන්නන්න විදියක් නෑ, ඒක හැම තැනම පවතින ධර්මතාවක්. මේ ධර්මතාවේ ඕළාරිකම අවස්ථාව තමයි, ඇහෙන් රූපයක් දකිනකොට ඒ විඤ්ඤාණය ඇහේ පදිංචි වන වෙලාව. ඇහේ පැල වෙනවා. නමුත් අපි මේ පැල වෙන මොහොතේ විඤ්ඤාණය එතන පදිංචි වෙනව දකිනවට වඩා, දකින රූපය දිගේ එළවන ගතියක් අපිට තියන නිසා මාරයට කිසිම ප්‍රශ්නයක් ඇත්තේ නෑ, සංසාරයට මේ පෘථග්ජනය නැවත නැවත වට්ටගන්න. අපි ඒ වෙලාවේ දකින්නෙක් බවවත් දන්නවා නම් දැන් හිත තියෙන්නේ ඇහේ බව දන්නවා නම්, එහෙම නැත්නම් මට දැන් රූප පෙනීමයි සිද්ධ වෙන්නේ කියන තරමටවත් දන්නවා නම් දැන් අපිට කියන්න පුළුවන් එලවගත්ත සිහියක් තියෙනවා කියල. සිහි එලවාගත්තා කියල.

ඒකට තමයි මෙනෙහි කරන්න කියන්නේ. දකිනකොටම දකිනව, දකිනව කියල මෙනෙහි කළොත් මේ රූපය ස්ත්‍රියාවක්, මා දිහාවටයි එන්නේ, ළං වෙන්ට ඕනෑ, ලොකු කරගන්න ඕනෑ ආදී වශයෙන් ඒ රූපයේ ප්‍රඥප්තිවලට බැඳීගන්නවා මිසක, මම දැන් දකිමින් ඉන්නේ, මේ වෙලාවට චක්ඛු විඤ්ඤාණය පහළ වී තිබෙනවා ආදී වශයෙන් ඒ අවස්ථාවේ පවතින්නා වූ සම්පූර්ණ ධර්ම කොට්ඨාශවලට විවෘතකම් තිබෙනවා. නමුත් ඒ දකින රූපයට හිත වහ එළා ගත්තොත් ඇලී බැඳීගත්තොත් අර මුළු ධර්ම කොට්ඨාශම ඉතාමත් ගොරෝසු දෙයකින් වැහිල යනවා. නිත්‍ය සුඛ සංඥාව පහළ වෙනවා. අනිත්‍ය අනාත්ම වූ ධර්ම විශාල රාශියක් අර එක රූපයකට බැඳී යාම නිසා ඒ රූපයේ හොඳ නරක දැකීම නිසා රූපයේ ව්‍යංජන අනුව්‍යංජන දැකීම නිසා වහ එළාගන්නවා. වසා හෙළනවා. ඒක තමයි අන්ධ පෘථග්ජන භාවය කියල කියන්නේ. මේ කඩඉම බලන්න නම් පැහැදිලිවම මම දැන් දකිමින් ඉන්නේ කියලා, නැත්නම් දකින බව, අහමින් ඉන්න බව, ගඳ සුවඳ බලමින් ඉන්න බව, රස බලමින් ඉන්න

බව, පහස ලබමින් ඉන්න බවට සිහි එළවගන්න ඕනෑ. මෙන්න මේ පහෙන් ලේසිම පහසුම දේ තමයි කයට ස්පර්ශයක් දැනෙන වෙලාව. ඒක තමයි විඤ්ඤාණයේ ලේසිම තැන, කාය විඤ්ඤාණය තමයි ලේසිම. කාය විඤ්ඤාණය ගත්තාම කයට උණුසුම වැටහෙන වෙලාව, චංචල කම්පන වැටහෙන වෙලාව, බර හැල්ලුකම් වැටහෙන වෙලාව, ආබන්ධන වැගිරෙන දෙපැත්ත වැටහෙන වෙලාව, කියන හතරෙන් මේ කම්පන චංචල තමයි ලේසිම වශයෙන් හඳුනාගෙන තියෙන්නේ. ඒකෙ යෝගාවචරයෙකු වුණත් අවුල් වෙන්නේ නෑ. ආන්න එතනින් අවබෝධ කරගන්න දේ, ඒ වායෝ ධාතුව වශයෙන් එක එක ධාතු කොට්ඨාශවලට ගිහිල්ලා, ඊට පස්සෙ චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය, ඝාණ විඤ්ඤාණය ආදී වශයෙන් පැතිරීම තුළින් අපිට පුළුවන් වෙනවා උදේ ඉඳල හැන්දෑ වෙනකල් එකම මොහොතක්වත් අතනෑර පවත්වන විඤ්ඤාණය හක්කලං කරන හැටි, සම්පූර්ණ චිත්‍රයක් මවල පෙන්වන හැටි පිළිබඳව ලේස මාත්‍ර වශයෙන් දැකගන්න පුළුවන් තත්ත්වයක් අත්දැකගන්න හැකියි.

එතකොට අපිට පේනව මේ විඤ්ඤාණය කියන එක නිතරෝම වැඩ කරන විදුලි උත්පාදන යන්ත්‍රයක් වාගේ. මේකෙන් මේ විදුලිය ශක්තිය නිපදවෙනවා. මේ විදුලිය ශක්තිය ඕනෑ නම් පංකාවක් කරකවන්නත් පුළුවන්, සීතකරණයකට යොමු කළොත් සීතල කරගන්නත් පුළුවන්. වෙන ඕනෑම යන්ත්‍රයකට විදුලිය දැම්මොත් ඒ ඒ ක්‍රියාකාරකම් කරගන්නත් පුළුවන්. ඕනෑ දෙයක් කරගන්න පුළුවන්. මේ දිගටම ගලන විදුලි ධාරාව අඛණ්ඩව පවතින තාක් විවිධ වැඩ ගන්න පුළුවන්. ඒ වාගේ බලනකොට ඇහැට යන, කනට යන, නාසයට, දිවට, ශරීරයට යන මූලික විඤ්ඤාණය අඛණ්ඩව මේකෙ පවතිනව. නමුත් ඒ විඤ්ඤාණය ඒ ඒ වෙලාවේ වැටිල රස විඳින දේවල් විෂයෙහි අපි මත් වෙලා දඟලනව නම් අපිට කවදාවත් විඤ්ඤාණයේ මායාකාරී ස්වරූපය දැකගන්න ලැබෙන්නේ නැහැ.

ඒක නිසා අපිට ඉස්සෙල්ලම සිද්ධ වෙන්නේ මොන තරම් වේගයෙන් හිත ඇසට, කනට, නාසයට, දිවට, කයට මේක වටවළල්ලේ සකබඹරෙ කැරකෙනවද කියල බලන්නයි. ඒක දුවද්දී බලන්න අමාරුයි. හරියට කියනව නම් විදුලි උත්පාදක යන්ත්‍රයක්

කොහොමද වැඩ කරන්නේ කියල ඒක වැඩ කරද්දි බලන්න අමාරුයි. ඒක නතර කරල තමයි බලන්න ඕනෑ - මේ දැතිරෝදවල කොච්චර දැති තියෙනවද? මෙතන වැඩ කරන්නේ පිස්ටන් එකක්, මෙතන දැති රෝදයක් මෙතන ෆෑන් එකක් කියල. ඒ කොටස් දකින්න බැහැ කවදාවත් සීග්‍රයෙන් වැඩ කරනකොට. ඒ නිසා මේකේ යම් ප්‍රමාණයකට වේගෙ අඩු කරන්නවත් වෙනවා. ඒක නිසා යෝගාවචරයාට කියන්නෙ නැවතිල්ලේ වැඩ කරන්න. අර පුංචි හත් අවුරුදු සාමණේර ස්වාමීන් වහන්සේ මහා සිව ස්වාමීන් වහන්සේට මතක් කළා වගේ, මේ හය ඉන්ද්‍රියන්ගෙන් ඇහැ, කන, නාසය දිව වහල දන්න. ඇස් දෙක වහගන්න, එතකොට චක්ඛු විඤ්ඤාණය පහළ වෙන්න ඉඩ දෙන්න එපා. කනට ශබ්ද ඇහෙන්නේ නැති තැනකට යන්න. සෝත විඤ්ඤාණයට අවධානයට යන්න දෙන්න එපා. ඝාණ විඤ්ඤාණය වශයෙන් ගඳ, සුවඳ දැනෙන තැන්වල, රස බලන තැන්වල ඉන්න එපා. ජිව්හා විඤ්ඤාණය වශයෙන් රස බලමින් ඉන්න එපා. කට වහගන්න. ඊට පස්සෙ මේ කයේ නැත්නම් රූප කොට්ඨාශවල වායෝ ධාතුවටම කොටු කරල ඒකටම අවධානය යොමු කරමින් ඉන්න කිව්වා. හිල් හයක් තියෙන හුඹහක් ඇතුළට තලගොයෙක් ගියාම හිල් පහක් වහල අර හයවෙනි හිලෙන් දුම් පිඹිනකොට තලගොයා ඒකෙන් එළියට එන්න එපායෑ. එතකොට පුළුවන් මස්වැද්දට සුදුස්සක් කරගන්න.

ආන්න ඒ වාගේ තමයි මේ විඤ්ඤාණය කොටු කිරීම. බෞද්ධ භාවනා ක්‍රමයේදී යෝග ක්‍රමවල ඉන්ද්‍රිය සංවරය තුළින්, ඒ වාගේම චිත්ත භාවනා තුළින්, විපස්සනා භාවනාව තුළින් කොටු කිරීමක් තියෙනවා. ඉතින් බාහිර ලෝකය කරන්නේ, රූප එකක් නෙවෙයි රූප ප්‍රවාහ හතරක් පහක් ගත්තොත් තමයි පොහොසතයි කියල පෙන්නන්නේ. එක ශබ්දයක් මදි. විවිධාකාර ශබ්ද ක්‍රම ඕනෑ. විවිධ ගඳ, විවිධ රස, විවිධ පහස මේ දිගේ හොයන මේ ද්‍රව්‍යාත්මක වාස්තවික භෞතික ලෝකයේ කවදාවත් විඤ්ඤාණය හික්මවීම නම්බුකාර වැඩක් විදියට පේන්නෙ නැහැ. ඒක පෙන්වන්නේ හිර කඳවුරක් වාගේ. මානව අයිතිවාසිකම් උල්ලංඝනය කිරිමක් වාගේ. ඒකයි කවදාවත් නරක කාටවක්වත් මේ විඤ්ඤාණ ශික්ෂණයක් පිළිබඳව උපදෙස් දෙන්න. ඕනෑම වෙලාවක ඒක භෞතිකවාදීන්ගේ

තද බල විවේචනයට ලක් වෙන්න පුළුවන්. නමුත් කෙනෙක් තමන්ගේ විඤ්ඤාණය හික්මවාගත්තට කාටවක්වත් නඩුදන්න බෑ. ඒකයි සර්වඥයන් වහන්සේ මේ පපුවම අතගාලා පපුවටම තට්ටු කරල කථා කරන්නේ, මේක **අත්තානමෙව පඨමං පතිරූපෙ නිවෙසයෙ**[2] උඹ ගැනම විස්තර කරගනින්, උඹම හික්මෙයන්. හැබැයි, මම ධර්මයේ නම් මේ විඤ්ඤාණ ස්කන්ධය විස්තර කරල දීල තියෙනවා, වෙන කිසිම නිකායක ආගමක පෙන්වන්නේ නැති තරම්ම. ඒ නිසා ඥානවන්තයාට මේක හොඳ ගෝචරකමක් තියෙනවා, රසයක් තියෙනවා.

ඒ විදියට කාය විඤ්ඤාණය දිගේ වායෝ පොට්ඨබ්බ ධාතුව දිගේ හෝ නැත්නම් තව ගොරෝසු අතින් කියනව නම් කාය විඤ්ඤාණය දිගේ ඉගෙනගත්තත් මනෝ විඤ්ඤාණය දිගේ ඉගෙනගත්තත් විඤ්ඤාණයේ නම් තියෙන්නේ එකම විජ්ජාවමයි. එකම රැවටිල්ලමයි. එකම මායාවමයි. ඒක නිසා ඉතාමත්ම පහසු තැනින් තේරුම් අරගැනීම එක විදිහක පහසු ක්‍රමයක්. ප්‍රායෝගික ක්‍රමයක්. මේ ක්‍රමයේ යනකොට හොඳටෝම තේරුම් අරගන්න ඕනෑ මේ විඤ්ඤාණය ගමන් කළ යුත්තේ තනිකරම භෞතිකවාදි ධර්මයට හෝ පූර්ණ ආත්මවාදී සස්සත වාදයට වැටෙන්නේ නැතිව, ඒ වාද දෙකටම වැටෙන්නේ නැතිව. නමුත් ඒ වාද දෙකේ වරින් වර හැප්පී හැප්පී ඉගෙනගන්නවා.

විදුලිය උත්පාදන යන්ත්‍රයක් දිගට ගලන විදුලි ධාරාව අපි දන්නවා කැරකෙන දෙයක් බවට, විදුලි ආලෝකයක් බවට, ශීතල කරන දෙයක් බවට, උණුසුම් දෙයක් බවට ඕනෑම දෙයකට හරවන්න පුළුවන්. නමුත් ඒ හරවන්න පුළුවන් ශක්ති මූලය තියෙන්නේ විදුලියෙ. විදුලිය ධාරාවක් දිගට පැවතුණොත් තමයි අපට ඒ විදුලිය පිළිබඳව ප්‍රත්‍යක්ෂ අවබෝධයක් ලබන්න හැකි වෙන්නේ. ඒ වගේ තමයි ඇහැට, කනට, නාසයට, දිවට, ශරීරයට යන මේ විඤ්ඤාණයේ මූල ප්‍රාග් අවස්ථාවක් තියෙනවා. ඒකට තමයි පුළුවන් වෙන්නේ හැරවෙන්න. ඕනෑ නම් චක්ඛු විඤ්ඤාණය වෙන්න පුළුවන්. ඕනෑ නම් සෝත විඤ්ඤාණය වෙන්න පුළුවන්. ඕනෑ නම් ඝාණ ජිව්හා කාය

[2] ධම්මපදය, අත්ත වග්ගය.

විඤ්ඤාණය වෙන්න පුළුවන්. ආන්න ඒ බවට පත් වෙන්න ඉස්සෙල්ලා විඤ්ඤාණයේ ස්වරූපයට අපි කියනවා අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය කියල. (ඉඳුරන් හා බැඳිල නැති.) නමුත් අපේ විඤ්ඤාණයට අපි ඉස්පාසුවක් දෙන්නේ නෑ කවදාවත්. හැම වෙලාවෙම ඒක බලන්නේ කොහොම හරි ඉඳුරෙක් කුප්පවාගෙන එතන ආයතනයක් පිහිටුවාගෙන, ඒ කාය විඤ්ඤත්ති, වචී විඤ්ඤත්ති මනෝ විඤ්ඤත්ති වශයෙන් එක්කො වීතික්‍රමණ කෙලෙස්, නැත්නම් පරියුට්ඨාන කෙලෙස් බවට පත් වෙලා මමෙක් ඉන්න බවට නලියන භාවය තමයි, වැඩ පෙන්වන බව සංස්කාර පෙන්වන බව තමයි මේ පෘථග්ජනකමේ ගොජදන තත්ත්වය.

ඉතින් අපි චිත්ත භාවනාවක් කරන වෙලාවක ඇහැ, කන, නාසය, දිව අක්‍රිය භාවයට, නැත්තම් ඇස් ඇත්තේ නමුත් අන්ධයෙකු කියන්නා වූ තත්ත්වයට පත් කරගෙන, විඤ්ඤාණය අර වායෝ පොට්ඨබ්බ ධාතුව - ආනාපානයේ වායෝ පොට්ඨබ්බ ධාතුව - දිගේම එහිම නිමග්න වෙන එක ප්‍රකට වුණත් අප්‍රකට වුණත්, මනාප වුණත් අමනාප වුණත්, ගොරෝසු වුණත් සියුම් වුණත්, ළඟ වුණත් දුර වුණත්, මොන තාලේ වුණත් එහිම ඇත්තා වූ සෑම දේම දැකගන්න උත්සාහ කරනකොට ඒ විඤ්ඤාණය වායෝ පොට්ඨබ්බ ධාතුවේ හැපිල, නැත්නම් වායෝ පොට්ඨබ්බ ධාතුව කාය ප්‍රසාදයේ හැපිල එතන විඤ්ඤාණය පහළ වෙන අවස්ථාව හා පහළ වෙන්ඩ කලින් විඤ්ඤාණයේ ප්‍රාග් අවස්ථාව (මූලික අවස්ථාව) කියන මේ දෙකට යාගන්න පුළුවන් වෙනකොට ඕන් ආනාපානය නැති වෙලා ගියා වගේ පේනවා. ආනාපානය තිබූ තැනට ආලෝක සංඥාව එනව වගේ පේනව. විවිධ නිමිති පහළ වෙන්න පටන් අරගන්නවා.

මේ වෙලාව යෝග ජීවිතයේ ඉතාම සන්ධිස්ථානයක්, සමථ විපස්සනා යෝගාවචරයාගේ. මෙන්න මේ වෙලාවේදී තමයි හිත ඉන්ද්‍රිය පටිබද්ධ භාවයෙන් ගිළිහිලා, ඒ මූලික වූ අනින්ද්‍රිය පටිබද්ධ භාවයට යන්න හදන්නෙ. ඉතින් මෙතනදී නිත්‍ය සංඥාව බහුල, ඒ වාගේම ඇවිස්සිල්ලම පුරුදු කරපු, සන්සුන් භාවය සංහිඳියාව අගය නොකරන කෙනාට මේක මහ ව්‍යසනයක් වගේ පේනවා. මේක පේන්නේ ඇඟ හිරිවැටිල්ලක් වගේ, ක්ලාන්ත වීමක් වාගේ. අර "න

**සඤ්ඤාසඤ්ඤී නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී"** ආදී වශයෙන් අර කලින් තිබූ සංඥාවල මොනවත් අල්ලන්න බැරි තත්ත්වයකට අමුතු සංඥාවල් එන්න පටන් අරගන්නවා. ඉතින් ඒ ඇත්තෝ ඇස් දෙක ඇරල විජහට දුවනව කොහොම හරි පරණ පුරුදු මොකක් හරි සංඥාවක් ඇති කරගෙන තමන්ගේ පෘථග්ජන ලෝකේ තහවුරු කරගන්න. නමුත් මේ ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙන් අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයට යනකොට මේ කඩඉමත් පන්නන්න ඕනෑ. ඒ සංඥා හැලෙනවාමයි. හැලෙන්නෙ නැත්නම් තාම භාවනාව ගොරෝසුයි, රළුයි. භාවනාව මෝරගෙන හොඳට තහවුරු වෙලා එනකොට මේ සංඥාවල්, නුහුරු සංඥාවල්. නැතුවමත් නොවේ, නමුත් කියාගන්න බැරි තත්ත්වයකට පත් වෙනවා.

ඉතින් එතනදි සළුව ගසා දලා විජහට නැගිටල යනවා වෙනුවට තමන් මෙන්න මේ තත්ත්වය හාත්පසින්ම දකගන්න, පූර්ණ අවධි භාවයෙන්, දන් තමයි මම කඩඉමට පත් වුණේ, මම මෙතනදී අපේ අම්මල තාත්තල කරපු දේවල්වලට එහා යන්න හදන්නේ. අපි මේ පෘථග්ජන ලෝකය - මෙතනට ගැළපෙන විදියකින් කියනවා නම් කාම ලෝකය - ඉක්මවන්නටයි හදන්නේ. ඒක නිසා මේ වෙලාවේදි බුද්ධ ධම්ම සංඝ කියන ත්‍රිවිධ රත්නය සිහි කරගෙන ශ්‍රද්ධාවෙන්, හුළං වදින්නේ නැති තැනක පත්තු වෙන පහන් දැල්ලක් වාගේ, හොඳ විශ්වාසයෙන් මේක බලාගන ඉන්න පුළුවන් නම්, ඒ යෝගාවචරයාට ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයේ තියෙන ගොරෝසු තත්ත්ව ගෙවාදපු තරමට, ප්‍රඥප්ති ගෙවා දපු ප්‍රමාණයට, බොහෝම ප්‍රභාස්වර, පභස්සර වූ ඒ විඤ්ඤාණය දකගන්න පුළුවන්. සමහරු ඒක අල්ල බදගන්න ගිය නිසත් ආයේ පැටලෙනවා. සමහරු ඒ ලැබුණේ නෑ කියල කනගාටු වෙලත් ආයෙ වැටෙනවා. ඒ මොකද ඊට සුදුසු තලතුනාකම ඊට සුදුසු මේරිච්චකම ඇති කරගන්න කවුරුවත් උදව් කරන්නේ නැහැ.

තමන්ම එතෙනට ගිහිල්ලා මෙතනදී අවශ්‍ය කරල තියෙන්නේ **"සබ්බපාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා - සචිත්තපරියෝදපනං - එතං බුද්ධානසාසනං"** කියන විදියට මොනම දෙයක්වත් කරන්නේ නැතිව බලාගෙන ඉන්න එකයි. කරන ඕනෑම දෙයක් මේ වෙලාවට අකුසල් වෙනවා. අදක්ෂ මෝඩ තකතිරු අමන මරි මෝඩකම්

වෙනවා. ඒ වෙලාවට එහෙම්මම නොසැලී බලා ඉඳීම, 'සබ්බපාපස්ස අකරණං - කුසලස්ස උපසම්පද' කුසලයට එළඹ වාසය කරන්න දැනගන්න ඕනෑ. කුඩැල්ලා මෙට්ටය උඩ තිබ්බහම ඌට මහ වදයක් වගේ වැටහෙනවා. ඌ විජහට පෙරළිලා යනව සීතල අඳුරු තෙතබර කැලෑවට. මොකද ඌට ඒක සැපයි. ඒ වගේ තමයි අර ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයට මේ තත්ත්වය හම්බ වෙච්ච පුදුමාකාර බයක් තිගැස්මක් ඇති වෙනවා. ආන්න ඒකයි අර කලින් අපි මතක් කළේ මේ කාරණා කලින් මේ වගේ අහල තියෙන්න ඕනෑ, චින්තාමය වශයෙන් හිතන්න ඕනෑ, කල්පනා කරල තියෙන්න ඕනෑ.

ආන්න ඒ වෙලාවට ඒවා මතක් වුණොත් අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය කියන්නේ මේකයි, ඒ ලැබෙන සැප, ඒ වෙලාවේ ලැබෙන ඒ ශාන්තිය, සංහිඳියාව ඇහෙන් නෙමෙයි, කනෙන් නෙමෙයි, නාසයෙන් නෙමෙයි, දිවෙන් නෙමෙයි, කයෙන් නෙමෙයි, අමුතුම තැනක ඉඳල ලැබෙන්නේ. නමුත් ඒක තමන්ට උරුම නැත්තේ නැහැ. නෑ කියන්න බෑ. තදබල නින්දකදි අපට ලැබෙන ඒ ඉස්පාසුව, නින්ද යන්නේ නැති කට්ටියට ඒක හොඳට තේරෙනවා, නින්ද ගියාම එයින් ලැබෙන ඒ සැප ඇහෙන් ලැබිච්ච එකක් කියල කිව හැකිද? නාසයෙන්ද දිවෙන්ද කනෙන්ද එහෙම නැත්නම් අඩු ගානේ බුදියගෙන ඉන්න බෙඩ් ෂීට් එකවත් වැටහෙනවද අපට? වැටහෙන තාක් කල් නම් නින්දක් නෑ. ආන්න ඒ වගේ තමයි අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය එනකොට තර්ක මනස අතෑරලා, කාම ලෝකය අතෑරලා, අන්න හිත පිහිටුවන්න පුළුවන් රූප ලෝකේ. මොකද රූප අරමුණක් තමයි අපි අරමුණු කරන්නෙ. නමුත් ඒ රූපයට නිමග්න විම නිසා හිත භුක්ති විඳිනව යම් කිසි ස්වරූපයක් - බොහෝම ප්‍රභාස්වර හිතක්. "**පභස්සරමිදං භික්ඛවෙ චිත්තං තඤ්ච බො ආගන්තුකෙහි උපක්කිලෙසෙහි උපක්කිලිට්ඨං**" මෙතෙක් කල් තිබූ තර්ක ඥාන හැකියාවල් පුළුවන්කාරකම් සංස්කාර සංඥා ඔක්කොම උපක්ලේශ මයි. ඒ උපක්ලේශ ඔක්කොම අතහැරපු වෙලාවට සමථ භාවනාව කරන කෙනාගේ හිත ඒ රූප අරමුණේම ප්‍රකට වුණත් අප්‍රකට වුණත්, ප්‍රිය වුණත් අප්‍රිය වුණත්, අමනාප වුණත් මනාප වුණත්, ගොරෝසු වුණත් සියුම් වුණත්, එහිම නිමග්න වෙනකොට

තමයි මෙන්න මේ විදිහේ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයක් ලබන්න පුළුවන් වෙන්නේ.

නමුත් ඒකත් තාම කෙලෙස් ඇති කිරීමේ මූල බීජ සහිතයි. ඒකට අභිධර්මයේ භවාංග කියන්න පුළුවන්. මේකට සාමාන්‍යයෙන් සඳහන් කරන්නේ ධ්‍යාන චිත්තය කියල. එහෙම නැත්නම් මේ වාගේ ඉන්ද්‍රියන්ගෙන් තොර වෙච්චාම භවාංග චිත්තය කියල කියනව. විඤ්ඤාණ ශ්‍රෝත කියල සාමාන්‍යයෙන් සූත්‍ර පිටකයේත් සඳහන් වෙනවා. මහායානේ මේකට සඳහන් වෙලා තියෙනවා ආලය විඥානය කියල. එහෙම නැත්නම් මේකට අභිසංඛත විඤ්ඤාණය කියල කියන්න පුළුවන්. මොකක් හරි මෙතන තමයි අපි හිතන්නේ මමයා ඉන්න තැන. මගේ ආත්මය, නැත්නම් මගේ ආයතනය, මම හිටගෙන ඉන්න තැන. ඒක තමයි එක විධියකින් දුර්වල වීමක් විවර්ණ වීමක් සිද්ධ වෙන්නේ මේ ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙන් අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයට යනකොට. ඊට පස්සෙ තමයි කරනව නම් විපස්සනාවක් කෙරෙන්නේ. නැත්නම් කවදාවත් විපස්සනාවක් වෙන්න බැහැ. ඒ නිසා සමථය අත්‍යවශ්‍යයි. ඒක පිළිබඳ කිසිම වාදයක් මෙතන නගන්න දෙයක් නෑ. නමුත් මේ සමථය අර්පණාවක් වෙන්නම බැහැ. මොකද අර්පණාවේදී විපස්සනා කරන්න පුළුවන් ශක්තියක් නැහැ. අනිත්‍ය දුක්ඛ අනාත්ම දැනගන්න පුළුවන් ශක්තියක් නැහැ. අර්පණාවෙන් මේ තත්ත්වය හඳුන්වල දීල, එයින් ආයේ ගැලවෙන්න ඕනෑ. ගැලවිලා ආයේ කෙලෙස් එන්න අරින්න ඕනෑ. ආයේ සංස්කාර, සංඥා, වේදනා, රූප එන්න අරින්න ඕනෑ. ආන්න එහෙම ආවට පස්සෙ තමන් දැනගන්නවා, මේ හිත ප්‍රභාශ්වරයි. **සබ්බතො පහං අනිදස්සනං** හිතේ මූල ස්වරූපය ප්‍රභාස්වරයි. හාත්පසින්ම එළිය විහිදෙනසුලුයි. කාටවක්වත් පෙන්වලාදෙන්න බැහැ. අනිදස්සනයි. මේකට තමයි සර්වඥයන් වහන්සේ එක විදිහකට දේශනා කළේ

**"පභස්සරමිදං භික්ඛවෙ චිත්තං. තඤ්ච ඛො ආගන්තුකෙහි උපක්කිලෙසෙහි උපක්කිලිට්ඨං. තං අස්සුතවා පුථුජ්ජනො යථාභූතං නප්පජානාති. තස්මා 'අස්සුතවතො පුථුජ්ජනස්ස චිත්තභාවනා නත්ථී'ති වදාමී"**

මෙන්න මේ තත්ත්වය නොදන්න අශෘතවත් පුද්ගලයාට මොන චිත්ත භාවනාවක්ද? මොකද ඒ පුද්ගලයාට පේන්නෙ කවදවත් හිත අනින්ද්‍රිය පැත්තට යන්නත් බැහැ, කෙලෙස්වලින් ගලවන්නත් බෑ, මේක ප්‍රභාස්වර වෙන්න බැහැ. නිත්‍ය වශයෙන්ම ගොම ගොඩක් වාගේ කෙලෙස් බරමයි, ගලවන්නට බැහැ කියල ඒ තුළින් ලබාගන්න පුළුවන් ඉන්ද්‍රිය පටිබද්ධ සැප ලැබීම සඳහා සතුන් මැරුවත් කමක් නැහැ, හොරකම් කෙරුවත් කමක් නෑ, කාමයේ වරදවා හැසිරුණාට කමක් නෑ, බොරු කේලාම් කීවාට කමක් නෑ, සුරා පානය කළාට කමක් නැහැ, වැරදි ජීවන රටාව ගෙනිච්චට කමක් නැහැ කියල බාලම ලාබම ලන්සුවේ තමයි මේ අශෘතවත් පෘථග්ජනයා ක්‍රියාත්මක වෙන්නේ. ඉතින් ඒ මනුස්සයාට මේ ඉන්ද්‍රිය පටිබද්ධය නැති විඤ්ඤාණයක් ගැන හිතනකොට ඒක මහා විනාශයක්. හරියට මේ සමහර දේව නිකායවල තියෙනව, ඒ ඇත්තෝ කියනව දෙවියන් වහන්සේගේ රූපය ඇන්දෙත් ඒ මිනිහට ගල් ගහල මරන්න ඕනෑ. රූපයක් ඇඹුවොත් විනාස කරන්න ඕනෑ. කවදවත් කාටවත්ම බැහැ දෙවියන් වහන්සේ කොහොමද කියල හිතාගන්න. ඒ නිසා මොනම හෝ ප්‍රතිමාවක් පෙනෙන්න බැහැ. මොකද එහෙම පෙනුණොත් උන්දැලගේ ආගම ඉවරයි.

ඒ වගේ තමයි මේ පෘථග්ජන කෙලෙස් ගතිවලින් බර වෙච්ච කෙනාට අනිදස්සන විඤ්ඤාණයක්, ඉන්ද්‍රිය පටිබද්ධ නැති විඤ්ඤාණයක් දකිනකොට මහ විශාල බංකොලොත් භාවයක් ලැබෙනව. මොකද ඒක කිට්ටු කරනකොටම සංඥා ගැලවෙන්න පටන්ගන්නවා. තමන්ගේ තියන සංස්කරණය කරන ගති ගැලවෙන්න පටන් අරගන්නවා. එතකොට හරියට මේ ඇඳුම් ටික ගැලවිලා වැටෙනවා වාගෙ, හෙළුව එළියට ආවා වගේ. ඉතින් ඒ නිසා එවැනි කෙනෙකුට චිත්ත භාවනාක් හිතන්න අමාරුයි. අධිචිත්ත භාවනාවක් හිතන්න අමාරුයි. මොකද හැම වෙලාවෙම කල්පනාව තියෙන්නෙම ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයෙන් ලැබෙන මේ ගොරෝසු සංඥාවම තමයි. එයින් එහාට දෙයක් හිතන්නෙත් නැහැ. එයින් එහාට දෙයක් කියන්න ගත්තොත් පුදුමාකාර රණ්ඩු කරනව.

වේද සාහිත්‍යයේ කියනව හොඳ කතාවක්. ඉන්දියාවෙ තියෙනවාලු හොඳ පිවිතුරු වතුර තියෙන මානස විල කියල එකක්. දවසක් ඒකේ ඉන්න රණ හංසයෙකුට මේ පිරිසිදුකමේ ඉඳල ඉඳල ඌට හිතිල තියෙනව නිකමට වගේ ඒ මානස විලෙන් ගිහිල්ලා ටිකක් ඈතට යන්න. එතනට ගියාට පස්සෙ කණ කොකෙකුත් ගිහින් ඉවර වෙලා ඔය ගගේ වහල තියෙනවා. රණ හංසයා මේ කණ කොකාව දැකල හිතුවා කතා කරන්න ඕනෑ මේ හාදයට කියල, අපේ ජාතියේ කෙනෙක් නේ කියල. ඉතින් ගිහින් කතා කළාලු, කණ කොකා වැඩි කතාවට කැමැත්තක් නැතිලු. ඊට පස්සෙ මේ කොහේ ඉඳලද ආවේ කියල ඇහුවලු. ගම් කොනේ ඉඳල ආවෙ, හදිසියේ වාගේ මෙහෙම තැනකට ආවේ කියල කණ කොකා බොහෝම භය ලැජ්ජාවෙන් පැත්තකට වෙලා හිටියලු. ඉතින් හංසයා කිව්වවලු මං ඉන්න තැන මානස විල. ඒකට ගලන දෙලවල් පහකින් වතුර එනවා, කවදාවත් හිස් වෙන්නේ නැහැ. නෙළුම් මානෙල් පිපිල මම වගේ රණ හංසයෝ විශාල ගණනක් ඒකෙ ඉන්නවා. ඒක පුදුමාකර සුන්දර තැනක් කියල ඉතින් පුළුවන් තරම් අලංකාරව විස්තර කරනකොට කොකාට ගානක්වත් නෑ. මේ රණ හංසයා විස්තර කරල කරල ඉවර වුණාම කොකා ඇහැව්වලු, යාළුවේ, ඔය විස්තර කරන තැන මඩ කරි නැද්ද කියල. ඌට ඕනෑ කළේ දෝරෙ ගලන පිරිසිදු වතුරවත් නෙළුම් මානෙල්වත් නෙමේ, මඩ කරි. ඉතින් මඩ කරි නැති නිසා ඌට මානස විලෙන් ඇති වැඩක් නැහැ.

ආන්න ඒ වගේ තමයි මේ මඩ කරි කාල පුරුදු වෙච්ච පෘථග්ජනයට මෙච්චර මේ ලෝකේ විඳින්න පුළුවන් නිරාමිස සුවයක් තියෙනව, අඩුම තරමේ රූප ලෝකෙ, එහෙම නැත්නම් ක්ෂණික සමාධිය තුළින් එන්න පුළුවන් තත්ත්වය කියල කවදාවත් අදහන්නේ නෑ. ඒක අදහන්නේ නැති නිසා හැමදාම අර ගොරෝසු තැනමයි ඉන්නේ. නමුත් යම් කිසි කෙනෙක් ඒක ඉක්මවලා විඤ්ඤාණයේ තියෙන්න පුළුවන් ඇහැට, කනට, නාසයට, දිවට, කයට නොබැඳිච්ච ඒ ස්වරූපයට ගියා නම් ඔහුට තේරෙන්න පටන් අරගන්නවා මේ තුළත් ගැලීමක් තියෙනවා. නමුත් මේක නඩත්තු කරන්න බොහෝම අමාරුයි. ඒ මොකද පාසි තියෙන වතුර වළෙන් වතුර කළයක් ගන්න ඕනැ වෙච්චහම, කළෙන් එහාට මෙහාට පාසි අයින් කරල වතුර

කළයක් ගත්තාට, වතුර අරගෙන කළේ ආපහු ගන්නකොටම අර පරණ පුරුදු පාසි පඳුරු ආපහු ඇවිල්ල වතුර කඩ වහගන්නවා. ආන්න ඒ වගේ පොඩ්ඩක් එහෙ මෙහේ කරල බලනකොට නම් පේනව ඇතුළේ හොඳ ගැඹුරකට වතුර තියෙනව. නමුත් නිතරම පාසිවලින් වැහිල. තාවකාලිකව එහෙට මෙහෙට කළාට නැවත පාසි ඇදිල එනවා. ඒ නිසා මේක මහා පාපයක් කරදරයක්. ඒ නිසා මේ පාසි ඔක්කොම ඉවත් කරන්න ඕනෑ කියල අර පුද්ගලයා කරන්නේ ශීලය අධිශීලයක් බවට පත් කරගෙන චිත්තය අධිචිත්ත භාවනාවක් බවට පත් කරගෙන දිගටෝම අර වීතික්‍රම මට්ටමේ කෙලෙස් සම්පූර්ණයෙන්ම උගුල්ලලා දන්න පූර්ණ ප්‍රයත්නයක් කරනවා.

මෙහෙම යනකොට එයාට නිතරෝම අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය කියන එක හුරු දෙයක් බවට පත් වෙනවා. නමුත් තේරුම්ගන්නවා මේ තුළත් ගැලවුමක් නෑ කියල. මේක නිකන් යාන්තම් රබර් බෝලයක් අතින් යට කරගෙන ඉන්නවා වාගේ වැඩක්. අතහැරපු ගමන් පනිනවා. ඒ නිසා මේ අනුසය කෙලෙස්වල දෝසේ මේකෙ තියෙන්නේ, ඒකත් අයින් කරන්න ඕනෑ කියල යම් වෙලාවක චිත්ත භාවනාව ඉක්මවල ප්‍රඥා භාවනාවට ඉඩ ලැබෙන්නේ අන්න අර විදියට අනිදස්සන විඤ්ඤාණය (අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණය) පිළිබඳ යම් කිසි අදහසක් ඇති කෙනාට. එයා තේරුම්ගන්න පටන්ගන්නවා, ඉස්සර තරම් දැන් හිත විඤ්ඤාණයේ විචිත්‍ර නැහැ. රූප විෂයෙහි එච්චර දුවන්නේ නැහැ, දිව්වත් ඒක මෝඩකමක් බව දන්නවා. ශබ්ද විෂයෙහි දුවන එකත් මෝඩකමක්. ඒ නිසා මූල කර්මස්ථානයෙ යම් තාක් ඉතාම ශාන්තව ඉතාමත් නිවෙමින් පවතින්නා වූ තත්ත්වය ඒක අමෘතයක් සේ වැටහෙන්නට පටන්ගන්නවා. වෙන කෙනෙක් කිවූ බණකට වඩා තමන්ට දහසක් නයින් තේරෙනවා - දැන් යන්තම් හිත විපස්සනාවට වැටිල තියෙනවා, මධ්‍යම ප්‍රතිපදාව මේකයි, වෙන රූප ආවත් සද්ද ආවත් ගන්ධ ආවත් රස ආවත් අර මූල කර්මස්ථානයේම හිත නතර කරන්න ඕනෑ, එහිම සරණ යන්න ඕනෑ. ඒකෙන් අදහස් කරන්නේ නැහැ නිවන් දකින්නේ මූල කර්මස්ථානයෙන්මයි කියලා. නමුත් කෙලෙස් ඉවත් කිරීමේ වැඩ පිළිවෙළ මීට වඩා තියුණු මට්ටමට යන්න නම් අලුත් කෙලෙස් කන්දක් එක්ක වැඩ කරන්න යන්න නරකයි.

විෂ මරාගත්තා වූ මේ මාර්ගය දිගේම ඉදිරියට ගියොත් ඔහුට හොඳ දර්ශනයක් ඇති වෙනවා, ඇති හැටිය පිළිබඳව. ඒ වෙනකොට ඇහෙන් රූප බලනවයි කියල කියන්නේ මොන කරදරයක්ද, මොන ණයක්ද, මොන කැඹිරිල්ලක්ද? ඒ එන සංඥවල් ඔක්කොම අපි නොමග යවනසුලුයි. රූප නොපෙනෙනව නම් හොඳයි. ඒ නිසා සර්වඥයන් වහන්සේ මතක් කරන්නේ ඇස් ඇත්තේ නමුත් අන්ධයෙක් වෙන්න කියල. එහෙම නැතිව චීනක්කණ්නාඩි, දුර බලන කණ්නාඩි දාගෙන තව මේකට විකාර පෙන්නන එක නෙමෙයි. ඒ වාගේම තමයි කනට ශබ්ද ඇහෙනවයි කියල කියන්නේ හරියට පීරිගෑමක් වගේ දෙයක්. කන හූරන දෙයක්. නමුත් බීරෙක් වගේ ඉඳල බේරෙන්න කියලා කියනව. ඇගේ පතේ තියෙන හයිය, රණකාමී රණවීරයෙක් වගේ ඒ දක්ෂකම් පෙන්වන්න නෙමෙයි, කොන්ද පණ නැති කෙනෙක් වගේ බේරෙන්න කියල කියනවා. කල්පනාවල් එනව නම් මෙහේ යන් අරහේ යන් කියල අපට ආමන්ත්‍රණ එන වෙලාවට මැරුණ වගේ ඉඳල බේරෙන්න කියනව. ඒ මොකද එහෙම කරල හරි කමක් නෑ මේ අනින්ද්‍රිය පටිබද්ධ විඤ්ඤණය බේරගත්තොත් ඒක තමයි යෝගකම කියන්නේ. ඒක තමයි තපස කියල කියන්නේ.

ආන්න එතනින් එහාට තමයි විපස්සනාවක් සිද්ද වෙන්නේ. එතනදී පේන්න පටන් අරගන්නවා මේ ආගන්තුක උපක්ලේශ කියන එක අර අහක යන නයි ඔඩොක්කුවේ දාගන්න වැඩක්. ඒක අයින් කරන එක - ඒවා පිළිබඳ අනිත්‍ය සංඥවෙන් දුක්ඛ සංඥවෙන් බලන්න පටන් අරගත්තොත් ඉබේම ඒවා හැලෙන ගතියකට එනවා, අර කොහොල්ලෑ අල්ලන්න ඉස්සෙල්ලා පොල් තෙල් ටිකක් අතේ ගාගත්තා වාගේ. නමුත් එතන ලොකු සූරකමක් අවශ්‍ය කරනවා. ප්‍රඥවක් අවශ්‍ය කරනවා. ඒ නිසා සර්වඥයන් වහන්සේ දේශනා කරනවා **"පඤ්ඤ භාවෙතබ්බා විඤ්ඤණං පරිඤ්ඤෙය්‍යං"** භාවිත මනසකින් විඤ්ඤණය හාත්පසින් දැකගන්න. මෙන්න ඉන්ද්‍රිය පටිබද්ධ වෙච්චහම අපි හතරපස්දෙනෙක් අශ්වයෝ දාලා දුවන රථයක අශ්වයෝ හතරපස් දිශාවක දුවන්න ගත්තොත් රථයට මොකද වෙන්නේ කියල හිතාගන්න බෑ. ඒ වගේ තමයි ඉන්ද්‍රියන්ට අහු වෙච්ච ගමන් විඤ්ඤණය එහාට මෙහාට හොල්ලන්න පටන් අරගන්නවා. අනින්ද්‍රිය පටිබද්ධ වීම ඇරඹෙනකොට එක රූපාරම්මණයක්

තියෙනව. ඒකත් එක්කයි ගනුදෙනු යන්නේ. නමුත් එතනත් තියෙනවා තාම අනුශය කෙලෙස්. ආන්න ඒක පිහල දන්න නම් මෙන්න මෙන්න ඉන්ද්‍රිය පටිබද්ධ වෙච්චාම මෙයාගේ හැටි, මෙන්න නොවෙච්චාම හැටි, මෙන්න ඒ ඒ අල්ලාගත්ත රූපයත් බෙදෙමින්, එහෙම නැත්නම් නිර්වර්ණ වෙමින් නිර්වින්දන භාවයට යනකොට මොකද විඤ්ඤාණයට වෙන්නේ. මේන්න මේ විදියට විඤ්ඤාණය පරිඤ්ඤෙයය ලෙස, හාත්පසින්ම දැකගන්නවා.

ඉතින් යම් කිසි පෘථග්ජනයෙක්, ශෘතවත් ආර්ය ශ්‍රාවකයෙක් මේ බව දැනගෙන, පටන් අරගන්නකොට නම් පිම්බීම හැකිළීම ආනාපානය ගොරෝසුයි තමයි, ඒ වෙලාවේ ඒක හොඳට මෙනෙහි කරමින් එහි ඇත්තා අංග ප්‍රත්‍යංග ව්‍යංඤ්ජන අනුව්‍යඤ්ජන, අල ගිය මුල ගිය සේරම බලාගත්තා නම්, ආයෙ ඒකෙන් අපිව කුප්පන්න බැරි තත්ත්වයට ඒක බලාගත්තොත් එයාගේ ගනුදෙනු ඉවර වෙලා එයා පැත්තකට වෙනවා. පැත්තකට වෙච්චාම ඔන්න සංඥාව විසඤ්ඤත් නොවේ, අසඤ්ඤත් නොවේ, විභූත සඤ්ඤාවකුත් නොවේ. නමුත් හොඳට තමුන්ට තේරෙනව දන් අරමුණට මුහුණදගෙන ඉන්නවා. එහෙන් කුඹියෝ නලියනව වගෙත් දැනෙනවා. මෙහෙන් ශබ්දත් ඇහෙනවා. එහෙන් දඩිය දනවා. නමුත් ගානක්වත් නැතුව ඉන්න පුළුවන්. නමුත් ගණන්ගන්න පටන්ගත්තොත් ඉතින් අල්ලපු ගෙදරටත් බැන බැන, භාවනා කරන අයටත් බැන බැන නැගිටින්න පුළුවන්. එතනදී උපකාරී වෙන්නේ ගානක් නොගෙන ඉඳීමයි. ඇස් ඇත්තේ නමුත් අන්ධයකු සේ ඉන්නවා.

ආන්න ඒ විදියට මේ අල්ලගත්ත කොටු කරගත්ත මූල කර්මස්ථානයේම එක දිගට පැවැත්වීම නම් යෝගාවචරයින්ගෙන් සියයට 85 ක් 90 ක් පරදින වරදින තැනක් මම හිතන්නේ. මේ ගැන කියනකොට මම නිතර මතක් කරන දෙයක්, මේක යෝගාවචරයින්ට විතරක් නෙමෙයි කර්මස්ථාන ආචාර්යවරුන්ට වැරදිච්ච තැනක්. හුඟදෙනෙක් මේ වෙලාවට අලුතෙන් කුණු ගෙනත් දලා නාඩගම පටන්ගන්න හදනව. නමුත් මේ ගෙවීගෙන යන නාඩගම ගෙවා දැමිය යුත්තක් බව දන්නේ නැහැ. ඒ නිසා යෝගාවචරයා හරියට තමන්ට ඇති වන අත්දැකීම් කර්මස්ථාන ආචාර්යවරුන්ට වාර්තා කරනව නම්,

කොච්චර වැරදි සහිත තැන් තිබුණත් ඒකෙ ඇති ප්‍රශ්නයක් නැහැ. අපි කව්රුත් වැරදි වැරදි තමයි ගොඩ එන්නේ. පර්යේෂණයකින්මයි ගොඩ එන්න තියන්නෙ මිසක ඒ විඤ්ඤාණයෙන් ගැලවීමක් හම්බ වෙන්නෙ නැහැ. කරන්න තියෙන්නෙ එහි ඇත්තා වූ ඒ විෂ මැරීමයි. ඒ විෂ මැරීමේ වැඩ පිළිවෙළ තමයි ඉන්ද්‍රිය පටිබද්ධ තැනින් අනින්ද්‍රිය පටිබද්ධය තැනට ගිහිල්ල ඊට පස්සේ ඒකටත් හේතු වන්නා වූ ඒ අරමුණ විෂයෙහිම, ඍජු මනසිකාරයකින් ගෙවාදන වැඩ පිළිවෙළකට ගියොත්, සර්වඥයන් වහන්සේ දේශනා කරනව අශෘතවත් පෘථග්ජනයා ඒ ඇති වන විඤ්ඤාණය අනිත්‍ය එකක් බව, දුක් සහිත එකක් බව දන්නවා.

ඒ නිසා භාවනා කරන්න කරන්න අං තට්ටු දෙකක් පලඳිනව නෙමෙයි. නැත්නම් රජ වෙන්න හදනව නෙමෙයි. අභිෂේක ලබනවත් නෙමෙයි. වඩාත් හොඳට දුක්ඛ සත්‍යය වැටහෙන්න පටන්ගන්නවා. ඒ නිසා කාටවත් එහෙම හිතෙන්නේ නෑ. මට මෙච්චර දෙයක් ලැබුණ කියල කවදාවත් ප්‍රීති සම්භාෂණ පවත්වන්න දෙයක් නෑ, මොකද ලැබිච්ච දෙයක් නෑ. ලැබෙන්නේ දුකේ පරිඤ්ඤෙයය භාවය. විඤ්ඤාණ පරිඤෙඤයය කියන්නේ දුකේ පරිඤ්ඤෙයයම තමයි. ඉතින් මේකේ විකුණන්න දෙයක් ඇත්තේ නෑ. නමුත් ඒ පුද්ගලයාට තේරෙනව අම්මා මුත්තා කාලෙදිවත් මෙහෙම දෙයක් නම් වින්දේ නෑ. මෙහෙම දෙයක් අගය කරන්න දෙන්නෙත් නෑ. දැන් ඒකට අවස්ථාව ලැබිලා තියෙනවා. ඒ නිසා අරගත්ත ශීල ශික්ෂාවත් අධි ශිල ශික්ෂාවක් විදියට දිගට වැඩි වෙන්න ඕනෑ. ගත්ත සමාධිය චිත්ත භාවනාව, අධිචිත්ත භාවනාවක් බවට පත් වෙන්න ඕනෑ. ඒ තුළදී ඔහු තුළ දශ සඤ්ඤාවම වැඩෙන්න ඕනෑ. අනිච්ච සඤ්ඤා අනත්ත සඤ්ඤා අසුබ සඤ්ඤා ආදීනව සඤ්ඤා ආදී වශයෙන් නිතර මෙනෙහි කරන්න ඕනෑ. මෙනෙහි කරමින් එව්වාට ආශා කරන, ලොල් කරන, ආස්වාද විඳින තත්ත්වයෙන් පුළුවන් තරම් අයින් කරල අනුග්‍රහ කරන්න ඕනෑ. ඒකටයි මේ භාවනා මධ්‍යස්ථාන තියෙන්නේ. ඒකටයි බුද්ධෝත්පාද කාලෙ කියල කියන්නේ. ඒකටයි සත්පුරුෂ සේවනය කියල කියන්නේ. ආන්න එහෙම කරන්න පටන් අරගත්තට පස්සෙ නම් විඤ්ඤාණයේ තියෙන අනිදස්සන ස්වරූපය 'සබ්බතො පභං' හැම

පැත්තෙන්ම ඒක ප්‍රභාස්වර බව, කාටවත් විස්තර කරල දෙන්න බැරි අනිදස්සන ස්වරූපය හොඳට තේරෙන්න පටන් අරගන්නවා.

නමුත් කර්මස්ථානයට අදාළව කතා කරනකොට නම් ඒ කියාගන්න බැරි දේ වුණත් යම් විදියකට සන්නිවේදනය කරගන්න පුළුවන්. ඒ නිසා ඒ පුද්ගලයාට අවශ්‍ය කරනවා ව්‍යාකරණ. ඒ වාගේම විඤ්ඤප්තියත් අවශ්‍යයි. විඤ්ඤාණය අත් දකින හැටි අනුන්ට සන්නිවේදනය කිරීම අවශ්‍යයි. ඒ නිසා ඊට කලින් ඇති කරගත්ත අර දීර්ඝ අවබෝධය අවශ්‍යයි. ඒ තුළින් තමයි සන්නිවේදනය සිදු වන්නේ. සාරිපුත්ත මොග්ගල්ලාන උත්තමයින් වහන්සේලා නම් අස්සජී මහ රහතන්වහන්සේගේ වචනය ඇහෙනකොටම එක සැරේම දහසක් නයින් තේරුම්ගත්තා. නමුත් දැන් කාලේ භාවනා කරන හුඟක් යෝගාවචරයින් අපිට සලකන්න වෙන්නේ නෙය්‍ය පුද්ගලයින් වශයෙන්. එහෙම නැත්නම් පදපරම වශයෙන්. නෙය්‍ය පුද්ගලයින් කියල කියන්නේ මේ ජීවිතයේ හුඟක් පොරකාල ධර්මය අවබෝධ කරගන්නවා කියන එක. ඒ සඳහා අපිට මේ විස්තර විභාග අහන්න සිද්ධ වෙනවා කියල ලැජ්ජා වෙන්න නරකයි. මෙච්චර කෙරුවත් අපිට තාම බැරිවුණා නේ කියල හිත වට්ටගන්න නරකයි. අපිට හිතාගන්න තිබෙන්නේ මේ ටිකටවත් කරන මෙච්චරයි ඉන්නේ ලෝකේ. අනෙක් ඔක්කොමලාට තියෙන්නේ මෙයට අමතරව ඉඳුරන් පිනවීමේ සටන. ඒ නිසා ඒ ඇත්තන්ට මේ අන්ධ පෘථග්ජන භාවයත්, අපි මේ කරන උත්සාහයත් අතර ලොකු වෙනසක් තියෙනවා. විශේෂයෙන් මතක තියාගන්න ඕනෑ, මේකට කිසිම කෙනෙක් කවදාවත් ආශීර්වාද කරන්නේ නැහැ. ඒ ඇත්තන්ට පේන්නේ අපි මේ කරන වැඩේ කවදාවත් සිඳින්නට බැරි ළිඳක් හිඳින ලේන් වලිගයක් වගේ.

විස්තර වශයෙන් බලනකොට අපිට තේරෙනව. මේ වාගේම ඒක තේරුම් අරගන්නේ නැතුව නම් අපේ හිත හදාගන්න අමාරුයි. එහෙම හිත හදාගන්නේ නැතුව අපිට අමාරුයි මේ ශ්‍රමණ ධර්ම සම්පූර්ණ කරන්න, යෝග ධර්ම සම්පූර්ණ කරන්න. ඒ සඳහා අවශ්‍ය කරන ධර්ම ඕජාවයි මේ ලැබෙන්නේ. ඒ නිසා අපි ඒක ආදරයෙන් බාරගන්න ඕනෑ. බාර අරගෙන මේ තාක් කල් වෙච්ච අත්වැරදි

තියෙනව නම් කිසි සේත්ම පශ්චත්තාපයකින් තොරව නැවත සලකා බලන්න ඕනෑ, මේවා සංස්කාරද? එහෙම නැත්තම් මේවා යථාභූතද? ඒ යථාභූත ඥාණ දර්ශනය පහළ වෙනකොට තමයි, මේ විඥ්ඥාණය පිළිබඳ යම් කිසි හැඟීමක් ඇති කරගන්න පුළුවන් වෙන්නේ. උන්දැගේ වැඩ ඒ හැඟීමෙන්ම හමාරයි. මැජික්කාරයා, මැජික්කාරයා බව දැනගත්තට පස්සේ එයාට අපිව ආයේ නලවන්න හම්බ වෙන්නේ නෑ. ඒ වාගේ තමයි විඥ්ඥාණය පරිඥ්ඥෙයය කරගත්තට පස්සේ එයා නටනව දිගටම කැඩිච්ච හූනු වලිගයක් වගේ. නමුත් ඒ නටන්නේ නතර වෙන්නයි. ආන්න ඒ විශ්වාසය ඇති වුණාට පස්සේ නම් ඒ යෝගාවචරයා විපස්සනා යෝගාවචරයෙක්. ඒ වාගේම ආස්වාද ආදීනව නිස්සරණ කියන තුන් කොට්ඨාශය දන්න කෙනෙක්. චතුරාර්ය සත්‍යයට තමයි යොමු වෙන්නේ.

ඒ නිසා අපි ලැබෙන කාලය අනුව මේ විස්තර කරගත්තා වූ, මේ තාක් කල් කරගෙන ගිය මේ විග්‍රහයේ පඤ්චස්කන්ධය, පංචඋපාදන ස්කන්ධය පිළිබඳ යම් කිසි අත්දැකීමක් ලබාගන්න පුළුවන් වුණා. අපි බලමු මේවා පිළිබඳව සමාලෝචනයක් කළාට පස්සේ ඊගාවට තියෙන ආයතන පබ්බයට මාරු වෙන්න. ඒ තාක් කල්, ගෞරවයෙන් යුක්තව ධර්ම ශ්‍රවණය කිරීමෙන් ඉගෙනගත්තා වූ මූලධර්ම කොටසුත් ඒ වාගේම මේ හැම කෙනෙක්ම දවසේ පැය 24 න් වැඩි කොටසක් යොදවල ලබාගන්න මේ අත්දැකීමුත් සම්පූර්ණ වීමෙන්, සියලුදෙනාටම ඒ සබ්බතො පහ වූ අනිදස්සන වූ විඥ්ඥාණය අත්දැකගන්න ලැබේවා කියන ආශීර්වාදයත් එක්ක, කරුණා මෛත්‍රී බර ආශිංසනයත් එක්ක අද ධර්ම දේශනය මෙතෙකින් හමාර කරනවා.

# 45 | විඤ්ඤාණ ස්කන්ධය

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**"ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති, බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති, අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. සමුදය ධම්මානුපස්සී වා ධම්මෙසු විහරති, වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති, සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති.**

**අත්ථි ධම්මා'ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති. යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති, න ච කිඤ්චි ලොකෙ උපාදියති.**

**එවම්පි ඛො භික්ඛවෙ, භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු ති."**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. මේ නිමාවක් දකින්න හදන්නේ ධම්මානුපස්සනාවේ ස්කන්ධ පබ්බය. ධම්මානුපස්සනාව කියන්නේ සතර සතිපට්ඨානයේ අවසාන සතිපට්ඨාන කොටසයි. එහි පර්ව වශයෙන් කීපයක් සඳහන් වෙනවා. එකක් තමයි නීවරණ පබ්බය. දැන් අපි මේ මතු කරගෙන නිමාව දකින්නට හදන්නෙ ස්කන්ධ පබ්බය. ඊගාවට ආයතන, බොජ්ඣංග, චතුරාර්ය සත්‍යය වශයෙන් පර්ව කීපයක් තියෙනවා.

ඉතින් එව්වා ඔක්කොම ශ්‍රී සද්ධර්මයේ ගම්භීර ධර්‍ම කොට්ඨාශ බව බෞද්ධ අබෞද්ධ කවුරුත් පිළිගන්න දෙයක්. කොහොම නමුත් සතිපට්ඨාන සූත්‍රය බොහෝම ගෞරවයට, ආදරයට ලක් වෙච්ච සූත්‍රයක්. එයිනුත් ධම්මානුපස්සනා කොටසට යනකොට ඒ ගම්භීරත්වය අර ගරුභාවනීය භාවයට බොහෝම හේතු වෙනවා. ඉතින් මේ පඤ්ච උපාදානස්කන්ධ, නැත්නම් පඤ්චස්කන්ධ පිළිබඳව අපි සති කීපයක් එක එක ස්කන්ධය වශයෙන් අරගෙන සාකච්ඡා කරන්නට යෙදුණා. මේක එහෙම ඉගෙනගැනීම සඳහා දැනගැනීම සඳහා එහෙම කොටස් කරලා බැලුවත්, එහෙම කොටස් කොටස් වශයෙන් ජීවත් වෙන ස්වරූපයක් නෑ. ඒවා ඔක්කෝගෙම තියෙන්නෙ එක ස්කන්ධ ස්වරූපයක්. පඤ්චස්කන්ධයම එක ස්කන්ධයක්. එක පුද්ගලයෙක්, එක සතෙක්, එක ආත්මයක් තමයි අපි අල්ලගෙන තියෙන්නේ. මේ අල්ලගෙන තියෙන එක, ඒ පුද්ගල ආත්ම සත්ත්ව සංඥාව, බිඳීමේ අදහසින් මූලධර්ම මට්ටමෙන්, චින්තාමය මට්ටමෙන් බිඳීමේ එක අත්වැලක් තමයි, ඒක නාම රූප වශයෙන් අඩු ගානෙ දෙකක් කොට සලකන්නට උත්සාහ කිරීම. ඒක ආගමික විශ්ලේෂණයක ස්වභාවය. ඊට පස්සෙ එයිනුත් ඇත්තා වූ මේ නාම රූප කියනකොට නාම කියන කොටස ඉස්සෙල්ලා සඳහන් කළත් ඒක බොහෝමත්ම සූක්ෂ්මයි. රූප වාගේ මනින්න කිරන්න අතගාන්න අත්දකින්න අමාරුයි. නමුත් නෑ කියලා කියන්ඩ බෑ.

අන්න ඒ විෂයෙහි වැඩි විස්තර විභාගයක් තමයි මේ පඤ්චස්කන්ධ විභාගෙදි කෙරෙන්නෙ. ඒ නාම කියන කොටස වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියලා හතරකට කඩනවා. රූප, රූප වශයෙන්ම පෙන්නනවා. එතකොට පහයි. මේ පහෙනුත් ඉස්සර වෙලාම දක්වන්ට වටින්නා වූ රූප ස්කන්ධයට පස්සෙ නාමය තේරුම්ගන්ට ඉතාමත්ම පහසු සාමාන්‍ය ව්‍යවහාරයේ පවතින වේදනා ස්කන්ධය. ඒක අර රූප ස්කන්ධයට වැඩිය සියුම් ගැඹුරු භාවයක් දක්වනවා. පළල් භාවයක් දක්වනවා. ඊගාවට සඤ්ඤා ස්කන්ධයට ගියාම, සංස්කාර ස්කන්ධයට ගියාම, විඤ්ඤාණ ස්කන්ධයට ගියාම ඒ ප්‍රදේශයේ ප්‍රධාන වශයෙන්ම දර්ශන විද්‍යාවට ගැළපෙන විදියට බොහොම ගැඹුරක් තියෙනවා. වේදනා ස්කන්ධය සාමාන්‍යයෙන්

සමාජ තත්ත්වවලට මේ ලෝකයේ තියන සෞන්දර්ය විෂයවලට පොහොර දනවා. ඒ සඤ්ඤා, සංස්කාර, විඤ්ඤාණ කියන කොටස් තුන දර්ශනය වශයෙන්, බෞද්ධ දර්ශනය හෝ ලෝකේ තියෙන දර්ශන විෂයෙහි බොහොම විස්තර හොයන දෙයක්. ඒක නිසා ඒ මූලධර්ම පැත්තෙන්, නැත්නම් දර්ශනවාදීන් විසින් කල්පනා කරන විදියට තර්ක විද්‍යා, එහෙම නැත්නම් චින්තාමය පැත්තෙන් ගත්තොත් ඒවා දියුණු වෙලා තියෙනවා. කිසිම ප්‍රායෝගිකත්වයක් නැති සම්පූර්ණ ප්‍රපංච ගොඩක් බවට පත් වෙන තරමට දියුණු වෙලා තියෙනවා. නමුත් ඒකත් ඥාන විභාගයක් විදියට, ඥානය පිළිබඳ ගම්භීර තත්ත්වයක් විදියට විවිධාකාර උපාධි පිළිගැන්වීම් කරනවා. නමුත් ඒ කරන සඤ්ඤා, සංස්කාර, විඤ්ඤාණ විභාගයෙන් සෝවාන් වෙච්ච කෙනෙක්වත් රහත් වෙච්ච කෙනෙක්වත් ඇතුවයි කියලා හිතන්ඩ නම් බෑ.

ඒ නිසා ඒ කියන ගැඹුර අපි නිතරෝම නිකම්ම නිකං මූලධර්ම පැත්තකට යොමු කරන්ට ගිහින්, අපි හුදු නම්බුවක් හිතට ගන්ට කල්පනා කරගන්න නරකයි. එතකොට අපි උපපථ මනසිකාරයට වැටෙනවා - අයෝනිසෝ මනසිකාරයට. අපිට අවශ්‍ය වෙනවා, මේ බුද්ධ දේශනාවේ සඳහන් වෙන විදියට මේ විස්තර විභාගය අවශ්‍යයි. ඒ අවශ්‍ය භාවය මොකටද? අපිට යෝනිසෝ මනසිකාරය ඇති කරගන්ඩයි. ඒ යෝනිසෝ මනසිකාරය කියන මනසිකාර ක්‍රමය නැතුව කවදාවකවත් අපිට ඒ ධර්ම තුළින් නිදහසක්, විමුක්තියක් ලබාගන්නට අමාරුයි. වෙන විදියකට කියනවා නම්, ඒ රූපවලටත් එකයි, වේදනාවටත් එකයි, සංඥා සංස්කාරත් විඤ්ඤාණත් කොයි එකත් එකයි. එව්වා ගැන ඉගෙන ගන්නෙ සාක්කුවෙ දාගෙන තියාගන්ඩ එහෙම නෙවෙයි. මෙව්වායින් ගැලවීමේ අදහසටයි. යෝනිසෝ මනසිකාරයටයි. ඒ නිසා මෙව්වා ගැන දැනීම නම්බුවක් කරගන්නට අමාරුයි. නම්බුවක් වුණා නම්, එතන ඒකාන්තයෙන්ම ඇල්ලීමක් තියෙනවා. සියුම් වශයෙන් හෝ ඇල්ලීමක් තියෙනවා. අන්න ඒ ගැන වග බලාගන්න ඕනෑ. ඒක මේ වගේ ධර්ම කොට්ඨාශ ආශ්‍රය කරන කොට මේ වාගේ භාවනා කරන පිරිසකට හැර, වෙන ඇත්තන්ට නරකට හිටින්ට ඉඩ තියෙනවා.

ඒ අනුව කල්පනා කරගන්ට ඕනෑ අපිට කවදාකවත් මේක කටු ඔටුන්නක් වගේ ඔළුවේ බැඳගන්නවත්, එහෙම නැතුව අපේ තියෙන මාන්නවලට පොහොර දමන්නවත් නෙමෙයි. මේ කරගෙන යන වැඩේ විස්තර විභාග දක්වන මේ ථෙරවාද ක්‍රමයට අපි කියනවා, බෙදා දක්වන ක්‍රමයක්ය කියල. ඒ බෙදා දක්වන ක්‍රමය පැත්තෙන් තමයි අපි මේ බලන්නේ. ඒක සම්බන්ධයෙන් සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරහත්, සම්බුද්ධ යන යම් ආර්යයන් වහන්සේලා යමක් දේශනා කරලා තියෙනවා නම්, ඒක අපි අගය කරන්න ඕනෑ. උන්වහන්සේලා ඒ තත්ත්වයට පත් වෙලා, මේ රූපය, මේ වේදනා, මේ සංඥා, මේ සංස්කාර, මේ විඤ්ඤාණ කියන යම් විස්තර කොට්ඨාශයක් ගෙනාවා නම්, ඒක අපේ යෝනිසෝ මනසිකාරයට උදව් උපකාර වෙනවා.

මේ විදිහට පටලැවීමේ අදහසින් බැලුවත් රූපයට වැඩිය වේදනාව පටලවනසුලුයි. සංඥාව ඊට වැඩිය පටලවනසුලුයි. සංස්කාර ඊටත් වැඩිය පටලවනසුලුයි. අන්තිම ගැටේ තමයි විඤ්ඤාණයේ තියෙන්නේ. ගම්භීර භාවයෙනුත් එහෙමයි. ඒ වාගේම ධර්ම අවබෝධය වෙන්ට වෙන්ට වෙන්ට රූපවල ඉඳලා වේදනාවට ඒ පුද්ගලයාගේ අවබෝධය විහිදෙනවා. වේදනාවෙන් සංඥාවට, සංඥාවෙන් සංස්කාරවලට, විඤ්ඤාණයට යනවයි කියලා දිගට බේරුමක් ඇතුව කියන්න පුළුවන් ඒ උත්තරේ. ඒ නිසා විඤ්ඤාණය ගත්තහම ආත්මය රඳා පැවතිලා තියෙන මූලිකම ආසනය ඒකයි කියල හිතුවා මේ අනෙකුත් මිථ්‍යා දෘෂ්ටික නිකාය. ඒ නිසා ඒ ඇත්තෝ කිව්වා උඩින්ම තියෙන්නේ රූප කෝෂය. ඊගාවට වේදනා කෝෂය, ඊගාවට සංඥා කෝෂය, ඊගාවට සංස්කාර කෝෂය. ඊගාවට අන්තිමට තමයි විඥාන කෝෂය තියෙන්නේ කියල. ඒක තමයි හරය, ඒක තමයි මේ ආත්මයේ හරය. ඒ නිසා ඉස්සෙල්ලාම අපි රූප දැනගෙන ඒ තුළින් වේදනාවට බහිනවා. වේදනාවෙන් ඒ සිවිය ගලවල දැම්මට පස්සේ ඔන්න ඊගාවට සංඥා කියලා ස්තරයක්, කෝෂයක් හම්බ වෙනවා. ඒ කෝෂය විදගෙන ගියාම ඔන්න අපිට හම්බ වෙනවා සංස්කාර කියල එකක්. ඊට පස්සේ තමයි විඥානය දැකගන්න පුළුවන්. ඒක නිකන් අර කරඬු හතඅටක් මැද තැන්පත් කරලා තියෙන ඉතාම වටිනා දෙයක් වාගේ. ඒ නිසා ඒ ආගම්වල විඥානයට මහා ලොකු

අගයක් ආඩම්බරයක් එන ගතියක් - හරියට ආත්මය වාගේ, පරමාර්ථය වාගේ, මැවුම්කාරයා ඉන්න තැන වාගේ සලකන ගතියක් - තියෙනවා.

ඉතින් ඒකට හේතුව මොකද, ඒක ඒ තරම්ම ශූනය ඇති කරන්නත් පටලැවිල්ල ඇති කරන්නත් හේතු වෙන පුදුමාකාර මායාකාරී ස්වරූපයක්. සර්වඥයන් වහන්සේ මේකට කිව්වේ මායාකාරයා කියලා. ලෝකයේ තියෙන මේ ලීලාවන්, ලෝකයේ තියෙන මායාවල් අතර බලනකොට ඒ නම් පටබැඳිල්ල බොහොම ගැළපෙනවා. මේ මායාකාරයාට, අපි ගිය සතියේ ඉදිරිපත් කරගත්ත විඤ්ඤාණ ස්කන්ධයට කවමදාවත් පෞද්ගලිකත්වයක් ඇති කරදීමට හේතු වෙන්නා වූ රූප, වේදනා, සංඥා, සංස්කාර නැතුව මේ නාඩගම, මේ මවාපෑම, මේ මායාව කරන්න බෑ. ප්‍රධාන වශයෙන්ම සතෙකුට පෞද්ගලිකත්වය අරන් දීමට හේතු වෙන්නේ රූප ස්කන්ධය. ඊගාවට වේදනා, සංඥා, සංස්කාර. මේ නිසා රූප, වේදනා, සංඥා, සංස්කාරවලට කියනවා විඤ්ඤාණට්ඨිති කියලා, විඤ්ඤාණය පිහිටි තැන. විඤ්ඤාණයේ සාමාන්‍ය කෘත්‍යය වශයෙන් පෙන්නලා දීලා තියෙන්නේ මේ රූපය, මේ වේදනාවය, මේ සංඥාවය, මේ සංස්කාරය කියල හඳුනාගැනීම. සිත හිතන කෘත්‍යයට යනවා, චින්තනයට යනවා. විඤ්ඤාණය. මේ විදිහට රූප, පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන කොටස් ආකාශ කියන අරූප කොටසත් එක්ක වෙන් කොට දැනගැනීම සඳහා විඤ්ඤාණය අවශ්‍යයි. විඤ්ඤාණය තමයි ඒ පඨවි, ආපෝ, තේජෝ එකිනෙකට වෙන් කරලා දක්වන්නේ.

ඒ වාගේම තවත් විස්තර කරලා කියනවා නම්, පඨවියේ ඇති වීම මෙහෙමයි, පැවතීම මෙහෙමයි, නැති වීම මෙහෙමයි කියලා යම් කිසි විදියක තෝරලා බේරලා දක්වීමක් කරන්නේ විඤ්ඤාණය. ඊගාවට ඒක රූපස්කන්ධය කියලා අල්ලන්න පුළුවන්, අතගාන්න පුළුවන් කොටසෙයි කියලා, ඒවා රුප්පන ගතිය තියෙනවයි කියලා, කුණු වෙන පැසවන ගතිය තියෙනවයි කියලා, වයසට යන ගතිය තියෙනවයි කියලා. ඊට වෙනස් වූ වේදනා නම් වූ නාම ස්කන්ධය රූපයෙන් වෙන් කොට හඳුනාගන්නෙත් විඤ්ඤාණයෙන් තමයි. ඒ වේදනාවේ සුඛය තියෙනවා, දුක්ඛය තියෙනවා, අදුක්ඛමසුඛය

තියෙනවා, සෝමනස්සය තියෙනවා, දෝමනස්සය තියෙනවා කියල නම් පටබැඳලා, එක එක වෙන් කරලා පොදි බැඳලා අඳුනාගන්නෙත් විඤ්ඤාණයෙන්. ඊගාවට සඤ්ඤාව අරගත්තාම ඒ එක එක සඤ්ඤාවල්, අසඤ්ඤා සඤ්ඤා, විසඤ්ඤා සඤ්ඤා, විභූත සඤ්ඤා ආදී වශයෙන් මේ සෑම සඤ්ඤාවක්ම එකිනෙකින් වෙන් කරලා දැනගන්නෙත් විඤ්ඤාණයෙන්. ඊට පස්සේ ඒ දකින කොටස් ඔක්කෝම එක චිත්තක්ෂණයක, කොටින්ම කියනව නම් ඇහැට, කනට, දිවට, නාසයට, කයට, මනසට එන ඔක්කෝම දැනගන්න බැරි නිසා එයින් ගන්න පුළුවන් එක අරගෙන ඒකෙන් සම්පූර්ණ චිත්‍රයක් හදල මවල පෙන්නන්නෙත් විඤ්ඤාණයෙන්ම තමයි. අපි එක චිත්තක්ෂණයක දකිනකොට, ඇහුණ ඒවත් තියෙනවා ඒකෙ. ඒ අහපු දේවලුත් දකින දේවලුත් දකින දේවල්වල ගඳ බලපු දේවලුත් තියෙනවා, රස බලපු දේවලුත් තියෙනවා, අල්ලපු දේවලුත් තියෙනවා වාගෙ කියලා අර දැකපු එකට අනිකුත් ඔක්කොම හේත්තු කරලා එතන සම්පූර්ණ ආත්මයක් මවන එක විඤ්ඤාණයෙන් කරන්නේ.

එතකොට ඒ විඤ්ඤාණය, ඒ ආත්මය මවාගන්නේ කොහොමද? චිත්තක්ෂණ රාශියක හම්බ වෙන දේවල් - එක වෙලාවක දකින දේවල්, එක වෙලාවක අහන දේවල්, එක වෙලාවක ගඳ බලන දේවල්, එක වෙලාවක රස බලන දේවල්, එක වෙලාවක අතගාලා බලන දේවල් - ඔක්කෝම එකතු කරලා කෑලි කෑලි එකතු කරලා අලුතෙන් සතෙක් හැදුවා වගේ ආන්න මවල පෙන්නනවා. ඒකට ස්කන්ධ කියල කියන්නේ රාශියක් කියන අදහසින්ම නෙවෙයි. අතීත, අනාගත, පච්චුප්පන්න කියන තුනම ගුලි කරනවා මේකෙන්. පළවෙනි චිත්තක්ෂණය දකිනවා, දෙවෙනි චිත්තක්ෂණයෙන් අහනවා, තුන්වෙනි චිත්තක්ෂණයෙන් ගඳ බලනවා. ඔක්කෝම එකට දැක්කා වාගේ ඕන්න සංස්කරණය කරලා දෙනවා. මේ කෘත්‍යය, සංස්කෘතිය, සංස්කරණය කිරීම, සංස්කාර කියල කියනවා. මේ සේරම කරන්නේ විඤ්ඤාණය. නමුත් ඒක තිරිසන් සතාගෙත් සිද්ද වෙනවා. යම් කිසි ප්‍රදේශයක ඇති පොහොර, එතනින් ගියාම ආලෝකය, ජලය තෙතමනය වගේ දේවල් හඳුනාගැනීමේ ශක්තියක් ගස්වලත් තියෙනවා. නමුත් පුදුම වැඩේ, බැලු බැල්මටම ගස්කොළන්වල සෝක

පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස නෑ. සමහර විදිහකට පරිසරයට සංවේදී භාවයක් තියෙනවා. නමුත් සත්ත්වයා ළඟට එනකොට, සත්ත්ව කොට්ඨාශ ළඟට එනකොට සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියලා අලුත්ම කොට්ඨාශයක් තියෙනවා. ඒකට තව එකතු කරත හැකියි - ජාති, ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස.

මෙන්න මේ සෙල්ලම් ටිකට, නැත්නම් දුක්ඛ සත්‍යයේ මේ හරස්කඩට ප්‍රධාන වශයෙන්ම හේතු වෙන්නේ රූප, වේදනා, සඤ්ඤා, සංස්කාර, විඤ්ඤාණ කියන මේ ටිකයි. ඒ නිසයි ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ සර්වඥයන් වහන්සේ දුක්ඛ ස්කන්ධය ගැන කියනකොට "**සංඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා**" කෙටි කරලා කියනව නම්, පුංචි කරලා කියනව නම්, තේරුම්ගන්න පහසු විදිහට සංක්ෂිප්තව කියනව නම්, මේ පංච උපාදනස්කන්ධයම දුකක්. ගස්කොළන්වලට මෙහෙම සෝක, පරිදේව, දුක් දෙම්නස් නැති වෙන අතරේ, ඊට වැඩිය දියුණු විඤ්ඤාණයක් ඇත්තා වූ අපට ආශීර්වාදයක් විදිහට අපි සලකන්න පුළුවන් ඒ දියුණු විඤ්ඤාණයෙන් ලැබෙන්නේ මොකක්ද? අන්තිමට සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ටික තමයි. අතිරේකව හම්බ වෙලා තියෙන්නේ අපිට ගස්කොළන්වලට වඩා, ජාති, ජරා, ව්‍යාධි, මරණවලට අමතරව, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ටික.

ඕකට තමයි අපි මනුෂ්‍ය ආත්ම භාවයක් ලැබේවා කියලා පින් කරන්නේ. දේව ආත්ම භාවයක් ලැබේවා කියල පින් කරන්නේ ඕකට තමයි. බ්‍රහ්ම ආත්ම භාවයක් ලැබේවා, රජ වේවා, සිටු වේවා ආදී වශයෙන් පින් කරන්නේ මේ සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ටික ආස්වාදයක් වශයෙන් හිතාගෙන. ඒගොල්ලෝ කොහොම හිටියත් අපිට ඒක හම්බ වෙනවම නේ. අපිට ඕනෑ කරලා තියෙන්නේ රජ වශයෙන් හම්බ වෙන ශෝකේ හොඳයි හිඟන ශෝකෙට වඩා. පරිදේවයත් රජ මට්ටමෙන් හොඳයි. අන්තිමට බලනකොට ඒ ප්‍රාර්ථනා කරන සෑම දෙයක්ම අවසාන වෙන්නේ, ආස්වාද වශයෙන් පැතුවට ආදීනවත් එක්ක. ඒ ප්‍රාර්ථනා කිරීම නරකයි කියලා බුද්ධාගමේවත් කියන්නේ නෑ. වෙන කිසිම සදචාරවාදී ආගමක ඒ

වගේ හොඳ ආත්ම භාවයක් සලකලා පින් කරනවයි කියන එක නරකයි කියන්නේ නෑ. හොඳයි, සදාචාරාත්මකව හොඳයි.

නමුත් සර්වඥයන් වහන්සේට මෙතැනදී බරපතළ ගැටලුවකට මුහුණ දෙන්න සිද්ධ උනා. මේ විශ්ලේෂණය, කොහොමද මේ හොඳයි කියන දේ, අන්තිමට කොහොම කෙරුවක්වත් එකම ගවර වළේ ඉන්න පණුවෝ වාගේ, ඔක්කොම සම මට්ටමේ දුක්ඛ ලොකො පතිට්ඨිතො. මුළු ලෝකේම දුකට වැටෙන්නේ කොහොමද? මෙන්න මේ ප්‍රාර්ථනාවේදී යෝනිසෝ මනසිකාරය වෙනුවට අයෝනිසෝ මනසිකාරය රිංගගත්තට පස්සේ, අන්න ඒ අයෝනිසෝ මනසිකාරයෙන් තමයි සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස උපදවීමේ සූක්ෂ්ම ක්‍රියාවලිය සිද්ධ වෙන්නේ. එතන තමයි මෙතන මේ කියන සමුදයයි අත්ථංගමයයි. නැතුව මේ රූප ඇති වීම සමුදය, රූප නැති වීම අත්ථංගමය නෙවෙයි. වේදනා ඇති වීම සමුදය, වේදනා නැති වීම අත්ථංගමය නෙවෙයි. මේ වේදනා, මේ රූප, මේ සංඥා, මේ සංස්කාර කොහොමද සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ඇති කරන්ට හේතු වූයේ? කොහොමද මේ රූප පිළිබඳ අවබෝධය, සෝක පරිදේව දුක්ඛ දෝමනස්සය නැති කිරීමට හේතු වෙන්නේ? වෙන විදිහකට කියනව නම් මේ රූප, මේ වේදනා, මේ සංඥා, මේ සංස්කාර අපේ නොවුණත් අපේ කරගෙන අපි සංසාරෙට බැඳෙන්නේ කොහොමද? අපේ නොකරගෙන අපි සංසාරෙන් ගැලවෙන්නේ කොහොමද? කියන ප්‍රශ්නය. එතන තියෙනවා වෙනමම හටගැනීමක්. වෙනමම අත්ථංගමයක්.

එන්න ඒ සංසාරගත අයෝනිසෝ මනසිකාරයට බර සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්සය ගෙන දෙන්නා වූ ඇති කිරීම සහ සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්සය දුරු කරන්නා වූ නැති කිරීම පිළිබඳ කාරණයයි අපට වැදගත් වෙන්නේ. ඒ නිසා පංච ස්කන්ධයේ ප්‍රශ්නයක් නෑ. රූප ලෝකේ තිබ්බට අපිට ඒක සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්සයට හේතු වෙන්නේ ඒ රූපය මගේ කියලා අහක යන නයි ඔඩොක්කුවේ දගත්තා වගේ, මගේ රූප කරගත්තොත් තමයි. නැත්නම් ලෝකේ තියෙන රූප අපට ප්‍රශ්නයක් නෑ. නිතරම වගේ සර්වඥයන් වහන්සේ මතක් කරනවා, ශ්‍රාවස්ති නුවර ජේතවනාරාමය

අවට පිරිස ඇවිල්ලා තණකොළ කපාගෙන ගියාට, වැටිච්ච දර අහුලගෙන ගියාට, මහණෙනි නුඹලට රිදෙනවද කියලා. ගායක් එනවද? කැක්කුමක් තියෙනවද? හිතට වේදනාවක් එනවද? නෑ. ඒ මොකද? ඒවා අපේ නොවන නිසා. ඒ නිසා වෙනත් ශාස්තෘවරුත් කියල තියනවා උඹලට අයිති නැති දේවල් දීලා දපන්. ඒවා තියාගෙන ඉඳීමෙන් තමයි ඕවට වග කියන්න ඕනෑ. ඒ කරලා අහනවා එකින් එක සර්වඥයන් වහන්සේ ප්‍රශ්නයට ආපුවම "මහණෙනි, මේ රූපය උඹලගේද? නෑ. මේ වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ උඹලගේද? නෑ. නැත්නම් අත ඇරපන්".

මේ සල්ලි ජෝජ් රජ්ජුරුවන්ට ඕනෑ හින්ද නේ ජෝජ් රජ්ජුරුවන්ගේ සල්ලිවල නමක් ගහලා ඔළුව ගහගෙන අත්සන් කරලා තියෙන්නේ. ජෝජ් රජ්ජුරුවන්ට දීලා දපන්, ඉවරයි. සල්ලි අතේ තියාගෙන හිටියොත් තමයි මේ හොරු. ඒකට ආදයම් බදු. එක රුපියල් පහක් අරන් ගියාම සීයක බඩු ගන්න වෙච්චහම චිත්ත පීඩා. සල්ලි අතැරපුවාම ඉවරයි. ඒ මොකද, ඒක මූලික අවශ්‍යතාවක් නොවේ. අන්න ඒ වගේ තමයි මේ රූප, වේදනා, සංඥා, සංස්කාර පිළිබඳවත් සංසාරගත සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ඇති කරනාසුලු බැල්මක් තියෙනවා. නැති කරනාසුලු බැල්මක් තියෙනවා. ඇති කරවනාසුලු මනසිකාරයක් තියෙනවා. නැති කරවනාසුලු මනසිකාරයක් තියෙනවා. අන්න මේ සංසාරයට ඇලෙන සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ගෙනෙන අයෝනිසෝ මනසිකාරයට බර ඇති වීම තමයි, මෙතන **"අජ්ඣත්තං වා බහිද්ධා වා"** කියලා; පස්සේ කියන්නේ **සමුදයවයධම්මානුපස්සී වා විහරති, වයධම්මානුපස්සී වා විහරති.** කොහේ හරි තියෙන එකක්, අපි එක පාරට දැකපු ගමන් ඒ දැකීම මෙනෙහි කරනව නම්, අහවල් දේ දැක්කාය කියලා මෙනෙහි කරනවා නම්, එහෙම නැත්නම් මම කරමින් හිටපු වැඩේ දැකීමකට මාරු උනා වශයෙන් හෝ මෙනෙහි කරන තාක් කල්, ඒ වස්තුව අපට සම්බන්ධ වෙන්නේ නෑ. ඒ සම්බන්ධ වෙන්නේ යෝනිසෝ මනසිකාරයෙන්. යම් වෙලාවක මෙනෙහි කරනව නම්, මමයි මේක දැක්කේ, ඒ නිසා මම වහාම මේක අරගෙන තියාගන්න ඕනෑ, මේක මගේ වස්තුවක්, මමයි දැක්කේ කියන ඒ මම, මට, මගේ කියන

හැඟීමට බැඳිච්ච ගමන්, පුදුමාකාර විදිහට වස්තු විෂයෙහි අපේ වගකීමත්, වස්තුව අප කෙරෙහි වගකීමත්, බන්ධනයත්, එතන ඉඳල සමුදයත් පටන්ගන්නවා.

මෙන්න මේ වැඩ පිළිවෙළ දිහා බලනකොට යෝගාවචරයො උනත් ඉල්ලීමක් කරන්න වෙනවා, අපි මේ ප්‍රශ්නෙ දිහා මෙහෙම බලමු. කොහොමද? විඤ්ඤාණය දිහාවට රූපයෙන් වේදනාවෙන් සංඥාවෙන් සංස්කාරයෙන් විඤ්ඤාණයෙන් එන සංඥා වගයක් තියෙනවා. ඒ විඤ්ඤාණය දිහාවට රූපයක් ඇඟේ හෝ කොහේ හරි ගැටෙනකොට, ඒක පොඩි කිතිකැවීමක් කරනවා. ඒක අපි සහජ ආශයෙන් ලබපු දෙයක්. ඒකට අපිට දඬුවම් ලැබිය යුතු නෑ. ඒක තාම කෙලෙස් භාවයට පත් වෙලා නෑ. ඒ වාගේම විඳින වේදනාව පිළිබඳවත්, වේදනාව ගිහිල්ලා ඒ විඤ්ඤාණය කිතිකවන බව කුප්පන බව කවදකවත් ක්ලේශයක් නොවේ. ඒ වාගේම තමයි සංඥාවත්. ඒ හොඳ මිනිහෙක්, අල්ලපු ගෙදර මිනිහා, යූ එන් පී කාරයා, ශ්‍රී ලංකා කාරයා, ත්‍රස්තවාදියා, දෙමළා, සිංහලයා, බෞද්ධයා ආදී වශයෙන් විවිධ සංඥාවල් තියෙනවා. මේ එකකවත් කෙලෙස් නෑ. ඒවා සංඥා පමණයි. ඊගාවට තියෙනවා සංස්කාර කිරීම. අපි කටට මොනවා හරි දාගත්තාම තලු මර මර කනවා. ලස්සන චිත්‍රයක් දැක්කම බෙල්ල ඒ පැත්තට මේ පැත්තට හරවා හරවා බලනවා. හොඳ කටහඬක් ආවාම ඒක අහනවා. ආන්න ඒ වගේ දේවල්වලත් කිසි ක්ලේශයක් නෑ. මොකද පුංචි දරුවෙකුට උනත් බලු කුක්කෙකුට උනත් මේ කෙඳිරිගානකොට අමුතු විදිහකට බෙල්ල හරවල බලනවා. කවදකවත් ඒක කෙලෙස් ඇති කරන ගතියක් නෑ.

ප්‍රශ්නේ තියෙන්නේ මෙන්න මේ විදිහට ඇතුළට විඤ්ඤාණය ගන්න කොටස්වල නෙමෙයි. මේ විඤ්ඤාණයෙන් පිට කරන්නා වූ කොටස්වලයි ප්‍රශ්නේ තියන්නේ. දත්ත රාශියක් විඤ්ඤාණය දිහාවට නිතරෝම දෝරේ ගලනවා - ඇහැ තියෙන තාක් කල්, කන තියෙන තාක් කල්, නාසය, දිව, ශරීරය, හිත තියෙන තාක් කල්. නමුත් යම් මොහොතක විඤ්ඤාණය බාහිරයට සංඥාවක් නිකුත් කරන්න ගිය ගමන්, අර පරණ තියෙන කෙලෙස් ඔක්කෝගෙන්ම පාට වෙනවා. පරණ පැහිච්ච මුට්ටියකට අලුතින් තෙලිජ්ජ දාපුහම ඉබේම ඒ

තෙලිජ්ජ රා බවට පත් කරන්නා වගේ. අපේ මේ විඤ්ඤාණයෙන් පිට කරන දේවල් තමයි අපේ ඉතාමත්ම ආදර්ශවත් නිරූපණයක් ගෙන දෙන්නේ, මේ අහවලාගේ ප්‍රතිචාරයක්ය කියලා. මෙන්න මේක දැකීමයි යෝගාවචරයාගේ වගකීම වෙන්නේ. විඤ්ඤාණයට එන තොරතුරු වළක්වන්න ගියොත් ඒක මහා අපරාධයක්. ඒක කරන්න බෑ ජීවිතේ තියෙන තාක් කල්. සවිඤ්ඤාණක කියල කියන්නේ විඤ්ඤාණය තොරතුරු උකහාගනිමින් ඉන්න එකටයි. හොඳට තේරුම්ගන්න ඕනෑ කවදාකවත් අපේ මේ විඤ්ඤාණයට, විශේෂයෙන්ම ඉන්ද්‍රිය පටිබද්ධ විඤ්ඤාණයට මේ සියලු තොරතුරු දරන්න බෑ. මේ සියලු තොරතුරු හදාරන්න බෑ. මේ සියලු තොරතුරු රැස් කර තියාගන්න බෑ. ඒක රැස් කරගන්නේ ඉතාමත්ම ලේස මාත්‍රයයි. අන්න ඒ ටික සම්පූර්ණ කෙරුවා වාගේ, ඔක්කොම දැක්කා වාගේ, ඔක්කොම අත්දැක්කා වාගේ අපි කතා කරන්න ගියාට පස්සේ තමයි, අනුන්ට සන්නිවේදනය කරන්න ගියාට පස්සේ තමයි මෙන්න මේ පටලැවිල්ල එන්නේ.

මේකට බුදුරජාණන් වහන්සේ ලස්සන වචනයක් නිරූපණය කෙරුවයි කියලයි ඉදිරිපත් කරලා තියෙන්නේ. උන්වහන්සේ විඤ්ඤාණය සහ විඤ්ඤත්ති කියල දෙකක් ගැන කියනවා. විඤ්ඤාණය කියලා කියන්නේ රූප රූප වශයෙන් දැකීම, වේදනා වේදනා වශයෙන් විඳීම, සඤ්ඤා සඤ්ඤා වශයෙන් සංජානනය කිරීම, සංස්කාර සංස්කාර වශයෙන් සංස්කරණය කිරීම, විඤ්ඤාණයෙන් හඳුනාගැනීම. මේක අනුන්ට විඥප්ති කරන්න ගියාට පස්සේ, අපි අනුන්ට රූප දක්වන්න ගියාට පස්සේ, අපි අනුන්ට වේදනා දෙන්න ගියාට පස්සේ, අපි අනුන්ට සංඥා කරන්න ගියාට පස්සේ, අනුන්ගේ දේවල් සංස්කරණය කරන්න ගියාට පස්සේ අපි විඤ්ඤත්ති ප්‍රයෝජනයට ගන්නවා. විඤ්ඤත්ති කියලා කියන්නේ අනුන්ට දැක්වීමේ ක්‍රම. ඒකට තව වචනයක් කියනවා නිදස්සනය කියලා. ප්‍රකාශ කිරීම. විග්‍රහ කිරීම. සම්පූර්ණ සන්නිවේදන ප්‍රශ්නයක්. ඒ නිසා විඤ්ඤාණය පිළිබඳව අපිට කවමදාවත් විඤ්ඤාණය ඇතුළට එන්නා වූ තොරතුරු පමණක් දැනගෙන ජීවත් වෙන්න බෑ. මොකෝ මනුෂ්‍යයා කියලා කියන්නේ සමාජශීලී සතෙක්. ඒ සමාජශීලී සතා නිතරෝම අනුන් සමග අදහස්

හුවමාරු කරගන්නවා. මෙන්න මේ අදහස් හුවමාරු කිරීමේදී ඇතුළට එන්නා වූ සීමිත, අඩු, නැත්නම් කෝම්බෙ විතරක් දැකගෙන සියලු දේම දැක්කා වාගේ, සුප්‍රබුද්ධලා වගේ කතා කරන්න ගියාම, විනිශ්චය කරන්න ගියාම කෙලෙස් දෝරේ ගලන්න පටන්ගන්නවා. මේකට තමයි ආශ්‍රව කියලා කියන්නේ. නිතරෝම මෝදු වෙනවා, වැගිරෙනවා. කවදාකවත් විඤ්ඤාණයට ඇවිල්ලා ආපහු යන සංඥාවක් වර්ණ ගන්වන්නේ නැතුව, හැඩගන්වන්නේ නැතුව අපට දෙන්න දන්නේ නෑ. ඒකයි අපිට ක්‍රියා හිතක් නෑ කියලා කියන්නේ. අපේ හිත හැම වෙලාවෙම ප්‍රතික්‍රියා කරනවා. එන හැම සංඥාවක්ම පාට කරලා, ගඳ ගස්වලාම තමයි, අපේ බවට පත් කරලා තමයි බාහිරයට දෙන්නේ.

ඉතින් මේක නිසා යෝගාවචරයන්ට මතක් කරනවා, මේ ඉඳුරන්ගෙන් ලැබෙන තොරතුරු ඇතුළට විතරක් ගන්න, පිටතට දෙන්න එපයි කියලා. අපි කියනවා ඇස් ඇත්තේ නමුත් අන්ධයෙකු සේ ඉන්නය කියලා. දැක්ක බවක් පෙන්නන්න අරින්න එපා. පෙන්නපු ගමන් කවදාකවත් දැක්ක දේ නෙවෙයි අපි පෙන්නන්නේ. දැක්කයි කියලා හිතාගත්තු දේ. කන් ඇත්තේ නමුත් බීරකු සේ ඉන්න කියල තියනවා. කනට ඇහෙන්නේ නැතුව කියන එක නෙවෙයි. ඇහෙන්නේ ඉතාමත්ම ටිකයි. අපි ඇහුණයි කියලා හිතලා දෙන උත්තරේ සම්පූර්ණ මායාවක් තියෙන්න ඉඩ තියනවා. සම්පූර්ණ අපේ රුචියට ගැළපෙන, අපේ ශ්‍රද්ධාවට අනුව, අපිට ගුරුවරුන් පෙන්වලා දීපු පැතිවලට අනුව, තර්කයට ගැළපෙන හැටියට, අපේ දෘෂ්ටියට ගැළපෙන හැටියට තමයි අපිට ඇහෙන්නේ. ඒ අහපු ටිකට තමයි උත්තර දෙන්නේ; නැතුව අහපු ඇත්තට නම් නෙවෙයි. මූතය වශයෙන් සඳහන් කරනවා නාසය, දිව, ශරීරය. මෙච්චට සංඥා නැතුව නෙවෙයි. නමුත් ඒක ලැබුණත් මළමිනියක් වගේ ඉන්නයි කියලා කියනවා, මට දැනුණේත් නෑ, මට රස බලන්ඩත් බැරි වුණා, මට ආඝ්‍රාණය කරගන්නත් බැරි වුණා කියන අදහස තමන්ගේ හිතේ ඇති කරගන්න කියනවා. මම මේ ලබපු ආඝ්‍රාණය කවමදාකවත් ප්‍රකාශ කරන්න තරම් ගැළපෙන්නේ නෑ. යෝනිසෝ මනසිකාරයෙන් නෙමෙයි, අයෝනිසෝ මනසිකාරයෙන් ලබලා තියෙන්නේ. මම

විඳිනවා, මම රස බලනවා, මම පහස ලබනවා කියන අර පෝෂණය කරන සංඛාරයක් සහිතවයි මම ඒ සංඥාවල් ලබලා තියෙන්නේ. ඒ නිසා ප්‍රකාශ කරන්න යන්න නරකයි.

සර්වඥයන් වහන්සේ "**පච්චවෙක්ඛිත්වා පච්චවෙක්ඛිත්වා** කම්මං කත්තබ්බං" කියලා තමන්ගේ පුත්‍රයාට, ජාතක පුත්‍රයාට දේශනා කරලා තියෙනවා. මෙනෙහි කරලා මෙනෙහි කරලා කටයුතු කරන්න. මෙනෙහි කරලා මෙනෙහි කරලා කියන දෙයක් කියාපන්, මෙනෙහි කරලා මෙනෙහි කරලා මානසිකත්වය හසුරුවාගනින්. ඒ මොකද, අයෝනිසෝ මනසිකාරයෙන් යුක්තව ඇස් ඇරගෙන ඇහෙන් බලාගෙන ඉන්න මනුෂ්‍යයා මම දැක්කා කියන දේ හුඟක් වේලාවට ඒ මනුෂ්‍යයාට දකින්න ඕනෑ වෙච්ච දේ. දැක්කා නම් හොඳයි කියලා අදහාගත්ත දේ. එහෙම නැත්නම් මේන් බලාපන් කියලා ගුරුවරයා පෙන්නපු දේ, තර්කයට ගැළපෙන දේ, දෘෂ්ටියට ගැළපෙන දේ. නැත්නම් දැක්ක දේ ආපහු කියන්න පුළුවන්කමක් ඇත්තේ නෑ. ඒක නිසා විඥ්ඥාණය ප්‍රකාශ අවස්ථාවට එනකොට ඒකට අපි කියනවා විඥප්ති කියලා. මේ ලෝකේ කියන්නේ විඥප්තියක්. ඒක නිසා පසුකාලීන මහායාන නිකායක් ඇති උනා විඥප්තිමාත්‍රතා සිද්ධි කියලා. මුළු ලෝකෙම කියන්නේ විඥප්තියක් විතරයි. කිසිම කෙනෙකුට තමන් දැක්ක දේ දැක්ක හැටියට තව කෙනෙකුට කියලා දෙන්න ශක්තියක් ඇත්තේ නෑ, රහතන් වහන්සේ කෙනෙකුට හැර. ඒ පුද්ගලයා තමන්ට දකින්න ඕනෑ දේ තමයි, ඔප දලා හැඩ දලා වැඩ දලා අනිත් කෙනාට පෙන්නලා දෙන්නේ. හොඳට මේක තේරුම් අරගන්න පුළුවන්, අද පවතින වෙළෙඳ ලෝකේ වෙළෙඳ ප්‍රචාර දිහා බලපුවහම. සෑම නිෂ්පාදන කොම්පැනියකම වෙනමම අංශයක් තියෙනවා වෙළෙඳ ප්‍රචාරය සඳහා. ඒ ද්‍රව්‍ය අරගෙන ඒකෙ තියෙන හොඳම එක ගුණයක් අරගෙන එවැනි ගුණ සියල්ලම තියෙන්නා වූ අංග සම්පූර්ණ දෙයක්, ඔබ මේ දේ පරිභෝග කළා නම් ඔබේ සියලු දුක් නිවෙනවා, මුදල් අතින් හොඳම උපරිම ලාබයක් ලබනවා, මෙන්න බඩු ගන්න. අරක නිදර්ශනය කරලා පෙන්නන හැටි, විදහා දක්වන හැටි, විග්‍රහ කරන හැටි.

මේක කොම්පැනියක විතරක් නෙමෙයි සෑම මනුෂ්‍යයෙක් තුළම සිද්ධ වෙනවා. සෑම මොහොතකම සිද්ධ වෙනවා. ඒක නිසා පාරාසරිය මහ රහතන් වහන්සේ දේශනා කළා "**චක්ඛුමාඝස යථා අන්ධො**". ඇස් ඇත්තේ නමුත් අන්ධයකු සේ ඉඳලා ඒ එන සංඥවල් ටිකට විතරක් ඇතුළට ගැනීම විතරමයි. පිටතට දීම් ගැන උනන්දු වෙන්න යන්න එපා. ඉගෙනගන්න පුද්ගලයෙක් මිසක්කා උගන්වන කෙනෙක් බවට පත් වෙන්න එපා. තමන් අහන්නෙක් වශයෙන් මිසක්කා කියන්නෙක් බවට පත් වෙන්න එපා. ඒ මොකද, අපි කියන දේවල් අපි මේ හිතාගත්ත රුචියට, ආශාවට ගැළපෙන දේවල් මිස ඇත්ත දකින දේ නෙවෙයි. මේ විඥප්ති මාත්‍රතා සිද්ධි ආවට පස්සේ, අපේ ථෙරවාද ශාසනයේ වගේ ඇත්තෝ ප්‍රසිද්ධ වශයෙන්ම ඒක විවේචනය කරන්න පටන් අරගත්තා, මේක විඤ්ඤාණයම උලුප්පලා පෙන්නන පරණ තිබුණු ආත්මය දක්වන ගතියක් කියලා. නමුත් මෙතන විඤ්ඤාණ මාත්‍රතා යටතේදී මතක් කරන්නේ විඥප්ති මාත්‍රතාව. විඥප්තිය කියලා කියන්නේ අපි අනුන්ට අඟවන හැටි, අපි අනුන්ට දර්ශනය නිදර්ශනය කරන හැටි, අපි අනුන්ට විග්‍රහ කරන හැටි, ප්‍රකාශ කරන හැටි. මෙච්චරයි ලෝකේ කියන්නේ.

ඒකයි කියන්නේ "**අරඤ්ඤගතොවා රුක්ඛමූලගතොවා, සුඤ්ඤාගාරගතොවා**" කිසි කෙනෙකුට මොනවත්වත් කියන්න ඕනැකමක් ඇත්තේ නෑ. ලොවේ හාත්පසින් දෝරේ ගලාගෙන එන මේ සංඥවල් දිහා, මකර කටක් වගේ ලොකු කටක් ඇති කරගෙන එව්වා ඇතුළට එන්න ඇරලා බලාගෙන ඉන්නයි තියෙන්නේ. කිසි සේත්ම මේකට ප්‍රතික්‍රියා කරන්න එපා. අපේ හිතේ තියෙනවා, මේ ප්‍රත්‍යවේක්ෂාව කියන එක. "හිත" කියන වචනය වැරදියි. මෙතෙන්ට කියන්න තියෙන්නේ විඤ්ඤාණයේ තියනවා ප්‍රත්‍යවේක්ෂාව කියන එකක්. කාපු දේ නැවත වමාරලා කනවයි කියල කියනව. හරකාගේ ගතිය ඒකනෙ. හෙවන තියෙන වෙලාවේදී හොඳට කාගෙන කාගෙන යනවා. මේ වගේ තියෙනකොට හොඳට කනවා. කාලා, හොඳ මද්දහන වෙනකොට ගහක් මුලට ගිහිල්ලා ඉඳගෙන, අර කාපු දේ වමාරලා නැවත හපලා ගිලිනවා. ඒ වගේ තමා විඤ්ඤාණයට ලැබිච්ච හැම දෙයක්ම ආපහු වමාරනවා. වමාරලා ගන්නකොට අඩු ගානේ

තමන්ට ඒක නැවත කියන ගතියක් තියෙනවා. එහෙම නැත්නම් ඒක කාට හරි කියන්නේ නැතුව ඉන්න බෑ, කහනවා, නලියනවා.

මේකට උපමා කතාවක් තියෙනවා, ඉන්දියාවේ මෝගල් අධිරාජයාගේ කාලේ රජ්ජුරුවන්ට හිටපු මුම්ටාස් මහල් කියන බිසව ගැන. ඇය පුදුමාකාර ලස්සනයි. ඒ වගේම රජ්ජුරුවන්ට පුදුමාකාර ලෙන්ගතුයි. දසයක් දහතක් ඉඳලා තියෙනවා බිසෝවරු. මේ බිසව තමයි අග්‍ර මහේෂිකාව. ඉතින් හදිස්සියේ මේ මහේෂිකාව මැරුණට පස්සේ, ඒ රජ්ජුරුවන්ට ඇති වෙච්ච දුක සීමා කරන්න බෑ මුළු රටේම තියෙන වස්තුව ඔක්කොම එකතු කරලා ටජ් මහල් කියන ප්‍රසිද්ධ - ලෝකේ දුර්ලභ වස්තු හතෙන් එකක් බවට පත් වෙච්ච - ටාජ් මහල හැදුවා. හැදුවට පස්සේ රට සම්පූර්ණයෙන් බංකොලොත් වෙන්න පටන් අරගත්තා. මොකද මේ රජ්ජුරුවෝ එකම දෙයයි දැන් කරන්නේ. අර බිසොව ගැන කල්පනා කරනවා. අර ටජ් මහල් එකට යනවා, ඒක බලබලා ඉන්නවා. ඒක ඒ වගේම තමයි අද ගිය කෙනෙකුටත් පෙනෙනවා, කොච්චරද උස ගොඩනැගිල්ලක් එකම ඇණයක්වත් ගහලා නෑ. ඔක්කෝම කිරිගරුඬෙන් හදලා තියෙන්නේ.

පස්සේ එයාගේ පුතා රජ වුණා. රජ වුණායි කියලා කියන්නේ, රට ඒ වෙද්දි වැටෙන්න පටන්ගත්තා. රජ වෙච්චි ගමන්ම කෙරුවේ මොකක්ද? මහ රජ්ජුරුවන්ව, පිය රජතුමාව අල්ලලා හිර කළා. හිර කරලා ටාජ් මහල පේන තැනක ගඟ අයිනේ තවත් තැනක මාලිගාවක් හදලා දීලා, පිය රජ්ජුරුවන්ට නිතරෝම බලබලා ඉන්න ඔක්කෝම පහසුකම් දුන්නා. හැබැයි රාජ්‍ය පාලනය නෑ. ඉතින් පිය රජ්ජුරුවන්ගේ මානසිකත්වය සම්පූර්ණයෙන්ම පිරිහෙන්න පටන්ගත්තා. දැන් මේ බිසොව නැති උනා, පුතා රට අල්ලාගත්තා, තමන් හිරකාරයෙක් බවට පත් උනා. නමුත් පියතුමෙකුට වගේ සලකලා තියෙනවා, රට පාලනයෙන් අතහැරලා. ඊට පස්සේ ඒ මනුෂ්‍යයා කිව්වලු මට මේ තනියම ඉන්න හරි පාළුයි, පුළුවන් නම් ඉගෙනගන්න ළමයි තිස්දෙනෙක් විතර එවන්නෙයි කියලා, මට උගන්වන්න. ඊට පස්සේ පුතා ඒක සලකලා ඉල්ලපු විදිහට කටයුතු කළා.

ඊට පස්සේ පුද්ගලයාගේ කිසිම මානසික දුර්වලතාවක් නෑ. මොකද එයාට කතා කරන්න කෙනෙක් ඉන්නවා. අර දරුවන් ටිකට රජ උනා. එතෙන්දිත් මෙයාට රජ වෙන්නයි ඕනෑ. අර දරුවෝ ටිකට රජා, මොකද මෙයා වැඩිමහල්. හිටපු රජ්ජුරුවෝ. දැනුම තියනවා. මෙයා කියන දේ අර දරුවෝ ඔක්කෝම අහනවා. ඉතින් මෙයාගේ ඇතුළේ තියෙන විඤ්ඤාණය, මෙයාට වක් කරන්න භාජන තියෙනවා දැන්. නැති උනා නම් බොහොම සීග්‍රයෙන් පිස්සු හැදෙන්න ඉඩ තියෙනවා. දරන්න බෑ. මෙච්චර කල් මම කියන දේ අහන්න රටක් හිටියා මට. දැන් මම හිර ගෙදරක තනි කරලා, මගේ ඉන්න විඤ්ඤාණයට, විඥප්තිවලට දැන් උත්තර නෑ. විඥප්ති දරන්න කෙනෙක් නෑ. අහන්න කෙනෙක් නෑ, මුම්ටාස් බිසවත් නෑ, පුතත් නෑ, රටවැසියත් නෑ. හිරගෙදර දැම්මහම ඕක තමයි වෙන්නේ.

යෝගාවචරයා කල් ඇතුව තේරුම්අරන් තියෙනවා නම්, මේ භාවනා කරනවයි කියලා කියන්නේ දකින දකින එක්කෙනත් එක්ක හම්බ වෙලා කතා කර කර ඉන්න එකවත් අරක මෙහෙම වෙන්න ඕනෑ, මේක මෙහෙම වෙන්න ඕනෑ කියලා හිත හිත ඉන්න එකවත් නෙවෙයි. ඇහෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන්, ශරීරයෙන් කියන්නා වූ හයෙන් දෝරේ ගලන්නා වූ දේවල් පුළුවන් තරම් අයින් කරලා - ඇහැ වහගෙන, පුළුවන් තරම් කන ශබ්දවලින් වෙන් කරගෙන, නාසය ගඳ සුවඳ නැති තැනකට ගිහිල්ලා, දිව රස බැලීමෙන් අයින් කරලා මේ කයේ වායෝ පොට්ඨබ්බ ධාතුව පමණක් සඤ්ඤා විඤ්ඤාණය ඇති කරන්න. ඇති කරලා ඒ දිහාවට විඤ්ඤාණයේ මනසිකාරය යොමු කරගෙන ඉන්නවා. දහස් වාරයක්, දසදහස් වාරයක් ඒ මූල කර්මස්ථානය ප්‍රකට වෙන්න වෙන්න, ඒක ප්‍රකාශ නොකර ඒක මෙහෙම දෙයක් විය යුතුයි, මෙහෙම උනොත් හොඳයි කියන කිසිම පූර්ව නිගමනයකින් තොරව, සම්පූර්ණ ඒ මූල කර්මස්ථානය හඳුරන්න හඳුරන්න විඥප්ති නැති වෙනවා. විඤ්ඤාණය හොඳට මේ රූප ධර්මයක් වශයෙන් හෝ අරමුණ මාර්ගයෙන් තමා නියෝජනය කරනවා, නියෝජනය වෙනවා. එකම දේ දහසක් පැත්තකින්, දසදහස් පැත්තකින් විස්තර කරන්න හදනකොට විස්තර කරන මිනිහත් විස්තර වෙලා ඉවරයි.

එහෙම තමයි අපි විඤ්ඤාණය අල්ලන්නේ. නැතුව විඤ්ඤාණය එළියට අරගෙන කපලා කොටලා කරන්න හදනව නෙමෙයි. අපි කියනවා විඤ්ඤාණයට ආශ්වාසය දිහා බලලා ආශ්වාසය ආශ්වාසය වශයෙන් මෙනෙහි කරන්න. දිගද කෙටිද වශයෙන් බලන්න. මුලද මැදද අගද වශයෙන් බලන්න. සංසිඳෙන හැටි බලන්න. ගොරෝසු වෙන හැටි බලන්න. මේ එකොළොස් ආකාරයක් බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා. මේ ඔක්කෝම දකින්න නම් කවමදකවත් නරකයි විඤ්ඤාණය අරෙහෙම දැක්කොත් හොඳයි, මෙහෙම දැක්කොත් නරකයි කියල හිතාගන්න. අන්න ඒ පූර්ව නිගමනයකට ගියොත් සියලු ආකාර දකගන්න ලැබෙන්නේ නෑ. පිම්බීම හැකිළීම ගත්තත් දහස් වාරයකින්, දසදහස් වාරයකින් ඇතුළට එන තොරතුරු මිසක්කා ඒ කෙරෙහි විඤ්ඤාණය දක්වන විඥප්ති නැත්නම් විඤ්ඤාණයේ නිදර්ශන පැත්තකට දන්න පුළුවන්කමක් හම්බ වුණා නම් ඇත්තටම ඒක එතන (ඒ චිත්තක්ෂණය) නිවනක්. ඒකට කියනවා **තදංග නිබ්බුතිය** කියලා. ඒකට සෑහෙන කිට්ටු එකක් තමයි, ඔය ධ්‍යානයට සම වදිනකොටත් සිද්ධ වෙන්නේ. සමවැදීමේදී එක රූප ධර්මයක් විතරයි තියෙන්නේ, ඒක හාත්පසින් රස බලනවා, ඒක කෙරෙහි තර්ක කරන්නේ නෑ. ඒක කෙරෙහි හිතහිතා ඉන්නේ නෑ. එයින් එන තොරතුරු එන්න ඇරලා ඔහේ හිත එක රූප අරමුණක එල්බගන්නවා.

මාර්ග චිත්තයේදී සිද්ධ වෙන්නේ ඒකත් නෑ. රූප නාම දෙකේම සංස්කාර ඇති කරන, සංසාරය වඩන, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ඇති කරන කිසිම දේකට, ඇති වීමක් නැති වීමක් නැති තත්ත්වෙට යනවා. නිරෝධ වෙන්න පටන් අරගන්නවා. අනිදස්සන වෙන්න පටන්ගන්නවා. මේකට කියනවා අනිදස්සන විඤ්ඤාණය කියලා. "**විඤ්ඤාණං අනිදස්සනං අනන්තං සබ්බතොපහං**" යම් විඤ්ඤාණයක් අනුන්ට කියා පෑම හෝ තමන් නැවත වමාරා කෑම කරන්නේ නැත්නම් ඒකෙ නිදර්ශන නෑ, අප්‍රකාශිතයි. හැබැයි විඤ්ඤාණය ජීවත් වෙනවා. විඤ්ඤාණය තොරතුරු ලබමින් ඉන්නවා. නමුත් වමාරන්නේ නෑ. අන්න ඒ අනිදස්සන විඤ්ඤාණයට කියනවා "**අනන්තං**" කියලා. ඒක පුදුමාකාර සර්වඥ හිතක්. ඒ හිත මටවත්

වර්තමානයටවත් ස්ත්‍රී භාවයටවත් පුරුෂ භාවයටවත් මොනම දේකටවත් සීමා වෙලා නෑ. "**සබ්බතොපහං**" හාත්පසින් ප්‍රභාස්වරයි.

ඒක තමයි බුදුරජාණන් වහන්සේ තවත් තැනක දේශනා කළේ. හිත හාත්පසින් ප්‍රභාස්වරයි. බාහිරින් එන්නා වූ උපක්ලේශ නිසා මෙය කෙලෙසිලා තියෙන්නේ. අපට බැරි වෙලා තියෙන්නේ මෙන්න මේකයි; මේ විදිහට දක්වන්නා වූ, හිතට එන්නා වූ සංඥවල් දැකලා ඒ සංඥවලට පොළාපනින්නේ නැතුව, ප්‍රතික්‍රියා නොකර නිකන් ඉඳීම තමයි දුෂ්කර වෙලා තියෙන්නේ. මේ වැඩ පිළිවෙළට - ඒ කියන්නේ දෙයක් දිහා බලලා ඒක සම්පූර්ණ උකහාගන්නවා වෙනුවට ඒ කෙරෙහි ප්‍රතික්‍රියා නොකර සිටීමේ වැඩ පිළිවෙළට - කියන්න පුළුවන් යෝනිසෝ මනසිකාරය කියලා. මොනම ආකාරයකින් හෝ ඒ පිළිබඳ ප්‍රතික්‍රියා කිරීම අයෝනිසෝ මනසිකාරයට වැටෙනවා. නමුත් යෝනිසෝ මනසිකාරයෙන් අයෝනිසෝ මනසිකාරයට, අයෝනිසෝ මනසිකාරයෙන් යෝනිසෝ මනසිකාරයට ගමන් කිරීම ඉතාමත්ම ක්‍රමානුකූලව අනුපිළිවෙලින් කළ යුත්තක්. ඒක නිසා මේ විඤ්ඤාණයේදී, මේ විඤ්ඤාණයේ අනිදස්සන භාවය, නැත්නම් විඥප්ති මාත්‍ර, වෙනකල් යන වැඩ පිළිවෙළ දිහා බලනකොට යෝගාවචරයාට ඉස්සෙල්ලාම සාධක වෙන්නේ "අජ්ඣත්තංවා" කියන ආධ්‍යාත්මික වශයෙන් මේ විඤ්ඤාණය හැදෑරීම.

නමුත් ඒ හැදෑරීමේදී පිරිසක් එක්ක භාවනා කරනකොට අපිට අනුන් ඇවිල්ලා කතා කරනවා. අනුන් දේවල් ඉල්ලනවා. අපි එතනදි දැනගන්න ඕනෑ මේ ප්‍රයෝජනය සලකලා මේ කටයුත්ත කරනවා මිසක්කා මගේ අදහස්, මගේ මතිමතාන්තර, මම ගුරුවරයින්ගෙන් අහලා ඉන්න දේ මෙතන වක්කරන්න ගියොත් වැගිරෙන්න ගියොත් අලුත් සංසාරයක් ඇති වෙනවා. ඕනෑ වෙලාවක මේක වෙන්න ඉඩ තියෙනවා. ඒක නිසා ඉතාමත්ම ආර්ය ව්‍යවහාරයක් වශයෙන් සඳහන් කරනවා, **බාහිය සූත්‍රයේ, මාලුංක්‍යපුත්ත** සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, හුඟදෙනෙක් අහලත් තියෙනවා මේ වගේ කට්ටිය "**දිට්ඨෙ දිට්ඨමත්තං භවිස්සති.**" දැක්ම හුදු දැක්මෙන් නතර කරන්න. ආයෙ ඒක මත ඉඳගෙන මම අහවල් විදිහට දැක්කා, අහවල් දේ දැක්කා

කියලා නැවත නැවත ඒ විෂයෙහි ප්‍රපංච කරන්න එපා. වමාර වමාර කන්න යන්න එපා. දකිනකොට දකිනවා කියලා මෙනෙහි කරමින් දැකීමෙහි සියයට සීයක්ම ගත කරන්න. හිතන්න යන්න එපා. මම අහවලාට මේක මෙහෙම ගිහිල්ලා කියන්න ඕනෑ කියලා එහෙම අවශ්‍යතාවක් නෑ.

අපි විශ්ව විද්‍යාලයේ ඉන්නකොට හිටියා එක ළමයෙක් අපිත් එක්ක. ඒ මනුස්සයාට දැකපු දෙයක් නම් කවදාවත් අනුන්ට විස්තර නොකර ඉඳලා බෑ. ඒක අත පය විසි කර කර බොහෝම ලස්සනට කියල දෙන්න දක්ෂයි. ඉතින් එතකොට අපි කරන්නේ චිත්‍රපටියක් ආවහම ඔක්කෝම සත පහ සත පහ දාලා විස්සක් හොයලා දෙනවා. මිනිහා චිත්‍රපටිය බලලා ආවහම අනිත් කට්ටිය බලන්න ඕනැ නෑ, අරක කියන එකම තමයි වැඩේ. ඉතින් අපි එයාට කියන්නේ චිත්‍රපටි නිෂ්පාදකයෙක් කියල. අපි මේ රඟපෑම තමයි හැමදාම කරන්නේ කොතනදීත්. අපි දැකපු දෙයක් තියෙනවා නම්, අහපු දෙයක් තියෙනවා නම් අල්ලපු ගෙදරට කියනකල් කවදාකවත් ඒකෙ රසයක් නෑ. ළඟ ඉන්න කෙනාට දැකලා කියනකල් "මට නම් උදයබ්බය ඤාණය තියෙන්නේ", නැත්නම් "මම සංඛාර උපේක්ඛා ඤාණයේ ඉන්නේ" මේ කියනකොටම තේරුම්ගන්න ඕනෑ මෙතන ඒකාන්තයෙන්ම මොකක්දෝ පටලැවිල්ලක් තියෙන්නේ. ඒ භාජනයට දරන්න බෑ ඒක. ප්‍රධානම හේතුව, ඒක ඒ තාලෙන් දැකපු නැතිකම. ඒ නිසා දැක්කා නම්, අවබෝධ කළා නම්, මාර්ග ඵලය ගැන මොකටද මේ කියා ඇවිදිල්ලක්. විනයානුකූලවත් බුදුරජාණන් වහන්සේ අවශ්‍ය නෑ කියනවා. ඒක කියන ක්‍රමයක් තියෙනවා. අඩු ගානේ සීලය තියෙනකොටත් ඒ සීලය තුවරලා, හඳුන් සුවඳ වගේම එක දිශාවට නෙවෙයි දසදිශාවට පැතිරෙනවා. ඒක වෙනම කතාවක්. නමුත් මේකේ අර ඉස්සා ඔළුවේ මොනවදෝ ටිකක් තියාගෙන "ඉස් ඉස්" කියන්නා වගේ කියාපාන්නට හදන ගතිය යෝගාවචර ජීවිතයකට නම් කොහොමකටවත් ගැළපෙන්නේ නෑ. ඒ ගැළපෙන යෝගාවචර ජීවිතයත් මොනම තාලෙකින්වත් මේ "අනිදස්සන" තත්ත්වෙට පත් කරන්නත් බෑ. හැබැයි එහෙම නොකරන කෙනෙක් යෝගාවචරයන් අතර ඇත්තෙත් නෑ. හැම කෙනා ළඟම මේ දුර්වලකම තියෙනවා.

මෙච්චර මේ වචන අපි පාවිච්චි කරන්නේ මේක මේ තාලයෙන් දැකගෙන, දැක්ක දෙයක් දැක්ක මට්ටමෙන් නතර කරන්න. "**සුතෙ සුතමත්තං භවිස්සති**" යමක් ඇහුවා නම් එච්චරයි. "**මුතෙ මුතමත්තං භවිස්සති**" තමන් වින්ද නම් රස ගඳ පහසක්, ඉතින් ඒක එතැනින් නතර කරන්න. "**විඤ්ඤාතෙ විඤ්ඤාතමත්තං භවිස්සති**" එහෙම නැතුව අපිට හිතුණා නං මේක මම කොහෝම හරි ගිහිල්ලා අම්මට කියන්න ඕනෑ. එහෙම නැත්නම් මේක මගේ යාළුවට කියන්න ඕනෑ කියලා, ඒක තේරුම්ගන්න ඒක විඤ්ඤාතයක්, එතනින් නතර කරන්න. ඒක දිගේ තවත් හිත් ගණනාවක් ඇති කරගෙන, එහෙම නැත්නම් නන්දියක් ඇති කරගෙන ඒක තුළින් උපාදාන ඇති කරගෙන ඒ විෂයෙහි චේතනා පහළ කරනවා නම්, ඒකාන්තයෙන්ම අර **ද්වාදශවර්තයට** අහු වෙලා අපි දිගින් දිගට දිගින් දිගට සංසාරයට වැටෙනවා. එහෙම ඇති කරන ගතියක් තියෙන නිසයි, අපි විඤ්ඤාණයට කියන්නේ "**විඤ්ඤාණ උපාදානස්කන්ධය**" කියලා. ඒක දැනගන්න නම් ඒ දේට තරහ වෙලා බෑ, ඒ දේ වෙනකොට එතනින් නතර කරන්න ඕනෑ. හොඳයි, දැන් මෙතෙන්ට එනකල් මම සිතිවිල්ලක් දිගේ ගියේ, අද ඔයාට මේක කියලා දෙන්න ඕනෑ කියලා හැඟීමක් මට පහළ උනොත්, ඒක අයෝනිසෝ මනසිකාරය. ඒ බව දැනගැනීම යෝනිසෝ මනසිකාරය. මගේ විඤ්ඤාණය දැන් විඥප්තියක් බවට පත් වෙලා. අනුන්ට මේක කොහොම හරි කියනකල් ඉවරයක් නෑ. ආන්න එතකොට අයෝනිසෝ මනසිකාරයයි යෝනිසෝ මනසිකාරයයි ළඟ ළඟ. ඒකෙ නිදර්ශන හුඟාක්ම භාවනා කරලා ඉන්ද්‍රිය සංවරයට උනන්දු වෙච්ච යෝගාවචරයෙකුට වහාම චිත්තක්ෂණයකින් තේරෙන දෙයක්. නමුත් දර්ශනය පැත්තෙන් බැලුවහම තර්කයෙන් විස්තර කරලා දෙන්න බැරි දෙයක් නෙවෙයි. නමුත් එතකොට ගොඩක් වචන අවශ්‍ය වෙනවා.

ඒ වුණත් බලන බැල්ම දිහා බලනකොට, සර්වඥයන් වහන්සේ මේවා පිළිබඳව මේ කරපු විස්තරය බලනකොට උන්වහන්සේ සර්වඥයි කියන එක කිසිම සැකයක් නෑ. උන්වහන්සේ මෙච්චර මේ රූපයේ ඇත්තා වූ රූප්පන ගතිය, වේදනාවේ ඇත්තා වූ වින්දනය ලබා දෙන ගතිය, සංඥාවේ ඇති වන්නා වූ අඟවන ගතිය,

සංස්කාරයන්ගේ ඇති මේ හැඩගස්වන ගතිය, විඤ්ඤාණයේ ඇත්තා වූ මේ විඥප්ති ගතිය මෙච්චර විස්තර කරන්නේ මොකටද? මේවා නොදැන හිටියොත් සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ගලනවා. අපි හිතනවා ඒක මැවුම්කාර දෙවියන් වහන්සේගේ වැඩක් කියලා. ආත්මයේ වැඩක් කියලා. නෑ. ආත්මයේ වැඩක් බවට පත් වන්නේ මේවා දිහා අයෝනිසෝ මනසිකාරයෙන් බැලුවොත්. යෝනිසෝ මනසිකාරයෙන් බැලුවොත්, තමන් සර්ව බලධාරී දෙවියන්ටත් වැඩිය ලොකුයි. ඒ වගේම ඒක අජ්ඣත්ත වශයෙන් බලලා යම් කිසි කෙනෙක් නිවුණා නම් කවමදාකවත් තව කෙනෙක් එක්ක කලහ විවාද, තුවන් තුවන් පෙසුඤ්ඤ, පරුෂ වාච මේ මොකක්වත් එන්න විදිහක් නෑ. ඒ මොකද කොච්චර ගැහුවත් කිපිලා යන්නේ නෑ. කොච්චර ඇන්නත් කිපිලා යන්නේ නෑ. ඒක කියනවා නිකන් අවකාශෙට පහර දුන්නා වගේ කියල. අවකාශෙට පහර දුන්නට අවකාශෙ හැරිලා බලලා පහර දෙන්නේ නෑ. ඒ නිසා ගහන මනුෂ්‍යයාගේ අත රිදෙනවා මිසක්කා අවකාශෙට මොනවක්වත් වෙන්නේ නෑ. අපි මේකට ප්‍රතික්‍රියා කරන්න ගියොත් තමයි ප්‍රශ්නේ. අවකාශයේ තියෙනවා මේ අනිදස්සන ගතිය, අරූපී ස්වභාවය. ඒ නිසා අවකාශයේ කවදාකවත් චිත්‍ර අඳින්න බෑ.

හැබැයි නවීන විද්‍යානුකූලව නිදර්ශනයක් පෙන්නනවා නම්, ඉර පායලා තියනවා හැම වෙලේම මේ අපිට උඩින් තියෙන අහසට. නමුත් හඳේ හරි, තරුවක නැත්නම් ආකාශ වස්තුවක හරි ඒ ආලෝකය වැදුණේ නැත්නම්, මේ අවකාශයේ ආලෝකය තියෙන්නේ නැති බව අවකාශය ඒක නිරූපණය කරලා පෙන්නන්නේ නෑ. නිදර්ශනය කරලා පෙන්නන්නේ නෑ. ප්‍රකාශ කරන්න විදිහක් නෑ. අවකාශයේ මොකුත් නෑ. නමුත් ඒකට අපි දෙයක් දැම්මොත් - හඳක් හෝ චන්ද්‍රිකාවක් - ඒ චන්ද්‍රිකාවට ආලෝකය වැටිලා අන්න ඒ චන්ද්‍රිකාව තියෙන බව පෙන්නනවා. නමුත් ඒ චන්ද්‍රිකාවේ ආලෝකයක් නෙමෙයි, ඒක ඉරේ ආලෝකය ප්‍රකාශ වෙන අවස්ථාව. ඒක හරවා එවන අවස්ථාව. අවකාශය අවකාශ වශයෙන් අරූපියි. අවකාශය අනිදස්සනයි. අපේ හිතත් දවසක මේ අවකාශය වගේ වෙච්චහම එන තාක් කල් පණිවිඩ පාක්කුඩම් වෙන මොනම දෙයක්

හරි එන්න ඇරලා කරබාගෙන ඉන්න පුළුවන් නම් එක පැත්තකට විතරක් ගමන් කරන මට්ටමට, අනිත් පැත්තට ගමන් කරන්න හදනකොටම අවබෝධ කරගන්න පුළුවන් නම්, අපිටත් පුළුවන් "අනිදස්සන විඤ්ඤාණය" කියන එක මේකයි කියලා තේරුම්ගන්න. නමුත් දැන් වෙලා තියෙන්නේ, ඒක අල්ලපු ගෙදරට කියනකල් ඉතින් ඉවරයක් නෑ. හරි, මගේ දැන් වැඩේ හරි කියලා කියන්න හදනකොටම ඒක යට වෙනවා.

භාවනා කරන හතරදෙනෙක් එකතු වෙලා දවසක් කතිකාවක් කරගත්තලු, අපි කතා නොකර අද ඉඳලා භාවනා කරමු කියලා. කිසිම කෙනෙක් කතා කළොත් එයා එතනින් පරාදයි. හතරදෙනා හැන්දෑවේ පහට හයට විතර වාඩි වුණා මේ වගේ භාවනා ශාලාවක. ඉතින් රෑ එළි වෙනකල් හරි ඉන්න ඕනෑ. නිදාගන්න කට්ටිය නිදාගන්නවා. කතා නෑ. ඔහොම ඉන්නකොට පහනේ තෙල් ඉවර වෙලා තියෙනවා. ඉතින් දැන් හතරදෙනාම නලියනවා මේක දැන් කරගන්නේ කොහොමද කියලා, කතා නොකර ඉන්න ඕනෑ නිසා. අන්තිමේදී එක් කෙනෙක් කැපකාරයට කතා කරල කිව්වලු පහනේ තෙල් ඉවර වෙලයි කියලා. අනිත් එක්කෙනා එතකොට කිව්වලු "ඔන්න කතා කෙරුව" යි කියල. එතකොට "කතා කරන්න ගිහිල්ලා ඔයත් අහු උනා නේ" කිව්වලු තුන්වෙනි එක්කෙනත්. එතකොට හතරවෙනි එක්කෙනා කිව්වලු "මම විතරයි කතා කළේ නැත්තේ" කියලා - එයත් අහු උනා.

ඔන්න ඔය වගේ තර්කයක් තමයි අපේ හිතේ නිතරෝම තියෙන්නේ. මේ වගේ අලුත් දෙයක් ආපු ගමන් අර හතරදෙනාම හිත ඇතුළේ ඉන්නවා. තෙල් නැති බව ඇත්ත. කැපකාරයාට ඒක මතක් කරන්ඩ ඕනෑ කියන එක, එයා ඒ ප්‍රයෝජනේ ගන්නවා. දෙවැන්නා දැක්කේ 'ආන් එයා අහු උනා'. අහු උනේ කොහොමද? අහු උනු බව ප්‍රකාශ කරන්න ගියාම ඒක එතනම එයා අහු උනා. තුන්වෙනියා ඒක දැකලා කිව්වා ඔහේ අපරාදෙ අහු උනා නේ කියලා. හතරවෙනියා තමාගේ දක්ෂකම කියන්ට ගිහින් එයාත් අහු උනා. කට නිකන් තියාගෙන ඉන්න බෑ. ඔන්න ඔහොම තමයි අපේ හිතත්. එක්කෝ අනුන්ගෙ වැරැද්ද දකිනවා, නැත්නං තමාගෙ උජාරුව කියනවා. හතරදෙනාම අහු උන අවස්ථාවයි අපි මේ කතා කරන්නේ. එහෙම

නැතුව මේ ඇතුළත කථාව නම් තනි වෙන්ට වෙන්ට වැඩි වෙන්ට ඉඩ තියෙනවා. ඒකයි සමහරු තනියම ඉන්න බය. අඳුරට බය. මොකද මේ ඇතුළත කතාව, නැත්නම් ඇතුළත තියෙන සංඥාවල්, ඇතුළත තියෙන වේදනා මේ වෙලාවේ දෝරෙ ගලන්න පටන්ගන්නවා. එතකොට තව කෙනෙක් එක්ක ඉන්නවටත් වඩා භයානකයි. මොකද, ඇතුළේ තියෙන හරියක් තියෙන්නේ කුණු කන්දල් නේ. ඇතුළේ තියෙන හරියක් තියෙන්නේ කෙලෙස් නේ. ඒවා දෝරේ ගලන්න පටන්ගන්නවා. ඉතින් ඒ නිසා කාය විවේකය අවශ්‍යයි. නමුත් කාය විවේකයෙන් කවදාකවත් මේක සිද්ධ වෙන්නේ නෑ. මොකද මේ ඇතුළත කතාව නිසා.

ඊට පස්සේ චිත්ත විවේකය ආවට පස්සේ ඒ විඤ්ඤාණය අනින්ද්‍රිය පටිබද්ධ වෙනවා. ඇහැ, කන, දිව, නාසය, ශරීරය කියන ඒවයෙන් විනිර්මුක්ත වෙනවා. විනිර්මුක්ත වෙලා එකම අරමුණක, මෛත්‍රී අදහසක හෝ ගත්තා වූ රූපක අරමුණේ ගිලා බහිනවා. ගිලා බැස්සට පස්සේ ඒ එන අත්දැකීම ඇහෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන්, ශරීරයෙන් එන එකක් නෙවෙයි. එතකොට ඒ හිත, ඒ විඤ්ඤාණය අර තරම් ලොකු වගකීම් භාරයක නෑ. ඒකට පුළුවන්කමක් ලැබෙනවා ඇත්ත ඇති සැටියෙන් දැකගන්න. අර ඔක්කෝම දකින දකින එක්කෙනා අනුන්ට කියන්න හදන, කියන්නෙ නැත්නම් හොඳ නෑ කියලා හිතෙන, කොහොම හරි කියාගන්න ඕනෑයි කියන, අදහස් නැති නිසා හිතට ලොකු නිදහසක් එනවා. ආන්න ඒ නිදහස තුළ තමයි අපිට මේ ලෝකය දැකගැනීමේ, එහෙම නැත්නම් ආමිස නිරාමිස කියන දුක් සැප දෙක දැකගැනීමේ ශක්තිය ලැබෙන්නේ. නමුත් එතනත් වැඩේ ඉවර නෑ. ඊට පස්සේ දිගට සිද්ධ වෙනවා අපිට යෝනිසෝ මනසිකාරයෙන් යුක්තව මේ ඇත්ත ඇති සැටියෙන් දකින සිතින් එන රූප ඇත්ත වශයෙන්ම රූපද, පරමාර්ථ වශයෙන් මේකේ යමක් තියෙනවද? මේවා මේ වශයෙන්ම සංසාරේ ඇති කරගන්න පුළුවන් ශක්තියක් තියෙනවද? නෑ. ඒකට අපි කරන්නා වූ මේ උපාදානය නිසාමයි, ඒකට අපි කරන්නා වූ මේ ඇල්ම නිසාමයි, එහෙම නැත්නම් ගැටීම නිසාමයි සංසාරය ඇති වෙන්නේ. එහෙම නැත්නම් ගස් ගල්වලටත් සංසාරයක් තියෙන්න ඕනෑ. අපේ මේ

විඤ්ඤාණය ප්‍රතික්‍රියා කිරීම නිසාමයි මේක වෙන්නේ. ඒ නිසා මනුෂ්‍ය ජීවිතය කියලා කියන්නේ සත්ත්ව ජීවිතය කියල කියන්නේ හුදු ප්‍රතික්‍රියාවක්. මේකේ නෑ කිසි හෝදලා ගන්න දෙයක්.

මේකට හොඳ කිට්ටුවෙන් යන වචනයක් තමයි මෛත්‍රී භාවනාව උගන්වනකොට තියෙන "භූත" කියන වචනය. භූත කියලා කියන්නේ නලියනවයි කියන එක. සතෙක් නම් නලියනවා. අපි තැනක සතෙක් ඉන්නවද කියලා බලන්නේ මේ නලියන එකට. නලියන්නෙ නැතුව ඉන්නවා නම් මළා වගේ. මේ ප්‍රතික්‍රියා නොකර සිටීමත් කාම ලෝකෙට පේන්නෙ මැරුණා වගේ. ඒ නිසා කියනවා එක්කෝ පවුල් වෙයන්, නැත්නං පන්සල් වෙයන්, දෙකෙන් එකක්. ඔහොම ඉන්න එපා ගෙවල්වල. ඒක මේ ගෙවල් වල මිනිස්සුන්ට දරන්න බෑ. ඒ නිසා අපට සිද්ධ වෙනවා යෝගාවචරයෝ වශයෙන් මේ විෂම ලෝකයේ, හැම වෙලාවෙම ප්‍රතික්‍රියා කරන මේ ලෝකයේ ඇත්තටම අද මේ නව තාක්ෂණය නිසා ගොඩක් වෙලා තියෙන්නේ මේ ප්‍රතික්‍රියා විධි සීඝ්‍ර වෙලා තියෙනවා. මනුෂ්‍යයා හිතාගෙන ඉඳලා තියෙනවා මේ ඔක්කෝම ක්‍රම දන්නේ නැත්නම් අපි ම්ලේච්ඡයි, අපි වනචාරීයි කියල. ඒ නිසා බොහෝම සීඝ්‍රයෙන් මේ වහා ප්‍රතික්‍රියා කිරීමේ ක්‍රමවලට අහු වෙලා, කැරකෙන දූති රෝදෙක දූත්තක් බවට මනුෂ්‍යයා පත් වෙලා තියෙනවා.

නමුත් පැත්තකට වෙලා, අරණ්‍යගත වෙලා කාලයක් ඉන්නකොට අපි සෑම ප්‍රදේශයකම මේ ක්‍රියා ප්‍රතික්‍රියා අඩු කරන්න පටන්ගන්නවා. අඩු කරගෙන අඩු කරගෙන යනකොට තමයි තේරෙන්නේ මේ සල්ලි දීලා රූප බලන එක, සල්ලි දීලා සද්ද අහන එක, එහෙම නැත්නම් මහන්සි වෙලා, අනිකුත් මේ දේවල් ගන්න එක මොන තරම් වෙහෙසක්ද කියලා. මේ සෑම දේකටම අපි වග කියන්න ඕනෑ. මොකද, කොයි වෙලාවේ මේක දිහා යෝනිසෝ මනසිකාරයෙන් බලනවද අයෝනිසෝ මනසිකාරයෙන් බලනවද; ඒ වාගේම මේක සංසාරේ දිහාවට යනවද සංසාරේ ගැළවෙන දිහාවට යනවද කියලා බැලුවොත්, අද මේ විකුණන්න තියෙන දේවල් නම් කිසිම දෙයක් ඇත්තේ නෑ යෝනිසෝ මනසිකාරය ඇති කරන. ඒ නිසා මේවා නැති තරමට හොඳයි. නමුත් ඒක ප්‍රසිද්ධියේ කතා

කළොත්, අපි ම්ලේච්ඡයෝ බවට පත් වෙනවා. අපි මේ තියෙන මේ ප්‍රගතිය බාධා කරන කෙනෙක් බවට පත් වෙනවා. නමුත් සර්වඥයන් වහන්සේ දේශනා කළේ, මේ ආර්ථික දේශපාලනික සාමාජීය වශයෙන් කියන ප්‍රගතියට, අභිවර්ධනයට කියන්නේ සුසාන අභිවර්ධනය කියලා. ඒකෙන් වැඩෙන්නේ සුසාන භූමි විතරයි. අන්තිමට එච්චරයි ඉතුරු වෙන්නේ. ඇතුළත නම් මොනවක්වත් ඉතිරි වෙන්නේ නෑ. ඇතුළත තියෙන්නේ එක කියනකොට කඩා පනින, හොස්ස ළඟින් මැස්ස යන්න බැරි පුපුරන මනසක් විතරයි ඉතුරු වෙන්නේ.

අන්න අර විදිහේ කිසිම දෙයකට ප්‍රතික්‍රියා නොකරන, එන සෑම රූප, වේදනා, සංඥා, සංස්කාරයක්ම ඔහෙ නිකන්ම තැන්පත් වෙන්න අරින අනිදස්සන භාවයට හිත පත් කරගන්න නම්, ඒ පුද්ගලයට කාය විවේකය නැතිව අමාරුයි. චිත්ත විවේකය නැතිව අමාරුයි. ඒ දෙකම ඇති උනාට පස්සේත් තාමත් ප්‍රතික්‍රියා කිරීමේ ශක්තිය වැඩි නම්, ඒක තමයි සර්වඥයන් වහන්සේ දේශනා කෙරුවේ ඒ වාගේ ප්‍රභාස්වර වූ සිතක් ඇතුව සිටිද්දී බාහිරින් එන උපක්ලේශ නිසයි මේක කෙලෙසිලා තියෙන්නේ. මේක ඇති හැටියෙන් නොදන්නා කෙනාට චිත්ත භාවනාවක් නෑ. දන්නා කෙනාට භාවනාවක් තියෙනවා - චිත්ත භාවනාවක්. දිගින් දිගට දිගින් දිගට සිද්ධ වෙන්න ඕනෑ. බාහිර ප්‍රකාශ කිරීම් නැති උනත් අපේ ඇතුළත කතා කිරීම් තියෙනවා. ඒ නිසා සතිපට්ඨානේ පංචස්කන්ධ අවසානයේ තියෙනවා '**සමුදය ධම්මානුපස්සී වා ධම්මෙසු විහරති, වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති, අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති, බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති**' කියලා, මේ එක එක ධර්ම කොට්ඨාශ සංසාරය ඇති කරමින් නැඟී සිටින හැටිත් සංසාරය ඇති කිරීමේ ශක්තියෙන් ගැලවී යන හැටිත් සමුදය වය වශයෙන් දකගන්නවා. අභ්‍යන්තර වශයෙන් මේක තමන්ටම නැවත කියාගන්නා හැටිත් අනුන්ට මේක මේ විදිහට මම ඔප්පු කරලා දෙන්න ඕනෑ, අසවලා මෙහෙම හදන්න ඕනෑ, අසවලා මම ගැන තියෙන ආකල්පය නැති කරන්න ඕනෑ ආදී වශයෙන් බහිද්ධාවට මේක සම්බන්ධ කරන හැටිත් බලනකොට, අපි මේ කොහෙදෝ යන

කොන්ත්‍රාත් එකකට අත්සන් කරලා තියෙන්නේ. උදේ ඉඳලා හැන්දෑ වෙනකල් මේ කටයුත්ත කරනවා මිසක්කා, අපි වර්තමාන මොහොතේ ජීවත් වෙන වෙලාව, අරමුණට එළඹ සිටින වෙලාවක් ගත්තොත් ඒ වෙලාව ඒකාන්තයෙන්ම නිබ්බුතියක්, අනිදස්සන විඤ්ඤාණයක් ඇති වෙනවා. ඒක තාවකාලිකව ඒ චිත්තක්ෂණයේ ඇති වෙනවා.

ආන්න ඒක ඇති වෙන්න පටන් අරගත්ත නම් ඒ හිත එතන ඉඳලා දිගටෝම "**භාවෙති**" කියල කියනවා. ඒ නිසා "**විඤ්ඤාණං පරිඤ්ඤෙය්‍යං පඤ්ඤා භාවෙතබ්බං**" කියලා සර්වඥයන් වහන්සේ දේශනා කරලා තියෙන්නේ. විඤ්ඤාණය හාත්පසින්ම දකින්න ඕනෑ. මේ විඤ්ඤාණය වෙන වෙන දේවල් එක්ක ප්‍රතික්‍රියා කරන හැටි, එහෙම කිරීම නිසා ලොකු වගකීම් රාශිවලට අහු වෙලා අරක මම කිව්වේ, අපරාදේ මේක මෙහෙම උනේ අපරාදේ කියකියා පශ්චාත්තාප වෙන්න ගන්නවා. එහෙම නැත්නම් ඒවා මොනවාක්වත් නොහිතපු වෙලාවෙදි "අයියෝ මෙහෙම නම් ඉතින් ඉන්නවට වඩා හොඳයි මැරෙන එක. මොකටදෑ මේ ජීවිතේ" කියලා හරියට හරියනකොට නිබ්බිදව පහළ වෙනවා. එපා වෙන ගති පහළ වෙලා, ඕන්න වෙන දේවල් හොයනවා. එහෙම නිබ්බිදවට යන්න දෙන්නෙත් නැතුව, අර ඇවිස්සෙන ගතිවලට යන්න දෙන්නෙත් නැතුව මධ්‍යම ප්‍රතිපදවේ ඒ සිතුවිලි පවත්වන්න පුළුවන් නම් ඒක තමයි **පරිඤ්ඤෙය්‍යං** කියල කියන්නේ. "**විඤ්ඤාණං පරිඤ්ඤෙය්‍යං**" හාත්පසින්ම දකිනවා. කාගෙවත් විඤ්ඤාණයකුත් නෙවෙයි, වර්තමාන විඤ්ඤාණය. ඒ සඳහා මේ වගේ බණ අහලා, ධර්ම සාකච්ඡා කරලා සුද්ද පවිත්‍ර කරගන්න එකට කියනවා "ප්‍රඥාව භාවිත කිරීම" කියලා. ඒ ප්‍රඥා භාවිතාවකින් තොරව කොච්චර භාවනා කළත් මේ විඤ්ඤාණයෙ කඩා පතින ගතිය, බුරා පතින ගතිය, වැඩෙන්න තියෙන අවස්ථාව අඩු වෙයි කියලා හිතන්න බෑ.

ඒ නිසා මේ භාවනාවේදී "**පඤ්ඤවතො අයං ධම්මො නායං ධම්මො දුප්පඤ්ඤස්ස**" කියලා සර්වඥයන් වහන්සේ මුලින්ම දේශනා කරලා තියෙනවා ප්‍රඥවන්තයින්ටයි මේ ධර්මය. හැබැයි ඒ ප්‍රඥාව නිසි අනුපිළිවෙලින් ක්‍රියාත්මක වෙන්න භාවනා කරලා බලලා තියෙන්න

ඕනෑ. භාවනා කරලා බලනකොට මේවා ඔක්කොම ඇවිස්සිලා එනවා, කිපිලා එනවා, කෝප වෙලා එනවා. ඒ වෙන වෙලාවෙදි තමන් තේරුම් අරගන්ට ඕනෑ, ඒකට සුදුසු හොඳ සීල ප්‍රතිපත්තියක් හිතේ ඇති කරගන්න. මේවා මම දරන්නයි මේ ලැහැස්තිය, එහෙම නැතුව මේවායෙන් පැනලා යන්න නෙමෙයි. මේ දුක අවබෝධ කරන්නයි, හාත්පසින් දකගන්නයි යන්නේ. විඤ්ඤාණයේ සෑම නාඩගමක්ම, හැම වෙස් මූණක්ම හාත්පසින් දකගන්නයි යන්නේ. මේක එන එක හොඳයි, මට මේකේ මුල, මැද, අග දකගන්නට ලැබේවා කියලා කිසි සේත්ම ඒකට ප්‍රතික්‍රියා කරන්නේ නැතුව, ප්‍රතිකාර කරන්න යන්නේ නැතුව එහෙමම මුහුණ දීගෙන ඉන්න පුළුවන්කමක් තියෙනව නම් විඤ්ඤාණයේ හැම පැත්තක්ම, පැතිකඩක්ම දකගන්නට ලැබීම විඤ්ඤාණස්කන්ධය අවබෝධ කිරීමට හාත්පසින් දකගැනීමට හේතු වෙනවා.

විඤ්ඤාණයේ හදන්න දෙයක්වත් ප්‍රර්ථනා කළ යුත්තක්වත් නෑ. නිතරෝම ඒක වැඩ. අපිට තියෙන්නේ ඒකෙ තියෙන හැම ලේසයක්ම, හැම අංශයක්ම හැම හැඩයක්ම, හැම නිලයක්ම නිසි නින්දේ වැඩ කරන්ට ඇරලා කවදකවත් ඇඟිලි ගහන්නේ නැතුව, ඒ දිහා බලා ඉන්න. එහෙම නැත්නම් ඒකාන්තයෙන්ම ලෞකික පැත්තෙන්ම ඒක විනිශ්චය කෙරුවොත් අපිට කියන්න වෙන්නේ අර විඥප්ති මාත්‍රතා සිද්ධි ඇති කරපු වසුබන්ධු ආචාර්යයන් වගේ මේ ලෝකය කියන්නේ විඥප්තියක් විතරයි. මනුෂ්‍යයන්ට ඕනෑ දේයි දකින්නෙ, මනුෂ්‍යයන්ට ඕනෑ දේයි මනුෂ්‍යයෝ කියන්නෙ, මනුෂ්‍යයන්ට ඕනෑ දේයි මනුෂ්‍යයෝ රස විඳින්නේ. අපි මෙච්චරයි උත්තර දෙන්න හදන්නෙ. ඒක නිසා අඩු ගානේ අපි එයින් ගැලවිලා මේ ඇත්ත ඇති හැටියට තේරුම්ගත්තොත් අපිට තේරෙයි සර්වඥයන් වහන්සේ සර්වඥතා ඥානය ලැබුවට පස්සේ බණ නොකියන්න හිතාගත්ත කතාව කොහොම එන්න ඇත්ද කියල? ඒක ද්වේෂයකින්වත් කාටවක්වත් පහත් කරලා සැලකීමක් නෙවෙයි. කාටවත් හැඟීමක් පුළුවන්කමක් ඇත්තේ නෑ, කාටවත් ඇහුම්කන් දෙන්න. ඒ මොකද, කියන්න තියෙන දේවල් බොහෝමයි හැම කෙනාටම.

මේකට අපි කියනවා ඉන්ද්‍රිය සංවරය, එහෙම නැත්නම් යෝගචාරය කියලා. ඒ දේවල් දනගෙන ඒව පුළුවන් තරම් නිෂ්ප්‍රභා වෙන්න ඇරලා වර්තමාන මොහොතේ අරමුණට සියයට සීයක් හිත යොදගෙන හිටියොත්, ඇතුළට ගන්න සංඥ ටික දිගටම පවතිනකොට ප්‍රධාන වශයෙන් ඇත්ත ඇති සැටියෙන් දකීමේ ඤණය පහළ වෙනවා. ඒත් ඒ විඤඤණය පිරිසිදු වෙලා නෑ. ඊට පස්සේ තමයි ප්‍රඥ භාවනාව, විදර්ශනා භාවනාව තියෙන්නේ. එතකොට එන්න එන්න මේ විඤඤණයක් මට තව ලැබේවා, විඤඤණය මට වේවා, ඒක හොඳට වේවා, ආදී වශයෙන් මේක හුරතල් කරන, මේකේ හොඳ ගුණ කතා කරන ගතිය දුර්වල වෙනකොට එහෙව් විඤඤණයකින් දකින රූප එන්න එන්න විවර්ණ වෙනවා. විරාග භාවයට පත් වෙනවා. එතකොට වේදනාත්; ජීවිත පැහැර ගන්නාසුලු ඉතාම කටුක වේදනා වේවා, සුඛ සැප ආදී වශයෙන් දෙන්නා වූ සැප වේදනා වේවා, මේවා සේරම දිය වෙන්න පටන්ගන්නවා. මේවා කිසිම හරවත් බවක් නැති බව තේරෙනවා. අන්තිමට එකතු වෙන්නේ සැප දුක දෙකෙන් තොර අදුක්ඛමසුඛ වේදනාව. සංඥවලිනුත් කරන හරියක් කරන්න පුළුවන් වෙන්නේ තමන්ගේ ඇති දේ අනුන්ට කියා පාන ටික විතරයි. ඇතුළත වෙනසක් කරන්න බෑ. ඒ නිසා සංඥ පවත්වන්න පුළුවන් ගතිය, හඟවන ගතිය, මවා පාන ගතිය නැති වෙනවා, සංස්කරණ සම්පූර්ණයෙන් නැති වෙනවා.

ඒක නිසා කියනවා අපේ ශාසනය මෙච්චර කල්, හුඟාක් කල් රැඳෙන්න හේතු උනේ ආනන්ද ස්වාමීන් වහන්සේ රහත් වෙලා නොහිටපු එක කියලා. උන්වහන්සේ බැරි වෙලාවත් රහත් වෙලා හිටියා නම්, උන්වහන්සේ මෙච්චර මේ ධර්ම කොට්ඨාශ ගැඹුරින් හිතේ තියාගන්න උත්සාහ කරන්නේ නෑ. උන්වහන්සේ සෝවාන් වෙලා හිටපු නිසා, අනේ මේ පසුව ඉන්න ජනතාවට මේක පිහිට වෙයි කියලා ප්‍රපංචයක් ඇති කරපු නිසා, මේ ධර්ම කොට්ටාශ ඉතාම විස්තර සහිතව තේරුම්ගත්තා. ඒ නිසා උන්වහන්සේ නැතුව පළවෙනි ධර්ම සංගායනාව කරලා වැඩක් නෑ කියන මට්ටමට, රහතන් වහන්සේලා හාරසිය අනූනමයක් ඉල්ලලා තියනවා

"කොහෝම හරි රහත් වෙන්න. ඒ රහත් වෙන්න ඉස්සෙල්ලා ගත්ත දැනුම් මල්ල ධර්ම භාණ්ඩාගාරය අපට බාරදෙන්න" කියලා.

ඒක නිසා මේ මෝඩකමෙත්, (නැත්නම් මෝඩකම කියනවට වැඩිය නිවන් නොදක සිටීමෙත්) මොනවදෝ දෙයක් තියෙනවා. හුඟදෙනෙකුට නම් මේක කියල දෙන්න ඕනැ නෑ, ඒකට හරි කැමති. ඒක නිසා අද හරියට මේ පඳුරු ගණන්, දූසිම් ගණන්, නැත්නම් දූසිම්වල දූසිම් ගණන් බෝසත්වරු පහළ වෙනවා මේ ධර්මය රකින්න. නමුත් උන්දැලා රකින්නේ මොකක්ද කියලා බලන්න ගියාම නිකන් විඥප්තියක් ඉතුරු වෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා අපේ ජීවිතත් ඒ වගේ විඥප්ති මාත්‍රතාවට යට වෙන්න දෙන්නේ නැතුව යථාර්ථය දැකීමට නම් පංච උපාදානස්කන්ධය පිළිබඳ විනිවිද දැක්මක් ඇති කරගන්න ඕනෑ. මම නැවතත් කලින් කී දෙය මතක් කරනවා. මේක කවදාකවත් දැනුමක්, අර්ථ ඥානයක් සියුම් භාවයට පත් කරලා මාන්නයක් ඇති කරගන්න කරන දෙයක් නෙවෙයි. අපි මේ තාක් කල් යම් ආකාරයකට මූල කර්මස්ථානය ප්‍රධාන නාම රූප ධර්ම දැකලා තියෙනවද? වේදනා, සංඥා, සංස්කාර කියන අනෙකුත් නාම ධර්ම දැකලා තියෙනවද? මේ සේරම මායාවක්ද, නැත්නම් ඇති හැටියේ දැකීමක්ද කියලා ඒක නැවත දකින්න ඕනෑ, නැවත බලන්න ඕනෑ කාට හරි කියන්න ඉස්සර වෙලා. නැත්නම් තමන් හරි, මම දැක්කා කියන වචනේ කියාගන්න ඉස්සෙල්ලා "දිට්ඨෙ දිට්ඨමත්තං" ස්වරූපයෙන් ඇස් ඇත්තේ නමුත් අන්ධයකු ගත කරන්නා වගේ දිගින් දිගට මේක බලනවා නම් අපිට තේරෙයි මේ යෝග ජීවිතය විතර උතුම් ජීවිතයක් මුළු තුන්ලෝකෙම ලබන්ට බෑ. වඳින්න වටිනවා.

ඒ නිසා අපි දැකපු නාම ධර්ම, දැකපු රූප ධර්ම, ඒ තාලෙටම නැවත නැවත දකිමින් මේ ශීල ජීවිතය, සමාධි ජීවිතය, ප්‍රඥා ජීවිතය දිගටම කරගෙන යන්න මේ ධර්ම කොට්ඨාශයත් හේතු වේවා වාසනා වේවා! කියලා ප්‍රාර්ථනා කරනවා. මම බලාපොරොත්තු වෙනවා අනික් දවසේ අභ්‍යන්තර බාහිර ආයතන පිළිබඳව ආයතන පබ්බය පටන්ගන්න. අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා.

මෙම උතුම් ධර්ම දානයට
දායකත්වය.

- කිරිඳිවැල මාහල්ලොලුව ගමේ උපත ලබා, කැළණිය වේවැල්දූව 158/4, අලුත් පාර නිවසේ විසූ විශ්‍රාම ලත් පාඨශාලාචාර්ය ආර්.පී. ජයතිලක පියාණන් පරලෝ සැපත් වී 22 වසරක් පිරීම (31-05-2020) නිමිත්තෙන්, එතුමාට නිවන් සුව පතා ඕස්ට්‍රේලියාවේ පදිංචි මිනිපිරිය හා මුනුපුරන් සමග බිරිඳ හේමා, එතුමාගේ සොහොයුරු සොහොයුරියන් සහ නෑදෑ හිතවතුන් විසින් මෙම ධර්ම දානමය කුසලය සිදු කරන ලදී.

- බලන්ගොඩ වෙසෙන පින්වත් කේ. කේ. සිරිසේන මහතා සහ උමා ද මෙල් මැතිනිය විසින් - ධර්ම මාර්ගයේ ගමන් කරන යෝගාවචර භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ගේ සතිය දියුණු වී නිවන් දොරටුව විවෘත වී, ශාසනය දිදුළවමින් බැබලේවා! යන ප්‍රාර්ථනය ඇතිව, එසේම 'ඒ පින් මහිමයෙන්, සත්පුරුෂ කල්‍යාණ මිත්‍ර ඇසුර හරහා නිර්මල සද්ධර්මය ශ්‍රවණයෙන්, අප්‍රමාද වීර්යයෙන්, යෝනිසෝ මනසිකාරය පිහිටුවමින් ධර්ම මාර්ගයේම යාමට මේ දෙපළට මේ පිනම මූලික වේවා'යි අපි පතමු. පරලෝ සැපත් සියලුදෙනාටම පින් පමුණුවමු. ආචාර්‍ය කේ. ජේ. ගුණවර්ධන සහ මැඩ්ලින් ගුණවර්ධන මැතිනියද ප්‍රමුඛ සියලුදෙනා සිහිපත් කරමු - කාරුණික දායකත්වය, මෙල්බර්න් නුවර පදිංචි මලිත් ජයතිලක සහ ලිහිණි ජයතිලකගෙන්.

- මාලබේ පදිංචි එම්. මාරසිංහ මහත්මිය විසින්, තම පවුලේ මියගිය ඥාතීන්ට පින් පිණිස.

- අම්බලන්ගොඩ ධර්මාශෝක විද්‍යාලයේ විශ්‍රාමික ආචාර්යවරුන් වූ පරලෝ සැපත් ඒ. කරුණාරත්න ද සිල්වා (ඒ. කේ. සර්), ධර්මා ද සිල්වා (ඒ. කේ. මිස්) සදදර දෙමව්පියන්ට නිවන් සුව පතා එම දියණිවරු.

- මෙල්බර්න් නුවර පදිංචි කුසුමා ජයසිංහ මහත්මිය - පරලෝ සැපත් තම ස්වාමි පුරුෂයාට සහ දෙපාර්ශ්වයේම මාපියන්ට පින් පිණිස.

- මෙල්බර්න් නුවර පදිංචි වෛද්‍ය අබේගුණරත්න මහතා සහ වෛද්‍ය ඉන්ද්‍රානි ගුණරත්න මහත්මිය - අංක 259, තලාතුඔය පාර, ගුරුදෙණිය පදිංචිව සිට පරලෝ සැපත් කැප්ටන් ගුණරත්න මහතා සහ ඩී. එම්. ගුණරත්න මහත්මිය සහ අංක 638, මුල්ලේරියාව, අංගොඩ පදිංචිව සිටි ඒ. පී. සිල්වා මහතා සහ ඩේසි කුලතුංග මහත්මියට පින් පිණිස.

- උඩහමුල්ලේ පදිංචි වෛද්‍ය එස්. ආර්. සමරතුංග මහතා - පරලෝ සැපත් තම පියාණන්ට සහ මවට පින් පිණිස; වෛද්‍ය පද්මා සමරතුංග මහත්මිය - පරලෝ සැපත් තම දෙමාපියන්ට පින් පිණිස.

- නිලූ දිසානායක මහත්මිය - ධර්ම දානමය කුසලානිසංසය පිණිස.

- නවසීලන්තයේ පදිංචි ලතා රාජපක්ෂ මහත්මිය විසින් - මියගිය සියලු ඥාතීන්ට පින් පිණිසත් සසර දුකින් මිදී නිවනින් සැනසීම පිණිසත් මෙම ධර්ම දානමය කුසලය හේතු වේවා!

- නවසීලන්තයේ පදිංචි සමන් සොහොයුරා සහ සමුද්‍රා සොහොයුරිය විසින් - තම දෙමාපියන්ට සහ පවුලේ දූදරුවන් ඇතුළු ඥාතීන්ට ධර්මාවබෝධය පිණිස.

- කුලියාපිටියේ වෙසෙන වයෝවෘද්ධ සුභසිංහ මැණියන්ට චිර ජීවනය ප්‍රර්ථනා කර සිටිමු.

- පාදුක්ක ජයන්ති පාරේ පදිංචිව සිටි, තරිඳු හසන්ත චන්ද්‍රසිරි පුතාට උතුම් නිවනින් සැනසීම ලැබේවා.

දායකත්වය දුන් සැමට තෙරුවන් සරණින් චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ වී ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් නිවනින් සැනසීම උදා වේවා! යි මෙත් සිතින් ප්‍රාර්ථනා කරමු.

2020 වෙසක් මස 25 වන දා.

## ධර්මදේශනා සකස් කිරීමට සහාය ලබාදුන් පින්වතුන්ට කරන ප්‍රණාමය

අප ආරණ්‍යයේ භාවනා වැඩ සටහන් සම්බන්ධීකරණ මහත්ම මහත්මීන්ගෙන් මීට ඉහතදී කරන ලද ඉල්ලීමක් අනුව, ආරණ්‍යයට සම්බන්ධ දයක දයිකාවන් බොහෝ පිරිසක්, ධර්ම දේශනා පිටපත් කිරීම, නිවැරදි කිරීම, ටයිප් කිරීම ආදී කටයුතුවලින් අපට උපකාර කළහ. මෙම පස්වෙනි දේශනා කාණ්ඩය, මාස පහක් වැනි කෙටි කාලයකදී ඔබ අතට පත් වනුයේ ඔවුන් අපට දක්වූ එම කාරුණික සහයෝගයේ ප්‍රතිඵලයක් වශයෙනි. ඉදිරි කාණ්ඩද මෙලෙස ඔබ අතට පත් කිරීම අපගේ අභිලාෂයයි.

ඒ කරන ලද මහඟු කාර්යය වෙනුවෙන්, පහත නම් සඳහන් දයක දයිකාවන්ට අපගේ ගෞරවය ප්‍රණාමය පුද කරමු. මෙම නාම ලේඛනය සකැසීමේදී කිසියම් අතපසු වීමක් සිදු වී ඇතොත් ඒ ගැන අපගේ කනගාටුව ප්‍රකාශ කරමු. ඉදිරි කාණ්ඩවලදී ඒවා නිවැරදි කිරීමට අපි බලාපොරොත්තු වෙමු

- අනුලා ප්‍රේමචන්ද්‍ර සොයුරිය - ඩනෙඩින් - නවසීලන්තය
- අයිරින් සුබසිංහ සොයුරිය - මෙල්බන් - ඕස්ට්‍රේලියාව
- ඩොරීන් වීරසිංහ සොයුරිය - බත්තරමුල්ල
- තශිකා මහනාම සොයුරිය - අලුබෝමුල්ල
- එම්. මාරසිංහ සොයුරිය - මාලඹේ
- උදේනි තිලකරත්න සොයුරිය - නක්කාවත්ත
- භාමිනී කුමාරසේන සොයුරිය - මහරගම
- මාලනී වික්‍රමාරච්චි සොයුරිය - උදම්මිට
- ලිලන්ගා බාලචන්ද්‍ර සොයුරිය - මෙල්බන් - ඕස්ට්‍රේලියාව
- මැණික් බස්නායක සොයුරිය - මෙල්බෙන් - ඕස්ට්‍රේලියාව
- ගංගා ජයවික්‍රම සොයුරිය - මෙල්බන් - ඕස්ට්‍රේලියාව

- පද්මා සමරතුංග සොයුරිය - උඩහමුල්ල
- ඩයනා සමරසිංහ සොයුරිය - කෑගල්ල
- නන්දනී වනිගසේකර සොයුරිය - ඕක්ලන්ඩ් - නවසීලන්තය
- අරුණ ලක්මාල් සොයුරා - නවසීලන්තය
- ඉෂංකා සමරවීර සොයුරිය - හෝමාගම
- ලක්මාල් නන්දසිරි සොයුරා - මාබෝදල
- විජෙ අලංකාරගේ සොයුරා - මෙල්බන් - ඕස්ට්‍රේලියාව
- විමල් ගමගේ සොයුරා - මෙල්බන් - ඕස්ට්‍රේලියාව
- බන්දු ගමගේ සොයුරා - මෙල්බන් - ඕස්ට්‍රේලියාව
- චමිලා ජයවර්ධන සොයුරිය - සිඩ්නි - ඕස්ට්‍රේලියාව
- ප්‍රියංකා මොල්ලිගොඩ සොයුරිය - බොරළැස්ගමුව
- නදීෂා දිලිනි සොයුරිය - ඇඹිලිපිටිය
- අනූෂා ගුණරත්න සොයුරිය - කුරුණෑගල
- උදනී හිරන්තිකා සොයුරිය - කැළණිය
- නදීෂා සමරකෝන් සොයුරිය - උලපනේ
- දමිත් අමරකෝන් සොයුරා - බන්ඩාරවෙල
- ඉසුරු කොඩිතුවක්කු සොයුරිය - රාවතාවත්ත, මොරටුව
- ෂෙහාන් සංජන සොයුරා - මීතිරිගල
- සුනීතා දිසානායක සොයුරිය - කොළඹ
- ගයනි සුමතිපාල සොයුරිය - මෙල්බන්- ඕස්ට්‍රේලියාව
- මදූෂිකා නිමේෂා සොයුරිය - මෙල්බන්- ඕස්ට්‍රේලියාව
- මදූෂ්කා අලුත්ගේ සොයුරිය - සිඩ්නි - ඕස්ට්‍රේලියාව

- දිලිනි ද අල්විස් සොයුරිය - සිඩ්නි - ඕස්ට්‍රේලියාව
- චතුරිකා කාරියවසම් දුව ඇතුලු ටයිප් කිරීමට යෙදුණු කණ්ඩායම.
- සමන් සොයුරා සහ කුමුදු සමරනායක සොයුරිය - හෝමාගම
- චේතක ජයසෝම පුතා ඇතුළු (කොලිටි ප්‍රින්ටර්ස්) ටයිප් කිරීම කළ කණ්ඩායම.

එකායනො අයං, භික්ඛවෙ, මග්ගො සත්තානං විසුද්ධියා,
සොකපරිද්දවානං සමතික්කමාය, දුක්ඛ දොමනස්සානං අත්ථඞ්ගමාය,
ඤායස්ස අධිගමාය, නිබ්බානස්ස සච්ඡිකිරියාය,
යදිදං චත්තාරො සතිපට්ඨානා.





Quality Printers
0114870333